බරීස්
පලෙවොයි



# සැබෑ මිනිසෙකුගේ කතාවක්

# බරිස් පලෙවොයිගෙන්
# පාඨකයින්ට වචනයක්

යුරෝපයේ ඉතා වැඩි කොටස ලෙයින් නෑවූ දෙවැනි ලෝක මහා යුද්ධය සෝවියට් ජනතාව වන අපට ශ්‍රේෂ්ඨ දේශප්‍රේමී යුද්ධයක් වූයේය. සෝවියට් ජනතාව වන අපට 1941 ජූනි 22 දා කිසි දිනෙකත් අමතක නොවේ. ඉතා නවීන අවිවලින් සන්නද්ධ ඩිවිෂන් 230 යොදවා හිට්ලර් සෝවියට් සංගමය  ආක්‍රමණය කළේ හදිසියෙනි. යුද්ධ ප්‍රකාශ කිරීමක් පවා නොකැරමිනි. හිට්ලර්ගේ පැසිස්ට්වාදී පාලනයේ සමෘධිමත් අවධිය ඒ කාලය විය. ඔහුගේ යුද හමුදාවෝ බටහිර යුරෝපයේ කළ ලෙහෙසි ජයග්‍රහණ වලින් මත් වී සිටියහ. හිට්ලර්ගේ යුද්ධ සේනා බලය ඉදිරියේ බටහිර යුරෝපයේ රටවල් පරාජය විය. සති කීපයකට වඩා ඒ එකදු රටකටවත් සටන් කළ නොහැකි විය. සමහර රටවල ජනතාව යුද්ධ කිරීමට වැර දරුවද බියසුලු ආණ්ඩු ඔවුන් පාවා දුන්හ. සටන් නොකැර හා ප්‍රතිරෝධනයක් නොදක්වා එම ආණ්ඩුවල නායකයින් යටත් වූයේ ජයග්‍රාහකයාගේ අනුකම්පාව ඉල්ලා සිටිමිනි. මේ හේතුව විසින් හිට්ලර්ගේ යුද්ධ හමුදා තවත් ශක්තිමත් විය. බටහිර යුරෝපයේ සියලු කම්හල් හිට්ලර්ගේ හමුදා වලට නවීන අවි සැපයූහ.

මිලේච්ඡ ධර්ම ඉතා තදින් විශ්වාස කළ හිට්ලර් සෝවියට් සංගමයට  පහර දීමට තෝරා ගත්තේ දවසකට පැය විස්සක් හිරු පායන ජූනි 22 දාය. එහෙත් ඔහුගේ යුද්ධමය වාසනාව ඔහු අතහැර ගියේ යුද්ධය ආරම්භ වුණු ප්‍රථම දවසේ සිට ය. මුල් කිලෝමීටර් කීපය තුළදී හිට්ලර්ගේ හමුදාවට ඉතා බියසුණු සටන් වලට මුහුණ දීමට සිදුවිය. සෝවියට් දේශසීමා වල භට හමුදා හිට්ලර්ගේ සේනාවල ඉතාම හොඳ කොටස්වලට ඉතා විශාල හා දරුණු අලාභ හානි කළහ. හිට්ලර්ගේ සෙනෙවිවරුන්ගේ පරමාර්ථය වූයේ විදුලිය වේග ප්‍රහාරයක් ගසා සෝවියට් සංගමය යටත් කැර ගැනීමය. එහෙත් විශාල වශයෙන්  ජර්මන් හමුදා මරුමුවට පත් වූයෙන් හිට්ලර්ගේ සේනාවල ඉදිරි ගමන ඇණහිටින්නට පටන් ගති. ජර්මන් සෙනවිවරුන් කී පරිදි විදුලිය වේග ප්‍රහාරය සෝවියට් දේශ සීමාවේ සිටම අසාර්ථක විය.

යුද්ධය පටන්ගත් මුල් කාලයේදී හිට්ලර්ගේ සේනා සෝවියට් සංගමයෙන් සෑහෙන කොටසක් අල්ලාගත් අතර ලෙනින්ග්‍රාඩය වටලා මොර මොස්කව් නගරයට ළං වීමටද සමත් වූවෝය. සෝවියට් සෙබළ එකා

මෙන් නැඟිට හිට්ලර්ගේ ෆැසිස්ට් ජර්මන් සේනාවන්ට විරුද්ධව පමණක් නොව, ඔහුට ගැති රටවල් පහක යුද්ධ හමුදාවලට විරුද්ධවද විරෝධාර ලෙස සටන් කළහ. තම සමාජවාදී මව්බිම සහ සමාජවාදී සංකල්පයන් ආරක්ෂා කිරීමට නැඟී සිටි සෝවියට් සෙබළා කවුද යන්න ඒ හීම යුද්ධ සමයේදී අපේ සතුරෝත් මිතුරෝත් ඉතා හොඳින් දැනගත්හ. දේශප්‍රේමී යුද්ධය පැවති සෑම දවසකදීම සෝවියට් ජනතාවන් පෙන්වූයේ අසමසම වීරත්වයෙකි.

ඔබ අත ඇති මේ නවකතාව එම යුද්ධයේදී සටන් කළ එක් සෙබළකු අරබයා ලියන ලද්දකි. මා ඔහු ප්‍රථම වරට හඳුනා ගත්තේ කුර්ස්ක් අඩ කවයේ හටගත් මහා සංග්‍රාමයේදීය. හේ දෙපා නැති ගුවන් නියමුවෙකි! සාමාන්‍ය නියමුවකු නොවේ. ප්‍රහාරක ශිල්පයෙහි කෙළ පැමිණියෙකි. ඉතා දක්ෂ ජර්මන් ගුවන් නියමුවන් පරදවා ජය ලැබූ මිනිහෙකි. මොහු ගැන, එනම් අලෙක්සේයි මරේස්යෙව් ගැන එදා මුළු යුද පෙරමුණම කතා කළේය. ඇත්ත කියන්නේම නම්, මේ ගුවන් යානා ශිල්පියා ගැන කී කතා මම විශ්වාස නොකළෙමි. ඔහු සටන් කළ ගුවන් තොටුපළට ගොස් ඔහු ගැන සොයා බැලීමට මම ඉටා ගත්තෙමි. මා ඔහු හඳුනා ගත්තේ ගුවන් යානා සටනකින් ඉක්බිතිව ඔහු ගුවන් යානයේ සිට පිටතට එන විටදීය.

ඔහුගේ සේනාංකයේ සගයින්ගෙන් ඔහුගේ අසීරු චරිතය ගැන දැනගත් මම ඔහුගෙන්ද කරුණු විමසා දැනගතිමි. යුද්ධයට පසු මම ඔහුගේ ජීවිතය ගැන කියන මේ නවකතාව ලියුවෙමි. යුද්ධය අවසන් වන විට දෙපා රහිතවැ සිටි ජ්‍යොෂ්ඨ ලයිතන් අලෙක්සේයි මරේස්යෙව් සෝවියට් සංගමයේ වීරයා නැමති උසස්තම රන් පදක්කම දිනාගෙන සිටියේය. මෙම පොත සෝවියට් සංගමයේ පළවූ ඉක්බිතිව ලෝකයේ වෙනත් භාෂාවලින්ද පරිවර්තනය කොටැ පළකරනු ලැබීය. දෙවැනි ලෝක මහා යුද්ධයට සහභාගි වූ ඇමෙරිකන් ගුවන් නියමුවෝ මරේස්යෙව්ගේ සැබෑ තත්ත්වය ගැන සැක පහළ කළහ. "දෙපා නැතිව ගුවන් යානා පැදවීම, එපමණක් නොව ගුවන් සටන්වලට සහභාගි වීම, එයටත් වඩා ඒවායින් ජය ගැනීම" ඔවුන්ගේ සැකයට භාජනය විය. යුද්ධයේ පැරැන්නන්ගේ දූත පිරිසක් සමඟ මම නිව්යෝර්ක් නගරයට ගිය විට මෙවැනි මත අපේ ඇමෙරිකන් මිතුරෝ පැවසූහ. එහෙත් එම නියෝජිත පිරිසෙහි "සැබෑ මිනිසකුගේ කතාවක්" නැමැති නව කතාවේ වීරයාද සිටි නිසා ඔවුනට එය විශ්වාස කිරීමට සිදුවිය.

යුද්ධ නෞකා හමුදාවේ ගුවන් නියමුවකු වන කළ
සොකොලොව්ද පසු කලෙක මම හැඳින ගතිමි. ඔහුගේද දෙපා නැති
ඔහුත් ප්‍රහාරක ගුවන් යානා පදවමින් සටන් කළේය.

ප්‍රහාරක ගුවන් යානා කණ්ඩායමෙක නායකයකු වූ ජ
වරයෙක්ද එක් පාදයක් නැතිව ගිය පසු තම ගුවන් යානා කණ්ඩ
මෙහෙයවමින් කෙළින්ම සටන් කළ සැටි මම ඇසීමි.

මට නම් මගේ මිත්‍ර අලෙක්සෙයි මරේසියෙව්, සෝවියට් ජනතා
සියලු යහ ගුණයන් කැටි කොටැ පෙන්වන ආකෘතික චරිතයකි.

යුද්ධයෙන් අනතුරුව අලෙක්සේයි මරේසියෙව් උසස් අධ්‍ය
ආයතන දෙකකින් උපාධි ලැබ දැන් වසර බොහෝ ගණනක් ති
යුද්ධයේ පැරැන්නන්ගේ සමස්ත සෝවියට් කමිටුවේ ප්‍රධාන ලේකම් 
උසුලයි. අප දෙදෙන මිතුරෝ වෙමු. ලෝක සාමය සඳහා පැවැත්
විවිධ සමුළුවලට සමහර විට අපි එකට සහභාගි වමු. මන්ද යත්,
යුද්ධයට මුහුණ පෑ හැම කෙනෙක්ම ඉතා උනන්දුවෙන් ලෝක ස
සඳහා සටන් කරන බැවිනි. පැරණි රුසියන් සෙබළකුගෙන්
ගත්කරුවකුගෙන් ඔබට සුබ පැතුම් පිරිනැමීමට මම මෙය අවස්ථා
කැරැ ගතිමි.

## පළමුවැනි කොටස

### 1

අහසේ තරු බැබලේ. එහෙත් පෙරදිග අහසේ අරුණෝදය නිසා එළිය වැටෙන්නට විය. තුරු අවට සෙවණැලි කෙමෙන් අතුරුදහන් වෙයි. කඳු මුදුන් පිසගෙන ප්‍රණීත සුළං පහරක් හමායයි. සියවස් ගණන් පැරණි පයින් ගස් තමන් සතු රහස් තොරතුරු හුවමාරු කරන්නට මෙන් කොඳුරන්නට විය. තුරු අතුවල රැඳී තිබුණු වියලි හිම වැටෙත්ම 'සුරු' 'සුරු' හඬක් ඇති විය.

සැනෙකින් ඇති වූ දැඩි සුළඟ එලෙසම හදිසියෙන්ම නැවතිණ. ගස් නැවත හිම නිද්‍රාවට වැටිණ. එවිට උදැසන ආරංචි පතුරුවා හැරීමට මෙන් කැලෑවේ සියලු සත්තු හඬ නගන්නට වූහ. ගුහාවල ලැග සිටින වෘකයෝ ද, හිවල්ලු ද, 'හූ' හඬ නැගූහ. කොට්ටෝරුවෙක් 'ටක්' 'ටක්' යන හඬින් ගසකට අනින්නට විය. එය කොතරම් මිහිරි හඬක් ගෙන දුන්නේද යත්, ගසක කඳට ගසන පහරකට වඩා වීණාවක කඳට ගැසීමකට සමාන විය.

යෝධ පයින් තුරු මුදුන් පිස ගෙන නැවත දැඩි සුළඟක් හැමිය. හිරු රැස් නිසා අහස පැහැදිලි වෙත්ම, අවසාන තරු එළියද නිවී ගියේය. අඳුරු සෙවණැළි මකා දමූ වනය හරිත වර්ණයෙන් සැරසිණ. පයින් හා දේවදාර ගස් මුදුන් ලා රත් පැහැයෙන් දිලිසෙන්නට වුයේ හිරු පෙරදිග අහසට නැග තිබෙන බව දන්වමිනි. පැහැදිලි, ප්‍රණීත ශීතල දවසක සලකුණුය ඒ.

දන් හිරු එළිය පැතිර ඇත. ඉකුත් රැයෙහි දී ගිලගත් ගොදුරු දිරවාගැනීම පිණිස වෘකයෝ තම ගුහාවලට වැදුනහ. තම පා සටහන් සතුරන්ට සොයා ගැනීමට බැරි වන සේ කපටි ලෙස ඒවා අවුල් කර දමූ හිවල්ලු සිය ගුහාවල සැඟවුණහ. පැරණි වනය නොනවත්වා හඬ නඟයි. කුරුලු හඬත්, කොට්ටෝරුවන්ගේ 'ටක', 'ටක' යත්, පුංචි කහ කුරුල්ලන්ගේ ගීත නාදයත්, කිරලුන්ගේ වියලි අඳෝනාවත්, වනයේ කැළඹුණු, දුක්මුසු ශබ්දයට මුදු නවාංගයක් එකතු කළේය.

ඇල්ඩර් ගසක අත්තක හිඳගෙන හොට අතුල්ලමින් සිටි

පොල්කිච්චෙක් හදිසියේ හිස ඔසවා වටපිට බැලුවේ වහාම පියාඹා යන්නට මෙනි. අකු, අනතුරු හඟවන හඬක් නැඟීය. ලොකු ශක්තිමත් කිසිවෙක් ගස්, වැල්වල හැපෙමින් ගමන් කරති.පඳුරු ලපටි පයින් තුරු මුදුන් සෙලවිණ. හිම පෑගෙන 'කර කර' හඬ දැන් පැහැදිලිව ඇසේ. බිය වූ පොල්කිච්චා පියාපත් විදහා සැණෙකින් පියාඹා ගියේය.

හිමෙන් වැසී ඇති පයින් ගස් අතුරෙන් දිග හොම්බක් සහිත මුහුණක් මතුවිය. අකු සහිත අං තට්ටුවකින් සැරසී ඇති එම මුහුණේ ඇස්, බියගත් විලාසයක් පාමින් අවට බලයි. එහි ලා රත් පැහැති නාස් පුඩුවලින් පිටවන වාතය උණුසුම්ය.

මහලු ගෝනා පයින් ගස් අතර ගල් රුවක් මෙන් සිට ගත්තේය. ඝනැති මයිල් ගස්වලින් ගහන උගේ හම නැටවෙයි. හැම ශබ්දයක්ම ඌ මහත් ඕනෑකමින් අසයි. දිගැති උගේ කන්වලට ඉතාම සුළු ශබ්දයක් පවා ඇසේ. දිරා ගිය පයින් ගස් කඳක සිදුරක් කරන කුරුමිණියකුගේ හඬ පවා ඌට පැහැදිලිව ඇසේ. එහෙත් තියුණු ශ්‍රවණයක් ඇති ඌ කන්වලට පවා කුරුලු නාදය, කොට්ටෝරුවාගේ ටක ටකය සහ පයින් තුරු මුදුන්වල හඬ හැර වෙන හඬක් නැසිණ.

අහසින් ඇසුණු ශබ්දයකට උගේ අවධානය යොමු විය. උගේ පිට නැටවිණ. උගේ කකුල්වල මස් පිඩු තවත් දැඩිවිය.

එහෙත් ශබ්දය භයානක නොවීය. බර්ච් අංකුරයක අත්තක් වටා පියාඹන කුරුමිණි රංචුවක් නගන හඬට එය සමානය. එම හඬට ඉද හිට එකතු වන තවත් ශබ්දයකි. මඩවලක කොරවක්කකු නගන හඬක් මෙනි.

දැන් කුරුමිණි රංචුව අත් අඩු විදහාගෙන නටන සැටි පෙනේ. තිල් පැහැති ශීත සුළං නිසා උන්ගේ අත් අඩු දිලිසේ. එක් කුරුමිණියෙක් පහළට බැස්සේය. ඉතිරි අය තවම නටති. සන්සුන් වූ ගෝනා පිටියකට වැද හිම ලෙවකමින් සුපරීක්ෂාකාරී ලෙස අහස දෙස බැලීය. හදිසියෙන් රංචුවෙන් වෙන්වුණු තවත් කුරුමිණියෙක් එක එල්ලේම පහළට පියාසර කළේය. එය කොතරම් විශාල වීද යත්, බියවුණු ගෝනා අසල පඳුරකට පැණ ගැනීමට සමත් වුණේ යම්තමිනි. හේමන්තයේ චණ්ඩ කුණාටුවකට වඩා වේගවත්, බියකරු එම බලය තුරු මුදුන්වල හැපී හිමෙන් වැසුණු පොළොවට වැටුණේ මුළු මහත් වනය දෙවනත් කරමිනි. ඉන් පැ

ගුණු මහා ශබ්දය ගස් අතරින් වනය පුරා පැතිර ගියේ වේගයෙන්
න ගෝනා පසු කරමිනි.

දෝංකාරය වනයේ ඈතට විහිද ගියේය. බිම ඇද වැටුණු අහස්
නය නිසා තුරු මුදුන්වල තිබූ වියලි හිම පියලි පොළොව සිපගත්තේ
ද්දෙමිනි. නැවත වනය අරක් ගත්තේ මහා නිසලතාවයකි. එය බිඳගෙන
හිසෙක් නැතු දුක්මුසු හඬක් නැවත පැතිර යත්ම, සෝෂාව නිසා සිය
හාවෙන් පිටව, පිටිය බලා යන වලසකුගේ පාවලට පෑගෙන හිම 'කර
ර' හඬක් නැඟීය.

දළ ලොමින් ගැවසී ගත් ඒ වලසා මහලුය. විශාලය. උගේ කිලුටු
ලාම් සහිත හම, ප්‍රමාණයෙන් ඌට වඩා විශාලය. හේතුව, වලසා කෘශ
රීරයක් ඇත්තෙක් වීමය. දෙපැත්තේ ලොම් කඩා හැලෙන්නට වූයේ
රුණ වියෙහිදී තරබාරුව සිට මහලු වූ පසු කෙට්ටු වූ තරම පෙන්වන්නාක්
මනි. හේමන්තයේ සිට මේ පෙදෙසේ දරුණු ලෙස යුද්ධය ඇවිලිණ.

ඉස්සර කැලෑ පරීක්ෂකයින් හා අධ්‍යක්කාරයන් පමණක් පැමිණි
ම වනය සතුන්ගේ අභය භූමියක් විය. ශීත කාලය පුරාම අවදි නොවී,
ක දිගටම නිදන වලසාට පවා අවදිවීමට සිදු වූයේ යුද්ධය පටන් ගත්
නැවිනි. බඩගින්න හා පුපුරුදු හේමන්ත නින්ද කඩවීම නිසා කෝපයට
ත් වලසා ඉබාගාතේ ඇවිදින්නට විය.

වලසා මීට මොහොතකට පෙර ගෝනා නැවතී සිටි වනාන්තරයට
ආවේය. ඌට ගෝන ඉව දැනිණි. ඌ කෑදර ලෙස තලු මරන්නට විය.
නැවත ඉව අල්ලමින් තම කෙට්ටු සිරුර ඒ මේ අත හරවමින් කන් යොමා
ශබ්දයක් අසන්නාක් මෙන් සිටියේය. ගෝනා එතැන නැත. එහෙත් ඌ
සිටි තැනින් දුර්වල හඬක් ඇසෙන්නට විය. වලසාගේ බෙල්ලේ ලොම්
කෙළින් සිටියාක් මෙනි· ඌ හොම්බ දිගු කොට නැවත ඉව ඇල්ලීය.
නැවත සීත් හඬක් වනයෙන් ඇසිණ.

වලසා සෙමෙන් හා පරිස්සමින් මළාක් මෙන් වැතිර සිටින
මිනිස් සිරුරක් වෙත ළං වෙන්නට විය. උගේ පාවලට පෑගෙන හිම
"ක්‍රීක්" හඬක් නැගීය. මිනිස් සිරුර අඩ වශයෙන් හිමෙන් වැසී තිබිණ.

# 2

අහස් නියමු අලෙක්සේයි මෙරේස්යෙව් 'අඩු' දෙකකට එ අසුවුණේය. අහස් සටනකදී සිදුවිය හැකි අතිශයින් ම භයානක දෙය ඔහු මුහුණ පෑවේය. ජර්මන් අහස් යානා සතරකට ඔහුගේ අහස් යා මැදි වන විට ඔහු සතුව තිබූ වෙඩි උණ්ඩ සියල්ල අවසාන වී තිබී සතුරු අහස් යානා සතර අලෙක්සේයිගේ යානයට පිටවී යාමට නොදී ඔහු ජර්මන් අහස් තොටුපළට බලෙන් ගෙන යති.

එය සිදුවූයේ මෙසේ ය. සතුරු අහස් තොටුපළකට බෝ දැමීමට ගිය "ඉල්" වර්ගයේ අහස් යාත්‍රා කණ්ඩායමක් කැටුව යාම අ නියමු ලයිතන් අලෙක්සේයි මෙරේස්යෙව්ගේ ප්‍රහාරක අහස් යා කණ්ඩායමට භාර විය. ඒ නිර්භය ප්‍රහාරය සාර්ථක විය. පාබල හමුදා භටයින් අතර 'පියාඹන යුද්ධ ටැන්කි" නමින් ප්‍රසිද්ධ 'ස්ට්‍රොමොවි වර්ගයට අයත් මේ අහස් යානා සතුරාට නොපෙනෙන තරම් පහ පියාඹා බලාපොරොත්තු රහිත ලෙස පයින් ගස්වලට ඉහළින් සතු අහස් තොටුපොළ දක්වා ගොස්, එහි නවතා තිබූ 'යුන්කර්ස්" වර්ග ප්‍රවාහන යානා විනාශ කර දැම්මේය. අඳුරු පයින් වනයෙන් හදිසියෙ මතු වූ මේ ස්ට්‍රොමොවික් අහස් යානා අහස් තොටුපලට උඩින් පියා කරමින් විශාල ප්‍රවාහන අහස් ය්ානාවලට වෙඩි තැබීය. මැෂින් තුවක් කාල තුවක්කු හා රොකට් වෙඩිවලින් සතුරු අහස් යානා විනාශ වි බෝම්බ දමමින්, වෙඩි තබන අහස් යානා ආරක්ෂා කිරීමේ කාර්යය මෙරේස්යෙව්ගේ ප්‍රහාරක යානා සතර යෙදෙති. සතුරු අහස් තොටුපො මිනිසුන් ඒ මේ අත දුවන සැටි මෙරේස්යෙව්ට පෙනේ. පහර ප්‍රවාහන සතුරු යානා බඩගාමින් ඇදෙයි. සතුරු අහස් තොටුපො පහර දෙන සෝවියට් 'ස්ට්‍රොමොවික්' යානා නැවත, නැවත පියාඹ බෝම්බ දමයි, වෙඩි තබයි. සමහර සතුර 'යුන්කර්ස්' අහස් යානා ගොඩවල් මැදින් පියාඹා අහසට නැගීමට තැත් කරන සැටි මෙරේස් දුටුවේය.

අලෙක්සේයි බරපතල වරදක් කළේ මෙන්න මෙතැන දීය. පහර පෙදෙස රකිනු වෙනුවට ඔහු 'ලෙහෙසි දඩයමක්" නිසා පෙළඹවීමකට විය. අහසට නැගීමට යන සතුරු අහස් යානයක් මත ගලක් පතිත වූ මෙරේස්යෙව්ගේ ප්‍රහාරක යානය සතුරු යානයේ බඳය මැෂින් තුවක්කු වෙඩි කීපයක් තැබීය. තම ප්‍රහාරය ගැන ඔහු

විශ්වාසයක් තැබී ද යත්, ගිනිගෙන ඇද වැටුණු සතුරු යානය දෙ
බැලීම පවා නොකළේය. අහස් තොටුපලේ එක් කොණකින් තව
"යුන්කර්ස්" යානයක් අහසට නැංගේය. එය ලුහුබැඳ ගිය අලෙක්සේ
එයට පහර දුන් නමුදු සාර්ථක නොවීය. සෙමින් අහසට නගින සතුර
යානයට උඩින් ඔහු වෙඩි තැබීම එයට හේතු විය. සතුරු යානය වට
පියාසර කළ ඔහු නැවත පහර දුන් නමුදු එවරද අසාර්ථක විය. නැව
වරක් තම ගොදුරු වෙත ළංවූ මෙරේස්යෙව් තෙවන වරට ද පහ
දුන්නේය. ගිනිගත් සතුරු යානය වනය මත කඩා වැටුණේ හෙණ හඬ
මෙන් මහා ශබ්දයක් නගමිනි. සතුරු යානය කඩා වැටුණු තැන
ඉහළින් දෙවටයක් පියාඹා ගිය ඔහු සතුරු අහස් තොටුපළට යාමට ත
ප්‍රහාරක යානය හැර විය.

එහෙත් ඔහුට එහි යාමට බැරි විය. සෝවියට් ප්‍රහාරකයි
එළවා දැමීම සඳහා ජර්මන් අහස් තොටුපොලේ ප්‍රධානියා විසින් ළඟ
තවත් අහස් තොටුපළකින් ගෙන්වා ගත් "මෙසර්ස්"* වර්ගයේ ජර්ම
ප්‍රහාරක අහස් යානා නවයක් තමාගේ ප්‍රහාරක යානා තුනකට පහ
දෙන සැටි අලෙක්සේයි දුටුවේය. ප්‍රහාරක අහස් යානා තුන බෝම්
දමන සෝවියට් අහස් යානා වෙත ළංවීමට සතුරු "මෙසර්ස්" නවය
ඉඩ නොදී වීරයින් ලෙස සටන් කරති. කළු ග්‍රවුස් නැමැති පක්ෂීන් ත
පැටවුන් ආරක්ෂා කිරීමේදී යොදන උපක්‍රමයට සමාන උපක්‍රම යොදමි
සෝවියට් ප්‍රහාරක අහස් යානා තුන, සතුරු 'මෙසර්ස් නවය තමන් වෙ
ඇද ගනිමින්, බෝම්බ දමන සෝවියට් ස්ට්‍රොමොවික් අහස් යානා ආරක්
කරමින් පහර දෙති.

ලෙහෙසි ගොදුරු සොයා යමින් තමා කළ වරද අවබෝධ කරග
අලෙක්සේයි ලජ්ජාවට පත්වූයෙන් ඔහුගේ දොකොපුල් රත් පැහැ වි
ගොදුරක් සොයමින් ගිය "මෙසර්ස්" යානයක් කණ්ඩායමෙන් ඈත් වි
අලෙක්සේයි මේ යානයට පහර දීම සඳහා දත්මිටි කමින් යානය මහ
වේගයෙන් පැදවීය. සතුරු අහස් යානයේ බඳයට පහර දීම පිණිස ඔ
අහස් යානා යුද්ධ විද්‍යාවේ හැම රීතියක්ම අකුරට පිළිපදිමින් ක්‍රි
කළේය. ඉලක්කය බලන දක්නය තුළින් ඔහුට සතුරු යානයේ අළු පා
බඳය පෙනේ. දක්නයේ ඉලක්කය අනුව ඔහු සතුරු යානයට වෙ
තැබීමේ ඇණය ක්‍රියා කරවීය. එහෙත් සතුරු යානය නිරුපද්‍රිතව පියාඹන්න
විය. වැරදීමට කිසිම අවකාශයක් නැත. දක්නයේ ඉලක්කය අනුව ඔ

* මෙසර්ස් -සෙමර්ෂ්මිත් වර්ගයට අයත් ජර්මන් ප්‍රහාරක අහස් යානාය.

නිවැරදි ලෙස වෙඩි තබා ඇත. "වෙඩි උණ්ඩ ඉවර වෙලා!" යැයි ... සිතිණ. එවිට ම ඔහුගේ පිට දිගේ ගලා ගිය හීන් දහඩිය බින්දුවල ... ඔහුට දැනිණ. වෙඩි උණ්ඩ ඇද්දැයි සොයා බැලීමට ඔහු ඇණය ... ඔබන්නට විය. වෙඩි හඬ පිටවන විට ඇතිවන කම්පනය නොදැ... වෙඩි උණ්ඩ සියල්ල අවසන් වෙලාය. සතුරාගේ ප්‍රවාහන අහස් ... විනාශ කිරීම පිණිස ඔහු තමා සතු සියලු වෙඩි හා පතොරොන් පාවි... කළේය.

එහෙත් සතුරා තවම ඒ ගැන නොදනී! සතුරු යානා නවය... එදිරිව සටන් කරන අහස් යානා තුනට ආධාර දීම් වස් ඔහු ස... කිරීමට පටන් ගත්තේය. එහෙත් ඔහුට පොට වැරදිණි. ඔහු පහර ... 'මෙසර්ස්' යානය පදවන ජර්මන් නියමුවා හොඳ නිරීක්ෂකයෙකි. අලෙක්... වෙඩි උණ්ඩ රහිතව යානය පදවන බව ජර්මන් නියමුවා තම සගයි... දන්විය. අහස් යානා නවයෙන් හතරක් අලෙක්සේයිගේ යානය වටකො... ගත්හ. දෙපැත්තෙන් සතුරු යානා දෙකකි. ඉතිරි දෙකින් එකක් ඉහළින්... අනික පහළින්ද පියාසර කරති. ඔහු යා යුතු මග ඔවුහු වෙඩි පහරවලි... පිරිසිදු අහසේ සලකුණු කරති. දැන් අලෙක්සේයි සතුරු 'අඬු' දෙක... මැදි වී ඇත.

බටහිර යුරෝපයේ සිට ස්තාරය රුස්සා නම් වූ මේ පෙදෙ... "රිහ්ට්ගෝපෙන්" නමැති ජර්මන් අහස් යානා ඩිවිෂනය (සේනාංක... පැමිණි බව අලෙක්සේයිට මීට දවස් කිහිපයකට පෙර අසන්නට ලැබිණ... පැසිස්ට් ජර්මනියේ දක්ෂතම අහස් නියමුවන් මේ ඩිවිෂනයේ සේ... කරන බවත්, පැසිස්ට් නායක ගෝරිංගේ අනුග්‍රහය ඔවුන්ට ලැබෙ... බවත් ප්‍රකට කරුණකි. තමා සතුරු අහස් තොටුපළට සිරකරුවකු ලෙ... බලෙන් ගෙනයාමට මේ අහස් වධකයින් තැත් කරන බව අලෙක්සේයි... වැටහිණ. මෙවැනි දේ මීට පෙරද සිදු වී ඇත. තමාගේ මිතුරකු ව... සෝවියට් සංගමයේ වීරයා යන ධූරය දරන අන්ද්‍රෙයි ඩෙග්ටෙරෙන්කෝ... මේ විදියට ඔත්තු බලන ජර්මන් අහස් යාත්‍රාවක් සිරභාරයට ගෙ... සෝවියට් අහස් තොටුපළට ගොඩබැස්වූ සැටි ඔහුට මතක් විය.

සිරභාරයට පත් ජර්මන් අහස් නියමුවාගේ දිගැති අළු පැ... මුහුණ ද ඒ ලේ අත වැනෙමින් ඔහු අඩි තබා ගමන් කළ සැටි ... අලෙක්සේයිගේ මනැසෙහි දිස්විය. 'හිරබාරයට අසුවෙන්න? ඒකට ... තියන්නෙ නැහැ! ඒ උගුලට අසුවෙන්නෙ නැහැ!" යැයි ඔහු තමාට ... කියා ගත්තේ අදිටනකිනි.

අලෙක්සේයි මෙරේස්යෙව් දත්මිටිකමින් තම අහස් යානයේ එන්ජිම තදින් ක්‍රියා කරවිය. ඔහුගේ යානය දැන් සිරස් ලෙස සිටී. අහස් යානය පොළොව දෙසට යැවීමට තැත් කරන ජර්මන් යානයට උඩින් පියැඹීමට අලෙක්සේයි තැත් කළේය. ඔහු ජර්මන් යානයට ඉහළින් තම යානය ගෙනයාමට සමත් වුණ ද, ජර්මන් අහස් නියමුවා පමා නොවී වෙඩි තැබීය. අලෙක්සේයිගේ අහස් යානයේ එන්ජිම දත් ලෙඩෙකු මෙන් 'ගොර, ගොර' හඬක් පිට කරයි. උණ සන්නිපාත රෝගියකු මෙන් අහස් යානාව වෙව්ලන්නට විය.

"මගේ යානයට වෙඩි වැදී ඇත." මෙසේ සිතූ අලෙක්සේයි තම යානය සුදු පැහැති වලාකුළකට මුවා කරමින් සතුරන් වල්මත් කරවීය. මීළඟට කළ යුත්තේ කුමක්ද? තම යානය කම්පනය වන සැටි ඔහුට දැනේ. තම යානයේ අවසාන මොහොත ළං වී ඇති බව දන්වනවාට වඩා තම සිරුර උණසන්නිපාතයට ගොදුරු වී වෙවුලන බව එම කම්පනය දන්වා සිටී.

පහර වැදී ඇත්තේ එන්ජිමේ මොන කොටසටද? යානයට තව කොපමණ වේලාවක් අහසේ රැඳී සිටිය හැකිද? පැට්රල් ටැංකිය පුපුරයිද? මේ ප්‍රශ්න ගැන ඔහු නොසිතුව ද, ඔහුට ඒවා ගැන ඉවෙන් මෙන් දැනේ. සේට තුල ගිනි ගෙන ඇති ඩයිනමයිට් වෙඩි ගොඩක් මත තමා වාඩි වී සිටින සැටි අලෙක්සේයිට දැනුණ ද, ඔහු අහස් යානය සෝවියට් යුද හමුදා කඳවුර වෙත පදවන්නට වූයේ තමා මිය ගියොත්, තම සිරුර සෝවියට් යුද භටයින් වළලනු ඇතැයි යන හැඟීමෙනි.

අවසානය හදිසියෙන්ම ළං විය. එන්ජිම ක්‍රියා විරහිත විය. කඳු බෑවුමක සිට පහතට පෙරළෙන්නාක් සේ අහස් යානය ඇද වැටෙන්නට විය. පහළ සාගරයක් වැනි කොළ පැහැති වනයකි. තම අහස් යානයේ පියාපත් වනයේ තුරු මුදුන්වල හැපෙත්ම. "කොහොම වුණත්, මා සිර භාරයට පත් වන්නේ නැහැ!" යැයි ඔහුට සිතිණි. වනය, වන මෘගයකු මේ ඔහු වෙත කඩා පතින විට, ඔහු සියලු යන්ත්‍ර නැවැත්විය. ඒ සමඟම ඇති වූ මහා හඬ නිසා හැම දෙයක්ම අතුරුදන් වූ සැටියකි. ඔහු සහ ඔහුගේ යානය කළු පැහැති කැටි ගැසුණු දියකට වැටුණාක් මෙනි.

කඩාවැටෙන යානය පයින් ගස්වල හැප්පිණ. මේ නිසා වේගය තරමක් අඩුවිය. ගස් කීපයක් කැබලි වී ගිය අතර යන්ත්‍රය සුන් විය. ඊට මොහොතකට පෙර තම නියමු අසුනෙන් විසි වී ගිය අලෙක්සේයි සියවස්

ගණනක් පැරණි දේවදාර ගසකට පාත් වී, ඒවායේ අතු දිගේ ලිස්ස
ගොස් හිම ගොඩක් මත වැටිණ. ගස මුල තිබූ මේ හිම ගොඩැල්ල නි
ඔහුගේ ජීවිතය ආරක්ෂා විය...

සිහිසන් නැතිව මළාක් මෙන් කොපමණ වේලාවක් වැතිර සිටි
දැයි අලෙක්සේයි නොදනී. මිනිසුන් වැනි සෙවණැලි, ගොඩනැගිලි
අරුම පුදුම යන්ත්‍රවල ආකෘති ඔහු ඉදිරියේ මැවී, අතුරුදන් වෙයි.
සුළඟක් වැනි ඒවායේ චලනය අලෙක්සේයිට වේදනාවක් ගෙනදෙයි.
සිරුර පුරාම ඒ වේදනාව පැතිර යයි. ඉන්පසු ඒ අවුල් ජාලය තුළි
යම්කිසි විශාල උණුසුම් දේහයක් මතු වී දුගඳ හමන ප්‍රශ්වාසයක් කළේ
අලෙක්සේයි එම සතුරු බලයෙන් ඉවත යාමට තැත් කළ ද ඔහුගේ සිරු
හිම ගොඩට යට වී තිබෙන බව ඔහුට දැනිණි. තමා වෙත එමින් සිටි
ඒ බියජනක අවතාරයෙන් බේරීම පිණිස අලෙක්සේයි නැගිට සිටි
ඔහුගේ පෙනහලු තුළට දැඩි ශීත සුළං ඇතුළු වන සැටි ඔහුට දැනි
ඔහුගේ දෙකොපුල් හිම කැට මෙන් ශීතල විය. වේදනාව දැනෙන්නේ
මෙන් සිරුර පුරාම නොව දෙපාවල බව ඔහුට පැහැදිලිය.

"මා ජීවතුන් අතරය" යන හැඟීම ඔහු සිත පුරා පැතිර ගියේ
ඔහු නැගී සිටීමට වැර දරත්ම, ඔහු ළඟැති හිම යම්කිසිවකුගේ පය
පෑගෙන හඬ ඇසිණ. 'ජර්මන්නු!" වහාම නැගිට සිය ආත්මාරක්ෂා
සඳහා සටන් කළ යුතු යැයි ඔහුට කල්පනා විය. 'සිරකරුවෙක් වේවි
සිරකරුවෙක් වේවි! මම මොනවා කරන්ටද?"

දවසකට පෙර, හැම වැඩකටම හපනා යන විරුදාවලිය ලැ
සිටින මිකැනික් කෙනෙක් වන යූරා, ඇලෙක්සේයිගේ පිස්තෝල කොපුව
පටි අළුත් වැඩියා කර දීමට ඉදිරිපත් විය. ඔහු එම යෝජනාව පිළිනොගත්
නිසා ඔහුට සිය පිස්තෝලය කලිසම් සාක්කුවේ දමා ගැනීමට සිදුවිය.
දැන් එම පිස්තෝලය ගැනීමට ඔහුට පැත්තකට පෙරළීමට සිදුවිය. සතුරා
නොදැනෙන සේ එය කළ නොහැකිය. ඔහු මුණින් අතට වැටී සිටි
බැවිනි. ඔහුගේ කකුලට පිස්තෝලය දැනෙයි. ඔහු නොසැලී මළාක් මෙන්
සිටී. තමා මළ බව සිතා සතුරා ඉවත යනු ඇතැයි ඔහුට සිතිණ.

අමුතු ලෙස ආශ්වාස ප්‍රශ්වාස කරමින් ජර්මානුවා තමා වෙත
එන සැටි අලෙක්සේයිට දැනේ. තමා ඉදිරිපිට සිටින්නේ එකම ඒ
ජර්මානුවෙක් බව ඔහුට සහතිකය. ඔහු සතුරා දෙස යැලකිල්ලෙන් බල
සිටින්නේ නම් සතුරා වෙඩි තැබීමට පෙර ඔහුගේ ගෙල මිරිකා දමීමට

ඔහුට හැකිවනු ඇත. එහෙත් එය සූපරීක්ෂාකාරී ලෙසත්, නොවරදින ලෙසත් කළ යුත්තකි.

නොසැලී සිටිමින්ම, ඇසක් ඇර අලෙක්සේයි සතුරා දෙස බැලීය. ඔහු ජර්මානුවෙකු නොව දුඹුරු පැහැති දේහයක් බව අලෙක්සේයි දිටීය. ඔහු දෑස් විදහා ඒ දෙස බලා නැවත ඇස් පියා ගත්තේය. ඔහු ඉදිරියේ පස්සා ගාත්වලින් වාඩි වී සිටින්නේ විශාල කෙට්ටු, කඩමාලු වලසෙකි.

3

සීත කාලය මුළුල්ලේම අවදි නොවී, එක හුස්මට නිදන වලසා අවදිවීම නිසා ඌ කෝප වී සිටී. එසේ වුවද, වලස්සු මළ සතුන් නොකති. පුරුද්ද මැඩ බඩගින්න ජය ගත්තේය. සුසුමක් හෙළා කය සෙළවූ වලසා හිම ගොඩට යට වී ඇති මිනිසා ඉන් ඉවතට ඇද ඔහුගේ නියමු ඇඳුමේ සම් කබාය ඌ ඉරන්නට විය. කබාය ඉරුණේ නැත. වලසා කෝපයෙන් හඬ නැගීය. ඇස් ඇර කෑ ගසා වලසාගේ විශාල සිරුර පෙරළා දැමීමට අලෙක්සේයිට සිත්විණි. ආත්මාරක්ෂාව සඳහා බිහිසුණු සටනක් කිරීමට ඔහුගේ සිත ඔහු පොළඹවනු ලැබුවද, ඔහු වලසාට නොදැනෙන සේ සෙමින් කලිසම් සාක්කුවේ ඇති පිස්තෝලයට අත යවා ශබ්දය නො ඇසෙන සේ එය සෙමින් එළියට ඇද ගත්තේය.

වලසා වඩාත් කෝපයෙන් නියමු කබාය ඉරන්නට විය. ඝනකි සම් කබාය ඉරුණ ද, එය නොගැලවිණ. ගොරවන්නට වූ වලසා කටින් සම් කබාය දෙපළු කොට අලෙක්සේයිගේ පපුව එළියට ඇද ගත්තේය. වලසා හිම ගොඩින් අලෙක්සේයි ඉවත ඇද ගනිත්ම, ඔහුට කෑගැසීමට සිත් වූයේ අධික වේදනාව නිසාය. වේදනාව ඉවසාගෙන තිහඬ වූ හෙතෙම පිස්තෝලය ගෙන වෙඩි තැබීය.

වෙඩි හඬ දෝංකාරයත් ඇති කළේය.

වලසාගේ නිය අලෙක්සේයිගේ සිරුරෙන් ගිලිහී යත්ම, ඔහු බිම ඇද වැටිණි. ඔහු ඌ දෙස බලාගත්වනම සිටී. වෙඩි පහර කෑ වලසා විස්මයට පත් වූ කලක මෙන් පස්සා ගාත්වලින් වාඩි විය. කළු පැහැති උගේ ඇස් බිය මුසු විස්මයක් පළ කළේය. උගේ දත් අතරින් ගලා ආ ලේ කැටි හිම මත වැටිණ. ඌ නැගිට මහ හඬින් ගොරවා මුලින් උදුරන ලද

ගසක් මෙන් අලෙක්සේයිගේ දෙපා ළඟ ඇද වැටුණේ, ඔහු තව ව... වෙඩි තැබීමට කලිනි. යම්තම් තිල් පැහැති හිම, වලස් ලේ නිසා ... පැහැ ගති. එය දියවී යත්ම, සිහින් දුමක් වැනි හුමාලයක් උගේ ... අසල දක්නට ලැබිණ. වලසා මිය ගොසිනි.

අලෙක්සේයිට සටන් කිරීමට සිදු වූ නොසන්සුන් වාතාවරණ... පහව ගොසිනි. ඉවසිය නොහැකි තරම් අධික වේදනාවක් සහ තම දෙ... ගිනිගෙන දැවෙන සැටියක් ඔහුට දැනිණි. හිම මත ඇද වැටුණු ඔහුට ... නැති විය.

ඉර මුදුන් වූ පසු ඔහුට සිහිය ලැබිණි.

කිලිටි, දුගඳ, හමන වලස් කුණ හිම මත තිබේ. වනයේ පක්ෂී... නද දෙති. කොට්ටෝරුවා 'ටක්, ටක්' ගාමින් ගසකට අනියි. අත්තෙ... අත්තට පනින කහ කුරුල්ලෝ මිහිරි ගී ගයති.

"මා ජීවතුන් අතර! පණ පිටින්! පණ පිටින්!" යයි අලෙක්සේ... තමාටම කියා ගත්තේය. මරණය ඉදිරියේ සටන් කොට ජය ගත්තා හැ... මිනිසෙකුටම හැඟෙන බලවත්, අපූරු, ආනන්ද ජනක හැඟීමකින් ඔහුගෙ... සිත කය පිනා ගියේය.

මේ බලගතු හැඟීම නිසා ඔහු නැගිට සිටිත්ම, වේදනාවෙන් ක... ගසමින්, ඔහු වලස් කුණ මත ඇද වැටුණේය. ඔහුගේ හිස වේදනා... සහිත හඬකින් පිරී ඇත. ලොකු ඇඹරුම් ගල් දෙකක් තම හිස තුළ... වේගයෙන් භ්‍රමණය වන බවකි ඔහුට දැනෙන්නේ. නොපෙනෙන බලයක් විසින් ඔහුගේ ඇස් පාගා දමන්නාක් මෙනි. වරෙක අවට ඇති හැම... දෙයක්ම හිරු එළියෙන් බැබලෙන හැටි පැහැදිලිව දකින අලෙක්සේ... තමා ඉදිරියේ හැම දෙයක්ම එකට මුසු වී අඳුරු ලපයක් මැවී පෙනෙන... හැටි තවත් වරෙක දකී.

"හිසට වැදුණු පහරක් නිසා මොළය සෙලවී ඇත. මගේ කකුල්... ද තුවාල වී ඇත. තත්ත්වය හොඳ නැහැ." යි ඔහු තමාට ම කියා ගත්තේ... ය.

අහස් යාත්‍රාවෙන් පිටතට විසිවන විට ඔහුගේ සිතියම් බෑගය...

ඔහුට හැකිවනු ඇත. එහෙත් එය සුපරීක්ෂාකාරී ලෙසත්, නොවරදින ලෙසත් කළ යුත්තකි.

නොසැලී සිටිමින්ම, ඇසක් ඇර අලෙක්සේයි සතුරා දෙස බැලීය. ඔහු ජර්මානුවෙකු නොව දුඹුරු පැහැති දේහයක් බව අලෙක්සේයි දිටීය. ඔහු දෑස් විදහා ඒ දෙස බලා නැවත ඇස් පියා ගත්තේය. ඔහු ඉදිරියේ පස්සා ගාත්වලින් වාඩි වී සිටින්නේ විශාල කෙට්ටු, කඩමාලු වලසෙකි.

3

ශීත කාලය මුළුල්ලේම අවදි නොවී, එක හුස්මට නිදන වලසා අවදිවීම නිසා ඌ කෝප වී සිටී. එසේ වුවද, වලස්සු මළ සතුන් නොකති. පුරුද්ද මැඩ බඩගින්න ජය ගත්තේය. සුසුමක් හෙළා කය සෙළ වූ වලසා හිම ගොඩට යට වී ඇති මිනිසා ඉන් ඉවතට ඇද ඔහුගේ නියමු ඇඳුමේ සම් කබාය ඌ ඉරන්නට විය. කබාය ඉරුණේ නැත. වලසා කෝපයෙන් හඩ නැගීය. ඇස් ඇර කෑ ගසා වලසාගේ විශාල සිරුර පෙරළා දැමීමට අලෙක්සේයිට සිත්විණි. ආත්මාරක්ෂාව සඳහා බිහිසුණු සටනක් කිරීමට ඔහුගේ සිත ඔහු පොළඹවනු ලැබුවද, ඔහු වලසාට නොදැනෙන සේ සෙමින් කලිසම් සාක්කුවේ ඇති පිස්තෝලයට අත යවා ශබ්දය නො ඇසෙන සේ එය සෙමින් එළියට ඇද ගත්තේය.

වලසා වඩාත් කෝපයෙන් නියමු කබාය ඉරන්නට විය. ඝනැති සම් කබාය ඉරුණ ද, එය නොගැලවිණ. ගොරවන්නට වූ වලසා කටින් සම් කබාය දෙපළු කොට අලෙක්සේයිගේ පපුව එළියට ඇද ගත්තේය. වලසා හිම ගොඩින් අලෙක්සේයි ඉවත ඇද ගනිත්ම, ඔහුට කෑගැසීමට සිත් වූයේ අධික වේදනාව නිසාය. වේදනාව ඉවසාගෙන නිහඬ වූ හෙතෙම පිස්තෝලය ගෙන වෙඩි තැබීය.

වෙඩි හඩ දෝංකාරයක් ඇති කළේය.

වලසාගේ නිය අලෙක්සේයිගේ සිරුරෙන් ගිලිහී යත්ම, ඔහු බිම ඇද වැටිණි. ඔහු ඌ දෙස බලාගත්වනම සිටී. වෙඩි පහර කෑ වලසා විස්මයට පත් වූ කලක මෙන් පස්සා ගාත්වලින් වාඩි විය. කළු පැහැති උගේ ඇස් බිය මුසු විස්මයක් පළ කළේය. උගේ දත් අතරින් ගලා ආ ලෙ කැටි හිම මත වැටිණ. ඌ නැගිට මහ හඬින් ගොරවා මුලින් උදුරන ල

ැතිවිණි. එහෙත් ඔහු පියාසර කළ මග ඔහුට ඉතා හොඳින් මතක
ැත. සෝවියට් ස්ට්‍රොමොවික් අහස් යානා බෝම්බ දමූ ජර්මන් අහස්
තොටුපොළ පිහිටා ඇත්තේ යුද පෙරමුණෙන් කිලෝමීටර් හැටක් බටහිරිනි.
ර්මන් අහස් යානාවලින් බේරුණු පසු ඔහු කිලෝමීටර් විස්සක් පමණ
ැගෙනහිර දෙසට පියාසර කළ බව ඔහුට මතක ඇත. එසේ නම් දැන්
ඔහු සිටින්නේ යුද පෙරමුණට කිලෝමීටර් තිස්පහක් පමණ ඈතිනි.
මය ජර්මන් යුද කණ්ඩායම් වලට බොහෝ සෙයින්ම පිටුපසින් පිහිටි
පුරු වනය විය යුතුය. ජර්මන් අහස් තොටුපොළවලට බෝම්බ දැමීම
දහා යද්දී ඔහු මේ වනයට ඉහළින් කීප වරක්ම පියාසර කොට ඇත.
හසේ සිට බලන විට එම වනය හරිත වර්ණයෙන් පිරි සාගරයක් මෙනි.
ැහැදිලි කාලගුණය ඇති දවස්වලදී පයින් තුරු මුදුන් කොළ පාටින්
ිලිසේ. අයහපත් කාලගුණය පවතින කල අළු පැහැති මීදුමකින් වැසී
ත ඒ වනය, මතුපිට ගමන් ගන්නා කුඩා රැලිවලින් යුත් අපිරිසිදු
ජලයෙන් පිරි මහා වැවක් මෙනි.

මේ මහා වනය මැදට කඩා වැටීම හොඳක් මෙන්ම නරකකි. ජර්මන් භටයින් නිතරම මහා මාර්ග හා නගරවලට ළං වීමට ආශා කරන බැවින් මේ වනයේ ඔවුන් මුණ නොගැසීම හොඳ දෙයකි. යුද පෙරමුණ දක්වා යා යුතු මග එතරම් දුර නොවූවද, මේ මූකලන් වනයේ ගස්, පඳුරු, වලවල්, මඩ ගොහොරු ආදිය හරහා යාම ලෙහෙසි නැත. මිනිස් පණක් ඇසට හමු නොවන මෙහි ආහාරයක් සොයා ගැනීමට, උණු තේ කෝප්පයක් ලබා ගැනීමට සිතීම පවා අපහසුය. නරක පැත්ත එයය. ඔහුගේ දෙපා...... ඔහුට නැගී සිටීමට පුළුවන්ද? ගමන් කිරීමට පුළුවන්ද..?

වලස් කුණ මත වැතිර සිටි ඔහු සෙමින් නැගී සිටියේය. දෙපාවලින් පටන් ගත් තියුණු වේදනාව පිටි කොන්ද දිගේ ඉහළට නැග මොළයට වදින්නේ විදුලි වේගයෙනි. ඔහුට ඉබේටම කෑගැසිණ. ඔහු වාඩි විය. තම දෙපා වසා ඇති උන්ති * හිම සපත්තු ඉවත් කිරීමට ඔහු උත්සාහ දැරිය. ඒවා ඉවත් කිරීම ලෙහෙසි නැත. වේදනාවෙන් කෙඳිරි ගාමින් ඔහු සපත්තුවකින් කකුලක් මුදා ගැනීමට තැත් කළේය. දත්මිටි කමින් හ
දෑස් වසා ගනිමින් එක් කකුලක් මුදා ගනිත්ම ඇති වූ තියුණු වේදනාව
නිසා ඔහුට සිහිසන් නැති විය. නැවත ප්‍රකෘති සිහිය ලැබුණු පසු පය
වෙළා තිබුණු පටිය පරෙස්සමින් ඉවත් කළේය. රත් පැහැ ගෙන ඇති ඒ

* උන්ති- සතුන්ගේ ලොමින් කළ විශේෂ හිම සපත්තු වර්ගයකි.

පය ගල් ගෙඩියක් මෙන් ඉදිමී ඇත. එහි හැම සන්ධියක් හා ඇටයක් වේදනාවෙන් කකියයි. හිම මත පය තැබූ විට වේදනාව තරමක් වූවාක් මෙනි. දෙවන වරට ද ඔහු මහත් උත්සාහයක් යොදා අනික් පය සපත්තුව ගලවා දැම්මේය.

මේ දෙපාවලින් වැඩක් නැත. අහස් යානාවෙන් පිටතට විසි වූ විට යම්කිසි දෙයකට ඔහුගේ දෙපා අසු වී ඒවායේ පා ඇට ඇඟිලිවල ඇට කැඩී පිපිරී ගොසිනි. සාමාන්‍ය තත්ත්වයකදී නම් ඉදිමී ඇට පිපිරී ඇති එම පා වලින් ඇවිදීම තබා, ඒවා සෙලවීමට පවා අලෙක්සේයි නොපෙළඹෙනු ඇත. එහෙත් දැන් ඔහු සතුරු යුද පෙරමුණ පිටුපස මහා වනයක තනි වී සිටී. මෙහිදී මිනිසකු හමුවීම ජීවිතය නොව මරණය ගෙන දෙන්නකි. ඔහු නැගෙනහිර බලා ගමන් කිරීමට ඉටා ගත්තේ ලෙහෙසි පාරවල් සොයා ගැනීමට හෝ ජනාවාස පෙදෙස් කරා යාමට හෝ නොවේ. ඉදිරියට යාම හැර අන් මඟක් නැති බැවිනි.

අධිෂ්ඨානයකින් යුතුව ඔහු නැවත වරක් නැගී සිට, දත්මිටි කමින් එක් පියවරක් ඉදිරියට තැබීය. තවත් පියවරක් ඉදිරියට තබත් ම හිස වේදනාවෙන් පිරිණ. වනය තොටිල්ලක් සේ පැද්දෙමින් සෝෂාවක් නගන සැටි ඔහුට දැනේ.

පුළුන් මෙන් මුදු හිම මත ගමන් කරන විට තියුණු වේදනාවක් නොදැනේ. තද අයිස්වලින් වැසී ඇති පාර මත එක් පියවරක් තබත්ම ඇති වූ වේදනාව කොතරම් ද යත්, ඔහුට ගමන නැවැත්වීමට සිදුවිය. දෙපා දෙපැත්තට පළල් කොට නුහුරු ලෙස සිටගත් ඔහු කුණාටුවකට අසු වූ කලෙක මෙන් වැනෙන්නට විය.

අලෙක්සේයි හිම මත වාඩි වී හිම සපත්තුවල ලනු බුරුල් කොට ගෙලවටා ඇති ප්ලැනල් ලේන්සුව දෙකඩ කොට ඉරා දෙපා ඔතා ලිහිල් සිටින සේ සපත්තු ඇඳ ගත්තේය.

දැන් ගමන පහසුය. එය ගමන් කිරීමක් ලෙස හඳුන්වන්නට බැරිය. පරෙස්සමෙන් එක් පියවරක් තබන අලෙක්සේයි අනික් කකුල උස්සා පියවරක් ඉදිරියට තබන්නේ මඩ ගොහොරු බිමක් හරහා යන්නකු ලෙසිනි. හැම පියවරක් පාසාම ඇතිවන වේදනාව නිසා ඔහුගේ හිස කකියයි. ඇට කටු තුළට වේදනාව විදින සැටි ඔහුට දැනේ. අමාරුවෙන් අඩි කීපයක් යන ඔහුගේ දෙපාවල ලේ නහර ඉදිමී ඇත. තියුණු වේදනාව නිසා හදවත ගැහෙයි. ඇස් වසා ගන්නා ඔහු ගසකට හේත්තු වෙයි.

නැතිනම් හිම ගොඩක් මත වාඩි වෙයි.

මේ විධියට පැය කීපයක් ම ඔහු පා තැබීය. තමා කොතෙක් දුර ගමන් කොට ඇත්දැයි සොයාබැලීම පිණිස අලෙක්සේයි පිටුපස හැරී බැලීය. ගමන පටන් ගත් තැන තවම පෙනෙන්නට ඇත. එය ඔහුගේ කනස්සල්ලට හේතු විය. එහෙත් ඔහු බිය නොවීය. ගමන් වේගය වැඩි කිරීමට ඔහුට සිත්විණ. ඔහු නැගිට තමා ඉදිරියේ ඇති කිසියම් සලකුණක් දෙස සිත් යොමු කරමින් එ දෙසට පා තැබීය. පයින් ගසෙන් ගස මේ අනුව සලකුණු ලෙස සිතා ගනිමින් ඔහු ඉදිරියට ඇදුණේය. තුවාල ලැබූ සතෙකු මෙන් ඔහු හිම පිරි නැවුම් බිමේ පා සටහන් තැබීය.

4

සවස් වන තුරුම අලෙක්සේයි මේ විදියට ගමන් කළේය. රත් පැහැ ගත් හිරු බැස යන්නට විය. කොළ පැහැති ගස් වැල් දත් සෙවණැලි මෙන් කළු පාටය. ඇඳිර පැතිරිණි. බිළයක් බඳු නිම්න භූමියකට ඔහු පැමිණියේය. එහි වල් පැලෑටි වැවී ඇත. එතැනදී ඔහු දුටු දේ නිසා ඔහුට හිත් දහඩිය දැම්මේය. හිස් වැස්මට යටින් ඇති හිසකේ පවා කෙළින් විය.

දරුණු සටනක් පැවති මෙතැන ප්‍රථමාධාර දෙන කඳවුරක් තිබුණු බව කියන සලකුණු ඇත. තුවාල ලැබූවන් මෙතැනට ගෙනැවිත් වියලි කොළවලින් සාදන ලද කොට්ටවල තබා ප්‍රථමාධාර දී ඇත. මිය ගිය ඔවුන්ගෙන් සමහරෙක් හිමවලට අඩ වශයෙන් යට වී උන්හ. සමහරුන්ගේ සිරුරු සම්පූර්ණයෙන්ම හිමෙන් වැසිලාය. ඔවුන් මියගොස් ඇත්තේ තුවාල නිසා නොවන බව එක වරම පෙනී යයි. යම්කිසිවකු විසින් ඔවුන්ගේ බොටු කපා දමන ලද බැව් පෙනේ. හැම සිරුරකම හිස පිටුපස්සට නැමී ඇත්තේ, තමන්ට පිටුපසින් වෙන්නේ මොනවාදැයි බැලීමට හිස හැර වූ කලෙක මෙනි. එම දර්ශනය බිය ජනකය. පයින් ගසකට හේත්තු වී වාඩි වී සිටින හෙදියකගේ උකුළ මත සෝවියට් අහස් නියමුවකුගේ හිසකි. හෙදියගේ මළ සිරුරේ ඉහටිය දක්වා හිමෙන් වැසී ඇත. සිහින් සිරුරක් ඇති මළ තරුණිය හිසත් බෙල්ලත් වැසෙන සේ හිම තොප්පියක් පැළඳ සිටී. ඇගේ පිට විදගෙන ගිය කිණිස්සක මිට පමණක් පිටතට පෙනේ. ඈ ළඟ පැසිස්ට් ජර්මන් ඇස්. ඇස්. භටයකුගේ

මළ සිරුරක් හා ලේ තැවරුණු වෙළුම් පටියකින් හිස වෙළා ඇති සෝවියට් සෙබළෙකුගේ මළ සිරුරකි. මේ දෙදෙනා එකිනෙකාගේ ගෙල මිරිකා ගිනිමින් මිය ගිය බව ඔහුට සිතාගත හැක. තුවාල ලැබ සිටි සෝවියට් හටයින්ගේ බොටු කැපූ පැසිස්ට් මෘගයා හෙදියට කිණිස්සෙන් අනිත්‍ය, තුවාල ලැබ සිටි සෝවියට් සෙබළා පැසිස්ට් මෘගයාගේ ගෙල මිරිකා ඇති අතර, දෙදෙනාම මරණය දක්වා එලෙස සටන් කොට ඇති බව අලෙක්සේයිට වැටහිණ.

හිම කුණාටුව විසින් ඔවුන් වළලා දමන ලදී. හිම තොප්පිය හිසින් ගත් සිහින් සිරුරක් ඇති හෙදියගේ මළ සිරුර තුවාල ලැබ සිටි සොවියට් හටයාගේ මළ සිරුර වසා සිටියේ එය ආරක්ෂා කරන්නා මෙනි. සෝවියට් හටයාගේ දණහිස් දක්වා පැරණි සපත්තු කුට්ටමකි.

විස්මයට පත් වූ අලෙක්සේයි ගල් ගැසුණාක් මෙන් ඒ ඛේදවාචකය දෙස මොහොතක් බලා සිට, අමාරුවෙන් හෙදියගේ සිරුර වෙත ළං වී, ඇගේ පිට විදගෙන ගොස් ඇති කිණිස්ස ඇද දැම්මේය. පැරණි ජර්මන් අසිපතකට සමාන එස්. එස්. කිණිස්සකි එය. යකඩ මල කා ඇති කිණිස්සේ " Alles Fur Deutschland" යන වැකිය කොටා තිබෙන බව ඔහු දුටුවේය. පැසිස්ට් හටයාගේ ඉණෙහි ඇති හම් කොපුව අතට ගත් අලෙක්සේයි කිණිස්ස එතුළට බහාලීය. තම ගමනේ දී එම අවිය ප්‍රයෝජනවත් වනු ඇත. කුඩාරම් කැන්වස් රෙද්දක් සොයාගත් හෙතෙම ඝනැති හිම තට්ටු හාරා වළක් සාදා, කැන්වස් රෙද්දෙන් හෙදියගේ සිරුර ඔතා, ප්‍රවේසමින් එය වළලා දැම්මේය.

මේ වැඩවල යෙදෙත්ම හවස ඇඳිර පැතිරිණ. ගස් අතරින් වැටුණු හිරු රැස් අතුරුදහන් විය. බිළ තුළ ඝන අන්ධකාරයක් පැතිරිණ.

වොල්ගා ස්ටෙප්ස්හි කමිෂින් නගරයේ උපන් අලෙක්සේයි වනගත ජීවිතය ගැන කිසිවක් නොදත්තේ, රැය ගත කිරීමට සූදානම් නොවීය. සටත් පිරිසෙයින් ගිනි මැලයක් පත්තු කිරීමට පවා නොසිතීය. ගණ අඳුර පැතිර ඇති නිසාත්, ඇට කැඩී ඇති තම දෙපාවලින් පැන නගින තියුණු වේදනාව නිසාත් ඔහුට වියලි දර කෝටු කීපයක් එකතු කර ගැනීමට පවා බැරි විය. ළපටි පයින් ගසක් යටට බඩ ගාමින් ඇදුණු හෙතෙම ගස මුල වාඩි වී දැත් දණහිස් වටා යවා, හිස දණහිස් මත තබාගෙන ගුළි ගැසී සිටියේය. තම ප්‍රශ්වාසයෙන් උණුසුම ලබා ගැනීමට තැත් කරමින් නිහඬව විවේක ගත්තේ ය.

නියමිත විනාඩි පහ අවසාන වීමට තව ඇත්තේ තත්පර කීපයකි. අවසාන තත්පරය ගෙවියත්ම, යම්කිසි බිය ජනක සිද්ධියක් වනු ඇතැයි යන හැඟීමෙනි. ඔහු තත්පර කටුව දෙස බැලුවේ. එහෙත් විනාඩි පහ අවසාන වූ විගසම අලෙක්සේයි වේදනාවෙන් කෙඳිරිගාමින් නැවත නැගිට සිට, ගමන් ඇරඹීය.

දහවල් වන විට ඔහුට යා හැකි වූයේ කිලෝමීටර් දෙකක් පමණ දුරකි. හතරවැනි වරට පියවරයන් දහසක් ගමන් කළ හෙතෙම බිම ඇ වැටුණේ මුලින් කපා හෙළූ ගසක් මෙනි. ළඟ ඇති බර්ච් ගහ මුලට බ ගා යාමට පවා ඔහුට ශක්තියක් නොමැත. ඔහු බොහෝ වේලාවක එතැන වාඩි වී සිටියේ ගල් රුවක් මෙනි. ඔහුට කිසිවක් නෑසේ, කිසිවක නොපෙනේ. බඩගිනි පවා නොදැනේ.

දිග සුසුමක් හෙළා, වාතය ඉහළට ඇදගෙන වේදනාව හ බෙලහීනත්වය මැඩගනිමින් හිම කැටි කීපයක් කටේ දමා ගත් අලෙක්සේයි යකඩ මල කා තිබුණු මස් ටින් එක ගෙන ජර්මන් කිණිස්සෙන් එ පියන කපා හැරියේය. ශීත නිසා කැටි ගැසී තිබුණු සත්ව තෙල් කැල්ලක ඔහු කටේ දමා ගත්තේ, නීරස ඒ ආහාරය ගිල දැමීමටය. එහෙත් එ තෙල් බවට හැරිණි. යටපත් වූ බඩගින්න මේ වර කොතරම් වේගයකින පැන නැංගේදයත් ඔහු මස් ටික එක හුස්මට කා දැම්මේය. ඉන් පසු හි ගුළි ගිලින්නට විය.

නැවත ගමන් ඇරඹීමට පෙර අලෙක්සේයි අසල ජූනිපර ගසකින සව් ඇති රිටි දෙකක් කපා ගත්තේය. දැන් ඔහු මේ හැරමිටිවල ආධාරයෙන ගමන් කරයි. එහෙත් වේදනාව වඩාත් තියුණු විය. ගමන වඩ වඩාත් අමාරු විය.

## 6

..........තෙවැනි දවස උදාවිය. අලෙක්සේයි මූකලන් කැලය මැදින ගමන් කරයි. මිනිස් පණක සේයාවක් පවා එහි නොමැත. හිටි හැටියේම ඔහු වටිනා දෙයක් සොයා ගත්තේය.

හිරු එළිය වැටෙත් ම ශීතලෙන් වෙව්ලන්නට පටන් ගත් අලෙක්සේයි නින්දෙන් අවදි විය. තම නියමු ඇඳුමේ සාක්කුවක ගිනි ගලක් සහිත

කෙසේ වුවද තම පිස්තෝලය හදිසි අවස්ථාවක දී පාවිච්චි කිරීම පිණිස සූදානම් කර ගත්තද, පළමුවැනි ඇඳිරී රැයෙහිදී ඔහුට එය පාවිච්චි කිරීමට හැකිද යන්න සැක සහිතය. මළාක් මෙන් ඔහු නිදා ගත්තේය. ගස්වල අතු ගැටෙන හඬද, මග අසල බස්සකුගේ හැඬීමද, ඈත වෘකයින්ගේ හූ හඬද කිසිවක් ඔහුට නෑසිණ. දැඩි අඳුර ඔහු වෙළා ගත්තේය.

හිමිදිරි පාන්දර ඔහු අවදි වූයේ කිසිවකු විසින් ඔහු සොළ වූ කලෙක මෙනි. මීදුම අතරින් ගස්වල සෙවණැලි දැකිය හැකිය. තමාට සිදුවූයේ කුමක්ද, තමා කොහේද, යන්න ඔහුට මතක් වූයේ අවදි වීමෙන් පසුවය. අප්‍රවේසමින් රැය ගත කළ සැටි මතක් වූ විට ඔහු බිය විය. ලොමින් වැසී ඇති තම නියමු කබාය විදගෙන සිරුරට ඇතුළුවන ශීත නිසා ඇටකටු පවා හිරි වැටී ඇත. සන්නිපාත රෝගියකු මෙන් ඔහු වෙව්ලන්නට විය. එහෙත් දෙපාවලින් පැන නගින වේදනාව පෙරටත් වඩා තියුණුය. වාඩි වී සිටින විට පවා ඉවසිය නොහැකි වේදනාවකි. නැගිට සිටිය යුතුය යන හැඟීම පවා බිය ගෙන දෙයි. පෙරදින සපත්තු ගළවන විට පෙන් වූ දැඩි ගතිය නැවත ආරූඪ කරගත් අලෙක්සේයි දෙකොල් තද කරගනිමින් නැගිට සිටියේය. කාලය අපතේ යැවීම නුවණට හුරු නොවේ.

වේදනාව හා ශීත සමග දැඩි බඩගින්නකුත් දැනේ. ඊයේ හෙදියගේ මළ සිරුර කැන්වස් රෙද්දෙන් ඔතන විට, ඈ අසල තිබූ ප්‍රථමාධාර මල්ලක් අලෙක්සේයි දුටුවේය. කිසියම් කුඩා සතෙකු එය සිදුරු කොට ඇති බව මල්ල වටා ඇති කැබලිවලින් පෙනේ. ඊයේ ඔහු එම මල්ල ගැන සැලකිලි නොදැක්වීය. ඔහු මල්ල අතට ගෙන පිරික්සන්නට විය. එහි වෙළුම් පටි කීපයකි. ලොකු මස් ටින් බඳුනකි. ලියුම් කීපයක් සහ මූණ බලන කුඩා කණ්ණාඩියකි. මහලු කාන්තාවකගේ ඡායාරූපයකි. මල්ල තුළ පාන් ගෙඩියක් තිබූ බවට සාක්ෂි ඇත. කුරුල්ලන් හා කුඩා සතුන් එය කා දමූ බව මල්ල පතුලේ ඇති පාන් කුඩු සාක්කි දෙයි. වෙළුම් පටි සහ මස් ටින් බඳුන නියමු ඇඳුමේ සාක්කුවල දමා අලෙක්සේයි ''නුඹට ස්තුතියි සහෝදරිය'' යැයි කීවේය. මළ සිරුරේ දෙපා, කුණාටුව නිසා නැවත හිම ගොඩින් මතු වී ඇති බැවින්, එය කැන්වස් රෙද්දෙන් වසා දමූ අලෙක්සේයි හිරු රැසින් ආලෝකය පැතිර යන නැගෙනහිර දෙසට පා තැබීය.

දැන් ඔහු ළඟ මස් කිලෝග්‍රෑම් එකකි. (රාත්තල් 2 අවුන්ස 3

පමණ වේ.) දවල් බත වෙනුවට මේ මස් දවසකට වරක් බැගින් කැමට ඔහු තීරණය කළේය.

5

දෙපා සිට පැතිර යන වේදනාව ගැන අමතක කිරීම පිණිස හෙතෙම තම ගමන් මග ගැන කල්පනා කරන්නට විය. දවසට කිලෝමීටර් දහයක් හෝ දොළහක් ගමන් කළොත්, දවස් තුන හතරකින් සුද පෙරමුණට යන්නට හැකි වනු ඇත.

"ඒක නම් එහෙම තමා, දවසකට කිලෝමීටර් දහයක් තැබිය යුතුය. කිලෝමීටර දහයකට පියවර විසි දහසකි. පියවර පන්සීයක් තැබූ පසු මට විවේක ගන්ට ඕන. ඒ හන්ද දිනපතා යා යුතු දුර ප්‍රමාණය සුළු පටු නොවේ....."

පෙර දින තම ගමන පහසු කරවීමට අලෙක්සේයි කිසියම් අරමුණක් සිතින් සලකුණු කරගෙන ඒ වෙත පා තැබීය. පයින් ගසක් දක්වා, ගස් කොටයක් දක්වා මේ විධියට ගිය හෙතෙම විවේක ගෙන නැවත ගමන් ඇරඹීය. දැන් ඒ වෙනුවට පියවර මනින්නට පටන් ගත් ඔහු පියවර දහසක් තැබූ පසු එනම් කිලෝමීටර් බාගයක් ඉදිරියට ගිය පසු විවේක ගැනීමට තීරණය කළේය. එයද විනාඩි පහකට වැඩි නොවිය යුතුය. මේ විධියට උදේ සිට සවස් වන තුරු ගමන් කළොත් කිලෝමීටර දහයක් මග ගෙවා යා හැකි බව ඔහු සිතීය.

එහෙත් පළමුවැනි පියවර දහස කොතරම් අමාරු විද! වේදනාව අමතක කර දමීම් වස් මේ පියවර මනින්නට විය. පළමුවැනි පියවරයන් පන්සියය ගණන් කළ පසු ඔහුට වැරදිණ. වේදනාව හැර අන් කිසිවක් ඔහුට නොදනේ. එසේ වූව ද, මහත් ධෛර්යයකින් හා අධිෂ්ඨානයකින් යුතුව හෙතෙම පියවර දහසක්ම ඉදිරියට ගමන් කළේය. වාඩිවීමට තරම් ශක්තියක් නැති නිසා මුණින් වැටුණු අලෙක්සේයි නැවුම් හිම පියලි ලෙව කමින්, ගිනි ගෙන දැවෙන කලෙක මෙන් වේදනාවෙන් පෙළෙන තම නළල හා කංශක හිම මත තබා ගනිමින් විඩා හැරියේය. හිම කැට ස්පර්ශය නිසා ඔහු ප්‍රීති විය.

ඔහු සුසුම්ලමින් අත් ඔරලෝසුව දෙස බැලීය. විවේකය සඳහා

නියමිත විනාඩි පහ අවසාන වීමට තව ඇත්තේ තත්පර කීපයකි. අවසාන තත්පරය ගෙවියත්ම, යම්කිසි බිය ජනක සිද්ධියක් වනු ඇතැයි යන හැඟිමෙනි. ඔහු තත්පර කටුව දෙස බැලුවේ. එහෙත් විනාඩි පහ අවසාන වූ විගසම අලෙක්සේයි වේදනාවෙන් කෙඳිරිගාමින් නැවත නැඟිට සිට, ගමන් ඇරඹීය.

දහවල් වන විට ඔහුට යා හැකි වූයේ කිලෝමීටර් දෙකක් පමණ දුරකි. හතරවැනි වරට පියවරයන් දහසක් ගමන් කළ හෙතෙම බිම ඇද වැටුණේ මුලින් කපා හෙලූ ගසක් මෙනි. ළඟ ඇති බර්ච් ගහ මුලට බඩ ගා යාමට පවා ඔහුට ශක්තියක් නොමැත. ඔහු බොහෝ වේලාවක් එතැන වාඩි වී සිටියේ ගල් රුවක් මෙනි. ඔහුට කිසිවක් නෑසේ, කිසිවක් නොපෙනේ. බඩගිනි පවා නොදැනේ.

දිග සුසුමක් හෙළා, වාතය ඉහළට ඇදගෙන වේදනාව හා බෙලහීනත්වය මැඩගනිමින් හිම කැට් කීපයක් කටේ දමා ගත් අලෙක්සේයි යකඩ මල කා තිබුණු මස් ටින් එක ගෙන ජර්මන් කිණිස්සෙන් එහි පියන කපා හැරියේය. ශීත නිසා කැටි ගැසී තිබුණු සත්ව තෙල් කැල්ලක් ඔහු කටේ දමා ගත්තේ, නීරස ඒ ආහාරය ගිල දැමීමටය. එහෙත් එය තෙල් බවට හැරිණි. යටපත් වූ බඩගින්න මේ වර කොතරම් වේගයකින් පැනනැංගේදයත් ඔහු මස් ටික එක හුස්මට කා දැම්මේය. ඉන් පසු හිම ගුලි ගිලින්නට විය.

නැවත ගමන් ඇරඹීමට පෙර අලෙක්සේයි අසල ජුනිපර ගසකින් සව් ඇති රිටි දෙකක් කපා ගත්තේය. දන් ඔහු මේ හැරමිටිවල ආධාරයෙන් ගමන් කරයි. එහෙත් වේදනාව වඩාත් තියුණු විය. ගමන වඩ වඩාත් අමාරු විය.

6

..........තෙවැනි දවස උදාවිය. අලෙක්සේයි මූකලන් කැලය මැදි ගමන් කරයි. මිනිස් පණක සේයාවක් පවා එහි නොමැත. හිටි හැටියේ ඔහු වටිනා දෙයක් සොයා ගත්තේය.

හිරු එළිය වැටෙත් ම ශීතලෙන් වෙව්ලන්නට පටන් ගත් අලෙක්සේ නින්දෙන් අවදි විය. තම නියමු ඇඳුමේ සාක්කුවක ගිනි ගලක් සහ

සිගරට් ලයිටරයක් තිබෙන බව ඔහුට මතක් විය. තමාගේ උදව්කාර
වන යූරා ඒ. සිගරට් ලයිටරය සෑදුවේ හිස් පනොරමක ලෝහ කවරය
එය යූරාගෙන් ඔහුට ලැබුණු තෑග්ගකි. ඔහුට මේ වටිනා වස්තුව
සම්පූර්ණයෙන් ම අමතක විය. පළමු දවසේ සිටම ඔහුට ගිනි මැල
අවුළුවා ගැනීමට පුළුවන් කම තිබූ බවද මතක් විය. වියලි අතු කීප
කඩා ගොඩ ගසා ගිනි මැලයක් පත්තු කර ගත්තේය. ඇවිලෙන ගින්
වියලි කොළ සහ දර කෝටු දැම්මේය. දීප්තිමත් ගිනි දළු දුම් ගුළි
පැන නැගිණ. වියලි දර කෝටු 'පට පට' යන හඬක් පිට කර
ඇවිලිණ.

ගිනි මැලය අවට වාතය උණුසුම් කරමින් ඇවිලෙයි. අලෙක්
ගිනි තැපීමට පටන් ගත්තේ, ඔහුට මහත් සනීපයක් දැනිණ.
කබායේ ලෝහ පටිය ගලවා ඇතුළු සාක්කුවෙන් ලියුම් මිටියක්
හෙතෙම ඒවා කියවන්නට විය. ඒ හැම ලියුමක්ම ලියා තිබෙන්නේ එ
අත් අකුරෙනි. මල් වැටුණු ගවොමක් හැඳගත් සිහින් තරුණියක
ඡායාරූපයක් ද එහි විය. ඇය තණ බිමක වාඩි වී සිටී. ඔහු
ඡායාරූපය දෙස විනාඩි කීපයක් බලා සිට එය නැවත සෙලෝ
කඩදාසියක ඔතා කවරය තුළ බහා සාක්කුවේ දමා ගත්තේය.

"කමක් නැහැ. හැම දෙයක්ම යසට සිදුවේවි" යැයි ඔහු තමාට
කියා ගත්තේ ද නැතිනම් ඡායාරූපයේ තරුණියට කීවේද යන්න පැහැ
නැත. කල්පනාකාරී වූ හෙතෙම නැවත "කමක් නැහැ" යැයි කීය.

දූන් පුරුදු පරිදි නැවත වරක් සපත්තු ගලවා දෙපා දෙස ඕනෑකම
බැලීය. ඒවා දූන් පෙරට වඩා ඉදිමිලාය. දෙපාවල ඇඟිලි නොයෙක්
නැමී ඇත. දෙපා හුළං පිරවූ බෝල මෙනි. පළමු දවසේ රත් පැහැයෙ
තිබූ දෙපා දූන් කළු පාටට හුරුය. කෙමෙන් නිවී යන ගිනිමැලයෙන්
ගන්නාක් මෙන් ඒ දෙස බැලූ අලෙක්සේයි රිටි වාරුවෙන් නැගිට
නැවත ගමන් ඇරඹීය. අයිස් බවට පෙරළී ඇති හිම බිඳින රිටි හඬ
නගයි.

ඇඳිරි වැටුණු පසු ඔහුට පියවර පහකට වඩා තැබිය නොහැ
විය. දිරාගිය බර්ච් කඳක් ළඟ වියලි දර කෝටු එකතු කොට
මැලයක් ගැසූ අලෙක්සේයි ගිනි තපින්නට විය. බුරමින් නගින ගිනි
දීප්තිමත්ය. ගිනි මැලය අසල දිග ඇදී නිදා ගන්නට වූ ඔහු
උණුසුම ලබා ගැනීමට මෙන් වරක වම් ඇලයද තවත් වරක දකුණු

ැලය ද ගිනි මැලයට හරවමින් නිදන්නට විය. උණුසුම අඩුවෙත්ම ඔහු ෙවන් මෙන් අවදි වී වියලි දර කෝටු දමා ගිනි මැලය යළි අවුළුවයි.

මැදියම් රැය වන විට, වනය හරහා කුණාටුවක් හමන්නට විය. යින් ගස්වල අතු වේගයෙන් සැලෙමින් 'හූ" හඬක් ඇති කළේය. කුඩා හිම කැට හා හිම පියලි වලාකුළක් සේ පාවෙන්නට විය. ගිනි මැලය ාවා හඬ නහමින් සුළං හමයි. එහෙත් මේ හිම කුණාටුව නිසා අවදි වූයේ අලෙක්සේයි නොවේ. ගිනි මැලයෙන් උණුසුම ලබන ඔහු සැපසේ නිදා ගත්තේය.

වන සතුන්ගෙන් ආරක්ෂා වීමටද ගිනි මැලය හේතුවක් විය. මෙවැනි රැයක වනයට වැදීමට ඔවුහු බිය වෙති. ගිනි මැලය අසල නිදා සිටින අලෙක්සේයිට පහත් හඬක් වුවද හොඳ හැටි ඇසේ. හිමිදිරි පාන්දර හිම කුණාටුව මඳක් අඩු වී වනය පුරා මීදුම පැතිරිණ. පයින් තුරු මුදුන් වැනෙන හඬ ද, හිම වැටෙන මුදු හඬ ද මැඩ ඇත වෙඩි හඬ ද, වෙඩි පුපුරණ හඬ ද, මැෂින් තුවක්කු හා රයිපල් තුවක්කු හඬ ද පැහැදිලි ලෙස අලෙක්සේයිට ඇසිණ.

"යුද පෙරමුණ මේ තරම් ළඟද? මේ තරම් ඉක්මණට?"

7

පසුදා උදෑසන අවදි වූ ඇලෙක්සේයි මහත් ආයාසයකින් වෙඩි හඬ හා යුද්ධ හඬ ඇසීමට තැත් කළ ද, ඔහුට කිසිවක් නෑසිණ. කාල තුවක්කුවල වෙඩි හඬ පවා නෑසිණ.

හිරු රැස්වලින් නැවී ඇති හිම දීප්තිමත්ව බැබලේ. කුඩා හිම පියලි සුළඟට අසුව ඉහළ නගින විට සුදු පැහැති වලාකුළු මෙනි. සමහර තැන්වල හිරු රැස් නිසා රත්වන හිම පියලි වතුර බවට හැරී බිමට වැටී අයිස් බවට පත් වේ. වසන්තය ළං වී ඇත! අධිෂ්ඨාන ලෙසත්, දැඩි ලෙසත් වසන්තය පැමිණෙන බව කියන සලකුණකි එය.

පෙර දවස විත් බඳුනෙහි ඉතිරිව තිබූ මස් සම්පූර්ණයෙන්ම පාහේ කා දමුවද, ඔහු විත් එක වීසි නොකළේය. නැවත ඒ භාජනය අතට ගත් අලෙක්සේයි එහි ඉතිරිව ඇති කුඩා මස් කෑලි හා කැටි ගැසුණු තෙල් කෑලි සූරන්නට විය. ඔහුගේ උදේ ආහාරය වූයේ ඒවාය. යම්තම්න් වත් ඒවා නොකෑවොත් ගමන් ඇරඹීමට ඔහුට ශක්තියක් ඇති නොවන බව ඔහු දනී. මාපට ඇඟිල්ලෙන් ඔහු එහි වූ කුඩා මස් කෑලි සූරන්නට

වූ විට, ඔහුගේ ඇඟිලි කැපී තුවාල විය. භාජනයේ තවත් මේදස් ඇතැ
ඔහුට සිතුණු නිසා ඔහු නොපසුබට වී තුවාල ගණනකටවත් නොගෙ
දිගටම සූරමින් ඇඟිලි ලෙව කෑවේය. නැවුම් හිමවලින් විත් බඳුන පුරැ
ගිනි මැලයේ අහුරු කැට උඩ තැබීය. හිම වතුර බවට පත්ව රත් වූ ප
යම්තම් මස් රසැති උණුවතුර මහත් වූ සතුටකින් ඔහු බීවේය. ඉන්
ඔහු බඳුන නැවත සාක්කුවේ දමා ගත්තේ පසුව තේ සෑදීමට එය අවශ
වන බැවිනි. උණු "තේ" සාදා ගැනීම ප්‍රීතිමත් සොයා ගැනීමකි. ගමන
ඇරඹූ ඔහු එම සොයාගැනීම නිසා මඳක් සතුටු විය.

බලාපොරොත්තු රහිත අවාසනාවකට මුහුණ පෑමට ඔහුට සිදුවිය
පෙරදා රැයෙහි ඇති වූ හිම කුණාටුව නිසා මග හිමෙන් වැසිණ. තැනින්
තැන හිම ගොඩවල්ය. හිරු රැසින් බබලන හිම නිසා ඔහුගේ ඇස්
විඩාපත් විය. හිම ගොඩේ ඔහුගේ කකුල් එරෙන්නට වූයෙන්, ඒවා නැවත
ඇද ගැනීම ලෙහෙසි නොවිය. ඔහු අත තිබූ හැරමිටිවලින් ද වැඩි
ප්‍රයෝජනයක් නොවූයේ හිම ගොඩේ ඒවා ද එරුණු බැවිනි.

මෙසේ අමාරුවෙන් ගමන් කළ අලෙක්සේයිට උදේ සිට හිරු
මුදුන් වන තෙක් යා හැකි වූයේ අඩි එක් දහස් පන්සියයක් පමණි. හැම
පියවරක් පාසාම ඔහු මහත් පරිශ්‍රමයක් දරන්නට විය. නිතර නිතර හිම
මත වැතිර සිටින අලෙක්සේයි තළල හිම ගොඩක තබාගෙන විඩා හරියි.
ඉන්පසු නැගිට සිට පියවර කීපයක් ඉදිරියට ගොස් නැවත බිම ඇද
වැටෙයි. හැම දෙයක් ම අමතක කොට, අතපය නොසොල්වා මළාක්
මෙන් වැතිර සිටීමට තද ආශාවක් ඔහුට ඇති විය. වෙන දෙයක් වුණාවේ
ඔහු නැගිට සිට ඒ මේ අත වැනි වැනී පියවර කීපයක් ඉදිරියට තැබීය.
එහෙත් ඔහුට කකුල් එසවීමට පවා ශක්තියක් නොතිබිණ.

තවත් දුර යාටම ශක්තියක් නැති බව ඔහුට අවබෝධ විය. දැන්
වාඩිවුණොත් කිසිම බලයකට ඔහු නැවත නැගිට්ට වීමට බැරි බව ඔහු
දුනේ. හේ වටපිට බැලීය. මග අසල ළපටි පයින් ගසක් ඔහුගේ ඇස
හමුවිය. යෙදිය හැකි හැම ශක්තියක්ම යොදමින් ඔහු පයින් ගස වෙත
ගොස් අත්තක් දෑතින් අල්ලාගෙන එහි කරුව මත තිකට තබා ගත්තේ
ඇට බිඳී පිපිරී ඇති දෙපාවල වේදනාව අඩුවූවාක් මෙනි. ඔහු ගස
හේත්තු වී විඩා හරිමින් සතුටු විය. ගස් කරුවකට තිකට තබා ගෙ
අලෙක්සේයිගේ දෙපාවලට දුන් බරක් නොදුනේ. වරෙක ඔහු එක් පය
දිගුකොට මස් ගොබවලට විවේකයක් ලබා දෙයි. පසුව අනික් කකුල
එලෙසම දිග හරියි. දැන් ඔහුට නව අදහසක් පහළ විය.

"මේ ළපටි ගස කපා එහි කරුව මත නිකට තබාගෙන, දෙපාවලට සුලන්නට සිදුවන බරින් ඒවා තරමක් වත් නිදහස් කොට ගමන් කළ ැකිය. මෙසේ ගමන් කිරීම නිසා වේගය අඩු වුවද, එතරම් විඩාපත් නොවනු ඇත. හිම කඳ වනතුරු නැවති සිටීමට මට සිදු නොවේ."

ඔහු දණගසා, ළපටි ගස කපාගෙන අතු සියල්ල කපා දමා, කරුව වටා ලේන්සුවක් ඔතා, ඒ මත නිකට තබාගෙන කරුව සහිත රිට ල්ලාගෙන වරෙක එක් පයක් ඉදිරියට තබා සිරුරේ බර නිකට රැඳි කරුවකට දී, අනික් පය බරෙන් නිදහස් කරමින් සෙමින්, පා තබන්නට ුයේ පියවර මනිමිනි.

8

මේ විදියට ඔහු හිම ගොඩවල් මැදින් දවස් දෙකක් ම ගමන් කරන්නට විය. ඔහුගේ දෙපා සම්පූර්ණයෙන්ම හිරිවැටී ඇති බැවින් වේදනාව නොදැණුනද, සිරුරේ හැම මාංශ පේශියක්ම වේදනාවෙන් තකියන්නට විය. ඔහුට දැන් බඩගිනි නොදැනේ. බඩ සහ බඩවැල් හැකිලීම නිසා ඇති වූ තියුණු වේදනාව දැන් දන්ධ වේදනාවකට හැරී ඇත. ආමාශය හා අභ්‍යන්තර ඉන්ද්‍රියයන් එකට ඇළුණාක් මෙනි

විඩා හරින විට අත ළඟ ඇති ළපටි පයින් ගසකින් පොතු සූරා න්නා අලෙක්සේයි ඒවා ආහාරයට ගත්තේය. බිරියෝසා ගස්වල දලුද, පිපා ගස්වල කොළ සහ දලුද එමෙන්ම ඔහුගේ ආහාර විය. හිම තට්ටු වැනි කොළ පැහැති මොස් පැළ (පාසි වැනි පැළ වර්ගයකි) සමඟ හිම ැටි රත් කොට ගෙන රෑ නින්දට පෙර පානය කළේය. බිල්බෙරි ගස්වලින් කොළ කඩා ගෙන ඒවා වලින් 'තේ' සාදාගෙන බීමට ද ඔහු පුරුදු විය. ණු "තේ' ඔහුගේ සිත කය දෙකටම උණුසුම ගෙන දුන් නිසාදෝ කුස පුරා ආහාර ගත් සැටියක් ඔහුට දනිණ. උණු තේ සහ දුම් ගඳ සහිත මොස් පානය නිසා ඔහු සන්සුන් විය. අවසානයක් නැති බිය ජනක ගමන නිසා ඔහු බිය නොවීය.

හයවැනි රැයෙහිදී විශාල අතු සහිත දේවදාර ගසක් යට වාඩි වූ අලෙක්සේයි පසුදා එළිය වැටෙන තුරුම ගිනි තැපිය හැකි ලාටු සහිත පරණ ගස් කොටයක් සොයාගෙන ගිනි මැලයක් සාදා ගත්තේය. තවම ඇඳිරි වැටී නැත. තමාට නොපෙනෙන ලේනෙක් ගසක අත්තක හිඳගෙන

දේවදාර ගෙඩිවල ඇට සපමින් ශබ්ද කරන සැටි අලෙක්සේයිට ඇසි... කුසගින්න නිසා නිතර නිතර ආහාර ගැන සිතන ඔහුට මේ ඇටවල ... බැලීමට සිත්විණ. මද රහිත ඇට සහ නරක් වූ ඇට ලේනා බිමට දැ... අලෙක්සේයි ඇටයක් ගෙන ඝනැති පොත්ත බිඳ බැලීය. ඒ තුළ වූ ඇ... මදය පුංචි පරිප්පු ඇටයක් පමණ වේ. ඔහු එය සපන්නට විය. එහි ... රසය නිසා ඔහු සතුට විය.

ඔහු දේවදාර ඇට කීපයක් සොයාගෙන වියලි කෝටුවලින් ... වසා ගිනි අවුළුවා, ඒවා පුළුස්සන්නට විය. රත් පැහැ ගත් ඇට පුපුරන්... වූ විට, අලෙක්සේයි ඒවායේ මද වෙන් කොට ගෙන කටේ දමා ගනිමි... සපන්නට විය.

තවත් ඇට සොයාගෙන ඒවාද පුළුස්සා ගෙන කෑවේය. ... සුවඳ ඔහුට සිය ළමා විය මතක් කළේය. පුංචි, තදබද කාමරය... මේසයට ඉහළින් ලාම්පුවක් එල්ලා ඇත. හවස් වෙත්ම වෙස්පර්ස් යාච්ඤා... වාරයට සහභාගි වූ අම්මා ගෙදර ආවාය. පෙට්ටගමක තිබූ කඩදා... බෑගයක් ගෙන එහි ඇති දේවදාර ඇට බඳුනකට දමා බැද්දාය. පවුලේ... බාලයා වූ අලෙක්සේයිත් ඔහුගේ වැඩිමහල් සොහොයුරෝ දෙදෙනා... අම්මාත්, ආච්චිත් මේසය වටා වාඩි වී බදින ලද ඇට සපන්නට වූහ. ... උත්සවය පටන් ගැනිමකි.

වනය හඬ නහයි. ගිනි මැලයට හරවා ඇති තම මුහුණ ... පැහැගෙන ඇති නමුදු පිට සුළං පහර නිසා ශීතල වී ඇත. බස්සෙ... අඬයි. නරියෙක් ඈත හූ හඬ නගන සැටි ඇසේ. නිවී යන ගිනිමැල... දෙස කල්පනාකාරී ලෙස බලාගෙන සිටින මිනිසෙකි. ඔහු කුස ගින්නෙ... දෙපා වෙන් වී යන තරමටම ඇට කැඩී පුපුරා යාම නිසා තුවාල ... සිටින හෙකෙම මැරෙන තරමට ම හෙම්බත් වී සිටී. ඉමක් නැති ... වනයේ ඔහු අතරමං වී ඇත. ඔහු ඉදිරියේ ඝන අන්ධකාරයකි. නොදුරු... නුහුරු මගකි. බලාපොරොත්තු රහිත අවදානම් සහ පරීක්ෂණයන් ...

"කමක් නැහැ! මගේ කාරිය ඉටු වෙච්!" යැයි හේ හිටි ... ම කීවේය. දැඩි හිම කුණාටු නිසා පැලී ගොස් ඇති ඔහු ගේ දෙතොල්... මද සිනාවක් මැවී ඇති සැටි ගිනි මැලය නිසා දැකිය හැකියි. ඒ ... සිනාව දුර කල්පනාවක ප්‍රතිඵලයකි.

හිම කුණාටුව පැවති රැයෙහි ඇත පැන නැඟි සටන්වල හඬ මාට ඇසුණේ කොහේ සිටදැයි යන්න අලෙක්සේයි දැනගත්තේ හත්වැනි වසේ දී ය.

පා එසවීමට බැරි තරමටම විඩාපත් වී සිටි අලෙක්සේයි හිම යවෙමින් පවතින මග දිගට ඇදෙමින් නිතර නිතර විඩා හරී.

වන මග වමට හැරෙන වංගුවට පැමිණි හෙතෙම ගල් ගැසුණාක් මෙන් සිට ගත්තේය. මගෙහි ඉතාම පටු තැන දෙපස ළපටි පයින් ගස් ය. තැන ජර්මන් මොටෝ රිය තුනකි. මග හරහා මුලින් කපා හෙලන ලද යෝධ පයින් ගස් දෙකකි. එක් ගසකට හැපී ඇති ජර්මන් යුද්ධ රථය කටයකු මෙනි. එය මලකඩ කා ඇත. ටයර් ගිනිබත් වීම නිසා යකඩ රෝද පමණක් නග්නව පෙනේ. යුද රියේ කුළුණ යෝධමය හත්තක් සේ මෙ වැටී ඇත. රිය අසල එහි පිරිස වූ පැසිස්ට් හටයින් තිදෙනෙකුගේ ළ කඳන්ය. කොළ පැහැති යුද ඇඳුම් වලින් ඔවුන්ගේ සිරුරු වැසිලාය. ස්වල යකඩ තොප්පිය.

පිටුපස වූ රථ දෙකම ගිනිබත් වී ඇත. ඒවා දන් මල බැඳුණු ත් පැහැයකින් වැසිලාය. අවට දිය වී යන හිම ගිනිගත් විට ඇති වූ ම් නිසා කළු පැහැගෙන ඇත. රිය අවටත් අසල අගල් වලත් මග දෙපසත් හිට්ලර් හමුදාවේ සෙබළුන්ගේ මළ කඳන් කීපයකි. ඔවුන් මරණ බියෙන් පළා යන්නට සැරසුණු බවක් පෙනේ. හැම ගසක් පිටුපසින් ම මාරයා ඔවුන් වෙත ළඟා වූ සැටි ඒ ජවනිකාව කියා පායි.

මළ කඳන් වෙත ළං වූ අලෙක්සේයි යුද පිටිය පිරික්සා බලන්නට විය. දිය වෙමින් පවතින හිමවලට අසුවුණු පුස් කෑ පරණ විස්කෝත්තුවක් ඔහුගේ නෙතට ලක්විය. කුරුල්ලන් කොටා ඇති ඒ පරණ විස්කෝත්තුව කටේ දමා ගනිමින් ඔහු දිග හුස්මක් ඇද ගත්තේය. විස්කෝත්තු පුසුඹ නිසා ඔහුට මහත් සතුටක් දැනිණ. විස්කෝත්තුව කැබලි වන සේ සපා කමින් එහි රස විඳීමට ඔහුට සිතුණ ද, ඒ ආශාව මැඩගත් අලෙක්සේයි එය කැලි තුනකට කඩා කැලි දෙකක් කලිසම් සාක්කුවේ දමා ගනිමින්, ඉතිරි කෑල්ල කටේ දමා ගත්තේය. දත් නැති අත දරුවෙකු මෙන් හෙතෙම විස්කෝතු කෑල්ල උරන්නට විය. මේ විධියට ඔහුට බොහෝ වේලාවක් විස්කෝතු රසය විඳීමට පුළුවන් විය.

නැවත ඔහු යුද පිටියට ගොස් පිරික්සා බැලීය. පාටිසාන්වරු
(සැඟ වී යුද්ධ කරන දේශප්‍රේමී භටයෝ) මේ ළඟ සිටිතියි යන හැඟී
ඔහුට ඇති විය. මේ ගස් හා පඳුරු වටා ඇති හිමවල පා සටහ
ඔවුන්ගේ විය යුතුය. ජර්මන් මළ කඳන් අසලින් යමින් ඒ මේ අත බල
ඔහු දනටමත් පාටිසාන්වරුන් දක ඇතැයි ඔහුට සිතේ. දේවදාර ගස
මුදුණක සිට හෝ පඳුරකට මුවා වී හෝ ඔත්තු බලන පාටිසා
භටයෙක් දනටමත් ඔහු දක ඇද්ද? කට වටා බටයක් මෙන් දෑතේ ඇඟි
තබාගත් අලෙක්සේයි මහ හඬින් කෑ ගසන්නට විය.

"ඕ- හෝ- හෝ! පාටිසාන්වරුනි !"

ඔහුගේ හඬ බොහෝ දුර්වල බව දනුණෙන්, ඔහු පුදුමයට පැ
විය. ඔහුගේ කටහඬ නිසා ඇති වූ දෝංකාරය මුල් කටහඬට වඩා වැ
හඬක් නඟන බව ඔහුට දනිණ.

"පාටිසාන්වරුනි! පාටිසාන්වරුනි! ඕ- හෝ" යැයි අලෙක්සේ
වාඩි වී කෑගසන්නට විය. ඔහු අවට කළු පැහැති හිමය, නිහඬ සතු
මළ සිරුරුය.

ඔහුට පිළිතුරු දුන්නේ ඔහුගේ කටහඬේ දෝංකාරය පමණි
ඔහු මහත් උවමනාවෙන් කන් යොමා සිටියේය. පයින් ගස්වල ගිනි
හඬට ඉහළින් "දඩාස්!" "දඩාස්!" වැනි හඬක් ඇසේ. නැතිනම් ඔහු
එවැනි හඬක් ඇසෙන බව සිතෙයි. වරෙක එය පැහැදිලිවද තවත් වරෙ
නොපැහැදිලිව ද ඇසෙන නිසා ඔහු ව්‍යාකූල බවට පත් විය. ඔහුගේ
හඬට පිළිතුරු වශයෙන් නැඟෙන මිතුරු හඬක් ලෙස ඔහු එය පි
ගත්තේය. තමන්ට ඇසෙන ශබ්දය අවිශ්වාස කළ හෙතෙම බෙල්ල දි
කර ගෙන කන් යොමා අසාගෙන සිටියේය.

නැත. ඔහුට වැරදී නැත. නැඟෙනහිර සිට හමන සුළං කා
තුවක්කු සටනක පැහැදිලි හඬක් ගෙන ආවේය.

"සත්තකින්ම ඔව් !" එය බිය ජනක කාලතුවක්කු සටනක
හඬකි. හඬ අනුව නම් යුද පෙරමුණ කිලෝමීටර දහයකට වඩා
නැත. එහි මහා සටනක් ඇවිල ඇත. එක් පැත්තක් මරු පහරක්
ඇත. අනික් පැත්ත මාරාන්තික ලෙස ආරක්ෂක සටනක යෙදෙ
අලෙක්සේයිගේ දෙකොපුල් දිගේ සතුටු කඳුළු වැගිරිණි.

ඔහු නැගෙනහිර දෙස බලන්නට විය. ඔහු වාඩි වී සිටින තැනින් හැරෙන මග හිමෙන් පිරී විරුද්ධ පැත්ත දක්වා වැටී ඇත. පාර්ටිසාන් වරුන්ගේ පා සටහන් ඇත්තේ ද ඒ මග ඔස්සේය. වනයේ වීරයන් වාසය කරන්නේ ඒ මග වැටී ඇති වන මැදය.

අලෙක්සෙයි මුමුණුවේය. "කමක් නැහැ සහෝදරවරුනි! හැම දෙයක්ම නිසි පරිදි කෙරේවි." කරුව සහිත රිට දකින් ගෙන තිකට කරුවට තබා මහත් ධෛර්යයකින් යුතුව ඔහු ගමන් ඇරඹීය. කරුව සමග එක් පයක් ඉදිරියට තබා අනික් පයට විවේකයක් ලබා දෙන ඔහු නැවත කරුව සහිත රිට සමග අනික් පය ඉදිරියට තබයි. ගමන අසීරුය. එහෙත් ඔහු නොසැලී ඉදිරියටම ගියේය.

## 10

එදින ඔහුට අඩි එකසිය පණහක දුරක් වත් යා ගත නොහැකි විය. අඳුර නිසා ඔහුට නැවතීමට සිදු විය. නැවතත් පැරණි ගස් කොටයකට ළං වී වියලි අතු සහ දර කෝටු සොයාගෙන ගොඩ ගසා සිගරට් ලයිටරය ගෙන ගිනිගල කරකැවීය. ලයිටරයේ පැට්රල් නැති නිසා පාන්කඩය වේලිලාය. ඔහු කීප වරක්ම ගිනිගල මැද්දේය. එහෙත් ගිනි ඇවිළෙ නැත. ඇඳිරි පැතිරිණ. ගිනිගල අතුල්ලන විට කුඩා ගිනි පුපුරක් ඇති නැති වී යයි. ගිනිගල ගෙවී යන තුරු ඔහු අතුල්ලන්නට වුවද, ගි මැලයක් අවුළුවා ගැනීමට ඔහුට බැරි විය.

අඳුරේ බඩගාමින් සෙමෙම ළපටි පයින් ගස් පඳුරක් වෙත ගො වාඩි වී පළමුවැනි දවසේ දී මෙන් දැත් දණහිස් වටා යවමින් මුහුණ මත තබාගෙන, නිහඬ වනය වෙත කන් යොමන්නට විය. එදින රැයෙ ඔහු බලාපොරොත්තු සුන් වූ තත්වයකට වැටීමට ඉඩ තිබුණ ද, වන නිහඬතාවය බිඳගෙන නැග එන කාලතුවක්කු හඬ එයට ඉඩ නොතැ දුන් පෙරට වඩා පැහැදිලිව වෙඩි හඬ ඇසේ. පුපුරන ෂෙල් වෙඩි හ ා කාලතුවක්කු වෙඩි හඬෙහි වෙනස පවා ඔහුට දැනෙන බවකි.

ඔහු උද්‍යසන අවදි වූයේ විස්තර නොකළ හැකි අනතුරු හැඟීම ා කණගාටුවකින් යුතුවය. "මා දුටු සිහිනය කුමක්ද? එය අසුබ ලකුණ ඔහු තමාගෙන් ප්‍රශ්න කළේය. සිගරට් ලයිටරය ගැන ඔහුට මතක

එහෙත් හිරු රැස් නිසා අවට හැම දෙයක්ම උණුසුම් වී ඇත. හිම ද, පයින් ගස්වල අතු අගද හිරු රැස්වලින් බබලයි. මේ සියල්ල ... තම අවාසනාව ගැන ඔහු එතරම් බරපතල ලෙස නොසිතුවේය. ... අසතුටුදායක දෙයක් සිදු වී ඇත. හිරි වැටී ඇති දෑත් දිග හැර ... සිටින්නට තැත් කළ නමුදු ඔහු අසමත් විය. කීප වරක්ම ... සිටින්නට තැත් කළ විට ඔහුගේ රිට දෙකට කැඩුණෙන්, ඔහු මල් ... මෙන් බිම වැටිණ. ඉදිමී තිබෙන දෙපාවලට විවේක දීම් වස් ... උඩුබැලි අතට වැතිර ගත්තේය. උසැති පයින් ගස්වලට ඉහළින් ... පැහැති අහසය. රන් තරු සහිත සුදු වළාකුළු පාවෙයි. දෙපාවලින් ... නගින වේදනාවට සමාන වේදනාවක් දුන් මුළු සිරුරෙන්ම දැනේ. ... දුරටත් එය ඉවසා සිටිය නොහැකිය. පයින් ගසක් බදාගෙන නැ... වරක් ඔහු නැගී සිටීමට වැර දැරිය. ඒ වර ඔහු ජයගත්තද, දෙපා ... වෙතට ඇද ගැනීමට තැත් කරත්ම, බෙලහීනත්වය නිසා බිම ඇද වැටුණේ... දෙපාවල වේදනාව තව තවත් තියුණු විය.

මෙය මගේ අවසානයද? මේ ගස් යට මා අවසන් හුස්ම හෙ... යුතුද?, මගේ ඇටකටු පවා මිනිස් ඇසට හමු නොවනු ඇත. වන ස... මගේ සිරුර කා දමත්ද? අබල දුබල ඔහුගේ ගත මහ පොළොව ... සිප ගනී. ඈත ඇවිල ඇති සටන්වල හඬ ඔහුට නැවත ඇසිණි. ඔහු... සොහොයුරෝ සතුරාට එදිරිව මහ සටන් කරති. මේ අවසාන කිලෝමී... අට හෝ දහය යාමට තරම් ශක්තියක් ඔහුට නැද්ද?

කාලකුවක්කු වෙඩි හඬ ඔහුට නව පණක් ලබා දුන්නේය. ඔහුට අඬගසන්නට විය. ඔහු එම හඬට පිළිතුරු දුන්නේය. ඔහු ... මෙන් හතර ගාතෙන් යන්නට වූයේ ඉවෙන් මෙනි. වනය හරහා ... විදියට යාම රිටිවල ආධාරයෙන් ගමන් කිරීමට වඩා පහසු බව ... අවබෝධ විය. පාවලට බරක් නැති නිසා වේදනාව ද මඳක් අඩු වී ... හතර ගාතෙන් යාම නිසා ගමන් වේගය ද වැඩි වී ඇත. ප්‍රීතිය ... ඔහුගේ උගුරේ යමක් හිරවුණාක් මෙනි. මේ අරුම පුදුම ගමන ... බලාපොරොත්තු සුන් වූ කෙනෙකු දිරි ගැන්වීමට මෙන් හෙතෙම ... තනා කතා කළේය.

"කමක් නැහැ උන්නැහෙ. හැම දෙයක්ම සාර්ථක වේවි!"

මෙසේ හතර ගාතෙන් යාම නිසා අලෙක්සේයිගේ අතුල් ... අත්වල ඇඟිලි හිරි වැටිණ. දෑත් කිහිලි ගත්වා ගනිමින් උණුසුම් ක...

හෙතෙම ගසක පිට පොතු දෙකක් ගලවා ගත්තේය. ඇඟිලි
කරගනිමින් බර්ච් ගසකින් දිග පට්ටා කීපයක් ඉරා ගත්තේය. පිට
දෙක අතුල්වලට තබා දෙපා ඔතා ඇති ප්ලැනල් රෙද්දෙන් කෑ
ඉරාගෙන එය අතුල්වලට තබා, ඉන්පසු දිගැති පට්ටා තබා
පටිවලින් බැඳ ගත්තේය. දකුණු අත්ල වසා ගත් පට්ටා හොඳට ගක්
බැඳ ගන්නට ඔහුට පුළුවන් විය. වම් අත්ල වටා වෙලුම් පටි එතීම
හා අත්වලින් කළේය. දැන් අලෙක්සේයිගේ දෑත් අත්වැසුම්වලින්
ඇත. ගමන වඩාත් ලෙහෙසි විය. වේගවත් විය. ඊළඟ විඩා
ස්ථානයට පැමිණි පසු ඔහු දණහිස්වලටද එවැනිම "සපත්තු" ඇත

දහවල් වන විට අලෙක්සේයිට සැහෙන දුරක් යාමට හැකි
මෙසේ ඔහු සටන් ඇවිල ඇති පෙදෙස දක්වා යන්නේ වෙඩි
පැහැදිලිව ඇසෙන නිසාද, නැතිනම් ශ්‍රවණ මායාවක් නිසාද යන්න
නොහැකි වුවද, වෙඩි හඬ වඩාත් ළංව, වඩාත් පැහැදිලිව ඇසේ.
රශ්නය දහනුණෙන් නියමු කබායේ 'පිජ්' පටිය ගලවා දම්මේය.

පෙඳ පාසි සහිත මඩ ගොහොරුවක් මැදින් මෙසේ හතර ගා
යද්දී ඔහුට තවත් වටිනා වස්තුවක් ලැබිණ. පෙඳ පාසි හා කුඩා
අතරින් ළපටි කොළ සහිත රත් පැහැති ක්‍රේන්බෙරි නම් වූ පලු ව
වැවී තිබෙන සැටි ඔහු දිටිය. හිස පහත්කොට පැලැටිවලට කට ළං
ගත් අලෙක්සේයි දෙතොල්වලින් බෙරි කඩා ගෙන කන්නට විය.

ප්‍රණීත රසය ඇති ක්‍රේන් බෙරි දින කීපයකට පසු ඔහුට
ප්‍රධාන ආහාරය විය. ඒවා නිසා ඔහුගේ ආමාශය හැකිළී වේදන
ගෙන දුන්නද, එය පහවන තුරු නැවතී සිටීමට ඔහුට වෙලාවක්
ඔහු වලසකු මෙන් බෙරි පඳුරුවල ඉඳුණු හා අමු බෙරි කටින් කඩා
කන්නට විය. තම පාවහන්වල හිම දිය වී වතුර බවට පත් වී ඇ
හෝ පාවල වේදනාව ගැන හෝ නොසැලකූ අලෙක්සේයි විඩාපත්
නොතකමින් බෙරි ගෙඩි කෑවේය. දිවට පැණි රසක් දනෙයි. බඩ
නිසා සතුටක් දනෙයි.

ඔහුට ඔක්කාරය දනුණ ද බෙරි කෑම නැවැත්වීමට ඔහුට
නොවිය. තම අත්වැසුම් ගලවා දමූ අලෙක්සේයි ටින් බඳුන පුරවා
එකතු කරගෙන පසුව, හිස් වැස්ම පිරෙන තුරු එහිදී බෙරි ගෙඩි
එය ඉණ වටා බැඳ ගත්තේය. සිරුර පුරා විහිද යන දුබල බව
ගනිමින් ඔහු නැවත දණ ගාන්නට විය.

එදින රැය ගත කිරීම පිණිස අලෙක්සේයි දේවදාර ගසක් 
විය. ඔහු බෙරි ගෙඩි සහ දේවදාර ඇටවල මද කෑවේය. නිදාගැ
සැරසුණද රෑ මුරකරුවකු මෙන් ඔහු පරීක්ෂාකාරී විය. කිසිවෙක් 
තමා වෙතට බඩගාමින් එන සැටියක් අලෙක්සේයිට දැනේ. ඔහු දෙ
ඇරගෙන, ඇස්ගෙඩි දොට්ට පනින තුරු මහත් කරගෙන වටපිට බ
පිස්තෝලය අතට ගෙන වෙඩි තැබීමට සූදානම් කරගත්තේය. දේ
ඇටයක් බිමට වැටෙන හඬක් ඇසිණ. දහවල් හිරු රැස් නිසා දි
දිය හිම නැවත කැටි ගැසී අයිස් බවට පත් විය. කුඩා දිය පාරව
රාත්‍රී ශීතල විසින් අයිස් බවට පෙරළන ලදී.

එළිය වැටෙන්නට ඔන්න මෙන්න කියා තිබියදී ඔහුට නි
ගියේය. ඔහු අවදි වූයේ හිරු රැස්වලින් ගස් අවට ආලෝක වූ පසු
තමා නිදාගත් ගස වටේ හිවලකුගේ පා සටහන් ද, උගේ වලිගය හි
ඇවුණු සටහන් ද දැකිය හැකිය.

හිවලා තමා වටේ යමින් ලැග සිටි බවක් කියන සලකු
පෙනේ. "මගේ නින්දට බාධා කළේ ඌ තමා!" යැයි හෙතෙම තමා
කියා ගත්තේය. මිනිසකුගේ මරණය ළං වන විට හිවලාට එය ඉව
මෙන් දැනෙන නිසා ඌ මිය යන මිනිසා පසුපස ගමන් කරන බ
දඩයක්කාරයෝ කියති. අලෙක්සේයිට මේ කතාව මතක් වූ බැවින් 
කලබල විය. බිය සුලු හිවලා තමා පිටුපසින් එන්නේ තමාගේ මරණ
ළං වූ නිසාද...?'

අලෙක්සේයි පරීක්ෂාකාරී විය. නැගෙනහිරින් ඇසුණු කාල තුව
හඬ සමග ඔහුට මැඩින් තුවක්කු හඬක් ද ඇසිණි.

විඩාපත් ගතිය අමතක කර දමා හිවලාගේ තර්ජනය ද අමතක
කොට හෙතෙම නැවත ඉදිරියට බඩ ගා යන්නට විය.

## 11

මේ විදියට අලෙක්සේයි තව දෙතුන් දිනක්ම දණ ගාමින් යන්
ය. දැන් ඔහුට කාලය හා වේලාව අමතක වී ඇත. හැම දෙයක් 
කට මුසු වී අවිච්ඡින්න පරිශ්‍රමයකට පරිවර්තනය වී ඇත. සමහර 
හු අභිබවා නින්ද ජයගනී. තවත් විටෙක විස්මෘතිය ජයගනී. සම

ට දණගාන අතරම ඔහුට ඉබේටම නින්ද යයි. එහෙත් නැගෙනහිර ැසට යාමට ඔහු තුළ ඇති අධිෂ්ඨානය කොතරම්ද යත්, එවැනි ත්ත්වයක පසු වෙද්දී පවා දිගටම දණගාමින් ඉදිරියටම ගියේය. ශසක ගේ, එසේත් නැතිනම් අතක් ලිස්සා තමාගේ මුහුණ හිම ගොඩක් ස්පර්ශ ළ විට හෝ පමණක් අලෙක්සේයි නැවතුණේය. එකම අරමුණක් මත හුගේ හැම අවධානයක්ම රැඳී ඇත. ඔහු දණ ගාමින් බඩගාමින් දිරියටම ඇදුණේය.

ඔහුගේ ආහාරය බෙරි වර්ග හා කුඩා ළපටි පැළෑටි විය. වරෙක හු දිමි තුඹසක් දුටුවේය. වැස්සට තෙමී සේදී ගිය පිදුරු ගොඩකට ැඩයෙන් සමාන වූ මේ තුඹසට ළං වූ අලෙක්සේයි අතක් දැමීය. දිමියෝ ම නින්දෙන් පසුවෙති. උන් මළාක් මෙනි. එහෙත් ඔහු දිමියන් මිටක් නිත්ම, ඔළුහු ඔහුගේ හම සපත්නට වූහ. තොල කට වේලී ඇති සාදේ ඔහු දිමියන් කටේ දමා ගනිමින් සපා කන්නට විය. උන් ැපෙන විට පිටවන පෝමික් අම්ලය ඔහුට රසයක් විය. ඔහු මහත් ශාවෙන් දිමියන් අහුරු පිටින් ගෙන කටේ දමා ගනිමින් කැවේය. ඹස තුළ උන් දිමියන් මේ අවදානම නිසා අවදිවන තුරුම ඔහු දිමියන් හුරු පිටින් ගෙන කන්නට විය.

දිමියෝ තම ආත්මාරක්‍ෂාව සඳහා අභීත ලෙස සටන් කළහ. උහු හුගේ අත ද කටද තොල් ද විදිමින් සපත්නට වූහ. සමහර එවුන් අහස් යමු ඇඳුමට යටින් රිංගා ගොස් පසුව, පිට හා ඉහටිය සැපූහ. උන්ගේ පා කෑම නිසා ඇති වූ වේදනාව ඔහුට එක්තරා සතුටක් ගෙන න්නේය. පෝමික් අම්ලය ඔහුට අමෘතයක් මෙනි. හුඹහ අසල වතුර පිරි ළක් දුක එතැනින් වතුර බීමට ඔහු බෙල්ල දිගු කළා පමණකි. බියජනක හුණක් ඔහු දෙස එබී බලන සැටි ඔහුට පෙනිණ. පසුතලයෙහි පැහැදිලි ල්වන් අහසය. එය මුහුණක් නොව ඇට සැකිල්ලකි. හකු ඇට පැදී ැති එහි නිකට වසා ඇති යටි රැවුල කිලිටිය. දෙකොපුල් වසා ඇති රැ එ ගස් කැරලි ගැසිලාය. විශාල, වටකුරු ඇස් පැහැදිලිව බබලයි. ළල වසා ගත් කෙස් රොදවල් කැටි ගැසී ඇත.

"ඇත්තටම ඒ මම" දයි ප්‍රශ්න කළ අලෙක්සේයි නැවත තම හුණ බැලීමට බිය වුයෙන් වතුර බීම නවත්වා දණගාමින් වතුර වළෙන් වත් වී හිම අහුරක් කටේ දමා ගනිමින් නැගෙනහිර බලා ගියේය.

රැය ගත කිරීම සඳහා ඔහු තෝරා ගත්තේ බෝම්බ කවරයකි.

එය පිපිරෙන විට කහ පැහැති පස් සහිත වළක් ඇති කළේය. වළ
පස් සහිත බෝම්බ කවරය හොඳ තැනක් බව ඔහුට පෙනිණ. මෙත
කුණාටු නොහමයි. අලුත් සයනයේ සිට අහස දෙස බලන විට,
වඩාත් ලෙකුවට තම හිසට ඉහලින් බැබලෙන සැටි පෙනේ. පයින්
අත්තක් ඒ මේ අත වැනෙන විට බැබලෙන තරු රෙදි කඩකින් පිස
සැටියක් පෙනෙයි. මෙසේ පිස දැමීම නිසා තරු වඩාත් දීප්තිමත්ව බැ
සුළං හමන දිසාව වෙනස් විය. උතුරු දිගින් ශීත සුළං හමන්නට
පිනි බිඳු අයිස් කැට බවට පෙරළිණි.

පසුදා අලෙක්සේයි අවදි වූයේ වඩාත් දුබල ගතියකිනි.
ආහාරය සඳහා දේවදාර ගසක පොත්තක් සූදානම් කරගෙන තිබු
එය කෑමට පවා රුචියක් නැතිය. ඔහු මහ පොළොවට ඇලුනාක්
මහත් ආයාසයකින් නැඟී සිටි අලෙක්සේයි හිම කැටිවලින් තම අ
සහ රැවුල පිරිසිදු කිරීම පවා අමතක කොට රාත්‍රී යහනෙන් පිටවී
උත්සාහ දැරිය. පුනිලයක් වැනි ඒ බෝම්බ කවරයෙන් ගොඩ ඒම ලෙ
නැත. කීප වරක් ම ඔහු උත්සාහ ගත් නමුදු කවරයේ පතුලට ලි
වැටිණි. පිට කෙනෙකුගේ ආධාරය නැතිව මෙතැනින් ගොඩ වීමට
බව වටහා ගත් අලෙක්සේයි බිය විය. ඔහු නැවත වරක් ඉහළට
ගැවේය. අඩි දෙක තුනක් ගිය පසු නැවත ලිස්සා පතුලට ඇද වැටි
ශක්තිය සිඳී ගොස් තමා බලාපොරොත්තු රහිත තත්වයකට මූණ
සිටින බව ඔහුට අවබෝධ විය.

මේ අවසානයයි. දැන් ඉතින් මොනවා වුණත් කමක් නෑ.!"

බෝම්බ කවරයේ පතුලේ ගුලි ගැසී සිටි අලෙක්සේයි ගේ
අඩපණ කොට අධිෂ්ඨාන ශක්තිය ක්‍රියා විරහිත කළේ ඒ බියජ
හැඟීම් විසිනි. උදාසීන ලෙස සාක්කුවකින් ලියුම් කීපයක් ඇද ගෙ
ඒවා කියවීමට තරම් ශක්තියක් ඔහුට නැත. සෙලොපේන් කඩදාසි
ඔතා තිබුණු ඡායා රූපයක් ගෙන බලන්නට විය. මල් පිපී ඇති
බිමක වාඩි වී සිටින තරුණිය පලාවන් ගවොමකින් සැරසී සිටින්
බැරෑරුම් ලෙස හා දුක්මුසු මඳ සිනාවකින් මුව සරසා ගෙන ඡායාරූ
තරුණියකගෙන් මෙසේ ප්‍රශ්න කළේය.

"මෙය අපේ අවසාන සමුගැනීමද?" දිග සුසුමක් හෙළූ අලෙක්
ගල් රුවක් මෙන් ක්‍රියා විරහිත විය. තමාට සුපුරුදු හඬක් ඇත අ
ඇසෙන බව ඔහුට දැනේ. ශීත සුළං අතරින්, මහ වනයට ඉහළින් එම

කිර යයි.

නින්දෙන් පිබිදුණු කලක මෙන් ඔහු තිගැස්සී අවදි විය. අමුත්තක් ති එම ශබ්දය නොපැහැදිලිය. තියුණු ශ්‍රවණයක් ඇති වන සතුන්ට ා එම ශබ්දය හා ගස්වල අතු ගැටෙන ශබ්දය අතර වෙනස දැන නීමට බැරි තරම්ය. එහෙත් ඉන් පැන නැගුණු නළා හඬකට සමාන ්දයක් නිසා එය "ඉල් - 16 " වර්ගයට අයත් අහස් යානයක් බව ලෙක්සේයි ස්ථිර ලෙසම දැන ගත්තේය.

දුන් අහස් යානයේ එන්ජින් හඬ වඩාත් පැහැදිලිය. වරෙක නළා ඩක් පිටවෙයි. තවත් වරෙක එය කෙඳිරි ගාන්නාක් මෙන් හඬක් කරයි. අළු පැහැති අහසේ දුන් අහස් යාන පැහැදිලි ලෙස දැකිය හැකි ච් කුරුසියකට සමාන එම අහස් යානය වලාකුළකට වැසී යන සැටි ලෙක්සේයි දුටුවේය. දුන් අහස් යානයේ පියාපත්වල රතු තරු සහිත වහන ඔහුට පැහැදිලිව පෙනෙයි. අහස් යානය වටයක් කැරකී ඉහළ ැහ කවාකාර හැඩයකට පියාඹා නොපෙනී ගියේය. එහි ඇන්ජින් හඬ එම තමාට ඇසෙන බව ඇලෙක්සේයිට සිතේ.

තමා එම අහස් යානය පදවන සැටි සිතින් මවාගත් අලෙක්සේයි. හිසකු සිගරැට්ටුවක් දල්වා ගැනීමට යන කාලයට වඩා අඩු වේලාවක් ළදී තමාට අහස් තොටුපළ දක්වා යානය පැදවිය හැකි බව සිහි ළේය. ඒ යානයේ නියමුවා කවුද? උදේ මුර සංචාරයක යෙදෙන අන්ද්‍රෙයි ඩග්ටෙරෙන්කෝ විය හැකිය. එවැනි ගමන්වලදී ඔහු අහස් යානය හළට නංවන්නේ සතුරු යානා දකින අටියෙනි. ඩෙග්ටෙරෙන්කෝ... හස් යානාව..... නියමු සගයෝ.........

මෙවැනි හැඟීම් නිසා ඔහුට අමුතු ශක්තියක් දැනිණ. තම ඉහටියේ ්ලා තිබුණු කිනිස්ස ගෙන පුනේලයක් වැනි බෝම්බ කුහරය වටා වැසී ති හිම කැට සහිත අයිස් කට්ටුව අතරින් පතර හාරා කුඩා වළවල් ුදිය. අයිස් කට්ටුවට යටින් ඇති ශීතල වැලි ඇට ඇඟිලිවලින් පුරා ම්මේය. ගත දුබල නිසා මෙය කිරීම අසීරු විය. ඔහුගේ ඇඟිලි තුවාල ලේ ගලන්නට විය. පඩි පෙළකට මදක් සමාන මේ වළවල්වලට අත් ා දණහිස් තබා ගනිමින් ඔහු දණ ගාමින් ඉහළ නැංගේය. කුහරයේ ෂල් කට ළඟටම බඩගාමින් ආ අලෙක්සේයි ඉන් පිටවීමට තරම් ළං විය. වාසනාවකි. ඔහුගේ පය ලිස්සා ගියෙන් නැවත පතුලට ඇද වැටිණ. හුණ ද අත් පාද තුවාල විය. එහෙත් අහස් යානාවේ හඬ ඔහු දෙකන්

තුළ තවම පවතී. පළමුවර හැරූ වලවල් නැවත පිරික්සා බැලූ හො ඒවා ගැඹුරට හාරන්නට විය. අත් පා ලිස්සා නොයන සේ පඩිවල ගැ තියුණු කළේය. මෙසේ කළ පසු කෙමෙන් බෙලහීන වී යමින් සිටි ඇ නැවත සුපරීක්ෂාකාරී ලෙස ඉහළට දණ ගාන්නට විය.

පුනේලයක් වැනි ඒ බෝම්බ කුහරයෙන් පිටතට දණගාමින් ගි අලෙක්සේයි බෙලහීන වූයේ මහ පොළොව මත වැතිර ගත්තේය. ඉන්ප ඔහු අහස් යානය ගිය දෙසට දණගාන්නට විය. දන් ඉර මුදුන් වී ඇ ඉකුත් රැයෙහිදී අයිස් බවට පෙරළුණු දිය හිරු රැස් නිසා දීප්තිමත් බැබලේ.

12

දණ ගා යාම පවා දන් අපහසුය. දැත්වලට සිරුරේ බ උසුලාගැනීමට නොහැකි වූයෙන් ඒවා වෙව්ලන්නට විය. දියවී යන හි තට්ටුවලට ඔහුගේ මුහුණ කීපවරක්ම හැප්පිණ. පෘථිවියේ ගුරුත්වාකර්ෂණ බලය තිප ගුණයකින් වැඩි වූ සැටියකි. එම බලයට එදිරිව නැගී සිටීමට බැරිය. පැය භාගයක් වත් විවේක ගැනීමට ඔහුට සිතිණ. එහෙත් ඇ හැකිතරම් දුර බඩගාමින් හෝ යා යුතුය. ඔහු බඩගාන්නට විය. දන් ඔහුට බඩගින්න විඩාව නොදනේ. කිසිවක් නොපෙනේ. කාලතුවක්කුවල වෙඩි හඬ හැර අන් කිසි හඬක් නොඇසේ.

දැතේ ශක්තිය සිඳී ගිය පසු ඔහු වැළමිටිවලින් යන්නට පටන් ගත්තේය. එය පහසු නොවීය. ඉන්පසු වැළමිටි වාරුවෙන් පැත්තෙන් පැත්තට පෙරළෙමින් නැගෙනහිර දෙසට ඇදෙන්නට විය. මෙය පහසු විය. එමෙන්ම එතරම් ශක්තියක් ද අවශ්‍ය නැත. එහෙත් මේ ගමන් විලාසය නිසා ඔහුට ක්ලාන්ත ගතියක් දනෙන්නට විය. වරින් වර සිහිසන් නැති විය. වනයත්, ගස් හා අහසත් කැරකැවෙන සැටියක් දනුණු විට, ඔහු වාඩි වී ප්‍රකෘති තත්ත්වය එන තුරු විඩා හැරියේය.

සෝවියට් කඳවුරට යාමට තමාට හැකිවේද යන්න ගැන නොසිතූ අලෙක්සේයි පණ ඇති තාක් නැගෙනහිරට යාමට දැඩි ලෙස තීරණය කර ගත්තේය. බෙලහීනව ඇති ඔහුට සිහිසන් නැති වූ විට පවා ඔහුගේ අත් පා සහ ඉන්ද්‍රියයන් ඉබේ ක්‍රියාකරන යන්ත්‍රයක් මෙන්, කාලතුවක්කු හඬ නැගෙන නැගෙනහිර දෙසට පෙරළෙන්නට විය.

එදින රෑ කොහේ ගත කළේද, පසුදා උදෑසන බඩ ගා ගියෙ
යන්න ගැන අලෙක්සේයිට මතක නැත. ඔහු දුන් අඩ සිහියෙන් පසුවෙ
මග ඉදිරියේ ඇති බාධක පමණක් ඔහුට පෙනේ. තමා ඉදිරියේ ඇ
රත්වන් පයින් කඳක් ද, ඉන් වහනය වන මී පැණි පාටට හුරු ලා
වගයක් ද, ගස් කොටන් කීපයක් ද, වයස මේ යැයි පෙන්වන කවය
සහිත ගස් කොටයක්ද ඔහු ඉදිරියේ ඇත.

අමුතු ශබ්දයක් නිසා ඔහුට ප්‍රකෘති සිහිය ලැබිණි. වාඩිවු
හෙතෙම වටපිට බලන්නට විය. එළි කරන ලද කැලෑ බිමකට තම
පැමිණ සිටින බව අලෙක්සේයිට දැනිණ. ගස් කපා බිම හෙළා ඇ
සමහර ගස්වල අතු කපා ශුද්ධ කොට ඇති අතර සමහර ගස් මුලි
කපා වූ සැටියේම ඇත.

තමා වෙත මහ අවදානමක් එල්ල වී ඇති බව අලෙක්සේයි
වැටහිණ. ඔහු ඉතා ඕනෑකමින් වනය පිරික්සන්නට විය. යම්කිසි මිනිසු
කොටසක් විසින් මේ වනය කපා ඇති බව ඔහු නිගමනය කළේය. 
ගස් ආරක්ෂක පවුරු සහ නිරීක්ෂණ ස්ථාන සෑදීම සඳහා හිට්ලර්ගෙ
භටයෝ පාවිච්චියට ගනිත් ද, එසේ නම් වහාම මෙතැනින් පිටවි
යුතුය. ගස් කපන්නන් දුන් එනු ඇත. එහෙත් ඔහුගේ සිරුර ගල් ගැ
ඇත. අත පය සොලවන්නට පවා නොහැකිය. බඩ ගා යාමට පව
ශක්තියක් නැත.

දිගටම බඩගාන්නට ද? තමා වනයේ ගත කළ ජීවිතය නිස
ඉවක් දියුණු කර ගත් අලෙක්සේයි සුපරීක්ෂාකාරී විය. යම්කිසිවෙක් ඔ
දෙස බලා සිටින බව ඔහු නොදුටුවද, ඔහුට ඉවෙන් මෙන් දැනේ. තම
නිරීක්ෂණයට භාජන වී ඇති බව අලෙක්සේයිගේ හැම මාංශ පේශියකට
දැනේ.

ගසක අත්තක් කැඩිණ. සුළං පහරට ළපටි පයින් ගස්වල අ
සෙලවිණ. එහෙත් සමහර අතු අනිත් අතු මෙන් නොව ඊට විරුද්
පැත්තට, එනම් අස්වාභාවික ලෙස සෙලවෙන බව අලෙක්සේයි දුටුවේ
පඳුරුවලට මුවා වී සිටින යම්කිසිවකු මිනිස් හඬකින් කොඳුරන බ
ඔහුට ඇසිණ.

නියමු කබායෙන් වහාම හෙතෙම පිස්තෝලය අතට ගත්තේ
යකඩ මල කා තිබුණු පිස්තෝලයේ කොකා මාතා ගැනීමට ඔහු

ැතින්ම එය ඔබන්නට සිදු විය. 'ක්ලික්' යන හඬින් පිස්තෝල කාකා මාතා ගනිත්ම, පඳුරුවල සැඟ වී සිටි කිසිවකු බිය වූ හඬ ඇසිණ. ගස්වල මුදුන් සෙලවෙන්නට විය. නැවත පෙර මෙ නිසලතාවයකි.

"මිතිසෙක්ද? සතෙක්ද?" යන පැනය අලෙක්සේයි තමාගෙ ඇසීය. එවිටම වාගේ පඳුරු අස්සේ සිටි යමෙක් 'මිතිහෙක්ද?' ප්‍රශ්නය අසන හඬ අලෙක්සේයිට ඇසිණි. කිසිවෙක් රුසියන් බසින් ක කරන හඬ ඔහුට ඇසුණේද? නැතිනම් එය ඔහුගේ සිහි විකල වීම ඔහුට රුසියන් බසින් කතා කරනවා ඇසුණු නිසා ඔහු ප්‍රීතියෙන් උ විය. ඔහු දෙස සැඟ වී බලා සිටින්නේ මිතුරෙක්ද හතුරෙක්ද ය සොයා නොබැලූ අලෙක්සේයි ජයග්‍රාහී හඬක් නගා දෙපා බිම ග නැගිට සිටියේය. හඬ ඇසුණු දෙසට ගමන් කරත්ම ඔහු සිහිසන් නැ ඇද වැටුණේය. ඔහුගේ පිස්තෝලය ද බිම වැටිණි....

## 13

නැගිට සිටීමට තැත්කිරීම නිසා අලෙක්සේයිගේ සිහි නැ ගියෙන්, ඔහු නැවත ඇද වැටුණේය. එහෙත් තමා අවදානමකට මූණ සිටින බව දන්නා නිසාදෝ අලෙක්සේයිට නැවත ප්‍රකෘති සිහිය ලැබි

දෑත බිම ගසා හිස ඔසවා ගත් හෙතෙම පිස්තෝලය අතට ගෙ සැඟ වී සිටින අයට නොපෙනෙන සේ එය තබාගෙන වටපිට බැ අවදානම නිසා පැහැදිලි ලෙස අවට තත්ත්වය අවබෝධ කර ගැනී ඔහුට හැකි විය. පැසිස්ට් ජර්මනුන් විසින් කැලෑ හෙළි කිරීමට යොද ලද රුසියන් යුද්ධ සිරකරුවන් විය හැකිද? ජර්මන් සේනාවලට මැ සොවියට් හටයින්, ඔහු මෙන් යුද පෙරමුණට යාමට තැත් කිරීම සමහර විට අවට ගමක ගොවියකු විය හැකිද? "මිතිහෙක්!" යැයි රුසි බසින් යමකු කියන සැටි ඔහුට පැහැදිලි ලෙසම ඇසිණි.

එවිටම වාගේ පඳුරු අස්සෙන් ළමා කටහඬක් ප්‍රශ්න කළේ

"ඒයි, උඹ කවුද? ජර්මන් කාරයෙක්ද? ජර්මන් කතා කරන

ඒ පුදුම වචන නිසා අලෙක්සේයි වඩාත් සුපරීක්ෂාකාරී

යෙක් රුසියන් බසින් කතා කරන බව දුන් ඔහුට පැහැදිලිය.

"උඹ මොනවද මෙතන කරන්නේ?" තව ළමා හඬක් ප්‍රශ්න
ළ්ය.

"මම රුසියන් කාරයෙක්. රුසියන් අහස් යානා නියමුවෙක්.
න්නු මගේ අහස යානාවට වෙඩි තැබුවා."

ළමයි ඔහු විශ්වාස නොකළහ. යුද්ධය ඔවුන්ට සුපරීක්ෂාකාරී
ට උගන්වා ඇත. ඇරත් දැන් අලෙක්සේයිට බිය වීමටද හේතුවක්
. තමාගේ අත පය හෝ සිරුර හෝ සෙලවීමට තමාට බැරි බව
ක්සේයිට වැටහිණි. මීට පෙර කිසිම දවසක ඔහු මෙතරම් දුර්වල
වීය. ආත්මාරක්ෂාව සඳහා සටන් කිරීමේ හැකියාවක් ඔහුට දුන්
. ඔහුගේ කළු පැහැති ලොකු ඇස්වලින් කඳුළු කැට කඩා හැළිණි.

"බලපන්! එයා අඬනවා" යැයි පඳුරුවලට මුවා වී සිටි ළමයෙක්
ය.

"ඒයි මොකද තමුසෙ අඬන්නේ?"

"මම රුසියන් අහස් නියමුවෙක්. හතුරෙක් නොවේ."

"මොන අහස් තොටුපළේ ඉඳල ද?"

"උඹල කවුද?"

"තමුසෙට මොටද ඒක? තමුසෙ අහන ප්‍රශ්නෙට පිළිතුරු දෙනව."

"මොන්චාලොව්ස්කි අහස් තොටුපළේ ඉඳල..... මට උදව් වෙයල්ල.
ට වරෙල්ල.....මොන කෙහෙල්මලකටද.....?"

පඳුරු සෙලවිණි. ඔවුන් කතා කරන සැටි අලෙක්සේයිට ඇසේ.

"උඹට ඇහුණ ද?.... එයා මොන්චාලොව්ස්කි අහස් තොටුපළේ
ක්ලු... සමහර විට එයා ඇත්ත කියනවා වෙන්ට පුළුවනි. බලපන්,
අඬනවා..." ඉන්පසු එකෙක් කෑ ගසා මෙසේ කීය. "අහස් නියමුවා,

අතේ තියන පිස්තෝලය විසි කරපන්! නැත්නම් අපි එළියට එ
නැහැ. පැනල දුවනවා!"

අලෙක්සෙයි පිස්තෝලය විසි කළේය. එවිටම පඳුරු දෙකු ගෙන කොල්ලෝ දෙදෙනෙක් එළියට ආහ. අනතුරක සංඥාවක් දුටු වි පියඹා යාමට සූදානම් කුරුල්ලන් දෙදෙනෙකුට සමාන මොවුහු අ අත අල්ලාගෙන නියමුවා වෙතට ආහ.

තාත්තාගේ විශාල හිම සපත්තු දෙකක් පය ලා සිටි වැඩිම කොල්ලා පරෙස්සමින් අලෙක්සෙයි ළඟට විත් ඔහු අසල තිබූ පිස්තෝ ඈතට විසි කළේය.

"හමුදාවේ අහස් නියමුවෙක්ද? බලපත්‍රයක් තියෙනවද? පෙන්වන යට කමිසය තුළ තිබූ අහස් නියමු බලපත්‍රය ගෙන පෙන්වීමට සිදුවිය. තරුව සහිත නිලධාරී බලපත්‍රය දුටු ළමයි දෙදෙනා විස්ම පත්වූහ. ජර්මන් හමුදාව තම පෙදෙස අල්ලා ගැනීම නිසා නැති වී ගි ළමා කාලය තමන් ආදරය කරන සෝවියට් සෙබළකු තමන් ඉදිරි පෙනී සිටින බැවින් නැවත මතු වුණොත් මෙනි.

"මාමේ කොහොමද මෙතරම් කෙට්ටු වුණේ?"

"මෙතන සටන්වලදී පැසිස්ට් කාරයින්ව පරාද කළා. අපේ හමුදා උන්ට හොඳට දුන්නා බැටේ. උන් පැනල දිව්වා. හරිම භයානක සට කෙරුණා."

"උන් බියවෙලා පැනල දිව්වා. එකෙක් නාන බාල්දියක් අස්සයකු කරේ බැඳල. බාල්දිය හැංගිලා අශ්වයාව එළවන්ට වුණා. තුවාල ලබ සතුරො දෙන්නෙක් අස්සයාකුව අල්ල ගත්ත. එකෙක් උගෙ වල්ගෙ එල්ලි අනිකා උගේ පිටේ නැඟිල හරියට මුදලි කෙනෙක් වගෙ. මාමා දැක් නම් ඒ නාටකය... මාමාට වෙඩි තිබ්බෙ කොහොමද?"

[illegible] පසු දෙදෙනා ක්‍රියා කරන්නට වූහ. මෙතැන සි කිලෝමීටර් පහක් ඈත මිනිසුන් පදිංචි වී සිටින බව [illegible] කීහ. [illegible] තුවාල බැවින් අලෙක්සෙයිට [illegible] නොහැකිය. ඇරත්, කොඩැලි හා හිම කඩ උඩින් අලෙක්සෙයි ඇදගෙන යාමට තරම් [illegible]

ඔවුන්ට නැත. වැඩිමහල් සොහොයුරු සිර්යෝන්කා තම මල්ලිට- පේද්යාට කතා කොට, වහාම ගමට දුව ගොස් කරුණු කියා ආධාරයට මිනිසුන් කැඳවාගෙන එන ලෙස කීයේය. තමා තියමුවා ජර්මනුන්ගෙන් ආරක්ෂා කිරීම සඳහා නවතින බව මල්ලිට කිවද, සිර්යෝන්කා පිතින් තියමුවා සැක කළේය. "විශ්වාස කරන්ට බැහැ පැසිස්ට්කාරයෝ මැරුණා වගෙ ඉඳල අපව රවටාවි. උන්ට සෝවියට් බලපත්‍ර වුණත් හොයාගන්ට පුළුවනි." යැයි හේ තමාට ම කියා ගත්තේය. ක්‍රමයෙන් සැක පහව ගියෙන්, සිර්යොන්කා නැවත කතා කරන්ට විය.

පයින් ගස් අත්තක් මත වැතිර හුන් අලෙක්සේයි අඩ නින්දෙන් පසුවෙයි. සිර්යෝන්කාගෙ දෙඩවීම ඔහුට ඇසෙන නෑසෙන තරමය. වචනයක් හෝ දෙකක් හෝ ඔහුට පැහැදිලිව ඇසෙයි. තම මවු බසින් කරන මේ දෙඩවීම අලෙක්සේයිට අමුතු සතුටක් හා සැපතක් ගෙන දුන්නේය. ප්ලව්නි ගමේ වැසියන්ට මුණ පාන්නට වූ ඛේදවාචකය ගැන ඔහුට දැන ගන්නට ලැබුණේ පසුවය.

තැලෑ හා වැව්වලින් පිරි මේ පෙදෙසට ජර්මනුන් පැමිණියේ ඔක්තෝබර් මාසයේදීය. ප්ලව්නි ගම් අවට පෙදෙසේ සටන් නොකෙරිණ. කිලෝමීටර තිහකට පමණ ඈතින් ඇති වූ සටනකදී සෝවියට් සේනාවක් පරාජය කළ පැසිස්ට් ජර්මන් හමුදාවක් ප්ලව්නි අවට ආරක්ෂක පවුරු බිඳ ඉදිරියට ගමන් ගත්තේය. ප්ලව්නි ගම්මානය මහ මගින් ඈත වනයක් හා වැවක් අසල පිහිටි නිසා එය සොයා ගැනීම අපහසුය. පැසිස්ට්වරු වයඹ හා බටහිර යුද පෙරමුණු අතර සම්බන්ධය නැති කරලීම පිණිස බොලොගොයෙ මහ දුම්රිය පොළ අල්ලා ගැනීම සඳහා ඉක්මන් වූහ.

ප්ලව්නිහි ගොවීහු තමන් යුද්ධයෙන් ගැළවිනැයි සිතා සතුටු වෙන්නට පටන් ගත්හ. ජර්මනුන්ගේ නියමය පරිදි සමූහ ගොවිපොළේ සභාපති ගම් මුලාදැනි ධුරයට පත් කරගෙන පෙර සේම සාමූහිකව ගොවිතැන් කළහ. පැසිස්ට් මැගයින් තමා විනාශ නොකරතියි ද, තමන්ට කරදරයක් නැතිව, ජීවිකාව කරගෙන යා හැකියැයි ද ඔවුහු සිතූහ. අළු පැහැති යුද ඇඳුම් ඇඳ සිටි ජර්මනුන් ගිය පසු කළු පාට ඇඳුමින් හා ඉස්කබල සහ මිනී ඇට කටු දෙකක් සහිත මරණයේ සලකුණ සහිත හිස් වැසුමින් සැරසුණු ජර්මන්නු පැමිණියහ. ජර්මනියේ යුද කඳවුරුවල නිත්‍ය සේවයට යාමට කැමති ස්වේච්ඡා සේවකයින් පහළොස් දෙනෙකු පැය 24 ක් තුළදී ගම්මුන් විසින් ලබාදිය යුතු යැයි මේ මාරයෝ අණ කළහ. නොපැමිණියහොත් දඬුවම් කරනු ඇත. නියමිත වේලාව ඉකුත් වුණද

කිසිවකු ආවේ නැත. නොපැමිණියහොත් දඬුවම් කරනු ඇත. නිය වේලාව ඉකුත් වුණද කිසිවකු ආවේ නැත. මේ වන විට සැහෙන අත්දැ ලබා ඇති පැසිස්ට් මාරයෝ තම අණට යටත් වෙතියි නොසිතූහ. ගම් පාඩමක් උගැන්වීම පිණිස ඔවුහු සමූහ ගොවිපලේ සභාපති හෙවත් මූලාදෑනියාද, ළමා පාසලේ ආචාරිනී වන මහලු වෙරෝනි ග්‍රිගෝරියෙව්නා ද, අතට අසුවුණු තවත් ගම්මුන් දස දෙනෙකු ද ගොවිපලේ ප්‍රධාන ගොඩනැගිල්ල ඉදිරිපිටට ගෙනගොස් මරා දැ සිරුරු එල්ලැමට තහනම් කළ පැසිස්ට් වරු තව පැය විසිහතර ස්වේච්ඡා සේවකයින් නොපැමිණියහොත් නැවත වරක් එලෙසම ම දමන බවට මෙය පාඩමක් බව ද කීහ.

පසුදා උදෑසන ද කිසිවෙක් නොපැමිණියහ. ඇස්, ඇස්. මා හමුදාවේ සොන්ඩර් කොමාන්ඩ් * නිලධාරියා ප්‍රමුඛ සේනාංකය ගම ඇතුළු වන විට, එහි බාල, මහලු කිසිවෙක් නොසිටියහ. අවුරුදු තිපස තිස්සේ තමන් හරිහම්බ කරගත් හැම දෙයක්ම ද, ගෙවල් දොරවල්, බ මුට්ටු හා හරකා බාන ද, හැම දෙයක්ම අතහැර දමා ගම්මු රා අන්ධකාරයට මුවා වෙමින් අතුරුදන් වූහ. කිලෝමීටර දහ අටක් ඈ මහ වනය මැද මිටියාවතක ඔවුහු පදිංචි වූහ. පිරිමි, පාට්සාන් යුද හමුදාවට බැඳීමට වන ගත වූහ. ගැහැණු සහ ළමා ලපැටියෝ වසන්ත වන තුරු මෙහි නැවතුණාහ

කැරළි ගැසූ ගම පැසිස්ටවරු ගිනිබත් කළහ. මෙසේ ගිනි තබන ලද අනිකුත් ගම් නියම්ගම් මෙන්ම මෙයද මළ පෙදෙසක් ලෙස නම් කළහ.

"මගේ තාත්තා සමූහ ගොවිපලේ සභාපති, පස්සෙ එයාව මූලාදෑනියා කළා." පිර්යෝන්කාගේ මේ වචන අලෙක්සේයිට ඇසෙන්නේ ඈත කතා කරන්නෙකුගේ වචන මෙනි. "මගේ අයියාවත් මරා දැම්මා.. ඒව සේරම දක්කා. අපට පේන්නයි උන් ඒ ගොල්ලන්ව මරා දැම්මෙ. මා තාත්තා උන්ට ශාප කළා. "තොපිට මේ අපරාධයට වන්දි ගෙවන්න සිද්ධ වේවි. තොපේ ලේ ගංගාවක් වගේ ගලා යාවි." කියල තාත්තා කිව්වා.

---

* ජර්මන් යුද හමුදාවේ නිලයකි.

"ඉතින් උඹලා කැලෑවෙම ජීවත් වෙනවද?" යි අලෙක්සේයි යෝන්කාගෙන් ඇසුවේ අඩ තිත්දෙන් මෙනි. ඔහුගේ කටහඬ පව ුණේ යම්තමිනි.

"ඔව්, කැලෑවේ ජීවත් වෙනවා, වෙන මොනවා කරන්නද? ඉතුරු ණේ අපි තුන්දෙනයි. මායි, මල්ලියි, අම්මයි. නියුෂ්කා නංගී ලෙඩ වෙලා ා. තවත් පුංචි මල්ලි කෙනෙක් හිටිය. එයත් මළා. අපි තුන්දෙනෙක රයි ඉතුරු වුණේ.... අන්න පේද්‍යා, සියාව අඩගහගෙන එනව. බලන්න."

මිහයිල් සීයා නමින් හැඳින් වූ මේ පුද්ගලයා කෙට්ටුය. උසය. කුවුය, ඔහුගේ මුහුණ කරුණාවන්තය. දැස් ළමයකුගේ මෙන් පිරිසුදුය. ාකුය. පැහැදිලිය. ඔහුගේ යටි රැවුල තුනිය. රිදී පැහැයෙන් යුක්තය. ටළු ලොමින් කළ පරණ හිම කබායකින් ඔහු අලෙක්සේයි එතීය. ැනිත් තැන ඉරී ගිය එම කබායට දමා ඇති අණ්ඩ විවිධ පාටින් ක්තය. මිහයිල් සීයා අලෙක්සේයි ඉතා පහසුවෙන් උස්සා හිම යානය ත තබා, විස්මය පත් ළමයෙකු මෙන් මෙසේ කීවේය.

'අනේ පව්! ඉලන්දාරියා හොඳටම කෙට්ටු වෙලා. ඇටකටු විතරයි. මේ යුද්දෙ නිසා වෙච්ච නස්පැත්තියක හැටි. අනේ! අනේ!"

මේ දැන් උපන් ළදරුවකු මෙන් පරෙස්සමින් අලෙක්සේයිව හිම ානය මත තබා, ඔහු නොවැටෙන සේ ලනුවකින් බැඳ මොහොතක් ල්පනා කළ මිහයිල් සීයා තමා හැඳ සිටි කබාය ගළවා එය හකරට මා අලෙක්සේයිගේ හිසට යටින් තැබිය. පුංචි අසකුගේ බෙල්ලට සැහෙන රදී කර පටියක් හිම යානයට බැඳ තිබිණ. එම කර පටිය තුළට හිස ා ගත් සීයා ඉකිරි පටි දෙක කොල්ලන් අතට දී "දෙවියන්ගෙ පිහිටයි" යමින් ගමනට සූදානම් විය. තිදෙනාම එක්ව හිම යානය අදින්නට ුහ. මොවුන්ගේ පාවලට පෑගෙන හිම හඬක් නැගිය.

14

ඊළඟ දවස් තුන තුළදී තමා අවට සිදු වූ දේ අලෙක්සේයි ැනුණේ සහැති, උණුසුම් මීදුමකින් වැසුණු කලෙක මෙන් නොපැහැදිලි ලෙසකිනි. වරෙක ප්‍රකෘති සිහිය ලැබූ ඔහු තවත් වරෙක උණ විකාරයෙන්

දොඩවන්නට විය. සිදු වූ දේ ගැන නියම අවබෝධයක් ඔහුට
දින කීපයකට පසුවය.

මුකලන් කැලය මැද ගම්මු ජීවත් වූහ. ඔවුන් වාසය
ගෙවල්වල පියස්ස සාදා ඇත්තේ පයින් අතුවලින්. එයද හිමෙ
ඇති බැවින් එතැන මිනිසුන් ජීවත් වෙතිද යන්න එකවර නොපෙ
ගෙවල් තුළින් නගින දුම් වළා මහ පොළොවෙන් පිට වෙන්නාක්

ගැහැණු ළමයි හා මහල්ලෝ කීප දෙනෙක් පමණකි
පදිංචිකරුවෝ. මිහයිල් සීයා කැලේට කඩා වැටුණු යම්කිසි
අහස් නියමුවකු ගෙනෙන බව ප්‍රසිද්ධ වීම නිසා ඔහු පිළිගැනීමට
ඉදිරියට ආහ. මහල්ලා සහ ළමයින් ඇදගෙන එන හිම යාන
විගසම ඉදිරියට දුව ගිය කාන්තාවෝ, කෑ කෝ ගසමින් දුවන
කෙලි රංචුව එළවා දමා, නියමුවා අසලින් ගමන් කරමින් අඩන්න
වැලපෙන්නට වූහ. ඔවුහු වැරහැලි ඇඳගෙන උන්හ. හැම එකියක්
සමාන වයස් ඇත්තියන් මෙනි. කිම් ගෙවල්වල දුමාරය, දූවිල්, දලි
ඔවුන්ගේ මුහුණු කළු වෙලාය. කාන්තිමත් ඇස් හා සුදු දත් නිසා
නම්, තරුණියන් මැහැල්ලන් අතුරෙන් වෙන් කොට හඳුනාගත නො
වනු ඇත.

"අනේ, ගෑනු! ගෑනු! උඹලා මොකටද මේ වටවෙලා ඉන්
මේක නාට්ටියක්ද? විජ්ජාවක්ද? " මිහයිල් සීයා රෝස් වී පැව
"මෙතැනින් ඉක්මණට පලයල්ලා! දෙවියන්ගේ නාමෙට පලයල්ලා!
බැටළු රැළක්."

ස්ත්‍රීන් කතා කරන සැටි අලෙක්සේයිට ඇසිණි.

'අනේ එයා හරියටම කෙට්ටු වෙලා. ඇට සැකිල්ලක්
හෙලවෙන්ටවත් බැහැ. එයාට පණ තියෙනවද?"

"එයාට සිහිය නැහැ... එයාට මක් වෙලාද? අනේ බලප
ඇවෙයි හමයි විතරයි."

පසුව අදහස් කියාපෑම හා පුදුම වීම නැවතිණ. නියමු
විඳින්නට සිදු වූ දුක් ගැහැට නොදක්නද, එහි බියජනක බව නිසා
විස්මයට පත් වූහ. කිම් ගෙවල් සහිත ගමට හිම යානය ඇතුළුව

යමුවා කාගේ ගෙදර පදිංචි කරවිය යුතුද යන ප්‍රශ්නය වටා විවාදයක
ැති විය.

"අපේ ගෙදර නෙතමනය නැහැ. හොඳ වැල්ල. වියලි පොළොව
ා ළඟ භූමිතෙල් ලිපක් තියෙනවා" යැයි එකියක් කීවාය. ඇගේ නෙ
ැහැදිලිව දිලිසෙයි.

"ලිපක් තිබුණට ඇනැයි. උඹලගෙ ගෙදර මහ ගොඩක් ඉන්නව
ද නිසාම ඒ මනුස්සය මැරිල යාවි. මිහයිල් සීයේ අපේ ගෙදරට
ගනියන්න. මගේ පුත්තු තුන්දෙනෙක්ම සෝවියට් රතු හමුදාවෙ. මෑ
ළඟ පාන් පිටි ටිකක් ඉතිරි වෙලා. මට පුළුවනි එයාට රොටී හදල
දෙන්න."

"අපේ ගෙදර හොඳට ඉඩකඩ තියෙනව. ගෙදර ඉන්නෙ දෙන්නයි
උඹ රොටී අපේ ගෙදරට ගෙනෙන්. කොහෙ උණාම මොකො.' මටයි
ක්ස්යුහටයි පුළුවනි එයාට සාත්තු කරන්න. මා ළඟ වියලි මෑ ඇටයි
හතුයි තියනවා. මට පුළුවනි මාලු බැදල සුප් හදල දෙන්ට....."

"වළ පයයි ගොඩ පයයි. ඒ මනුස්සයට මොන සුප්ද? මිහයිල
මාමේ ඔය ලෙඩාව මට බාර දීපන්. මා ළඟ එළදෙනෙක් ඉන්නවා. කිරි
දෙන්ට පුළුවනි."

ගම මැද බිම් ගෙයට, එනම් තම ගෙදරට හිමයානය මිහයිල
දක්කාගෙන ගියේය.

කුඩා බිම්ගෙයක් මැස්සක් මත වැතිර සිටි පැට් අලෙක්සේයි
මතකය. බිත්තියේ එල්ලා තිබූ ලුචිනා * වලින් කණාමැදිරි එළියක් ලැබේ
බිම් ගෙය තුළ දුම් ගඳකි. ගෙමැද ලී කොටයක් උඩ ජර්මන් මයින
වෙඩිල්ලක පියනක් මේසය වෙනුවට තබා ඇත. පුටු වෙනුවට ලී කො
කීපයකි. මිහයිල් සීයාගේ බාල ලේලි වාර්යා කළු ලේන්සුවකින් හිස
වසාගෙන මේසය වෙත නැවී යමක් කරමින් සිටී. ඈ හැඳ සිටින්නේ
මැහැල්ලකගේ ඇඳුමකි. මිහයිල් සීයාගේ හිස රිදීවත් තුනී හිසකේ වලින්
වැසී ඇත.

* "ලුචිනා-දේවදාර ගස් කඳන් කපා ගන්නා සිහින් ලී පතුරු වගයකි. එය
පහන් තිරයකට සමානය.

අලෙක්සේයි වැතිර සිටින මැස්ස මත පිදුරු අසුරා ඇත. මේ පොරවා තිබෙන්නේ හිම යාත්‍රාවේදී වැසූ පරණ බැටළු ලොම් හිම කබායයි. ඔහුගේ ඇඟපත කකියයි. දෙපා ගින්ගත් කලෙක මෙන් දවෙයි. එසේ වූ තමා ආරක්ෂා සහිත තැනකට වී, නොසෙල්වී කල්පනා නොකර, තිබ ආත්මාරක්ෂාව ගැන නොසිතා, මෙසේ වැතිර සිටීම නිසා අලෙක්සේ සතුටු විය.

ඔහු දෑස් වසා ගත්තේය. දොර හැරී ශීත සුළං පහරක් වැදුණ විට පමණක් ඔහු ඇස් ඇර බලයි. මේසය අසල කාන්තාවකි. මේස මත මල්ලක් තැබූ ඇ තාමත් දැක් මල්ල මත තබාගෙන සිටින්නී. නැවත මල්ල ආපසු ගන්නට මෙන් ඇ එදෙස බලන්නීය. සුසුමක් හෙළ ඇ වර්යාට මෙසේ කීවාය.

"මෙ රුළං පිටි, මම මේක පරිස්සම් කරගෙන හිටියේ කොස්ටේන්කාට කෑම හදල දෙන්ටයි. දන් එයාට ඒවා උවමනා නැ උඹලගෙ අමුත්තාට කැඳ හදල දීපන්. මේව ළමයින්ට ගුණයි. අමුත්තා කියාපු ආහාරය......"

එම ගෙදර හැම දෙනෙකු තුළටම ශෝකය කා වද්දමින් ඇ පිටව ගියාය. තවත් ගැහැණියක් වියලි මෑ ඇට ගෙනාවාය. එක් කතක් ... දත් උඳුනෙන් බාන ලද උණු රොටි කීපයක් ගෙනාවාය. බිම් ගෙය පුරා උණු රොටි සුවඳ වහනය විය.

සිර්යෝෂ්කා සහ පේද්‍යා ද ආහ. ගොවියකුගේ බැරෑරුම් ගතියෙ තම හිස්වැස්ම අතට ගත් සිර්යෝන්කා "ආයුබෝවන්" යැයි කියමින් ... කොළ සහ ලී කුඩු පොදක් ඇලී ඇති සීනි කැට දෙකක් මේසය මත තැබිය.

"අම්මා මේ තැග්ග එව්වා. සීනි ඇහට ගුණයි. කන්න" ඔහු නැවත සීයා වෙත හැරී වෙනත් හඬකින් කතා කළේය. "පරණ තැනට අපි නැවත ගියා. යකඩ භාජනයකුත්, උදලු දෙකකුත්, පොරෝ තලයකුත් සොයා ගත්තා. අපට උවමනා වෙන හන්දා අපි ඒවා ගෙනාවා."

ඊට බොහෝ කලකට පසු තමාට ලැබුණු තෑගිවල වටිනාකම අලෙක්සේයි අවබෝධ කර ගත්තේය. මේ තෑගි ගෙනා ගමමුන්ගේ පවුල්වලි ... තුනෙන් කොටසක්ම පසුගිය ශීත කාලයේදී කුසගින්න නිසා මිය ගියෝ

ම පවුලකින්ම සාමාජිකයින් එකතු හෝ දෙන්නකු හෝ මාරයාට බිලි
. එහෙත් ඔවුහු රෝගී තියමුවා කෙරෙහි මහත් දයාවක් දක්වූහ.

"අනේ, අනේ මෙහෙමත් ගෑනු! මේ ගෑනුන්ගෙ වටිනාකම
පමණයි කියල කියන්න බැහැ. ඇහෙනවද අලෙක්සේයි. රුසියානු
හැකිය මිළ නොකළ හැකි වස්තුවක්! ඇගේ හදවතට කා වදින ලෙස
කා කලොත් ඈ ඕනෑම උදව් උපකාරයක් කරනව. මාරයට බිලිවෙන්න
ා ඈ බය නැහැ. එතරම් උතුම් ජාතියක් අපේ ගෑනු ජාතිය. ආ!
හම නේද?" යි මිහයිල් සීයා නැවතත් යම්කිසි වැඩක් පටන් ගත්තේය.
ක ඔහු සැදෑලයද, තවත් වරක කරපටියද, නැතිනම් හිම සපත්තු
ත් වැඩියා කලේය. "වැඩකරන කොටත් මේ අපේ අම්මණ්ඩිල අපට
වෙනි නෑ. කරට කර වැඩ කරනව. පිරිමි අපට උන්ගෙන් පාඩම්
න්ට පුළුවනි. ඒ වුණාට උන්ගෙ කට තමා කට. උන්ගෙ කටවල් හන්දා
ා ජීවිතෙත් එපා වෙලා! මගේ අනිසියා මලාට පස්සෙ මා හිතුව දූන්
න් දෙවියන්ගෙ පිහිටෙන් නිවිහැනේ ඉන්ට පුළුවනියි කියල. ඔය
පුරු සිහිවිලි නිසා දෙවියො මට දඬුවම් කරල. යුද්ධ හමුදාවට සුදුසුකම්
ති පිරිමි පාටිසාන් හමුදාවට බැඳිල සටන් කරනව. මගෙ පව් ගෙවන්නට
ම ගෑනුන්ගෙ නායකකම බාර ගත්ත. බැටළු රැළකට මැදිවෙච්ච එළුවෙක්
ගෙ...... හරිම පාපයක්!"

වනගත මේ උමං ගමේ දුටු බොහෝ දේ නිසා අලෙක්සේයි මවිත
ය. පැසිස්ට්වරු ප්ලව්නි ගමට ගිනි තබා එහි ගෙවල් දොරවල්, බඩු
වටු, හරකා බාන, ගොවින්ගේ ඇඳුම් පැළඳුම්, හැලි වළං, පිහන්
කෝප්ප, කැති - පොරෝ ගොවිතැන් උපකරණ ඇතුළු පරම්පරා ගණනක්
ස්සේ ඔවුන් හරි හම්බ කරගත් හැම දෙයක්ම විනාශ කළහ. එතැන්
ට මේ වනගත උමං ගමට ආ පසුද කටුක දුක් විඳින ගම්මු පැසිස්ට්
තුරාට අසුවේය යන බියෙන් නිතර පසුවෙති. ඔවුහු කුසගින්නේ පිටියද
මූහ ගොවි ක්‍රමය විනාශ වීමට ඉඩ නොතැබූහ. ඔවුන් බිම් ගෙවල
ැරුවේද සාමූහිකවය. ඒවායේ පදිංචි වූයේ හිතු මතයට නොව සමූහ
ගොවිපලේ ශ්‍රම කණ්ඩායම් අනුවය. මිහයිල් සීයාගේ බෑණා පැසිස්ට්වරුන
සින් මරනු ලැබූ පසු, ඔහු සමූහ ගොවිපොලේ නීති රීති අකුරටම
ියාවේ යෙදවිය. දන් මිහයිල් සීයාගේ නායකත්වයෙන් මේ ගැහැනු
කලන් කැලයේ නැවුම් බිමක් සොයාගෙන වසන්තයේ දී ගොවිතැන
ිරීමට සූදානම් වෙති.

ගම හැර පණ බේරාගෙන පලා යන විට ගෙනා සියලු
හා ආහාර පොදු ගබඩාවකට භාර දුන්නේ කුසගින්න පවා නොතකමි
ජර්මනුන්ගෙන් බේරාගත් එළදෙනුන්ගේ වසු පැටවුන් රැකීම සඳහා
පරිශ්‍රමයක් දරන ලදී. මරණය පවා නොතකමින් ජර්මනුන් ගිනි
ගමට ගිය කොල්ලෝ අළු ගොඩවල් හාරා අවුස්සා බලා ගිය කොල්
අළු ගොඩවල් හාරා අවුස්සා බලා ගින්නට හසුව නිල් පැහැගෙන
යකඩ නගුලක් ගෙනැවිත් ලී මිටි දෙකක් සවිකොට පාවිච්චියට
කාන්තා නඩ සංවිධානය වී මුළු ගමටම සෑහෙන සේ මාළු ඇල්ලූ
ශීත සමයේ දී මෙය ඔවුන්ගේ ආහාරයේ වැදගත් කොටසක් විය.

සමූහ ගොවිපලේ සමහර ගැහැනු තම බිම් ගෙට වැදී තිබු
ප්‍රශ්නයක් ගැන කෑ කෝ ගසන විට මිහයිල් සීයා දෙකන් වසා
සමහර විට සීයා තම ගොරෝසු හඬින් බැණ වදී. එසේ වුවද,
කාන්තාවන් අගය කළේය. අලෙක්සේයි නිහඬව අසා සිටින සැටි දකි
සීයා තම "ස්ත්‍රී වර්ගයා" අහස උසට වැනුවේය.

"ඔන්න බලපන් අලෙක්සේයි! මගෙ ආදරණීය කොල්ලො,
දෙයක හැටි. ගැහැණිය නිතරම යම්කිසි දෙයක් බදා ගන්නවා. මගේ
වැරදිද? මොකද ඈ එහෙම කරන්නෙ? ඈ කෑදර හන්දද? නැහැ. කොහෙ
කෑදර නැහැ! ඈ එහෙම කරන්නෙ ඒ දේ ඈට වටිනා නිසා. ඈ ළමයින්
කවයි, පොවයි, පවුලේ මුළු බරම ඈ කරපිට. උඹට පේනව නෙවද
ජීවත්වන හැටි. හැම පාන් කෑල්ලක්ම ගණන් කරනවා. ඇත්ත වශයෙන්
අපි බඩගින්නෙ. ඔය සිද්දිය වුණෙ ජනවාරි මාසෙදි. පාටිසන් සේනාංකය
මෙහෙ ආවා. අපේ පුතුන් නොවේ. අපේ පුත්තු ඔලෙනින් අසල
කරනව. මා කියන්නෙ අපට ලැබුණු ආරංචිය අනුව, අපේ මේ උමං
ආව පාටිසාන් හටයො දුම්රියපලට අයත් උදවිය. ඒ ගොල්ලො
බඩගින්නෙ මැරෙනව. ආහාර ටිකක් හොයල දෙන්වයි කියල.
අපේ මේ ගෑනු පාටිසාන් හටයින්ගෙ මලු ආහාරවලින් පිරෙව්වා.
ළමයින් මන්ද පෝෂණයෙන් පෙළෙනවා. උන්ගෙ අත් පා ඉදිමිලා.
වැටිල ඉන්නව. ඒ වුණාට මේ ගෑනු පාටිසාන්වරුන්ට තමන්ගෙ
බත් පත පවා දුන්න. මම ලොකු යුද්ධ සෙනෙවියෙක් නම්, ජර්මනුන්
එලවා දම්මට පස්සෙ අපේ ඉතාම හොඳ හමුදා රැස් කරල රුසියානු
කාන්තාවට ආචාර පෙළපාලියක් පවත්වනව. ඔන්න මම කරන දේ

15

අලෙක්සේයි තම ගෙදර නවාතැන් ගෙන දවස් තුනක් ගත වූ පසු දා මිහයිල් සීයා තීරණාත්මක ලෙස මෙසේ පැවසීය.

"අලෙක්සේයි උඹට නාන්ට වතුර උණු කරනව. ශීතලට අහුවෙච්ච උඹෙ ඇටකටු හොඳට උණුහුම් වේවි. උඹට හොඳ සනීපයක් ලැබේවි. කොහොමද උඹේ කල්පනාව. මගෙ අදහස හරිද?"

නෑම සඳහා ඔහු උවමනා දේ පිළියෙළ කරන්නට විය. ළිපට දර දමා ගිනි පත්තු කළේය. ගිනිමැලය කොතරම් දඩි විද යත්, ළිප් ගල් පුපුරන්නට විය. බිම් ගෙයට පිටතින් තවත් තැනක ගිනි ගොඩක් ගසා විශාල ගලක් එම ගින්නට දම්මේය. වාර්යා පරණ ලී පීප්පයකට වතුර පිරෙව්වාය. රත් පැහැති පිදුරු බිම එළන ලදී. ඉන්පසු උඩ කබාය ගළවා දමූ සීයා යම්කිසි ක්ෂාර වගයක් වතුරට දිය කළේය. ගසක පට්ටාවලින් සාදන ලද "මුදු හත්තක" ඇඟ ඇකිල්ලීම සඳහා පිළියෙළ කළේය. බිම් ගෙය තුළ උණුසුම අධික වී වහලේ හිම දිය බින්දු බවට හැරිණි. සීයා පිටතට දුව ගොස් ගිනි මැලයට දමා තිබුණු විශාල ගල් කැලය උදලු තලයක තබාගෙන බිම්ගෙට ගෙනැවිත් එය වතුර පිරි පීප්පයට දම්මේය. ගෙය පුරාම වාෂ්ප වලාවලින් පිරිණ. පසුව මේවා කුඩා කැබලිවලට කැඩී ගියාක් මෙන් තැනින් තැන කුඩා වලා ඇති විය. දන් කිසිවක් කිසිවකුට නොපෙනේ. එහෙත් අවිදමාන අතක් තමාගේ ඇඳුම් ගලවන බව අලෙක්සේයිට දනෙයි.

වාර්යා තම මාමණ්ඩියට උදව් වුණාය. ඌෂ්ණය නිසා ඇට තම කබාය සහ හිස බැඳි ලේන්සුව ගළවා දැම්මට සිදු විය. මෙතෙක් නොදුටු ගොතන ලද කෙස් වැටිය උරහිස හරහා එල්ලා වැටිණ. මෙතරම් ලස්සන කෙස් වැටියක් ඇය සතු බව හිස බැඳ තිබූ ලේන්සුව නිසා සිතා ගැනීමට පවා අපහසු විය. මොහොතකට පෙර තාපසියක් මෙන් පෙනී සිටි ඈ දන් රූමත් තරුණියකි. මෙතෙක් ඇය දෙස උවමනාවකින් නොබැලූ අලෙක්සේයි දන් ඈ ඉදිරියේ නිරුවතින් පෙනී සිටීම ගැන ලජ්ජා විය.

"අලෙක්සේයි ලැජ්ජා වෙන්න එපා. හිතට ධෛර්යය ගනින්. වාර්යා දන් ඉස්පිරිතාලෙක හෙදියක් වගෙ. එයා තුවාල ලබාපු සෙබළකුට

සාත්තු කරනවා. මිකත් ලජ්ජා වැඩක්ද? වාර්යා ඔයාව අල්ලා
මේ කමීස හොඳටම දිරලා නෙව. කැලි ගැලවෙනවා!" යැයි මිහයිල්
කීවේය.

තරුණ වාර්යා නෙත් විදහා ගනිමින් බියගත් විලාසයක්
සැටි අලෙක්සේයි දිවිය. වාෂ්පවලින් පිරි පටලය තුළින් පළමුවරට
තම දේහය දුටුවේය. එය හමින් වැසුණු කටු ගොඩකි. කෝටු
කකුල්ය. දණහිස් පන්දු මෙන් ගෝලාකාරය. ශ්‍රෝණි පෙදෙස වළ ගැසි
බඩත් පිටත් එකට ඇලුනාක් මෙනි. පපුවේ ඉල ඇට තෝරා ගොසිනි.
පැහැයෙන් යුතු පිදුරු පැදුර මත දුඹුරු පාට හමින් වැසුණු මේ
ඇකි ඇට සැකිල්ල තබා ඇත.

සබන් දියර වැනි ක්ෂාරය කලතා ඇඟ අතුල්ලන හන්න
ඔබා ගත් සීයා. අලෙක්සේයිගේ ඇඟ එයින් අතුල්ලන්නට සැරසුණේ
වාෂ්ප පටලය තුළින් තමගෙ ශරීරය දුටු මහල්ලා ක්‍රියා විරහිත විය.
මෙසේ කීය.

"අනේ දෙයියනේ...! උඹ හරිම භයානක තත්ත්වයක ඉන්
අලෙක්සේයි. ජර්මනුන්ගෙන් බේරිලා ආවා. මාරයාගෙන් බේරෙන්ට හැ
වේද...?"

අලෙක්සේයිගේ පිට අල්ලා ගනිමින් ඔහු වන්තම් කරගෙන
වාර්යා වෙත කඩා පැන්න මහල්ලා ඇට බැණ වැදුණේය. "උඹ මොක
නිර්වස්ත්‍ර මිනිහ දිහා බලාගෙන ඉන්නෙ? පව්කාරි! තොල් සපා ගන්
මොකටද? ගෑනු ඔක්කොම එකයි. අලෙක්සේයි උඹ බයවෙන්න එප
පුතා! උඹව මාරයාට බිලිදෙන්න අපි ලැස්ති නැහැ. අපි උඹට සාත්
කරල, උඹව පුව කරනවා!... උඹට සුවය ලැබේවි."

අත දරුවකු නාවන්නාක් මෙන් පරෙස්සමින් අලෙක්සේ
නාවන්නට වූ සීයා කටු වසා ඇති ඔහුගේ හම පිරි මැද්දේය. ඒ මේ අ
හරවමින් ඔහුගේ සිරුරට උණු වතුර වත්කොට සබන් දියරෙන් අ
අතුල්ලා ඔහු පිරිසුදු කළේය.

වාර්යා ඔහුට නිහඬව උදව් කළාය.

සිහින් දිග පැදුරක් මත අලෙක්සේයි වැතිර සිටී. ඔහුගේ

වසා ඇත්තේ අණ්ඩ දැමූ පරණ, පිරිසුදු, සිනිඳු කමිසයකිනි. එය මිහ
සියාගේය. ඔහුට දන් අමුතු සනීපයක් හා ශක්තියක් දනේ. වාෂ්ප අතුරු
වූ පසු වාර්යා ඔහුට දුම් දමන බිල් බෙරි 'තේ ' කෝප්පයක් බොන්
දුන්නාය. සිර්යෝන්කා ගෙනා සීනි කැට දෙක වාර්යාගේ උදව්වෙන්
තර ගත් අලෙක්සේයි සීනි කැට කීපයක් කටේ දමාගෙන උගුරක් බො
මෙසේ තේ බී අවසන් වූ විගසම නින්දට වැටුණු අලෙක්සේයි අනතු
මුණ පැ පසු පළමුවරට සිහින නොදක, සුවසේ නිදාගත්තේය.

හඬ නගමින් ඇති වූ සාකච්ඡාවක් නිසා ඔහු අවදිවිය. බිම් ගෙ
තුළ ඇඳිරිය. හිරු රැස් වනයේ ගස් අතරින් යමතමින් පෙනේ. මිහයි
සියා කෑ ගසන හැටි ඇසේ.

"ගෑනු මොලේ. වැඩක හැටි! දවස් එකොළහක් තිස්සේ
මනුස්සයට හාල් ඇටයක් වත් ලැබී නැහැ. උඹ ගල් ගෙඩියක් වෙනක
තම්බපු බිත්තර කවන්න හදනව. ඕක ගිලපු හැටිය ඒ අසරණයා මැරි
යාවි..." දන් ඔහු කෑ නොගසා යමක් පැහැදිලි කරන්නාක් මෙන් කත
කරයි. "එයාට දන් ඕන ගල්ගෙඩි වගේ තම්බපු බිත්තර නෙවි. වකීලිප
එයාට ඕන කුකුළු පැටව් සුප් හොද්දක්. ඔන්න එයාට කියාපු බේත. යා
රණ වුණත් ඇදල ගනිවි. උඹගෙ පාට්සාන්කා - කුකුල් පැටියව දීපා
එයාට සුප් හොද්දකට ආ....?"

මැහැල්ලත් තියුණු, අප්‍රසන්න, බිය වූ හඬකින් කෑ ගැසුවාය

"බැහැ, බැහැ දෙන්නෙ නැහැ. ඉල්ලන්ට එපා. නාකි යකා ඉල්ලන්
එපා! ඒ ගැන මතක් කරන්ටවත් එපා! මගෙ පාට්සාන්කාව දෙන්න! සු
හොද්දට.... ගම්මු ගෙනාපු කැම ජාති මදෑ මගුල් ගෙදරකට.... 
නාකියා හිතන දේවල්.....!"

දොර හැරගෙන පිටවන මැහැල්ලගේ සෙවණැල්ල පෙනේ. විව
වූ දොරින් වසන්තයේ සිසිල් සුළං බිම් ගෙය තුළට වැදිණ. අලෙක්සේ
ඇස් වසා ගනිමින් සුසුමක් හෙළීය. මහල්ලා ඔහු ළඟට ආවේය.

"අලෙක්සේයි නුඹ නිදාගෙන හිටියෙ නැද්ද? නුඹට ඒ ඇහුණ
වන්ට ඇති! එයාගෙ කතාව හන්ද නුඹ එයා පිට වරද පටවන්න එපා
ඔ හිතනවද එයා කුකුල් පැටියට කැදරයි කියල? අලෙක්සේයි එහෙ
නාවෙයි. ජර්මන්නු එයාගෙ පවුල එහෙම පිටින්ම විනාශ කළා.

හිටිය. ජර්මන්නු දැනගත්තා
ගොල්ලන්ගෙ පවුලෙ දහදෙනෙක් හිටිය. ජර්මන්නු දැනගත්තා
ලොකු පුතා යුද්ධ හමුදාවෙ උසස් නිලධාරියෙක් බව. පවුලෙ
දෙනෙක්වම එක පාරටම වෙඩි තියල මරා දැම්ම. වසිලිස්ස
බේරුණේ. දරු මල්ලන් නැති ඔය වයසෙ නාකි අම්මණ්ඩි
හැසිරෙන හැටි, හිතන හැටි නුඹට තේරෙනව ඇති! පාවිසාන්කා
නම ඇති කුකුළු පැටිය එසේ මෙසේ එකෙක් නොවෙයි. වසිලිස්ස
එකම වස්තුව ඔය කුකුළු පැටිය විතරයි. ජර්මන්නු අනිත් හැම
වඩා කුකුළු මස්වලට ආසා කරනව. උන් අපේ කුකුළන් හැම දෙනා
අල්ලාගෙන ගියා. ඔය කුකුළු පැටිය විතරයි බේරුණේ. ජර්මන්කාර
දොර ළඟට එනකොට ඔය පැටිය අට්ටාලයට නැඟල හැංගිල
සද්ද නොකර. තමන්ගෙ මිනිස්සු ආ හැටියෙ වත්තෙ ඇවිදිනව.
නුවණක්කාර කුකුළු පැටියෙක්. අපේ මුළු ගමටම ඉතිරි වුණේ ඔය
පැටිය විතරයි. ඉතින් ඔය පැටියට අපි පාවිසාන්කා කියල නම
ඔය තපව් නුවණ හන්ද."

වනයේදී පුරුදු වූ හැටියෙන්ම අලෙක්සේයි මෙරේස්යෙව්
ඇරගෙන නිදා වැටෙන්නට විය. ඔහුගේ නිහඬතාවය නිසා කලබල
පත් මිහයිල් සීයා යමක් කරමින් සිට ඔහු ළඟට විත් නැවත
කරන්නට විය.

"අලෙක්සේයි ඒ අම්මණ්ඩිට දොස් පවරන්න එපා. ඇගේ තත්ත්
ගැන අවබෝධ කරගන්න උත්සාහ කරපන්. මගේ හොඳ යාලු
වනාන්තරේ මහ විශාල දේවදාර ගහක් වගේ ඇ හිටියෙ. කුණාටුව
ඇ ආරක්ෂා වෙලා හිටියෙ. දන් ඇ හරියට මුල දිරාගිය ගස් කොට
වගෙ. ඇගේ එකම සැනසීම කුකුළු පැටිය විතරයි. නුඹ ඇයි
නොකරන්නේ? නිදිද? නිදාගනින්. නිදාගනින්!"

අලෙක්සේයි නොනිදා නිදයි. ඔහුගේ සිරුර උණුසුම් පුළුන්
පිර වූ කලෙක මෙනි. ඇට කටු රහිත එම සිරුරේ ලේ ගමන් කරන
පමණක් ඔහුට දැනේ. ඇට කැඩී පිපිරී ඇති ඔහුගේ දෙපා තකියන
හා දවෙන්නට විය. එහෙත් ඔහුට හැරීමට හෝ අත පය සෙළවීමට
ශක්තියක් නොතිබිණි.

අඩ විස්මෘතියෙන් පසුවන අලෙක්සේයි ඛිමගෙය තුළ තමා
ජීවිතය වටහා ගත්තේ තාත්ත්වික ලෙස නොවේ. එකට එක නොගැල
අද්භූත සිනමා කතාවක ජවනිකා වශයෙන් ඒවා ඔහු ඉදිරියේ මැවි

වසන්තය එළඹිණි. උමං ගම අතිශයින්ම අමාරු කාලයකට
මුහුණ පෑවේය. දෙවන වර ජර්මන් හමුදා පැමිණෙන්නට පෙර තමන් සැඟවූ
ආහාර වැළලූ ගම්මු පසුව ඒවා උමං ගමට ගෙන ගියහ. දැන් ඔවුහු ඒ
ආහාරවල අවසන් කොටස කා දැමූහ. හිම දිය වී යන්නට පටන් ගත්තේ
කඩිමුඩියේ සෑදූ බිම් ගෙවල් වසා සිටි පියස්ස අතරින් වතුර කාන්දු
වෙන්නට විය. ගෙබිත්ති හා සිලිම් තෙතබරි විය. බටහිර ඔලේනින්
වනයේ සටන් කළ පාටිසාන් හටයෝ රෑ කාලයේදී එකා දෙන්නා බැගින්
උමං ගමට පැමිණි නමුදු, දැන් යුද පෙරමුණෙන් වෙන් වී ඇති නිසා
එයද නැවතිණි. ඔවුන් ගැන ආරංචියක් පවා නැත. ගෙවිලියන්ගේ කටුක
ජීවිතය මේ නිසා තවත් නරක අතට හැරිණි. හිම දියවී යයි. ගොවිතැන්
වැඩ පටන් ගැනීම සහ එළවළු පාත්ති දැමීම ගැන ඔවුහු සාකච්ඡා කළහ.

මිහයිල් සීයා ගෙදර ආවේ සතුට මුසු කලබලකාරී ගතියකින්
යුතුවය. ඔහු නිල්වන් තණ ගසක් කර ගැට සහිත තම අත්ලෙහි තබා
ගෙනැවිත් එය අලෙක්සේයිට පෙන්විය.

"පේනවද? මම කුඹුරෙ ඉඳල ආවෙ. දෙවියන්ගෙ පිහිටයි. හිම
දිය වෙනව. ශීත කාලෙ වපුරපු තිරිඟු පැළ වැවිල. හොඳට හිම වැටුණා.
අපට වසන්තයට ගොවිතැන් කරගන්ට බැරි වුණත් මේ අස්වැන්න හන්ද
කෑම ටික හොයා ගන්න ඇහැකි වේවි. මම ගෑනු කට්ටියට පණිවුඩය
කියන්නම්. අසරණ අම්මණ්ඩිල. උන්ගෙ සිත් සතුටු වේවි."

බිම් ගෙය අසල පිටියෙහි රැස් වූ ගැහැනු සැළලිහිණියන් මෙන්
හඬ නගමින් කතා කරන්නට වූහ. සීයා ගෙනා තණ ගස නිසා ඔවුහු
උසස් බලාපොරොත්තු ඇති කර ගත්හ. හවස ගෙදර මිහයිල් සීයා දෑත්
පිරිමදිමින් කතා කරන්නට විය.

"මාගේ දිග කොණ්ඩකාර ඇමති මණ්ඩලය ගත්ත තීරණය ගැන
දන්නවද? තීරණය නරක නැහැ. අලෙක්සේයි! එක තඩයක් එළදෙනුන්
ලවා බිම සකස් කරනවා. ඒ බිම් කැල්ල සකස් කිරීම ලෙහෙසි නැහැ.
අපේ හරක් ගාලෙන් අපට බේරගන්ට පුළුවන් වුණේ එළදෙනුන් හය
දෙනෙකු විතරයි. දෙවැනි තඩය උඩහ පැත්තෙ වියළි පොළොව හාරනව.
උදළු ඉස්කෝප්පවලින් ගෙවතුවල එළවළු හිටවන්න වගෙ. තුන්වැනි තඩය
කන්ද උඩ. එහෙ වැලි පොළොව. එතන ඒ ගොල්ල අර්තාපල් හිටවාවි.
ඒක තරමක් ලෙහෙසියි. බාලයන්වයි, වයසක අම්මණ්ඩිලවයි ඒ වැඩට
යොදවනව. ඉක්මනින්ම අපට ආණ්ඩුවෙන් උදව් ලැබේවි. ඒ නැතුවත්

පට වැඩේ හරියට කරන්ට පුළුවනි. ඉඩම් අපතේ යවන්ට ඉඩ තියන්
හැ. ඒකට අපි වග කියනව! මෙතැනින් පැසිස්ටවරුන් එළවා දැ
නිසා අපේ හටයින්ට අපි ස්තුති කරනව. දන් ඉතින් අපට ජීවි
ගතයන්ට පුළුවනි. අපි අමාරුකම්වලට පුරුදු ජාතියක්. ඕනෑම අමාරුවක
පට පුළුවනි බව නැතුව මුණ දෙන්ට....'' යැයි සීයා කීවේය.

එදා රෑ අලෙක්සේයිගේ තත්ත්වය නරක අතට හැරිණි.
හින්දේ පසුවුණ අලෙක්සේයිගේ සිරුර සීයාගේ උණු පැන් ස්නානයෙ
මුතු පණක් ලැබිය. බෙලහීනත්වය පෙරට වඩා වැඩියෙන් දනෙන්න
විය. වේදනාව තවත් තියුණු විය. ඔහු උණ විකාරයෙන් දොඩවන්න
විය. දත් සපමින් යම් කිසිවකුට සිතෙන් අඩ ගැසූ ඔහු තවකෙකුට බැ
වැටුණේය. ඉල්ලීම් ඉදිරිපත් කළේය.

යම්තම් එළිය වැටෙනවාත් සමගම මිහයිල් සීයා නැගිට නිදියමි
සිටින අලෙක්සේයි දෙස බලා, වාර්යාට පහත් හඬින් යමක් කි
ගමනට සැරසුණේය. හිම සපත්තු ඇඳගෙන, ඒවාට උඩින් තමාම පර
ටයරයකින් සාදා ගත් කලෝෂ් නම් වූ සපත්තු කවර දමාගෙන, හි
කබාය තද වනසේ බැඳගෙන ජුනිපර් හැරමිටියත් රැගෙන එළියට බැස්සේ
හැරමිටිය පාවිච්චි කිරීම නිසා එහි උඩ කොටස අත්ලට ගෑවී දිලිසේ
මේ හැරමිටිය නැතිව ඔහු දුර ගමන් නොයයි.

මිහයිල් සීයා ගෙයින් පිටත ගියේ අලෙක්සේයිට වචනයකු
නොකියමිනි.

16

රෝගී අලෙක්සේයි මෙරේස්යෙව් සීයා පිටව යන සැටි නොදුටුවේ
දවස් දෙකක්ම අඩ සිහියෙන් පසු වූ ඔහුට ප්‍රකෘති සිහිය ලැබුණේ
තුන්වැනි දවසේදීය. හිරු රැස්, බිම්ගෙය කවුළුවෙන් ඔහුගේ දෙපාවට
උණුසුම ගෙන දිනි.

බිම් ගෙය පාළු විය. ගැහැනුන් දෙදෙනෙකු කතා කරන
ඇසිණ. එකියක් වාර්යාය. අනික් කට හඬද අලෙක්සේයිට සුපුරු
ඔවුහු පහත් හඬින් කතා කළහ.

''කන්නෙ නැතිද?''

"එයාට කෑම රුචියක් නැහැ! ඊයෙ රොටියකින් කෑල්ලක් කෑවා
කාටම වමනෙ දැම්මා. හපල කන කෑම එයාට අගුණයි. යම්තම්
ටිකක් බොනව. ඊයේ අපි කිරි ටිකක් හොයල දුන්න."

"ඔන්න මම සූප් හොද්දක් හදල ගෙනාවා. ඒ අසරණ ළමයාට
න්න දීපන්."

"වසිලිසා නැන්දේ" යැයි විස්මය පළ කළ වාර්යා, "ඔය සූපය..."

"ඔව්, ඔව්..... කුකුළු පැටව් සූප් තමා. මොකද නුඹ පුදුම වෙන්නෙ?
වෙන්ට දෙයක් නැහැ. එයාව කුද්දපන්. සූප් ටිකක් බොන්ට එයා
හි වේවි."

දෙබස අසා සිටි අලෙක්සේයි ඇස් හැර බැලීමටවත් පෙර ඔහු
ආ වාර්යා ඔහු වැරෙන් සොලවමින් ප්‍රීතියෙන් කෑ ගසන්නට
ා.

"අලෙක්සේයි පෙත්රෝවිච්, අලෙක්සේයි පෙත්රෝවිච් නැගිටින්න!
සා නැන්දා සූප් ගෙනල්ලා ! නැගිටින්න!"

බිත්තියේ එල්ලා තිබූ පහන වඩාත් දීප්තිමත්ව බැබලෙන්නට
කුදු ගැසුණු මැහැල්ලක අලෙක්සේයි දුටුවේය. ඈ කුඩාය. ඇගේ
රැලි ගැසිලාය. නහය වක්‍රය. රොස් වූ බවක් ඇගේ මුහුණෙන්
ායි.

"මෙන්න මම මේ සූප් හොද්ද ගෙනාවා. මේක බීපන් පුතේ
දාන්න එපා. නුඹට සනීපය ලැබේවි."

අලෙක්සේයිට ඇගේ පවුල ගැනත්, පාටිසාන්කා කුකුළු පැටියා
න් මතක් විය. ආච්චි සහ වාර්යාද ඔහු ඉදිරියේ සිටිති. ළිප උඩ
හැලියේ වතුර නටයි. ඉන් නැගෙන වාෂ්ප සහිත හුමාලය සහ දුම්
න් මැහැල්ලගේ දුක්මුසු මුහුණ පෙනිණ. ඔහු ඈ දෙස මහත්
ර්චිත ලෙස බැලුවේය.

මැහැල්ල ගෙයින් පිටවෙන්ම ඇලෙක්සේයිට කියන්නට පුළුවන
"ආච්චි අම්මේ බොහොම ස්තුතියි" යන්න පමණකි.

"ස්තුති කරන්න දෙයක් නැහැ. ඔහෙ සනීප වෙන්න."

"ආච්චි අම්මේ, ආච්චි අම්මේ! යැයි කියමින් නැගිට සිටින්...
...ු නැත් කළ විට, වාර්යා ඔහු සෙමින් තල්ලු කළාය.

"ඔහොම හාන්සි වෙලා මේ සුප් බොන්න" යැයි වාර්යා ඔහු...
...වාය.

"මිහයිල් ඕයා කොහිද?"

"එයා ගියා.... දිස්ත්‍රික්ක පක්ෂ කාර්යාලය හොයන්ට ගියා. ...
...න කීපයක් යාවි එයා එන්ට. හාන්සි වෙලා මේ සුප් ටික බොන්න..."

පළමුවැනි සුප් හැන්ද බිව් හැටියේම අලෙක්සේයිට තද බඩගින්න...
...තිණ. ඒ සමඟම වේදනාවක්ද ඇති විය. අලෙක්සේයි සුප් හැදි දහයක...
...ඩා නොබිවේය. සුදු පැහැති කුඩා මස් කැල්ලක් පමණක් කෑවේ...
...බඩගින්න බුරමින් නැගී සිටියද, එකවර ආහාර ගොඩක් ගැනීමෙන් එ...
...විෂවීමට ඉඩ ඇති බැවින් ඔහු තවත් ආහාර ගැනීම ප්‍රතික්ෂේප කළේ...

ආච්චිගේ සූපය ඔහුට පුදුම ශක්තියක් ගෙන දුන්නේය. ආහා...
...ැනීම අවසන් කළ විගසම ඔහු නින්දට වැටිණ. මීට පෙර මෙන් අ...
...සිහියෙන් පසු නොවී, මේ වර ඔහු සුවසේ නිදා ගත්තේය. බිම් ගෙ...
...දුමාරය ද, ඔහුට නොදනේ. ගැහැනුන්ගේ කතා බහ ඔහුට නැසේ. ඔ...
...මළහයි කිය වූ වාර්යා ඔහුගේ අතක් අල්ලා ඔහු වෙත නැඹුරු වී ඔහුගේ...
...හදවත නැවතිලා දයි පිරික්සා බැලුවාය. මේ සියල්ල අලෙක්සේයි...
...නොදනිණි.

ඔහු ක්‍රමානුකූල ලෙස ආශ්වාස ප්‍රශ්වාස කරමින් සැපසේ නිද...
...ඔහු පසුදා එළිය වැටෙන තුරු එක හුස්මට නිදා ගත්තේය. මෙලෝ...
...සිසිම බලයකට ඔහු අවදිකර වීමට ශක්තියක් නැතිවාක් මෙනි ඔහු...
...නිදාගත්තේ.

ගිම්දිරි පාන්දර වනයේ අනිකුත් ශබ්දයන් හා සෝෂාවන් සමඟ...
...තවත් ශබ්දයක් ඈත පැත නැගේය. උස් පහත් ශබ්දයන් ඇති නොකළ...
...හඬ නිසා කැළඹුණු අලෙක්සේයි හිස ඔසවා සවන් දෙන්නට විය. එ...
...ඒකතානමය හඬකි. "උ -2" වර්ගයට අයත් අහස් යානයක එන්ජිම හ...

නාහන බව අලෙක්සේයි දැන ගත්තේය. හඬ තමා වෙත ළං වෙමි
වැඩිවන සැටි ඔහුට දැනේ. සමහර විට එය නැසුණද සම්පූර්ණයෙ
අතුරුදන් නොවීය. ඔහු වඩාත් කැළඹුණේය. අහස් යානය වන
ඉහළින් පියාඹමින් යමක් සොයන බවත්, ගොඩබෑඹීමට සුදුසු බි
පිරික්සන බවත් ඔහුට අවබෝධ විය.

වනයට ඉහළින් කවාකාර ලෙස පියාඹන අහස් යානය කව
කීයක් ගසන්නේද යන්න ඔහු ගණන් කරන්නට විය. පළමුවැනි කව
දෙවැනි කවය, තුන්වැනි කවය.... ඔහුට ගණන් කළ හැකි වූයේ එපමණ
ඔහු නැවත සැපසේ නිදන්නට විය.

ඔහු අවදි වූයේ තරුණ, ගොරෝසු දෝංකාරය ඇති කට
කටහඬක් නිසාය. සමූහ ගායනයක් අතරින් වුවද, එම කට හඬ හඳු
ගැනීමට අලෙක්සේයි සමත්ය. ප්‍රහාරක අහස් යානා හමුදාවේ අණදෙ
නිලධාරී අන්ද්‍රෙයි ඩෙග්ටෙරෙන්කෝට පමණකි එවැනි කටහඬක් ඇත්ත

අලෙක්සේයි ඇස් ඇර බැලීය. එහෙත් තමාට සුපුරුදු පළල්,
කොපුල් සහිත කරුණාවන්ත මුහුණ පෙනෙන්නේ සැබවින් නො
සිහිනෙන් බව ඔහු සිතුවේය. දුමෙන් පිරි අඩ ඇඳිරි බිම්ගෙයි නිල්ව
දෑසක් විමසිල්ලෙන් බැලීය.

"සීයේ පෙන්වන්නකො සීයාගෙ සොයා ගැනීම" යැයි උක්රේනිය
උච්චාරණයකින් ඩෙග්ටෙරෙන්කෝ ඉල්ලා සිටියේය.

දර්ශනය අතුරුදන් නොවීය. ඇත්තටම ඒ අනිකකු නො
ඩෙග්ටෙරෙන්කෝය. වනය මැද ඇති මේ උමං ගමේ තමා සිටින බව ඔ
දැනගත්තේ කෙසේද? පළල් උරහිස් සහිත දවැන්තයකු වූ මේ මිනි
තමාට පුරුදු පරිදි කරපටියේ බොත්තම් ගළවා සිටී. එක් අතක ඔහුගේ
හිස් වැසුම සහ ශ්‍රවණ යන්ත්‍රයේ කම්බියය. අනික් අතේ තවත් පාර්ස
කිපයකි.

ඩෙග්ටෙරෙන්කෝ පිටුපස මිහයිල් සීයාය. විඩාපත්ව, කැ
සිටින ඔහු දෑස් පියා දමා ගත්තේය. සීයා අසල අහස් හමුදාවේ හෙ
ලේනාය. රතු කුරුසය සහිත කැන්වස් බෑගයක් කිහිලි ගත්තාගෙන
ඈ අත කැලෑ මල් පොකුරකි.

වැලමිටි වාරුවෙන් වාඩි වීමට සූදානම් වූ අලෙක්සේයි 'අන්ද්‍රෙ
යැයි කියමින් තම සගයා ඇමතීය.

සුදුමයෙන් මෙන් ඔහු දෙස බැලූ නියමුවා තමා බිය වූ
සැඟවීමට අපොහොසත් විය.

'අන්ද්‍රෙයි නුඹට ,මාව හඳුනාගන්නට බැරිද?'' මෙසේ
මෙරේස්යෙව් වෙව්ලන්නට විය.

තමා ඉදිරිපිට ඇති පණ ඇති ඇටසැකිල්ල දෙස නියමුවා බැලී
ගින්නට අසු වී පිළිස්සුණු කලෙක මෙන් ඒ ඇට සැකිල්ල වසා ඇති
කළු පාටය. තමා හඳුනන ප්‍රීතිමත් ඇස් ඔහුට හමුවිය. විශාල වටකු
ඇස් මෙරේස්යෙව්ගේ බව ඔහු හඳුනා ගත්තේය. ඔහු දෑත් දිගු කරමි
ඔහු අත තිබූ හිස් වැස්ම ද, පාර්සල්වල ඔතා තිබුණු ඇපල්, දොඩම්
විස්කෝතු ද බිම වැටිණි.

අලෙක්සේයි ඒ උඹද?'' මෙසේ ප්‍රශ්න කළ වෙග්ටෙරෙන්කෝගේ
කටහඬෙහි විස්තවේගී බවක් දක්නට තිබිණ. ඔහුගේ ඇස් පිහාටු
ගැටිණි. "අලෙක්සේයි, අලෙක්සේයි! '' යැයි කී හෙතෙම ළමයකු
සැහැල්ලු අලෙක්සේයි බදාගනිමින් "අලෙක්සේයි! අලෙක්සේයි! මගෙ යාළු
යැයි කියන්නට විය.

වාර්යා සහ ලෙනා හෙදිය වලසෙකු මෙන් ශක්ති
වෙග්ටෙරෙන්කෝගේ අත්වලින් අබල දුබල අලෙක්සේයි මුදා ගැනීම
තැත් කළහ.

මේ දුබල කෙට්ටු මිනිසා අන් කිසිවකු නොව, තම අහස් යා
කණ්ඩායමේ සටන්කාමී සගයකු වන, තම මිතුරු අලෙක්සේයි මෙරෙස්
බව අන්ද්‍රෙයි වෙග්ටෙරෙන්කෝ සැක හැර දැනගත්තේය. තමාත්
සගයනුත් අලෙක්සේයි සිහින් වළලා දැම්මේ මීට දවස් ගණනකට පෙ
ප්‍රීතියෙන් කුල්මත් වූ අන්ද්‍රෙයි හිස බදාගෙන ජයග්‍රාහී ලෙස හඬ නැ
ඔහුගේ ඇස් ප්‍රීතියෙන් බබලයි.

"පණ පිටින් ! දේව මැණියනි, පණ පිටින්! මෙච්චර
කොහෙද හිටියෙ? නුඹට මොකද වුණේ?''

මිටි තරබාරු දේහයක් ඇති හෙදිය ඉදිරියට පැන කැලඹී සිටි
ඩෙග්ටෙරෙන්කෝ පැත්තට තල්ලු කළාය. බොත්තමක් වැනි පැතලි නහයකි
යුත් ඇ නිලය අනුව ලයිතන් කෙනෙකු වුවද, හැමදෙනම ඇය ලෙනොච්ක
යන සුරතල් නමින් හැඳින් වූහ.

"කපිතන් සහෝදරය, ලෙඩාගෙන් ඈත්වෙන්න." යැයි ඇ කිය
සිටියේ දැඩි හඬකිනි.

තම අත තිබුණු මල් මිටිය ඈ මේසය මත තැබුවාය. මේ ම
මිටිය ලබාගැනීමට ඈ ඊයේ ප්‍රාදේශීය කාර්යාලයට ගියද, දැන් එ
අනවශ්‍ය බව ඇයට වැටහිණි. ප්‍රථමාධාර මල්ල හැර, ඉක්මනින් ලෙඩ
පරීක්ෂා කරන්නට වූවාය. දෙපා ඇඟිලි තුඩුවලින් පිරික්සමින් ප්‍රශ්
කළාය.

"රිදෙනවද? මෙතන රිදෙනවද? මෙතන?"

අලෙක්සේයි තම දෙපා දෙස හොඳ හැටි බැලුවේ දන්ය. ඒව
භයානක ලෙස ඉදිමිලාය. කළු පාට වෙලාය. ඇඟිලි තුඩු ස්පර්ශ වෙත්
ඇති වන වේදනාව මුළු සිරුර පුරා විහිදෙයි. අලෙක්සේයිගේ පා ඇඟිලි
කළු පාට වී ඇති අතර ඒවාට වේදනාව හෝ ස්පර්ශය නොදැනීම නිස
ලෙනා කැලඹුණාය.

මිහයිල් සීයා හා ඩෙග්ටෙරෙන්කෝ මේසය වටා වාඩි වී කතා
කරන්නට වූහ. නියමුවාගේ මත්පැන් බෝතලයෙන් උගුරක් බිව් සීයා
උනන්දුවෙන් කතා කළේය. නැවත වරක් තමන් අලෙක්සේයි සොයාගත
සැටි සීයා විස්තර කරන්නට වූයේ පළමුවැනි වතාවට නොවේ.

"අපේ කොල්ලො ජර්මන් කාරයො කැපූ කැළයට ගියා ද
ගේන්න. උන් කැලේ කැපුවෙ යුද කඳවුරක් හදන්ටයි. කොල්ලන්ගෙ
අම්ම - මගේ දූ - කිව්ව දර ගේන්ටයි කියල. එතනදී කොල්ලො දෙන්
දක්ක පුදුම සතකුව. උන් පුදුම වුණා. වලසෙක් කියල හිතල උන්
බයවෙලා දුවන්ට පටන් ගත්තා. හරියට මොකාදැයි හොයාගන්ට කොල්ලන්
හිතිලා උන් දෙන්න ආපහු ගිහින් බැලුවා. "මේ මොන ජාතියෙ වලසෙක්ද
මොකද ඌ පැත්තෙන් පැත්තට පෙරලෙන්නෙ?" කොල්ලො දෙන්
ආපහු ගිහිල්ල බලනකොට පෙරළෙන වලසා කෑ ගහන හැටි ඔවුන්ට
ඇහුනා....."

"පෙරළෙනවා...? ඒ කොහොමද? " යි පුදුමයෙන් ප්‍රශ්න ක... ඩෙග්ටෙරෙන්කෝ සීයා වෙත සිගරට් කොපුව දිගු කරමින් "සිගා... බොනවද" යි ඇසීය.

"පෙරළුනේ කොහොමද කියන එක එයාගෙන් අහනවා. අ... කොල්ලෝ දෙන්නා දක්කා එයා පෙරළෙන හැටි. උඩු පැත්තෙන් ... පැත්තට, ආපහු උඩු පැත්තට. හිම උඩ බඩගාගෙන යන්ට එයාට හයි... තිබුණෙ නැහැ. ඔන්න එයාගෙ හැටි!"

සීයාගේ විස්තරයට සවන් දෙන ඩෙග්ටෙරෙන්කෝ විටින් වි... නැගිට සිට තම මිතුරා දෙස බලයි. චාර්යා සහ හෙදිය යුද හමුදාව... බිලැන්කෙට්ටුවලින් රෝගියා ඔතමින් සිටිති.

"ලෙඩුන්ට රෙදි ඇන්දවීම පිරිමින්ට අයිති වැඩක් නොවේ. පුළ... නුඹ වාඩි වෙයන්. මා කියන දේ නුඹලගෙ ලොකුම නිලධාරියකු... කියපන්! ඒ මනුස්සය කළ වැඩේ වීර ක්‍රියාවක්. පේනවද එයාගෙ තර... සුමානයක් තිස්සෙ අපේ සමූහ ගොවිපල එයාට සාත්තු කළා. ඒ වුණා... එයාට සෙලවෙන්නවත් බැහැ. හිම ගොඩවල්, මඩවලවල් හරහා බඩගා... ගෙන එන්ට තරම් මිනිහට ධෛර්යයක් තිබුණා. ඔහොම හපන්කම්... කරන්නට හැම කෙනෙකුටම බැහැ.!"

මහල්ලා ඩෙග්ටෙරෙන්කෝගේ කණට තම කට ළංකොට උඩු ... වුළ හා යටි රැවුළ අතරින් 'සුරු සුරු' හඬක් නගමින් රහසක් කියන්නට... විය.

"මා හිතනව මිනිහ නොමැරෙයි කියල. තමුසෙ හිතන්නෙ... කොහොමද? ජර්මනුන්ගෙන් එයාට බේරෙන්න පුළුවන් වුණා. මාරයාගෙ... බේරෙන්න එයාට පුළුවන්ද? ඇටෙයි හමයි විතරයි. බඩගා ගෙන ආවෙ... කොහොමද කියල මා දන්නෙ නැහැ. එයාට කොහොම හරි තමන්ගෙ... මිනිස්සු ළඟට එන්ට ලොකු ආශාවක් තිබිල තියෙනව. සිහිය නැ... වුණාම එයා දොඩවනව. "අහස් තොටුපළ, අහස් තොටුපළ, කිය... 'ඔල්ගා, ඔල්ගා' කියලත් එයා කියනව. තමුසෙලගෙ අහස් තොටුපළේ ඒ... නම තියන තරුණියක් ඉන්නවද? එයාගෙ පවුල වෙන්න ඇති? මා... කියන දේ තමුසෙට ඇහෙනවද, අහස් නියමුවා?"

"ඩෙග්ටෙරෙන්කෝට ඔහුගේ කතාව නැසිණි. අහස් හමුදාවේ...

ාමානා‍්‍ය අහස් නියමුවකු වන මේ තරුණයා දවස් කීපයක් තිස්සේ දුණු ඇට සහිත පා ඇතිව, ගමන් කළේත්, බඩ ගා ගෙන ගියේත් කාහොමද? හිම කඳු, කුණාටු, මඩ ගොහොරු නොතකා සතුරාගෙන් බිරි තම ජනතාව වෙත පැමිණීමට ඔහු සමත් වූයේ කෙසේද? අහස් යමු වෘත්තිය 'ඩෙග්ටෙරෙන්කෝට අවදානම කුමක්ද යන්න හැඳින්විය. හස් සටන් වලට වැදෙන ඩෙග්ටෙරෙන්කෝ මරණය ගැන කිසි දිනෙක නාසිතුවේය. එවැනි සටන්වලදී ඔහු තුළ කැළඹුණු සතුටක් පවා ඇති ය. එහෙත් මහ වනයේ, බිඳුණු දෙපා ඇතිව බඩ ගා ගෙන යාම ඔහුට නා ගැනීම පවා අමාරුය.

"සීයා කවදාද එයාව සොයා ගත්තෙ?"

"කවදාද?" සීයා තොල මතුලේය. හරියටම සුමානෙකට ඉස්සෙල්ලා භූගිය සෙනසුරාදා."

ඩෙග්ටෙරෙන්කෝ අලෙක්සේයි අනතුරට මුණ පෑ දවසේ සිට ණින් කළේය. ඇට බිඳුණු පාද ඇතිව මේ මිනිහා දවස් දහ අටක් ස්සේ වනය මැදින් බඩගාමින් ඇවිත් ඇත. ආහාර නැතිව නොකළ ැකි වැඩකි.

ලෙනා මේ අතර අලෙක්සේයි බිලැන්කෙට්ටුවලින් ඔතා පිළියෙළ ළාය.

"කමක් නැහැ. ජොෂ්ඨ ලයිතන් සහෝදරය, කමක් නැහැ," යැයි ෑ කීවාය. මල්ලකින් හැලෙන මුං ඇට නහන ශබ්දයට ඇගේ කටහඬ මානය. "මොස්කව් ගියාම ඉක්මනටම ලෙඩේ සුව කරාවි. මොස්කව් ශාල නගරයක් නෙව. ඔයිට වැඩිය අසාධ්‍ය ලෙඩ සුව කරනව!"

ඉක්මනින්ම ඇලෙක්සේයිට සුවය ලැබෙන බව උවමනාවට වඩා ර කරමින් හෙදිය පවසන සැටි දකින ඩෙග්ටෙරෙන්කෝ තම මිතුරාගේ රෝගය අසතුටුදායක බව හෙදිය තීරණය කර ඇතැයි වටහා ගත්තේය.

"උමං ගමෙහි වාසය කරන ප්ලව්නි ගම් වාසීහු හැම දෙනෙක්ම ම මිතුරාට ආයුබෝවන් කීමට පැමිණියහ. අහස් යානය දිය මිදි වැවක් ක ගොඩ බැස ඇත. වැව වටේට හිම මිදී ගියද මැද කොටසේ හිම

සණාව තිබිණි. හැඩයෙන් එය දිගටි වැවකි. වැව දක්වා මහත් නොසිඳී මිට පැය කිහිපයකට පෙර එහි සිට ගිය මිහයිල් සීයාත්, ඩොග්වෙරෙන්කෝ සහ ලෙනාත් විසින් තබන ලද පා සටහන් පමණකි දකින්නට තිබෙන් ගමේ කොල්ලන් පෙරටුව ගමන් කරන්නේ මේ අඩිපාර ඔස්සේය. මිනී පිටුපසින් ගමමු කීප දෙනෙක් යති. සිර්යොන්කාත්, පේද්යාත් ඉදිරියෙ ගමන් කරති. වනයේදී අලෙක්සේයි සොයා ගැනීමේ ගෞරවය හි සිර්යොන්කාටය. තම පියාගේ විශාල හිම සපත්තු දෙක හැඳගෙ සිර්යොන්කා අලෙක්සේයිගේ ඉදිරි පැත්තෙන් ගාටමින් යයි. ඔහුගේ මුහුණෙ ගාම්භීර පෙනුමකි. තමා පිටුපසින් වැරහැලි ඇඳගෙන ගමන් කර කොල්ලන්ට ඔහු වරින් වර බැණ වදිමින් ඔවුන් විධානය කරයි. ඩොග්වෙරෙන්කෝ සහ මිහයිල් සීයා අලෙක්සේයි පැතලී සිටින ගිලන් මැස්ස උසුලාගෙන යති. ලෙනා වරෙක අලෙක්සේයිගේ දෙපා බලැන්කට්ටුවෙන් වසයි. වරෙක තම හිස බැඳි ලේන්සුව ගෙන ලෙනා අලෙක්සේයිගේ හිස වටා බඳී. ඔවුන් පිටුපසින් මැහැලියෝද, මැදිවිය ගැහැනු හා තරුණියෝද ගමන් කරති.

"උඹ අපට ලියාපන්, අමතක කරන්ට එපා. මෙන්න ලිපිනය කලීනින්ස්කි කෝර්ළය, බොලොගොව්ස්කි පෙදෙස, අනාගත ප්ලාවිත ගම. ඔව්, අනාගත ගම. වරදින්නෙ නැතුව ලියුම අපට ලැබේවි." යැ මිහයිල් සීයා අලෙක්සේයිගෙන් සමු ගනිමින් කීවේය.

ගිලන් මැස්ස අහස් යානාව තුළ තබන ලදී. සුපුරුදු අහස් යානා පෙට්රල් සුසුම නිසා අලෙක්සේයි ප්‍රීති විය. ගිලන් මැස්සට ඉහළින් පියස්ස වසන ලදී. තමාට ආයුබෝවන් කීමට පැමිණි පිරිස අත් වනන හැටි අලෙක්සේයිට නොපෙනේ. වත් වූ තහයක් හා කෝප වූ පෙනුමක් ඇති කපුටියකට සමාන වූ මැහැල්ල අහස් යානය ළහටම ආවාය. වේගයෙන් කරකැවෙන අවර පෙත්ත විසින් කරනු ලබන කරදරය ද නොතකා ඈ නියමු ආසනයේ වාඩි වී සිටින ඩොග්වෙරෙන්කෝ වෙත පැමිණ ඉතිරි කුකුළු සුප් සහිත බඳුන දුන්නාය. අලෙක්සේයි මෙය නොදිටිය. ගැහැනුන්ට බැණ වදිමින් කොල්ලන් එළවා දමමින් අහස් යානය වටේ යමින් සිටි මිහයිල් සීයාගේ හිස්වැස්ම සුළං පහරට ඉගිලී යන සැටිත්, ඔහු නැවතී අහස් යානය දෙස බලන සැටිත් අලෙක්සේයිට නොපෙනිණ. ගැහැනු ගොඩක සිටි එකම පිරිමියා වූ සීයා අහස් යානය ඉදිරියට යත්ම, අත් වනමින් සමු ගත්තේය.

# 17

ඔහු රැගත් අහස් යාත්‍රාය තොටුපළට පැමිණියේ වැඩ අධික වේලාවකදීය. ඒ යුද්ධ කාලීන වසන්තයේ හැම දවසකදීම මෙන්ම අදද කලබල සහිත ය.

යන්ත්‍රවල හඬ මොහොතකටවත් නොනැවතිණ. එක් අහස් යානා කණ්ඩායමක් පැට්‍රල් ටැංකි පුරවා ගැනීමට අහස් තොටුපළට ගොඩ බසින විට තවත් කණ්ඩායමක් ගුවන් ගනී. එය අහස් යානා තොටුපළට එන විට තෙවැනි කණ්ඩායම අහසට නගී. අහස් නියමුවෝද, පැට්‍රල් ටැංකි සහිත රථ පදවන්නෝද, ගබඩා භාරකරුවෝද විඩාපත්ව බිම වැටෙන තුරු වැඩ කරති.

වැඩ කටයුතු කොතරම් අධික වුවද, නොසන්සුන්තාවය උත්සන්න වුවද, හැම දෙනම අලෙක්සේයි මෙරේස්යෙව්ගේ පැමිණීම ගැන බලාපොරොත්තුවෙන් සිටියහ.

"තවම ආවෙ නැද්ද" යි අහස් යානයේ එන්ජිම් හඬ නිවෙන්නටත් පෙර නියමුවා මිකැනික් ශිල්පියාගෙන් ප්‍රශ්න කරයි. නියමුවා තම යානය කැපොනිය දක්වා ගෙනයාමට පෙර ඔහුගේ සුවදුක් ගැන විමසයි.

"එයා ගැන ආරංචියක් නැතිද?" යි පැට්‍රල් ටැංකි සහිත රථ පැට්‍රල් ගබඩාව වෙත ගෙනයන රියැදුරෝ ප්‍රශ්න කරති.

වනයට ඉහළින් සුපුරුදු සෞඛ්‍ය අහස් යානයේ හඬ ඇසෙත්දැයි යමෙක් සොයති....

අලෙක්සේයිට සිහිය ලැබුණු විට තමා දූවිලි සහිත ගිලන් ඇඳක වැතිර සිටින බවත්, තමා වටා තම මිතුරන්ගේ සිනා මුහුණු ඇති බවත් පෙනිණි. ඔහු ඇස් ඇර බලත්ම පිරිස ප්‍රීති ඝෝෂා කරන්නට විය. තම ගිලන් මැස්ස අසල හමුදාවේ මේජර් සිටින බව ඔහු දිටිය. තරුණ මේජරගේ මුහුණ නිසලය. එය මඳ සිනාවකින් සැරසී ඇත. මේජර ළඟ නිලධාරී මණ්ඩලයේ ප්‍රධානියාය. ඔහුගේ රතු මුහුණ ඩහදියෙන් තෙමිලාය. ඊළඟට සේවා අංශයේ ප්‍රධානියා සිටගෙන සිටී. සුදු පැහැති ඔහුගේ මුහුණ වටකුරුය. හඳුනන මුහුණු ගොඩකි! ගිලන් මැස්සේ ඉදිරිපසින්

යන්නේ යූරාය. අලෙක්සේයි බැලීමට ඔහු හැරෙන විට ඔහුගේ කකු... ගලක හැපෙයි. ඔහු අසලින් අහස් නියමු කුකුෂ්කින්ය. මිටි මිනිහෙ... ඔහුගේ මුහුණ සෝංගමාල රෝගියකුගේ මෙනි. ඔහුගේ ගතිගුණ ඇ... ඔහු අප්‍රිය වී ඇත. ඉක්මනින් පා තබන යූරා සමඟ ගමන් කිරීමට ... කරන කුකුෂ්කින් අලෙක්සේයි දෙස බලමින් මඳ සිනා පායි.

තමාට මෙතරම් විශාල සංඛ්‍යාවක් මිතුරන් සිටින බව මීට ... අලෙක්සේයි නොදන්නේය. මිනිසුන්ගේ සුහද ගති පැන නැගුණු ... ඔහොම තමා!

බිරියෝසා බැද්දක සඟවා තිබූ රිදී පැහැති කුඩා සෞඛ්‍ය ... අහස් යානයක් වෙත අලෙක්සේයි ගෙනයන ලදී. එහි ඇන්ජිම ක්‍රි... කරවන සැටි ඇසේ.

හදිසියෙන්ම අනතුරු හැඟවීමේ සංඥා නළා හැඬවිණ. නියමු... සහ සේවකයෝ ක්‍රියාකාරීවීමට සූදානම් වූහ. මේජර් කෙටි නියම... කිපයක් කල විගසම ඔවුහු කුහුඹුවන් මෙන් විසිර ගියහ. සමහරු ... ඇති අහස් යානා වෙත දුව ගියහ. සමහරු අණදෙන බිම් ගෙය තු... ගියහ. අන් සමහරු බැද්දේ සඟවා ඇති යන්ත්‍ර වෙත ගියහ. අළු පැහැ... පුංචි රොකට්ටුවක් ආලෝකය ඇති කරමින් බිම වැටුණු සැටි අලෙක්... දුටුවේය. එය සතුරු ගුවන් ආක්‍රමණය ගැන දන්වන සංඥාවකි.

ලෙනා සහ යූරා අලෙක්සේයි වැතිර සිටින ගිලන් මැස්සත් ... ගෙන නුදුරු බැද්දට දුවන්නට වූහ. කැළඹීම නිසා ඔවුන්ට එක්වර ... තැබීමට බැරි වුවද, ආරක්ෂක ස්ථානයකට ඔහු ගෙනයාමට ඔවුහු ස... වූහ.

ආරක්ෂක ස්ථානයේ බිම් ගෙය තුළට ගිලන් මැස්ස ගෙනයාම... බැරිය. මන්ද යත්, එහි දොර ගිලන් මැස්සට වඩා පටු බැවිනි. යූරා ... හෙදිය මැස්ස පසෙක තබා අලෙක්සේයි වඩාගෙන යාමට සූදානම් ... විට, ඔහු එයට විරුද්ධ වෙමින් ගිලන් මැස්ස විශාල ලෙස මුල් බැස ඇ... බිරියෝස ගස මුල තබන ලෙස ඉල්ලා සිටියේය. ඊළඟ විනාඩි කීප... තුළදී ඇති වූ අහස් සටන් දෙස ඔහු බලා සිටියේ සිහිනෙන් මෙ... පොළොවේ සිට අහස් සටන් දෙස බැලීමට නියමුවෙකුට අවස්ථා... ලැබෙනුයේ කලාතුරකිනි. යුද්ධයේ පළමුවැනි දවසේ සිට ප්‍රහාරක යුද... අහස් යාත්‍රාවක් පැදවූ අලෙක්සේයි මෙරේස්යෙව් කිසිදිනක බිම සිට අහ...

යාත්‍රා සටනක් දක නැත. අහස් සටන්වල විදුලි වේග ප්‍රහාරය ගැන හොඳ දැනුමක් ඇති අලෙක්සේයිට මේ සටන පෙනෙන්නේ බොහොම හෙමින් කෙරෙන්නක් ලෙසය. බිම සිට බලන විට ඒ සටන් බිහිසුණු ලෙසත්, මැෂින් තුවක්කු පහර භයානක දෙයක් ලෙසත් නොදනේ. "ඉල්" වර්ගයේ අහස් යානා ඒ මේ අත යමින් කරන මේ සටන ඔහුට ගෘහමය හා සුපුරුදු බවක් ගෙන දුන්නේය. ගස මුල වැතිර සිට අහස් සටන දෙස බලන අලෙක්සේයිට මහන මැසිමක හඬකට සමාන වූද, කපුපිළි ඉරන විට ඇතිවන හඬකට සමාන වූද හඬක් ඇසිණ.

සටනින් පසු ප්‍රහාරක අහස් යානා අහස් තොටුපළට ගොඩ බසින්නට විය. පුරුදු පරිදි තොටුපළට උඩින් කවාකාර ලෙස පියාඹන්නේ නැතිව හැකිතරම් ඉක්මනින් ගොඩබසිමින් සිය ආරක්ෂක ස්ථාන බලා දුවති.

නැවත නිහඬතාවයකි. අහස් තොටුපළ හිස්විය. අහස් යානා එන්ජින්වල හඬ නැවතිණ. එහෙත් අණදෙන කඳවුරේ නිලධාරීහු තවමත් අහස දෙස බලාගෙන සිටිති.

"නොම්මර නවය ඇවිත් නැහැ. කුකුෂ්කින් කොහේ හරි අමාරුවක වැටිල වගෙ" යැයි යූරා කීය.

කුකුෂ්කින්ගේ සෙංගමාල රෝගී මුහුණ අලෙක්සේයිට මැවී පෙනේ. හැමදා මෙන්ම දනුදු කුකුෂ්කින් නොසතුටු බවක් පළ කරයි. ඔහු තමාගේ ගිලන් මැස්ස මහත් ප්‍රවේසමකින් උස්සාගෙන ආ සැටි අලෙක්සේයිට මතක් විය. කුකුෂ්කින්ට මක් වුණාද? සටන් අධික දවස්වල සාමාන්‍ය දෙයක් ලෙස හැම නියමුවෙක්ම සලකන මේ කරුණ ගැන දන් ගිලන් මැස්ස මත වැතිර සිටින අලෙක්සේයි සිතන්නේ සුසුම් ලමිනි. එවකට අහසේ අහස් යානාවක හඬක් ඇසිණ.

යූරා ප්‍රීතියෙන් කෑ ගැසීය.

"නොම්මර නවය!"

අණදෙන ස්ථානය නැවත ක්‍රියාකාරී විය. කිසිවක් සිදු වූවාක් මෙනි. අංක නවයේ අහස් යානය අහස් තොටුපළට ගොඩ බසින්නේ නැතිව කවාකාර ලෙස පියාඹන්නට විය. ඒ අහස් යානයේ එක් පියාපතකට

වෙඩි වැදී ඇති බවත් එහි එක් 'පයක්' කැඩී ගොස් ඇති බවත් අලෙක් දැක්කේය. රතු රොකට් දෙකක් අහස් ගත වීය. කුකුෂ්කින් නැවත අහස් තොටුපළට උඩින් පියාඹා ගියේය. විනාශ වුණු කුරුලු කූඩු ඉහළින් පියාසර කරන කුරුල්ලෙක් සුදුසු තැනක් සොයමින් ලතැ සැටියත් කුකුෂ්කින්ගේ ක්‍රියාවෙන් හැඟේ.

ගොඩ බැසීමකට බැරි තත්ත්වයක අහස්යානය තිබේ නම්, නැග පැරෂුට්යේ ආධාරයෙන් බිමට පැනීමට නියමුවාට අවසර ඇ එසේ කරන ලෙස අණදෙන ස්ථානයෙන් ඔහුට නියෝගයක් ලැබී ඇ සිතිය හැකි වුවද, කුකුෂ්කින් මුරණ්ඩු ලෙස වලේට පියාඹයි.

තුවාල ලබා සිටින අංක නවයේ අහස් යානයට ආධාර දීම අංක එක දරන ප්‍රහාරක අහස් යානය ගුවන් ගත්තේය. අංක එක දැ ලෙස අංක නවයේ බිඳී ගිය පියාපත වෙත ළංවීය. එය පදවන් නියමුවන්ගේ අණ දෙන නිලධාරියා බව අලෙක්සේයි දැනගත් කුකුෂ්කින්ගේ විදුලි පණිවුඩ උපකරණ ක්‍රියා විරහිත වී ඇතැයි ද, නම් හිසට වැදුණු පහරක් නිසා කුකුෂ්කින් කම්පනයට පත් වී ඇතැ සිතූ අණ දෙන මණ්ඩලය ආධාර වශයෙන් ප්‍රහාරක යානය යවා අනුකරණය කරන ලෙස ඉඟියෙන් කියා සිටී. ප්‍රහාරක යානය ඉහ නැංගේය. එවිට කුකුෂ්කින් ගැස් අඩු කොට, ගොඩ බැසීමට සූදා විය. බිඳී ගිය පියාපත සහ කැඩුණු "පයක් සහිත කුකුෂ්කින්ගේ අහ යානය අලෙක්සේයිගේ හිසට උඩින් පියාඹා ගියේය. නොකැඩුණු කකුලෙ තොටුපළේ කෙළවරට බට අංක නවය වේගය අඩු කරමින් මදක් ගොස්, දකුණු පැත්තට වැටී වටයක් කරකැවිණ. හිම කුණාටුවක් ඇති කලෙක මෙන් කුඩා හිම කැට හා හිම ඉහළ නැංගේය.

හිම පටලය අතුරුදහන් වූ පසු අහස් යානය ළඟ යම් කිසි පැහැති ලපයක් පෙනිණ. සයිරන් නලාව හඬවමින් සෞඛ්‍ය සේවා රථය ඒ ලපය දෙසට දුව ගියේය.

"කුකුෂ්කින් අහස් යානය බේරා ගත්තා! යස හාදයා! ඒ ව හපන්කමක් කරන්ට එයා ඉගෙන ගත්තෙ කවදාද? " ගිලන් මැස් වැතිර ගෙන තමාටම එසේ කියාගත් අලෙක්සේයි තම සොහොයුර කෙරෙහි ඊර්ෂ්‍යා කළේය. හැමදෙනාම අප්‍රිය කරන ඒ මිටි මිනිහා වෙ දුවගොස් ඔහුගේ වීරත්වයට උපහාර දක්වීමට අලෙක්සේයිට සිතිණ එහෙත් ගිලන් මැස්සට බැඳ ඇති ඔහුගේ සිරුර වේදනාවෙන් කකියයි.

සුවසේවා අහස් යානයේ ඇඳකට අලෙක්සේයිගේ ගිලන් මැස්ස ස්ථිකරන ලදී. දොරක් විවර වී නාඳුනන දොස්තර කෙනෙක් ඇතුළු විය.

"එක ලෙඩකුව ගෙනැවිත් නේද?" යි ඔහු අලෙක්සේයි දෙස බලමින් ප්‍රශ්න කළේය. "අපූරුයි! අනිත් ලෙඩාවත් ගේන්න" යැයි හෙතෙම කීය.

යූරාගේ ආධාරය ඇතිව දොස්තර තවත් ගිලන් මැස්සක් යානය තුළට ගෙන සවි කළේය. රෝගියා වසා ඇති බ්ලැන්කෙට්ටුව මාරු කරන විට, වේදනාවෙන් පිරුණු කුකුෂ්කින්ගේ මුහුණ පෙනිණි.

දොස්තර වට පිට බලා, දෑත් පිරිමැද අලෙක්සේයි දෙසට හැරී කතා කළේය.

"අපූරුයි! තරුණයා තමුසෙට තනිවට මෙන්න තවත් කෙනෙක්. දැන් ඉතින් පිට උදව්ය එළියට බහින්න!"

පිටවීමට අකමැත්තෙන් සිටි යූරා දොස්තර විසින් පිටතට තල්ලු කර දමන ලදී. දොර වැසිණි. අහස් යානය ගුවන් ගත්තේය. දොස්තර අලෙක්සේයි වෙත ආවේය.

"කොහොමද සැප සනීප?" මෙසේ ඇසූ දොස්තර "මෙහාට දෙනව අත තමුසෙගෙ නාඩි බලන්න." ඔහු අලෙක්සේයි වෙත සැලකිල්ලෙන් බලා හිස වනමින් මෙසේ කීවේය. " හ්ම්! ලොකු චිත්ත ධෛර්‍යයක් ඇති මිනිහෙක්." තමුසෙගෙ යාළුවො මට කීව තමුසෙගෙ හපන්කම් ගැන. හිතන්න පවා අමාරුයි! ජැක් ලන්ඩන්ගෙ නවකතාවක් වගේ."

දොස්තර තම සනීප පුටුවට වැදී හරිබරි ගැසී වාඩි විය. මොහොතකින් ඔහු නිදි කිරා වැටෙන්නට විය. තරුණයෙකු නොවන, සුදුමැලි මුහුණක් ඇති මේ දොස්තර විඩාපත් වී සිටින සැටි පෙනිණි.

"ජැක් ලන්ඩන්ගෙ නව කතාවක් වගෙ" යැයි තමාටම කියා ගත් අලෙක්සේයි මෙරේස්යෙව්ට තම ළමා කාලය ගැන සිහි විය. දෙපා හිරිවැටුණු මිනිහෙක් කාන්තාරයක් මැදින් ගමන් කරයි. ඔහු පසුපස බඩගිනි වෘකයෙක් ලුහුබඳින සැටි විස්තර කරන කතාවක් මතක් විය. අහස් යානයේ යන්ත්‍රවල ඒකතානමය හඬ නිසා අඩ නින්දට වැටුණු අලෙක්සේයිට තමා වටා හැම දෙයක්ම පාවෙන සැටියක් දනිණි. ඔහු

සිහිනයක් දකී. යුද්ධයක් නැත. බෝම්බ දම්මක් නැත. එහෙත් දෙපාවලි... නැඟෙන වේදනාව ඉවසා සිටීමට පවා බැරිය. මොස්කව් නගරය ම... පියාඹන අහස් යානාවක් ද නැත. තමා උපන් කම්මීන් ගමේදී සිය... ලද අපූරු මෝ කතා පොතක කතාවකි මේ.

## දෙවැනි කොටස

1

අහස් හමුදාවේ අණදෙන සෙනෙවි තැනගේ ඉල්ලීම පිට අලෙක්සේයි මෙරේස්යෙව් සහ කුකුෂ්කින් මොස්කව්හි උසස් රෝහලකට ගෙන යන ලදී.

යුද්ධයට පෙර මෙතැන චිකිත්සාගාර ආයතනයක් තිබිණ. සුප්‍රසිද්ධ සෝවියට් වෛද්‍ය විද්‍යාඥයෙක් රෝග හා තුවාල සුව වූ පසු ඉක්මනින් මිනිසුන් සිරුර ප්‍රකෘති තත්ත්වයට ගෙන ඒමේ ප්‍රතිකාර ක්‍රම අත්හදා බැලුවේ මෙහි ය. මේ ආයතනයට ආවේණික වූ සම්ප්‍රදායයන් තිබුණු අතර එය විශ්ව කීර්තියක් ලබා තිබිණි.

යුද්ධය පටන් ගත් පසු විද්‍යාඥයා තම ආයතනය සෝවියට් හමුදාවේ නිලධාරීන් සඳහා රෝහලක් බවට පත් කළේය. විද්‍යාව දත් නවීනතම ක්‍රම හා විධි පෙර මෙන් ම දුනුදු මෙහි රෝගීන් සඳහා යොදවනු ලැබේ. යුද්ධය මොස්කව් නගරය ළඟම ඇවිලිණි. තුවාල ලැබූ යුද භටයින් ගලා එන්නට වූයෙන් පෙර තිබූ ඇඳන් ගණන හතර ගුණයකින් වැඩි කිරීමට සිදු විය. රෝහලේ කාර්යාල කාමර හා ගබඩා කාමර ලෙඩුන්ගෙන් පිරිණ. විද්‍යාඥයා තම කාර්යාල ද ලෙඩුන් සඳහා දී කාර්යාලීය උපකරණ, ලිපි ගොනු ආදිය වෙනත් තැනකට ගෙන ගියේය. තම එදිනෙදා වැඩ කටයුතුවලට හෙදියකගේ කුඩා කාමරයක් තෝරා ගත්තේ ය. මෙසේ වුවද කොරිඩෝරයේ ද ගිලන් ඇඳන් තබා රෝගීන්ට වෛදකම් කිරීමට සිදුවිය.

රෝහලේ ප්‍රධානියා වූ සුප්‍රසිද්ධ විද්‍යාඥයා උත්තරීතර සෝවියට් මන්ත්‍රී මණ්ඩලයේ සාමාජිකයෙකි. ඔහු ඇතුළු සියලු දොස්තරවරු හා හෙදියෝ, සුළු සේවකයෝ, මුර කරුවෝ ආදී හැම දෙනෙක් ම එකා මෙන් රෑ දවල් නොබලා, වෙහෙස නොතකා වැඩ කළහ. අධික වෙහෙස නිසා ඔවුන්ගේ දෙපා ගැටෙන්නට විය. අඩක් කුසගින්නේ සිටීම නිසා නිතර ක්ලාන්ත ගති ඇති විය. එහෙත් මේ සියලු කරදර මැද ඔවුහු නියමිත වේලාවට වැඩ භාර ගත්හ. රෝහල පේදීම, ඇඳන් පුද්ධ කොට ලෙඩුන්ට අලුත් ඇඳුම් ඇන්දවීම ආදිය පමා නොවී කෙරිණි. කෙට්ටු ශරීර ඇති හෙදියෝ සුදු ඇඳුමින් සැරසී වැඩට ආහ. මන්ද පෝෂණය හා කුසගින්න

නිසා ඔවුහු මැහැලියන්ට සමාන වූහ. විඩාපත් වීම නිසා දෙපා ...
ගසා කෙළින් සිටීමට තරම් ශක්තියක් නොතිබුණ ද ඔවුහු දොස්තරවරුන් ...
සියලු නියමයන් අකුරටම ක්‍රියාවට යෙදවූහ. කනිෂ්ඨ දොස්තරවරු ...
මෙන්ම ගිලනුන්ගේ ඇඳන් වල ඉතා කුඩා ලපයක් පවා ඇතිවීමට ...
නොහරිමින්, තමන්ගේ ලේන්සු වලින් රෝහලේ බිත්තිවල දොරවල ...
පැල්ලම් ආදිය පිස දැමූහ. රෝහලේ ප්‍රධානියා වූ සුප්‍රසිද්ධ වෛද්‍ය විද්‍යා...
යුද්ධයට පෙර කාලයේදී මෙන් ම දැන් ද තම දොස්තර පිරිස ...
නියමිත. වේලාවට වාට්ටුවෙන් වාට්ටුව කරා යමින්, ලෙඩුන් පරී...
කරමින්, අසාධ්‍ය ලෙඩුන්ට ප්‍රතිකාර කිරීම ගැන උපදෙස් දෙමින්, අලු...
ඇතුළු කර ගත් ලෙඩුන්ගේ රෝගයන් ගැන සොයා බලමින් කටයු...
කලේය. ප්‍රධානියාගේ මුහුණ රතුය. හිසකේ පැසිලාය. ඔහුගේ උඩු...
පැරණි රජකු සිහි කරවයි. කැඳ දමා මදින ලද සුදු ලෝගු ඇඳ...
දොස්තර වරුන් සමඟ එකතුව ඔහු මේ විධියට දවසකට දෙවරක් ලෙඩු...
පරීක්ෂා කරයි.

තම කනිෂ්ඨ සේවකයකුගේ යම් කිසි වැරැද්දක් දකින ප්‍රධානියා ...
ලෙඩුන් ඉදිරිපිට, එම වැරැද්ද සිදු වූ තැනම ඔහුට හඬ නගා බැණ ...
වදිමින් දොස් පවරයි. යුද්ධයට පෙර කාලයේදී මෙන්ම දැනුදු, තම රෝහ...
ආදර්ශවත් ආයතනයක් විය යුතු යැයි කියමින් කෑ ගසන, ප්‍රධා...
තැන සතුරු අහස් යානා බෝම්බ දමන විටදීත්, යුද්ධය මොස්...
නුවරට ළං වී තිබෙන විටදීත් එසේම තම යුතුකම් ඉටු කළ යුතු ...
කියා සිටී. හිට්ලර්ගේ හා ගෝරින්ගේ මලේච්ඡයින්ට පිළිතුරු දිය හැක්...
ඒ විදියට බව කියා සිටින ප්‍රධාන තැන යුද්ධ කාලයේ අමාරුකම් නිසා ...
තම වැඩ කටයුතු නිසි ලෙස ඉටු නොකිරීම පිළිනොගත හැකි බව කියා...
යුද්ධ අමාරුකම් නිසාම හැම දෙයක්ම ආදර්ශවත් ලෙස කළ යුතු ...
හෙතෙම කියා සිටී. නියමිත වේලාවට - විනාඩියක්වත් පමා නොවී ...
ප්‍රධාන තැන තම පරීක්ෂණ කටයුතු පටන් ගනී. බෝම්බ ප්‍රහාරයක් ...
පවා ඔහු තම වැඩකටයුතු පමා නොකරයි. යුද්ධ කාලයේ අමාරුකම් ...
නොබලා රෝහලේ සියලු සේවකයින් ආදර්ශවත් ලෙස තම කටයුතු ඉටු ...
කිරීමට ආශ්වාදයක් ලබා ගත්තේ ප්‍රධානියාගෙනි.

දවසක් දා රෝහලේ ප්‍රධානියා - වසීලියි වසිලෙවිච් - සිරි...
පරිදි ලෙඩුන් පරීක්ෂා කිරීම පටන් ගත්තේය. තුන් වැනි මාලයේ පඩිපෙළ...
අසල ගිලන් ඇඳන් දෙකක් තබා ඇති සැටි හෙතෙම දුටුවේය.

මොකද මෙතන ප්‍රදර්ශනයක්ද?" යි ප්‍රධානියා ප්‍රශ්න කරමින් ...

රවා බැලුවේය. තුන්වැනි මාලය භාර සැත්කම් දොස්තර තැන උසය
වටකුරු දෙවුරක් ඇති ඔහු මැදිවියේ පසුවන කඩවසම් පෙනුමැත්තෙකි
පාසල් යන කොල්ලකු ප්‍රධානාචාර්ය වරයා ඉදිරියේ පෙනී සිටින්නාය
මෙන් සීරුවෙන් සිටි ඔහු පිළිතුරු දුන්නේය.

''රියේ රෝහලට ඇතුළු කරගත්තේ අහස් නියමුවෝ.... මේ එය කෙනාගෙ කකුල සහ දකුණු අත කැඩිල. සෞඛ්‍ය තත්ත්වය සාමාන්‍යයි අර ලෙඩා'' - ඔහු ඇත ඇඳේ වැතිර සිටින ඇට සැකිල්ලක් වැනි රෝගියකු පෙන්වමින් කතා කළේය. රෝගියා දෑස් වසාගෙන නොසෙල වී වැතිර සිටී. ''බොහොම අසාධ්‍ය තත්ත්වයක. එයාගෙ දෙපාවල ඇට සියල්ලම පුපුරා කැඩී තිබෙනවා. දෙපාවල මස් කුණුවීම නිසා කෝර රෝගයෙන් පෙළෙනවා. එයා හොඳටම කෙට්ටුයි, දුර්වලයි. ඒ ලෙඩා ඇට බිඳුණු දෙපා ඇතිව දවස් දහ අටක් තිස්සේ බඩගාමින්, දණ ගාමින සෝවියට් කඳවුර සෙවූ බව ලෙඩා සමහ පැමිණි යුද්ධ වෛද්‍ය නිලධාරියා වාර්තා කළා. මම එය ඇත්තක් හැටියට විශ්වාස කරන්නේ නැහැ. ඇත්තෙන්ම එය අතිශයෝක්තියක්......''

දොස්තරගේ කතාවට සවන් නොදුන් වසීලියි වසීලෙවිච් රෝගියා වසා ඇති කම්බිලිය ඇර බැලීය. දත් පපුව මත තබාගෙන, ඇස් පියාගෙන සිටින අලෙක්සෙයි මෙරේස්යෙව්ගේ කළු පැහැති කෙට්ටු අත්, සුදු පැහැති ඇඳ ඇතිරිලි මත වඩාත් හොඳින් කැපී පෙනෙයි. මිනිසකුගේ ඇට කටු සැදී ඇති සැටි ඔහුගෙන් පෙනේ. වසීලියි වසීලෙවිච් මහාචාර්ය තැන පරිස්සමෙන් රෝගියා වසා, දොස්තර වෙත හැරී ප්‍රශ්න කළේය.

''මොකද මෙතන තියල තියෙන්නේ?''

''කොරිඩෝරයේ ඉඩ නැහැ.... ඔබ තුමා.....''

''ඇති. 'ඔබ තුමා', ඔබ තුමා'! හතළිස් දෙවැනි කාමරේ?'' යැයි මහාචාර්ය තුමා ප්‍රශ්න කළේය.

''ඒ කාමරේ ජ්‍යෙෂ්ඨ නිලධාරීන්ට.''

''ජ්‍යෙෂ්ඨ නිලධාරීන්ටද?'' මහාචාර්ය තුමා ගුගුළේය.

''මොන මෝඩයද එහෙම වෙන් කළේ? අමන කමක හැටි!''

"සෝවියට් සංගමයේ වීරයින් සඳහා විශේෂ කාමරයක් ... කරන්ට කියල නියම කරල තියෙනව."

" වීරයො', 'වීරයෝ!" මේ යුද්දෙ හැම කෙනෙක්ම වීර... තමුසෙ මට උගන්වන්ට හදනවද? මගේ නියමයන්ට අකමැති ... යන්ට පුළුවනි. වහාම මේ ලේඩිබූ දෙන්නව හතළිස් දෙකට ගෙනියා... ජ්‍යෙෂ්ඨ නිලධාරින්ගෙ කාමර කියල මෝඩ අදහස් මතු කරන්න එ...

වසීලියි වසීලෙවිච් තම පිරිවර දොස්තරුන් සමඟ ඉවත ගි... වහාම නැවත ඇවිත් අතක් අලෙක්සේයිගේ උරහිස මත තැබිය. හොයෙ... විෂබීජ නාශක බෙහෙත් වලින් සෝදා ඇති ඔහුගේ අත්වල හම රැලි ... ඇත.

"ඇත්තද තමුසෙ සතුරු කඳවුරට පිටුපසින් සුමාන දෙකක... වැඩි කලක් බඩ ගා ගෙන ගියයි කියන්නෙ?"

"ඇත්තටම මට කෝථ රෝගය හැදිලද?" අලෙක්සේයි මහාචා... චරයාගෙන් ඇසීය.

වසිලියි වසිලෙවිච් දොර ළඟ නැවතී සිටින තම පිරිවර ජන... දෙස රවා බැලීය. අලෙක්සේයිගේ විශාල ඇස් සහිත කැළඹුණු මූ... දෙස කෙළින් බැලූ මහාචාර්යවරයා මෙසේ පැවසීය. "තමුසෙ වී... කෙනෙකුට බොරු කියන එක පාපයක්. කෝථ රෝගය තමා. අධෛර්... වෙන්ට එපා. සුව නොකළ හැකි රෝගයක් නැහැ. බලාපොරොත්තු රහි... තත්ත්වයකුත් නැහැ. තේරුණාද? ඔන්න ඔහොම...."

2

"ජ්‍යෙෂ්ඨ නිලධාරීන්" සඳහා වූ කාමරය කුඩා එකකි. බිම ... සටහන් අනුව බලන විට යුද්ධයට පෙර එහි ඇඳන් දෙකකුත් ... මේසයකුත් කුඩා ලාච්චු මේස දෙකකුත් තිබුණු බව පෙනේ. දැන් ... ගිලන් ඇඳන් හතරකි. එක ඇඳක වැතිර සිටින රෝගියාගේ මුළු සිරු... වෙළුම් පටිවලින් බැඳ ඇත. ඔහු ඒ අනුව මේ දැන් උපන් යෝධ බිළිඳෙ... මෙනි. උඩුබැලි අතට වැතිර සිටි හෙතෙම සිලිම දෙස බලාගත්වනම ...

ලෙක්සේයිගේ ඇඳ ළඟ උන් අනිත් රෝගියා සිහින් ය. ඔහුගේ මුහුණ
ුරා කැළැල්ය. හම රැලි ගැසිලාය. උඩු රැවුල සිහින්ය. ඔහු නිතර කතා
ාරයි. සගයින්ට උදව් වෙයි.

රෝහලක රෝගීහු ඉක්මනින් මිත්‍ර වෙති. තමා අසල ඇඳේ සිටින
ාෝගියා සයිබීරියානුවෙකු බවත්, ඔහු සමූහ ගොවිපළක සභාපතිවරයකු
ාවත්, දඩයක්කාරයකු වූ ඔහු යුද්ධ කාලය විසින් සැඟ වී වෙඩි
ාැබීමෙහි දක්ෂයකු බවට පත් කොට ඇති බවත් අලෙක්සේයි දැනගත්තේ
ා. ඔහු සෝවියට් සංගමයේ වීරයෙකි. ඔහු තමාගේ නම කී විට අලෙක්සේයි
කුතුහලයකින් යුතුව ඔහු දෙස බැලිය. ඔහුගේ නම අතිශයින්ම ප්‍රසිද්ධය.
ප්‍රධාන පුවත්පත් මේ වීරයා ගැන කතු වැකි පවා ලියා ඇත. රෝහලේ
හැම දෙනෙක්මත්, වාට්ටුව භාර දොස්තරත්, මහාචාර්ය තුමාත් ඔහු
අමතන්නේ ස්තෙපාන් ඉවානොවිච් යන ගෞරවනීය නමිනි.

මේ කාමරයේ හතරවැනි රෝගියා වෙළුම් පටි වලින් බැඳ ඇත.
ඔහු වචනයකුදු කතා නොකරයි. හැම දෙයක්ම දන්නා ස්තෙපාන්
ඉවානොවිච් ඔහුගේ ඉතිහාසය අලෙක්සේයිට විස්තර කළේ ය. ඔහුගේ
නම ග්‍රිගොරි ග්වොස්දේව් ය. යුද ටැන්කි හමුදාවේ ලයිතන් කෙනෙකු
වූ ඔහු ද සෝවියට් සංගමයේ වීරයෙකි. යුද ටැන්කි යුද්ධාභ්‍යාස විදුහලින්
උපාධි ලබා ගත් හෙතෙම යුද්ධයේ පළමු වැනි දවසේ සිටම පෙරමුණ
ගෙන සටන් කළේ ය. බෙලොස්ටොක් අසල ඇති වූ මහ සටනකදී
ඔහුගේ ටැන්කිය විනාශ විය. වෙනත් යුද්ධ ටැන්කියකට ඇතුළු වූ
හෙතෙම ඉතිරි වූ යුද්ධ ටැන්කි සමඟ එකතුව මින්ස්ක් නගරය දෙසට පසු
බසින පාබල හමුදාව ආරක්ෂා කළේ ය. බුග් නදිය අසල කළ සටනින්
තම දෙවැනි යුද්ධ ටැන්කියද විනාශ වූයෙන් තෙවැනි වරටත් යුද්ධ
ටැන්කියක් සොයා ගෙන මිය ගිය ප්‍රධානියකු වෙනුවට යුද්ධ ටැන්කි
කණ්ඩායමක් මෙහෙයැවීය. ඔහුගේ යුද්ධ ටැන්කි කණ්ඩායමක් සතුරු
හමුදා විසින් වට කැරිණි. ජංගමශීලී යුද්ධ ටැන්කි කණ්ඩායම සංවිධාන
කළ ග්‍රිගොරි ග්වොස්දේව් මසක් තිස්සේම සතුරාට පහර දෙමින් ඔහුගේ
ප්‍රවාහණ සේවයට හා හමුදා වලට අලාභ හානි කළේය. මේ කණ්ඩායම
යුද්ධ ටැන්කි තුනකින් යුක්ත විය.

ඔහු දොරොගොබුෂ්හි උපන්නෙකි. යුද පෙරමුණ තම ගම හරහා
වැටී ඇති බවත්. එහි සටන් ඇවිල පවතින බවත් රේඩියෝ මගින් නිකුත්
කරන සෝවියට් ඉන්පෝම් බියුරෝ පුවත් මගින් දැනගත් ග්‍රිගො

කෝනෙව් සෙනෙවියාගේ යුද සේනා ජුනි මාසයේදී බටහිර පෙරමුණේ ප්‍රහාරයක් ඇරඹීය. ග්‍රෙගොරි ග්වොස්දේව් අනිකුත් යුද්ධ ටැන්කි භටයනුත් සමඟ එකතුව ජර්මන් පෙරමුණ බින්දේය. අගෝස්තු මාසයේදී ඔහුට නවීන "ටී-34" වර්ගයේ යුද්ධ ටැන්කියක් ලැබිණ. ඊළඟ ත සෘතුව වන විට "සීමා රහිත" මිනිසා යන විරුදාවලිය ලැබීමට ග්වොස්දේව් සමත් විය. ඔහු ගැන විස්තර පුවත්පත්වල පළවන්නට විය. විශ්වාස කළ නොහැකි වුවද ඇත්ත වශයෙන් ම ඔහු කළ වීර ක්‍රියා ගැන කතාවක් ලියන ලදී. දවසක්දා රැයෙක ඔහු ඔත්තු බැලීමට යැවූ විට, ධික වේගයකින් තම යුද්ධ ටැන්කිය පැද වූ ග්වොස්දේව් මයින් වෙඩි ලලා තිබූ පිටිය හරහා ගොස් සතුරු කඳවුරට වැදී, සතුරා බිය ගන්වමින් වෙඩි තැබීය. සෝවියට් හමුදා විසින් අඩක් වට කරන ලද ගමකට වැද සතුරාට තදබල ලෙස අලාභ හානි කොට සෝවියට් හමුදාවන්ට නැවත ක් විය. ජංගමශීලී ටැන්කි හමුදාවක සේවය කළ ග්වොස්දෙව් සතුරු කඳවුරකට වැදී ඔවුන්ගේ ප්‍රවාහණ හමුදාවක අසුන්ට, සෙබළුන්ට හා යුද්ධායුධවලට මහත් අලාභ හානි කළේය.

ශීත සමයේදී ඔහුගේ යුද්ධ ටැන්කි කණ්ඩායමක් ර්ෂෙව් නගරය අසල ජර්මන් කඳවුරකට පහර දුන්නේ ය. ර්ෂෙව් අසල ගමක ආරක්ෂක ස්ථාන පසු කර යද්දී ග්වොස්දේව්ගේ යුද්ධ ටැන්කියට ගිනි ගන්නා සුලු ද්‍රව්‍ය පිර වූ බෝතලයකින් ගසන ලදී. යුද්ධ ටැන්කිය පුපුරා ගිනි ඇවිලී ගියද ග්වොස්දේව් සහ ඔහුගේ භට පිරිස දිගටම සටන් කළහ. ජර්මනුන්ගේ වටලෑමකින් ග්වොස්දේව් සමඟ ගැළවී ආ මේ පිරිස දන් දන් තම යුද්ධ ටැන්කියේ පැට්රල් ටැන්කිය හා වෙඩි බෙහෙත් කාමරය පුපුරා ගොස් සියලු දෙනම නැසෙන බව දන දනත් අභීතව සටන් කළහ. ඇවිලෙන ගිනි හා දුම් නිසා ඔවුන්ට ආශ්වාස ප්‍රශ්වාස කිරීම අපහසු විය. ගිනිගෙන ඇති යුද්ධ ටැන්කියේ උෂ්ණය නිසා ඔවුන්ගේ ඇඳුම් ද හම ද පිළිස්සුණද ඔවුහු සතුරාට පහර දීම නොනැවැත් වූහ. සතුරු වෙඩි පහරකට අසුවූ යුද්ධ ටැන්කිය උඩු යටිකුරු වී පෙරළිණ. පිපිරීම නිසා හෝ වැලි සහ හිම කුණාටුව නිසා හෝ යුද්ධ ටැන්කියේ ගිනි නිවිණ. ග්වොස්දේව් යුද්ධ ටැන්කියෙන් පිටතට ඇද ගත් විට ඔහු මිය ගිය කාලතුවක්කු භටයා වෙනුවට වෙඩි තබමින් සිටියේ ය. ඔහුගේ මුළු සිරුරම ගින්නට හසු වී පිළිස්සී තිබිණ.

දෙමසක්ම ඔහු මාරයා ඉදිරිපිට සටන් කළේය. ඔහුට සුවය ලැබෙතියි කිසිවෙක් නොසිතූහ. සමහර විට, දින ගණනක් ම ඔහු වචනයකු කතා නොකළේ ය.

බරපතල ලෙස තුවාල ලැබූවන්ගේ ලෝකය රෝහලේ
හතරකට පමණක් සීමා වෙයි. අසීරු, විඩාපත් කරවන මේ කාලය
ඔහු තම ගිලන් ඇඳ මත වැතිර ගෙන කල්පනා කළේ තුවාලය
ඔහුට සිහිනෙන් පවා තම තුවාල, වණ සහ බිඳුණු ඇට කටු
නින්දෙන් පිබිදෙන ඔහු තුවාල සුව වී ඇද්ද, ඉදිමීම අඩු වී ඇද්ද
බැස ඇද්දැයි සොයා බලයි. නිදි නැතිව ඇඳ මත වැතිර සිටින
කුඩා ශබ්දයක් පවා මහා ඝෝෂාවක් මෙන් ඇසේ. නිතරම තම
හා තුවාල ගැන සිතන නිසා සුළු වේදනාවක් පවා තියුණු වේදන
මෙන් දැනේ. යුද්ධයේදී මරණ බිය කුමක්ද යන්න නොදන්න අභීත
සටන් කරන යුද බටයින් පවා රෝහලේ බිත්ති හතරට මැදිවූ
මෙලෙස තම රෝගයන් සැක කරමින්, ප්‍රධාන දොස්තර තම
ගැන කියන විට, ඔහුගේ කට හඬේ වෙනස් වීමක් ඇති වී තිබේද, ඔ
මුහුණේ පෙනුම වෙනස් වී ඇත්තේ තම රෝගයේ බරපතළ තත්
නිසා යැයි ද සිතමින් තැවෙති.

අලෙක්සේයි තම මානසික හා ශාරීරික වේදනාවන්
නොකළේය. තම රෝගය ගැන දොස්තරවරුන්ගේ කතා බහ නොසල
බවක් ඇඟ විය. ප්‍රතිකාර කිරීම සඳහා ඔහුගේ දෙපා වල ඔතා
වෙළුම් පටි ඉවත් කරන හැම වාරයකදීම, දෙපාවල කෝප රෝ
හඳුන්වන දම්පාට වඩාත් පැතිර ගොස් ඇති සැටි දකින අලෙක්සේයි
වෙයි.

ඔහු නොසන්සුන් විය. ක්‍රමානුකූල ලෙස ලැබෙන පෝෂ්‍යදා
ආහාර නිසා ඔහුගේ පොදු සෞඛ්‍ය තත්ත්වය මඳක් යහපත් විය.
ලබන දොස්තරවරු පෙර මෙන් ඔහු දකින විට බිය නොවෙති.
සෞඛ්‍ය තත්ත්වය යහපත් වන අතර ඔහුගේ දෙපාවල තත්ත්වය
අයහපත් විය. ඇස්වටය දක්වා හම දම්පැහැ ගෙන ඇත. දෙපා
ඇඟිලි වලට වේදනාව හෝ ස්පර්ශය හෝ නොදැනේ. ඉදිකටු
ඇඟිලිවලට අනින ලදී. දෙපයේ මහ සිදුරු කර ගෙන ඉදිකටු මස
කා වැදුණද ඔහුට වේදනාව නොදැනේ. රෝගය ඉහළට පැතිර
වළක්වාලීමට වෛද්‍යවරු සමත් වූහ. වේදනාව දියුණු, තියුණු වූ
ඉවසා සිටීමට බැරි විය. කොට්ටයට මුහුණ ඔබා ගන්නා අලෙක්
දිවා කාලයේ නිහඬව වැතිර සිටී. රාත්‍රී කාලයේදී වාට්ටුව භාර
වන ක්ලාව්දියා් මිහයිලොව්නා වේදනා නාශක මෝපියා බෙහෙත් විද්

"දෙපා කපා දැමීමේ" සැත්කමක් ගැන දොස්තරවරු නිතර

කතා කරන්නට වූහ. වසීලියි වසීලෙවිච් සමහර දාට අලෙක්සේයිගේ අ
ළඟට වී ප්‍රශ්න කරයි.

"කොහොමද කකුල් දෙක කපා දමමුද? කැපුවා සනීප කළ

අලෙක්සේයි ගල් ගැසුණාක් මෙන් නිහඬ වෙයි. දත්මිටි කම
හේ හිස සලයි. මහාචාර්යවරයා නොසතුටකින් මුමුණයි.

"ඉවසපන්, ඉවසපන්! මෙන්න මේ බෙහෙතත්, කරමු" යි කිය
හෙතෙම තවත් ප්‍රතිකාර නියම කරයි.

ඔහු පිටත් වී කාමරයේ දොර වැසිණ. මහාචාර්යවරයා ප්‍රධා
දොස්තරවරුන් ඉවත යන සැටි ඇසිණි. දැස් වසාගෙන සිටි අලෙක්සේ
කල්පනා කළේය. "මගේ කුකුල්, මගේ කකුල්....!" උපන් ගමේ ගි
කරත්ත දක්කන අර්කාෂා මාමා මෙන් මාත් සදහටම අබ්බගාතයකුව
කරුවල ආධාරයෙන් ගමන් කරන්ටද? අර්කාෂා මාමා නාන්ට යන වි
බොරු කුකුල් ගළවා දමා දැතින් ගඟට පනින්නේ වඳුරකු මෙනි.

මේ වේදනාව වැඩි වීමට තවත් හේතුවකි. රෝහලට ඇතුළු
පළමු දවස්වලදීම තම උපන් ගමෙන් - කම්ෂින්වලින් ලියුම් කීපයක
ඔහුට ලැබිණි. අම්මා එවූ ත්‍රිකෝණ ලියුම්* හැම එකක්ම එක සමාන
ඒවායින් අඩක් නැයින්ගේ සුබ පැතුම්ය. ගෙදර කටයුතු ගැන කල
නොවන ලෙස අම්මා පුතුට දන්වීම ය. ඉතිරි කොටස පුතුට අවවාදය
ය. සෙම්ප්‍රතිශ්‍යාව හදා ගන්න එපා. දෙපා තෙමන්න එපා. භයාන
තැන්වලට යන්ට එපා. සතුරා කපටි කෛරාටික බව අමතක කරන්න
එපා. ප්‍රවේසම් වන්න.

නිල් පැහැති ලියුම් කවර වල ලොකු අකුරෙන් ලිපිනය සඳහ
කර ඇත. ඒවා අලෙක්සේයි සමග තරුණ වියේ සිට එක පංතියේ ඉගෙ
ගත් ඔල්ගා ගෙනි. ඈ දැන් කම්ෂින් දව කම්හලේ කාර්මික ශිල්පිනිය
ලෙස වැඩ කරන්නී ය. යුද්ධයට පෙර ඔහු එහි ලෝහ ඉංජිනේ
ශිල්පියකු මෙන් වැඩ කළේ ය. ඔල්ගා ඔහුගේ ළමා විය සිහි කරවි
මිතුරියක් පමණක් නොවූවා ය. ඇගේ ලියුම් අමුතු ය. විශේෂ ය.
ඇගේ ලියුම් කීප වාරයක් ම කියැවිය. පැහැදිලි වචන වල පවා සැ

* "ලියුම් කවරය රහිතව යුද්ධ කාලයේදී මෙලෙස ලියුම් එවන ලදී.

ත් අරුත් සෙවීමට වෙහෙස වූ අලෙක්සේයි නැවත නැවතත් ...
යැවීය.

ඇ ගෙදර පවා නැවත් කම්හල තුළම නිදා ගනිමින් ...
නැවති වැඩ කරන බවත්, දැන් කම්හල කොතරම් වෙනස් වී තිබේද ...
හුට එය හඳුනා ගැනීමට පවා අපහසු බවත්, කම්හල නිපදවන ...
ැන ඇසුවොත්, ඔහු ප්‍රීතියෙන් පිනා යන බවත් ඇ අලෙක්සේයිට ලි...
. ඉදහිට, එනම් මසකට වරක් නිවාඩු ලැබුණු විට ඇ ඔහුගේ අ...
ැලීමට යන බවත්, මහලු ඇගේ සෞඛ්‍ය තත්ත්වය අයහපත් බ...
හුගේ වැඩිමහල් සොහොයුරත් ලියුම් නොලියන බවත්, පසුගිය දින...
ිට ඔහුගේ මව නිතර අසනීප වන බවත් ඔල්ගා අලෙක්සේ...
ැන්වූවාය. නිතර අම්මාට ලියුම් ලියන ලෙස ඉල්ලා සිටි ඔල්ගා ඔහු...
රදර හා අමාරුකම් ගැන ඇට නොලියන ලෙස දන්වා සිටියේ, ...
ැන් අම්මාගේ එකම ප්‍රීතිය බව මතක් කරවමිනි.

දොස්තරවරු වැඩි වැඩියෙන් 'දෙපා කපා දම්මේ'' සැත්කම ...
කතා කරන්නට පටන් ගත්හ. අලෙක්සේයිට මේ වචනය බිය ...
ැන්නේය. ඔහුට දෙපා නැති අබ්බගාතයකු ලෙස කම්මින් වලට ...
සිදු වේද? දෙපා නැති තමා ඔල්ගා ඉදිරියෙහි පෙනී සිටින්නේ කෙසේ...
අලෙක්සේයිගේ වැඩිමහල් සොහොයුරෝ හැම දෙනෙක් ම යුද්ධයේදී ...
ගියෝය. අම්මා දැන් බාල පුතා ගෙදර එන තුරු බලා සිටින්නීය. ...
සාංකාසල්ලට පත් කිරීමද නොකළ යුත්තකි.

'දෙපා කැපීම? නැහැ එයට ඉඩ දෙන්නේ නැහැ! මරණය ...
හොඳයි... කපා දම්ම කොතරම් නපුරු වචනයක් ද? කොහොමවත් ඒ...
ඉඩ නොදෙමි!'' යි අලෙක්සේයි සිතා ගත්තේය.

මවගෙන් හා ඔල්ගාගෙන් ඇත්ත සැඟවීමට තීරණය ...
අලෙක්සේයි තමා දැන් වෙනත් කොටසකට - නිසල පෙදෙසකට ...
කොට ඇති බවත්, එම කොටස් විශේෂ කටයුතු භාරව සිටින බැ...
තව සෑහෙන කාලයක් එහි සේවය කරන බවත් ඔහු ලියුවේ ය. ලිපින...
වෙනස් වීම ගැන කලබල නොවීම පිණිස ය ඔහු එසේ ලීවේ.

# 3

අංක 42 වාට්ටුවේ රෝගීහු සතර දෙනා පතියක් එහි විසූහ. එක් ක් ඔවුන් වෙත පැමිණි ක්ලාව්දියා මිහයිලොව්නා, ඔවුන්ගේ වාට්ටුවට ත් රෝගියකු ඇතුළු කරන බැවින් තරමක තදබදයක් ඇති වන බව වා සිටියා ය. ඈ සමග පැමිණි සේවකයෝ දෙදෙනා ඇඳන් එහා හා කරමින් තවත් ඇඳකට ඉඩ සොයා ගත්හ. ස්තෙපාන් ඉවානොව්ච්ගේ ද ජනේලය ළඟට ගෙන ගියේ ඔහු සතුටු කරවමිනි. කුකුෂ්කින් ඔහු ල තබන ලදී. හිස් තැන ඇඳක් පිළියෙළ කරන ලදී.

එවිටම වාගේ පස්වැනි රෝගියා ගෙන ආහ.

ඔහු තරබාරු රෝගියෙකි. ගිලන් මැස්ස ඔහුගේ බර නිසා 'ක්‍රීක්' න හඬක් නැඟී ය. ගිලන් මැස්ස ඔසවාගෙන ආ සාත්තු සේවකයෝ මින් පා තබමින් ගමන් ගත්හ. වැතිර සිටින රෝගියාගේ මුහුණ ඒ මේ ත වැනිණ. ඉදිමී ඇති ඒ මුහුණ ඉටි රුවක් මෙන් පණ නැති ය. සුදුමැලි දතොල් වේදනාව කියා පෑවේ ය.

රෝගියා පිහිසත් නැතිවාක් මෙනි. එහෙත් ගිලන් මැස්ස බිම ැබූ විගසම රෝගියා ඇස් හැර, වැළමිටි වාරුවෙන් හිස ඔසවා රෝගීන් දෙස බලා, ස්තෙපාන් ඉවානොව්ච් දෙස බලමින් ඉහිමැරුවේ "ජීවිතය තරම් නරක නැහැ" යි කියන්නාක් මෙනි. ඉන්පසු ඔහු කැස්සේ ය. ඔහුගේ ස්ථූල ශරීරය දරුණු පහරවලට ගොදුරු වී ඇති බැවින් ඔහුට බියුණු වේදනාවක් දැනිණ. යම්කිසි හේතුවක් නිසා මේ අලුත් රෝගියා තැන අලෙක්සේයි තුළ ඇති වූයේ නොසතුටකි. සේවකයන් දෙදෙනා සහ හදිය රෝගියා උස්සා ඇඳ මත තබන සැටි ඔහු බලා සිටියේය. ලී කොටයක් මෙන් පණ නැති ඔහුගේ කකුල නුහුරු අතට හැරෙත්ම ඔහුගේ මුහුණ වේදනාවෙන් ඇහෙන්නට විය. දෙතොල් වෙව්ලා කට ඇද විය. වේදනාව උසුලා ගත නොහැකිව ඔහු දත්මිටි කෑවේ ය.

මොහොතකට පසු තම ඇඳ ඇතිරිලි මනාසේ සකස් කර ගත් හෙතෙම ඇඳ අසල ඇති කුඩා අල්මාරියේ තම පොත්, සටහන් පොත්, දත් බෙහෙත්, ඕඩිකොලොන් බෝතලය. රැවුල බාන උපකරණ ආදිය නිසි ලෙස තැබීය. තමා ගෙනා සියලු දේ නියම ලෙස තැබීදැයි බලන්නාක් මෙන් අල්මාරිය දෙස බැලීය. ඉන්පසු හෙතෙම ගොරෝසු හඬකින් කතා කළේ ය.

"හොඳයි, අපි හඳුනා ගනිමු. සේනාංකයක දේශපාලන කොමසාරි
සෙමෙන් වොරබියොව්, තමුසෙලගේ කණ්ඩායමට මාවත් ඇතුල් ක
න්න. මම සාමකාමී, දුම් නොබොන පුද්ගලයෙක්."

ඔහු සන්සුන් ලෙස වාට්ටුවේ රෝගීන් දෙස බැලීය. ඔහුගෙ
බැල්ම ප්‍රවේසම්කාරී පරීක්ෂාකාරී බවත්, ඔහුගේ රත්වන් නෙත් තියුණු
නිරීක්ෂකයින් බවත් ඔහු දෙස බැලූ මෙරේස්යෙව් දුටුවේ ය.

"මම මෙහෙ ආවෙ ටික කාලයකට. අනිත් අය ගැන මට කියන්
බැහැ. මගේ අසරු සේනාංකය මා එන තුරු බලා ඉන්නවා. හිම දි
වෙලා පාරවල් වේලුණාම ගියා...."

"අපි කවුරුත් එහෙම තමා... හිම දියවුණු හැටියෙම පාද පෙරා
තබා නොම්මර පනහෙ වාට්ටුවට යනවා" යයි කී කුකුෂ්කින් බිත්ති
පැත්තට හැරුණේ ය.

රෝහලේ අංක පනහ දරන වාට්ටුවක් නැත. එනමින් රෝගීන්
හඳුන්වන්නේ මිනී කාමරයය. කොමසාරිස් ඒ ගැන තවම නොදන ගත්
කුකුෂ්කින් කණගාටුදායක මනොභාවයකින් පසුවන බව තේරුම් ගත්
අමනාප නොවී, විස්මයෙන් යුතුව කුකුෂ්කින් දෙස බලමින් මෙසේ ඇසී

"යාළුවා තමුසෙට වයස කීයද? යටි රැවුළ පැහිලා! තමුසෙ
අකලට නාකි වෙලා."

4

රෝගීන් විසින් කොමිසාර් වශයෙන් හඳුන්වනු ලැබූ මේ රෝගියා
නිසා අංක හතලිස් දෙකේ වාට්ටුවේ ජීවිතය වෙනස් විය. දෙවැනි දවසේ
දී සියලු රෝගීන් හඳුනාගෙන කතා බහ කරන්නට පටන් ගත් කොමිසාර්
පසුව ස්තෙපාන් ඉවානොවිච් කී පරිදි "හැම දෙනෙකුගේම හදවතට
සරිලන යතුරු" සොයා ගැනීමේ දක්ෂයෙක් විය.

ඔහු ස්තෙපාන් ඉවානොවිච් සමග අසුන් ගැනත්, දඩයම් කිරීම
ගැනත් කතා කළේ ය. මේ අංශවල විශේෂඥයින් වූ මේ දෙදෙනා අසුන්
හා දඩයම් කිරීමට ආශා කළහ. යුද්ධය පිළිබඳව දර්ශනවාදී ලෙස කතා

ිමට කැමති මෙරේස්යෙව් සමඟ හෙතෙම අහස් යානා, යුද්ධ ටැන්කි අසරු හමුදාව ගැන වාද විවාද කළේ ය. අහස් යානාව සහ යුද්ධ න්කි අතිශයින් ම ප්‍රයෝජනවත්ය. අසරු හමුදාව යල් පැන ගිය ියක් ලෙස සැලකීම වැරදි ය. අසරු හමුදාවට නවීන අවි ආයුධ ුයා, පලපුරුද්ද ඇති පැරණි සෙනවියන්ට දක්ෂ තරුණ සෙනවිවරුන් හුණු කිරීමට ආධාර දුන්නොත්, අපේ අසරු හමුදාව ලොව මවිත රවනු ඇතැයි කොමිසාර් කියා සිටියේය. ගොළු වත රකින යුද්ධ ැන්කි භටයා සමඟ කතා කිරීමටද ඔහු සමත් විය. ඔහු දේශපාලන කාමසාරිස් ධුරය දැරූ ඩිවිෂනය යාර්ට්සෙව්හි සටන් කළේය. පසුව කානෙව් සෙනවියාගේ සුප්‍රසිද්ධ ප්‍රතිප්‍රහාරයේදී එම ඩිවිෂනය ද සහභාගි ය. යුද්ධ ටැන්කි සෙබළා ද තම යුද්ධ ටැන්කි සෙබළ පිරිස සමඟ එක්ව තුරු වටලෑම බිඳගෙන සෝවියට් හමුදා සමඟ එක් වූයේ මෙතැනදී ය. කොමිසාර් තැන මහත් උනන්දුවකින් යුතුව ඒ ප්‍රතිප්‍රහාරයේදී මුදා ගත් ම් නියම්ගම් වල නම් සහ පැසිස්ට් සතුරා ලැබූ අලාභ හානි ගැන ිස්තර කළේ ය. යුද්ධ ටැන්කි සෙබළා ද ඒ ගම් හා නියම්ගම් හොඳින් ැනී. පෙර මෙන් ම ඔහු නිහඬව සිටියද, බිත්තිය පැත්තට මුහුණ හරවා නොගනිමින් කොමිසාර්ගේ කතාවට සවන් දුන්නේ ය. මුහුණ වසා ඇති වෙළුම් පටි ඔහුගේ විලාසය නොපෙණුනද, ඔහු හිස වැනී ය. තමා සමග චෙස් දාම් ඇදීමට එන ලෙස කොමිසාර් කුකුෂ්කින්ට යෝජනා කළ විට, නිතර රොස්වී සිටි අහස් නියමුවා තුටු විය. චෙස් දාම් ලෑල්ල තිබුණේ කුකුෂ්කින්ගේ ඇඳ මත ය. කොමිසාර් තැන "දෑස් වසාගෙන" එම දාම් ඇද්දේ ය. ලෙහෙසියෙන් ම කොමිසාර් ජය ගත් බැවින් කුකුෂ්කින් ඔහු සමග සදහට ම මිත්‍ර විය.

කොමිසාර්ගේ පැමිණීම, රෝහල් ජේවිතාව සැමදාම වාට්ටුවේ ජනේලය හරින විට ඇතුළු වන වසන්ත සුළඟට සමාන විය. වාට්ටුවේ අහිතකර නිහඬතාවය බිඳගෙන ඇතුළු වන විදියේ ඝෝෂාවට සමාන විය. මෙවැනි යහපත් වාතාවරණයක් ඇති කිරීමට ඔහු ආයාසයක් නොදැරීය. ඔහු වාම් ලෙස පූර්ණ ජීවිතයක් ගත කළේ ය. සතුටු සිතින් කතා බහ කළේ ය. රෝගය නිසා හටගත් බලවත් වේදනාව ඔහු අමතක කළේ ය. නැති නම් අමතක කර දැමීමට උත්සාහ කළේ ය.

හැමදාම උදෑසන ඇඳ මත වාඩිවන කොමිසාරිස් දෑත් ඔසවමින්, සිරුර වම් අතට සහ දකුණු අතට නටවමින් බෙල්ල හරවමින් අභ්‍යාස කළේ ය. මුහුණ සේදීම පිණිස වතුර ගෙනැවිත් දුන් විට, ඔහු හැමදාම සීතල වතුර ඉල්ලා සිටි - මූව, බෙල්ල සහ පපුව සෝදා ගන්නා හෙතෙම

ුම් ඇති තම සහ පැහැති සිරුරේ හම රත් පැහැ වන තුරු තුවායකි
ි මදි. කොමිසාරිස් දෙස බලන අනිකුත් රෝගීහුද ඔහු අනුකරණ
රීමට කැමැත්තක් දැක්වූහ. පුවත්පත් ගෙනා විගස ඒවා ගන්
කොමිසාරිස් පළමුවෙන් ම සෝවියට් ප්‍රවෘත්ති බියුරෝව මගින් නි
රහු ලබන යුද්ධ ප්‍රවෘත්ති හඬ නගා කියවයි. පසුව හැම යුද්ධ වාර්තාව
ියවයි. ඔහු කලාත්මක ලෙස හඬ නගා කියවීමෙහි හපනෙකි.
ැමති යම්කිසි වැකියක් දුටු විට ඔහු හඬ නගා කියවා පසුව සෙ
ැවත වරක් එය කියවා "ඒක හරි" යැයි මුමුණයි. හිටි හැටියේ ම
කෝපයෙන් කෑගසයි. 'බොරුකාරයා! බල්ලා! මේ වාර්තාකාරයා
පරමුණට නොගිය බවට ඔට්ටු අල්ලන්නම්, මගේ ඔළුව හිස්
බෝතලයකට. අලි හොරා! ඒ වුණාට වාර්තා ලියනව." ඒ
වාර්තාකරුවකුට විරුද්ධව ඔහු වරක් පුවත්පත් කතුවරයාට ලියා
ය. එම වාර්තාවේ සඳහන් දේ යුද්ධයේදී නොවන බැවින් එවැනි බො
වාර්තා වලට ඉඩ නොතබන ලෙස ඉල්ලීමක් කළේ ය. සමහර දවස්වල
යුද්ධ වාර්තාවක් කියවන හෙතෙම කල්පනා කිරීමට පටන් ගනී
නැතිනම්, තම අසරු සේනාංකය ගැන රසවත් කතාවක් කියයි.
අසරු භටයෝ හැම එකෙක් ම වීරයෝ ය. පසුව ඔහු නැවත කියවයි

දවසකට දෙපැයක්, ප්‍රතිකාර කිරීමේ හා දවල් ආහාරය අතර
ඔහු ජර්මන් බස ඉගෙන ගත්තේය. වචන පාඩම් කිරීම, කෙටි
ආදිය නැතිම කළේ ය. යම්කිසි වචනයක් කටපාඩම් කරමින් සිටින
මෙසේ කියයි.

"තමුසෙල දන්නවද ජර්මන් බසින් කුකුළු පැටියට කියන
ක්යුහෙල්හෙන්. අපූරුයි නේවද ! ක්යුහෙල්හෙන් කිව්වම යම්කිසි
පුළුන් ගොඩක් වැනි මෘදු දෙයක් සිහියට නැගෙනව. පුංචි සිනු
ජර්මන් වලින් කියන්නෙ ග්ලෙක්ලිංග්. හඬ ඇති වචනයක් නේද?"

ස්තෙපාන් ඉවානොවිච්ට ඉවසුම් නැති විය.

"මොකටද කොමිසාර් සහෝදරය, ඔය ජර්මන් ඉගෙන ගන්
ඔහෙ නිකරුණේ මහන්සි වෙනව. ශක්තිය ප්‍රවේසම් කර ගන්න....

කොමිසාර්, මහලු සෙබළා දෙස කපටි බැල්මක් හෙළී ය.

"අනේ සුදු ඇවුලො! ඔහොමත් පුළුවන් ද රුසියානුවා

වෙන්න? අපි බර්ලිනය අල්ල ගත්තම ජර්මන් ගෑනුන් එක්ක කතා කරන්නෙ මොන බාසාවෙන්ද?"

ස්තෙපාන් ඉවානොවිච් විරුද්ධ වීමට සූදානම් වුණද - යුද පෙරමුණ දන් මොස්කව් අසල ය. එය බර්ලිනයෙන් බොහෝ ඈතය. කොමිසාර්ගේ විශ්වාසදායක වචන නිසා මුල් අදහස වෙනස් කරමින් මෙසේ පැවසීය.

'ඒක නම් එහෙම තමා, ඒ වුණත් කොමිසාර් සහෝදරය ඔය තරම් බරපතළ රෝගයකින් පස්සෙ මහන්සි වීම හොඳ නැහැ නේව."

"මිනවට වැඩිය පරෙස්සම් කරන අශ්වයා ඉක්මනටම බිම වැටෙනවා කියන කතාව අහල නැතිද? රැවුලෝ තමුසෙ මට දෙන උපදෙස හොඳ නැහැ."

වාට්ටුවේ රෝගීන් රැවුළ නොවැව්වද කොමිසාර් ඔවුන්ට"රැවුළා" යැයි අමතයි. ඔහු එසේ කියන්නේ අපහාස කිරීමට නොවේ. කවට කමට මෙනි. හැම කෙනෙක් ම ඒ නිසා සතුටු වූහ.

අලෙක්සේයි නිතර සුපරීක්ෂාකාරී ලෙස කොමිසාර් දෙස බැලුවේය. කොමිසාර් උග්‍ර වේදනාවකින් පසුවන බව නොරහසකි. නිදන විට ස්වයං පාලනයෙන් මිදුණු හැටියේම ඔහු වේදනාවෙන් කෑ ගසයි. දත් මිටි කමින් සුසුම්ලයි, වේදනාවෙන් සැලෙයි. තම දුබලකම ගැන දන්නා කොමිසාර් දිවා කාලයේදී නොනිදා යම් කිසිවක් කරයි. නින්දේදී වේදනාවෙන් කෑ ගසන කොමිසාර් අවදි වූ විගසම සන්සුන් ලෙස හැසිරෙයි. කිසිදු වේදනාවක් නොතිබුණාක් මෙනි. දොස්තරවරුන් සමග ශාන්ත ලෙස කතා කරයි. විහිලු කරයි. දොස්තරවරු ඔහු පරීක්ෂා කරන විට ඔහුට තියුණු වේදනාවක් දැනුණද, ඔහු පිටතට නොපෙන්වයි. අත් තුහුරු අතට පෙරළී තිබෙන සැටියෙන් හා නළලෙන් කඩා වැටෙන ඩහදිය බින්දු වලින් ඔහුගේ වේදනාව දැන ගත හැකිය. මෙතරම් උග්‍ර වේදනාවකින් පෙළෙන මේ මිනිසා ඒ සියල්ල යටපත් කරගෙන සිනා මුහුණෙන් හා සතුටු සිතින් ඉන්නේ කෙසේද යන්න වටහා ගැනීමට අලෙක්සේයි අපොහොසත් විය. තමාට වැඩි වැඩියෙන් නිදි වින්දන බෙහෙත් දුන්නද, ඔහු නොනිදා, වේදනාව ඉවසා ගත නොහී බිලැන්කෙට්ටුවේ කොණක් සපමින් රෑ ගත කරන අලෙක්සේයිට මෙය ප්‍රහේලිකාවක් විය.

## 5

ඒ දවස ළඟා විය. වසිලි වසිලෙවිච් ප්‍රධාන දොස්තර තැන
බොහෝ වේලාවක් යන තුරුම අලෙක්සෙයි ගේ දෙපා පරීක්ෂා කළේ
ඒවාට ස්පර්ශ සහ වේදනාව නොදනේ. "කපල දාන්ට ඕන"
අවසානයේදී තැති ගිවි හේ කිවේය. අලෙක්සෙයි මළ ගිය ඇත්තකු
මලානික විය. ඔහු පිළිතුරු දීමට පෙර නැවත වසිලි වසිලෙවිච්
කීය. "කපල දාන්ට ඕන! වචනයකින්වත් විරුද්ධ වෙන්ට එපා. නැ
තුඹ මැරිල යාවි. මා කියන දේ තුඹට තේරුණාද?"

වසිලියි වසිලෙවිච් තම පිරිවර දෙස නොබලා වාට්ටුවෙන්
විය. දැඩි නිහඬතාවයකි. අලෙක්සෙයි මෙරේසියෙව් ගල් ගැසුනාක්
වැතිර සිටී. ඔහුගේ නෙත් විවරව ඇත. ඔහු ඉදිරියේ අබ්බගාත
පදවන්නාගේ රුව මැවී පෙනේ. ඇඳුම් ගළවා දමූ ඒ මිනිහා වඳුරකු
දෑතින් යමින් ගහට බට සැටි ඔහුට නැවත පිහිටිය.

"අලෙක්සෙයි!" කොමිසාර් සෙමින් කතා කළේ ය.

"මොකද?" යි අලෙක්සෙයි ඇසුවේ බොල් හඬකිනි.

"නොකර බැහැ. අලෙක්සෙයි!"

නැවත ඔහුගේ මතැස ක්‍රියාකාරී විය. දෙපා නැති අබ්බගාත
වන තමා වඳුරකු සේ දෑතින් යමින් වතුරට පනී. තම පෙම්වතිය
ලස්සන ගවොමකින් සැරසී ගං ඉවුරේ සිටින්නීය. ඈ අද වෙනදාටත්
සුන්දරය. රුමත් ය. ඔහු දෙස බලන ඈ නොසන්සුන්ව යටි
සපන්නීය. ඇත්තටම ඒ විධියටම තමා! යැයි තමාටම කියා ගත් අලෙක්
නිහඬව සුසුම් ලෑවේය. කොට්ටයට මුහුණ ඔබා ගත් හෙතෙම වැළපුණේ
අමාරුවෙන් තැති ගිවි ස්තෙපාන් ඉවානොවිච් කබාය පොරෝවා
සෙරෙප්පු දෙක පය ලාගෙන, සෙමින්, සෙමින් අලෙක්සෙයි ගේ
ළඟට ආවේ ය. එහෙත් කොමිසාර් ඔහුට බාධා කරමින් අතක් වැනී
"එයාට බාධා කරන්න එපා. අඩන්ට ඉඩ හරිනව."

අලෙක්සෙයිට පහසු බවක් දැනිණ. බොහෝ කාලයක්
තමන්ට වේදනාව ගෙන දුන් යම් කිසි ගැටළුවක් නිරාකරණය කළ

ඇති වන සැහැල්ලු ගතිය ඔහු තුළ ද ඇති විය. පවස යුව සේවකයින්
ඔහු සැත්කම් කාමරයට ගෙන යාමට පැමිණෙන තුරුම ඔහු නිහඬව
සිටියේය. කිරි පැහැති පිහන් කැටවලින් බැබලෙන සැත්කම් කාමරයේදී ද
ඔහු වචනයකුදු කතා නොකළේ ය. ඔහුගේ හෘදය වස්තුව දුර්වල බැවින්
වේදනා නාශක බෙහෙත් ආශ්වාස කිරීමට හා නහරගත කිරීමට නොහැකි
බව ඔහුට දන්වන ලදී. දෙපා හිරිවට්ටන බෙහෙත් පමණක් විද සැත්කම
කිරීමට කැමැති දැයි ඔහුගෙන් ඇසූ විට ඔහු හිස වැනිය. සැත්කම
කරගෙන යද්දී ඔහු කෙඳිරි නොගෑවේය. වේදනාව නිසා කෑ නොගැසීය.
අමාරු නොවන ඒ සැත්කම - දෙපා කපා දැමීම වසීලියි වසීලෙවිච්
විසින් ම කරන ලදී. ඔහු කීප වරක්ම තර්ජනාත්මක ලෙස තම හෙදියන්
හා දොස්තරවරුන් දෙස බැලීය. වේදනාව නිසා රෝගියා මිය ගියාදැයි
බලන ලෙස ඔහු කීප වරක් ම දොස්තරවරුන්ට අණ කළේ ය.

දෙපයේ හම, නහර, ස්නායු හා මස් කපා වෙන් කොට කටු
කැපීමට දැති සහිත පිහිය පාවිච්චි කරද්දී වේදනාව දියුණු තියුණු විය.
වේදනාවට පුරුදු වී සිටින අලෙක්සේයි හඬකුදු පිට නොකළේය. හිසත්,
කටත්, නහයත්, වසාගෙන සුදු ලෝගු ඇඳ ගෙන ඔවුන් තම දෙපා ළඟ
මොනවා කරත්දැයි ඔහුට නොවැටහිණි.

ඔහු ඇහැරුණේ වාට්ටුවට ගෙනා පසුවය. ක්ලාව්දියා
මිහයිලොව්නාගේ කරුණාබර මුහුණ ඔහු පළමුවෙන්ම දුටුවේ ය. ධවල
කේශී, සුන්දර කාන්තාව ප්‍රශ්නයක් නගන ලීලාවෙන් ඔහු දෙස බලන
සැටි තේරුම් ගත නොහැකි වූයෙන් ඔහු පුදුමයට පත් විය. ඔහු ඇස්
හැර බලත් ම, ඈ ඔහුගේ අතක් ගෙන මඳ සිනා පෑවා ය.

"අලෙක්සේයි හරිම දක්ෂයෙක්!" යැයි කී ඈ නාඩි පිරික්සා
බැලුවාය.

මීට පෙර වේදනාව දැනුණාට වඩා ඉහළින් දෙපයේ වේදනාවක්
ඇති බව ඔහුට දැනිණ. පෙර මෙන් දෙපය ගිනිගත් බවක් දැන් නොදැනේ
ඔහුගේ දෙපා අග නහර. ස්නායු හා මස් ගොබ එකට අල්ලා ගැට
ගැසුවාක් මෙන් ඔහුට දැනේ. දෙපා වසා ඇති පොරෝනය දෙස බලත්ම
ඔහුගේ සිරුර දිගින් අඩුවී ඇති බව ඔහුට දැනිණි. එවිට ඔහුගේ මතක
ඉදිරියේ සැත්කම් කාමරයද, තරහයෙන් කතා කරන වසීලි වසීලෙවිච්ගේ
කටහඬද, එනැමල් බඳුනට යමක් දමන ශබ්දයද මැවිණි. "අවසානයි?
පුදුමයට පත් අලෙක්සේයි හෙදිය දෙස බලා ආයාසයෙන් මඳ සින

...වේය.

"මගේ දෙපා කොට වෙල වාගේ."

ඔහුගේ මඳ සිනාව විරිත්තන විට ඇති වන විකෘතියට සමාන...

...ය.

"කමක් නැහැ. මගේ හොඳ ළමයො. දැන් ඉතින් පහසුවක් දැනේවි...
...යි කී ක්ලාව්දියා මිහයිලොව්නා ඔහුගේ හිස පිරිමැද්දාය.

"ඔව් පහසුයි. රාත්තල් කීයක් අඩු වුණා ද?"

"එහෙම කියන්ට එපා මගේ හොඳ ළමයො. ඔපරේෂන් කරන...
කොට කී දෙනෙක් කෑ ගහනවද? සමහරුන්ව පටිවලින් බඳිනව. ඔය...
ළමය නිකමට වත් කෑ ගැහුවේ නැහැ.... යුද්ධය හන්ද වුණු විපත...
හැටි."

වාට්ටුවේ අඩ අඳුර බිඳිමින් කොමිසාර් කෑ ගැසී ය.

"මොකද ඔතන මළ ගමකට වගෙ වැළපෙන්නේ? සහෝදරි ඔය...
ලෙඩාට මේ ලියුම් මිටිය දෙන්න. අම්මප, මටත් ඉරිසිය හිතෙනව එ...
තරම් ගොඩක් ලියුම් එක පාරටම ලැබෙන කොට."

කොමිසාර් අලෙක්සේයිට ලියුම් මිටිය දුන්නේය. එය අභ්‍යාත...
හමුදාවේ සගයින් එවූ ලියුම් ය. ඒවා එකවර, එකම දවසක නොලිව...
යම් හේතුවකින් එක දවසකදී රෝහලට ලැබිණි. දෙපා රහිත අලෙක්සේයි
ඇඳෙහි වැතිරගෙන ලියුම් කියවන්නට විය. තම සගයින් ඇත යුද පෙරමුණේ
ජීවිතය නොතකා සටන් කරන සැටි කිය වූ අලෙක්සේයි තුළ ජීවත් වීමේ
ආශාව ඇති විය.

තමාගේ සගයින් එවූ ලියුම් එකම දවසක දී නොලියූ බව ඔහු
නොදක්කේ, ඒවායේ තොරතුරු ගැන මහත් උවමනාවකින් කියවූ
බැවිනි. කොමිසාර් තැන හෙදිය කැඳවා, අලෙක්සේයි පෙන්වමින් කොඳුරේ
ය. "ඔහෙලගෙ ලුමිනාල්, වෙරොනාල් වැනි බෙහෙත් වලට වඩා මගේ
බෙහෙත අපූරුයි නෙවද!" ලියුම් කල් තබා එකතු කරගත් කොමිසාර්
තැන අලෙක්සේයි සැත්කමට මුහුණ පෑ පසු ඔහුට බාර දීමට අදහස්...

කළේ ඔහුගේ චිත්ත පීඩාව සැහැල්ලු කිරීමට ය. තම සගයින්ගේ සුබ පැතුම් සහ තොරතුරු දැන ගැනීම නිසා ඇලෙක්සේයිගේ දරුණු චිත්ත පීඩාව සැහැල්ලු විය. පළපුරුදු යුද සෙබලෙක් වූ කොමිසාර්, කඩිමුඩියේ ලියන ලද ඔවැනි ලියුම් බෙහෙත් හා ආහාර වලට වඩා වටිනා බව දන්නේ ය...

6

සැත්කමින් පසුව අලෙක්සේයි මෙරේස්යෙව් අතිශය භයානක මානසික පීඩනයකට මුහුණ පෑවේ ය. ඔහු දුක් ගැනවිලි ඉදිරිපත් නොකළේ ය. නොහැඬුවේ ය. නොසන්සුන් නොවී ය. ඔහු තමාගේ ම ලොවකට වැද සැඟවුණේ ය.

මින් පසු කිසි දිනෙක තම යානා කණ්ඩායමට, යුද පෙරමුණට නොයනු ඇතැයි ඔහුට සිතිණ. අහස් යානාවක් පැදවීමට අහස් සටනක යෙදීමට මින් පසු කිසි දිනෙක නොලැබෙනු ඇත! දන් ඔහු දෙපා නැති අබ්බගාතයෙකි. ගෙදරට බරකි. ජීවිතයෙන් තොරව ජීවත්වන්නෙකි. මරණ මොහොත පැමිණෙන තෙක් ම මෙම අභාග්‍යයෙන් මිදීමට ඔහුට බැරි ය.

දින ගණනක් ම ඔහු වාට්ටුවේ සිලිමේ පැල්ලමක් දෙස බලා ගත් වන ම උන්නේ ය. යම් කිසිවෙක් ප්‍රශ්නයක් ඇසුවොත් ඔහු "ඔව්", "නෑ" කෙටි පිළිතුරක් දී නැවත නිහඬ වෙයි. වෛදුන් නියම කළ සියලු බෙහෙත් හා ප්‍රතිකාර ඔහු නොකඩවා ගත්තේය. ආහාර රුචියක් නොතිබුණ ද ඔහු දුන් ආහාර ගිල දමා නැවත ඇඳ මත දිගා විය.

"අලෙක්සේයි, උඹ මොනවා ගැන ද ඔය හැටි කල්පනා කරන්නේ?" යැයි කොමිසාර් වරක් ඔහුගෙන් ඇසී ය. ඔහු දෙසට හැරුණු අලෙක්සේයි බැලුවේ, ඔහු නොදකින්නාක් මෙනි.

"මොනවා ගැන කල්පනා කරනවද කියල අහනවා."

"කිසිම දෙයක් ගැන කල්පනා කරන්නේ නැහැ"

මේ අතර වසිලියි වසීලෙවිච් වාට්ටුවට ඇතුළු විය.

"ආ! අලෙක්සේයි! කොහොමද සුව දුක්? වීරයා, නියම වීර
ඔපරේෂන් එක වෙලාවෙදී එක වචනයක්වත් කතා කළේ නැහැ. කඩිස
නැහුවේ නෑ. මගේ මේ ජීවිත කාලෙද කොතරම් ලෙඩුන් ඔපරේෂන් කර
තියනවද? මේ වගෙ මිනිහකු දුටු පළමු වතාවයි මේ. දන් මම වි
කරනව උඹ දවස් දහ අටක් තිස්සෙ යුද පෙරමුණෙ බඩ ගාගෙන ආ බ
නියම වීරයෙක්" යැයි වෙදනා කීවේ ය. "මොකද උඹ බුම්මාගෙ
බලාපල්ලකො එයා ගැන වර්ණනා කරනවා. එයා බුම්මාගෙන ඉන්න
මම නිලය අනුව ලයිතන් ජනරාල් කෙනෙක්. මම තුඹට අණ කරන
වහාම හිනාවෙයන්."

අලෙක්සේයි ආයාසයෙන් දත් විලිස්සමින් සිනාසෙන්නේ කල්පනා
කරන්නට විය. "මේ වගෙ ඉරණමකට මුණ පාන බව දන්නව නම් බ
ගානවද? පිස්තෝලෙ පතරොම් තුනක් ඉතිරි වෙලා තිබුණ නෙව."

යුද වෙස් ගෙන සිටි මොස්කව් නගරය අසල පෙදෙසකින් ලබාග
මල් රහිත විලෝ ඉති කීපයක් අතින් ගත් ක්ලාව්දියා මිකයිලොව්න
වාට්ටුවට ඇතුළුව, ලෙඩුන් ඉදිරියේ ඇති වීදුරුවල එක එක ඉත්ත
බැගින් හිඳුවා පිටව ගියා ය. රත් පැහැති ඒ ඉතිවල පුළුන් රොදක් වැ
ගෝලාකාර පොහොට්ටු කීපයකි. වාට්ටුව තුළ ප්‍රණීත බවක් ඇතිවිය
වසන්ත කාලයේදී මෙනි. හැම කෙනෙක්ම ප්‍රීති වූහ. නිතරම නිහ
සිටින යුද්ධ ටැන්කි භටයා පවා එදා කතා කළේ ය.

වැතිර සිටි අලෙක්සේයි කල්පනා කරන්නට විය. කම්මිනිහි අ
දිය පාරවල් මඩ සහිත අතු පාරවල් ඔස්සේ ගලා බසිමින් ගලින් වස
ලද මහ පාර තෙමාලයි. ඉන් උණුසුම් හුමාලයක් පැන නගී. ඔහු ස
ඔල්ගා, වොල්ගා නදී තීරය අසල සිටගෙන සිටියේ මෙවැනි දවසකදී ය
පමණකි. හිම කැට, හිම දූපත් සෙමින් පාවෙන සැටි පෙනේ. නිහඬතාව
බිඳින්නේ කුඩා කුරුල්ලන්ගේ රිද්මය හඬ විසිනි. සෙමින් පාවෙන්නේ දි
වූ හිම දූපත් නොව තමා සහ ඔල්ගා බව අලෙක්සේයිට සිතේ. ඔවු
ගංගාවේ ජල කඳට මුහුණ දීමට යති. නිහඬව සිටින ඔවුහු තම ප්‍රීතිම
අනාගතය ගැන සුන්දර සිහින දකිති. යෝධමය ගහ මැද සිටින ඔවුන්
හුස්ම ගැනීමට අපහසු ය. ඊත සුළං හමයි. දන් එවැනි සිහින කිදි දිනය
සැබෑ නොවනු ඇත. ඇ ඔහු ප්‍රතික්ෂේප කරනු ඇත. එසේ නොකළ
ඇය පිළිගැනීමට ඔහුට බැරිය. එතරම් සුන්දර, එතරම් ගුණවත්, යහප
තරුණියකගේ අනාගතය විනාශ නොකළ යුතුය. ඇය සමග ගො

ල් වලින් පැන පැන යන්නේ කෙසේද? වසන්තය සිහිපත් කරවන ඒ
ළඳ වස්තුව ඉවත් කරන ලෙස අලෙක්සේයි හෙදියගෙන් ඉල්ලා සිටියේය.

මල් ඉත්ත ඉවත ගෙන යන ලදී. එහෙත් දුක් සහිත සිතිවිලි
නැවතිණ. දෙපා නැති වූ බව දැනගත් විට ඔල්ගා කුමක් කියයි ද?
අතහැර ගොස් තමා අමතක කොට සදහටම වෙන් වී යාවිද?
ගේ මේ අදහසට විරුද්ධව මුළු මහත් සිත කය දෙකම නැගී සිටී. ඇ
ම කෙනෙක් නොවේ. ඔහු අතහැර දමා ඇ නොයනු ඇත! එය
ත් අයහපත්ය. උසස් ගතිගුණ ඇති ඔල්ගා ඇගේ සිහිනය වන උසස්
ාපනය ලබා ගැනීම ද අතහැර දමා ඔහු සමඟ විවාහ වනු ඇත.
බගාතයාට උදව් කරනු වස් ඇ නැවත පරණ රැකියාව කරමින් දුක්
නු ඇත. සමහර විට දරුවන්ද උපදිනු ඇත.

එවැනි පරිත්‍යාගයක් පිළිගැනීමට ඔහුට අයිතියක් තිබේද? ඔවුන්
දු බැම්මකින් බැඳී නැත. ඇ ඔහුගේ බිරිඳ නොවේ. ඔහු ඇයට ආලය
යි. ඒ හේතුව නිසාම ඔහුට එවැනි අයිතියක් නැත. අප අතර ඇති
දකම් වහාම සිඳ බිඳ දැමිය යුතුය. ඇය මහා දුකකින් මුදාලීම
සිසත්, මතු වී ඇති ගැටළුව විසඳීම පිණිසත් එකවරම ඒ සම්බන්ධකම්
ල්ල අවසන් කළ යුතුය.

එදිනම කමිෂින් වලින් ලියුමක් ලැබිණ. එය ඔල්ගා ගෙනි. සැහවුණු
සන්සුන්තාවයකින් යුතුව එය ලියා ඇත. මොනවා වුවත් ඇ ඔහු
ඟ එක් ව සිටින බව ලියා එවා තිබෙන්නේ අභාග්‍යය කල් ඇතිව දැන
ත්තාක් මෙනි.

ගමෙන් ලැබෙන ලියුම් නිසා පළමුවැනි වරට ඔහු තුළ
සන්නතාවයක් ඇති විය. ඔහුගේ සිත තවත් දුර කැළඹිණ. පසු
ලක ඔහුගේ සිතට වධ දෙන වැරදි තීරණයකට - එනම් තමාගේ
පා කපා දමූ බව ගමට නොදන්වීමට - ඔහු එළඹී ය.

දුක්මුසු කල්පනා වලින් අලෙක්සේයි මෙරෙස්යෙව්ගේ රෝහල්
තය ගෙවිණ. ඔහුගේ ශක්තිමත් දේහයට සැත්කම පහසුවෙන් උසුලා
හැකි විය. සැත්කම් වනය සුව වෙන්නට පටන් ගති. එහෙත් අලෙක්සේයි
වල විය. දිනෙන් දින කෙට්ටුවීමට පටන් ගත් හෙතෙම දුර්වල වූයේය.

# 7

වසන්තය උදාවිය.

හැම වසන්තයකදී මෙන් ම මෙවරද හදවත් උණුසුම් වූ
බලාපොරොත්තු ඇතිවිය.

"ආ, ස්තෙපාන් ඉවානොවිච්! තුවක්කුවකුත් අරගෙන
දඩයමේ යන්ට ඇත්නම්! සතුන් දඩයම් කිරීමේ බලාපොරොත්තු
ළක එළිවන තුරු බලා සිටීමට ඉඩ ඇත්නම්.... කොතරම් අගේද
මිරිදි පාන්දර ලා රත් පාටයි. පිණි බිඳු හා කුඩා හිම කැට, බො
නිපදායක සීතලක්. හිටි හැටියේම පියු-පියු-පියු යන හඩින් අත්
සනව. වලිගය දිග හැර හිට ගන්නව. එකයි, දෙන්නයි, තුන්දෙනයි

ස්තෙපාන් ඉවානොවිච් ශබ්ද කරමින් දෙතොල් උරන්නට වූ
ටට කෙළ ඉනු කළක මෙනි. කොමිසාර් දිගටම කතා කළේය.

"ඉන් පස්සෙ ගිනි ගොඩක් පත්තු කරල ඒ ළඟින් කුඩාරම
හල උණු තේ හදා ගන්නව. තේ කෝප්පෙද වොඩ්කා ටිකක්ද බො
ක බිව් හැටියෙම මස් පිඩු රත්වෙලා ඇඟට පණ එනව, නේද? එ
ලස මහන්සි වුණාට පස්සෙ."

"කියන කොට වුණත් ආසයි කොමිසාර් සහෝදරය...."

දඩයම් කිරීම පිළිබඳ කතා කියන්නට වූහ. සාකච්ඡාවට යු
පෙරමුණේ තත්ත්වය භාජන විය. ඩිවිෂනයේ, සේනාංකයේ වෙන්
මානවාද, හිම සහිත ශීත සෘතුවේදී සාදන ලද තාවකාලික යු
ිංගෙවල් වල හිම දිය වී යන්ට පටන් ගෙන ඇතිද, බල කඳවුරු දු
ඇති ද, තාර පාරවල ගමන් කොට පුරුදු ජර්මන් සේනාවන්ට හිම දි
යද්දී හිරිහැර ඇතිවේද යන ප්‍රශ්න ගැන ඔවුහු කතා කළහ.

දිවා ආහාරයෙන් පසු ඔවුන් විවේකය ගත කරන්නේ කුරුල්ලන්
හැම දීමෙනි. ඉතිරි වන ආහාර කැබලි එකතු කරන ස්තෙපාන් ඉවානොවි
තවුළුවෙන් එපිට ඒවා විසි කරයි. කුරුල්ලෝ ඒ කෑම අහුලාගෙන
මෙය පුරුද්දක් බවට පත් විය. පාන් කැලි කුඩු කොට හා කුඩා කැබලි

ා කඩා කුරුල්ලන්ට දෙන ලදී. ස්තෙපාන් ඉවානොවිච් කී පරිදි එය
ැලූ රංචුවකට සෑහිණ. කුරුල්ලන් කෑම කන සැටි බැලීමට රෝගීහු
කළහ. කුඩා වී කුරුල්ලෝ කිචි බිචි ගාමින්, පොරකමින් පාන්
බලි අහුලාගෙන කති. ඉන්පසු විවේක ගනිති. පසුව තම කුරුලු
ර්යයන් සඳහා ඈතට ඉගිලී යති. කුරුල්ලන්ට කෑම දීම විනෝදයක්
. රෝගීහු කෙමෙන් කුරුල්ලන් හැඳින ගත්හ. කොට වලිගයක් ඇති
ිසර දඟකාර කුරුල්ලෙක් ජනප්‍රිය විය. ස්තෙපාන් ඉවානොවිච් ඌට
ැෂින් තුවක්කුකාරයා " යන නම තැබීය.

කුරුල්ලන්ට කෑම දීමෙන් පටන් ගත් මේ විනෝද ක්‍රීඩාව නිසා
ද්ධ ටැන්කි භටයාගේ හුදකලා නිහඬතාවය බිඳී ගියේය. පළමුවැනි
ාසේදී ස්තෙපාන් ඉවානොවිච් දෙකට නැමිගෙන කරුවල ආධාරයෙන්
න්ලය වෙත ගොස් මහත් අමාරුවෙන් හුළං කපොල්ල හැර කෑම විසි
රන සැටි යුද්ධ ටැන්කි භටයා බලා සිටියේ එතරම් උනන්දුවකින්
නාවේ. දෙවැනි දවසේදී කුරුල්ලෝ පැමිණි විට, ඔහු වේදනාවෙන් දත්
මින් ඇඳ උඩ වාඩි වී උන් දෙස බැලීය. ඊළඟ දවසේ දී යුද්ධ ටැන්කි
ටයා තම ආහාරයෙන් කොටසක් වූ කේක් කෑල්ලක් සඟවා ගත්තේ,
ුරුල්ලන් පැණි රසැති ආහාර වලට කැමැති බව දන ගත්තාක් මෙනි.
ිවසක්දා "මැෂින් තුවක්කුකාරයා" නාවේ ය. බළලෙක් ඌ අල්ලාගෙන
ෑතැයි ද, ඌ යස පාඩමක් ඉගෙන ගෙන ඇතැයි ද කුකුෂ්කින් කීවේ ය.
ුද්ධ ටැන්කි භටයා කුකුෂ්කින්ට බැණ වැදුණේ ය. පසුදා "මැෂින්
ුවක්කුකාරයා" පැමිණ හොටෙන් අනිමින්, දඟර කරමින්, ජයග්‍රාහී
ීලාවෙන් හිස ඔසවා බලමින් ආහාර කැබලි කන්නට වූ විට යුද්ධ
ැන්කි භටයා කොක් හඬලමින් සිනාසුණේය. මාස කීපයක්ම ගොළු වත
රැකි හෙතෙම පළමු වරට තම පිළිවෙත බින්දේ ය.

දින කීපයකින් යුද්ධ ටැන්කි භටයා ග්‍රිගොරි ග්වොස්දේව් අන්
අය මෙන් කතා බහ කරන්නට විය. එයට මුල පුරන ලද්දේ කොමිසාර්
විසිනි.

හතළිස් දෙකේ වාට්ටුවට පැමිණි ක්ලාව්දියා මිහයිලොව්නා
අතක් පිටුපස සඟවා ගෙන, ප්‍රීතිමත් නෙත්වලින් දයාන්විත ලෙස
බලමින් මෙසේ ඇසුවා ය.

"ආ, අද කවුද නටන්නේ?"

එහි තේරුම කාට හරි ලියුමක් ලැබී ඇති බවයි. ලියුම් ලබෙන්
ඇඳ මත වැතිර සිට සිරුර ඒ මේ අත සොලවමින් නටන බවක් ඇඟවි
යුතුය. වැඩි වැඩියෙන්ම මෙසේ නැටීමට සිදුවන්නේ කොමිසාර්ට
මන්ද යත් ඔහුට ලියුම් දහයක් පමණ එකවර ලැබෙන බැවිනි. පු
පේනාංකයෙන් ද, පෙරමුණට පසුපසින් ද, සෙබළු ද, මිතුරු නිලධාරි
ද, දේශපාලන සංවිධායකයෝ ද කොමිසාර්ට නිතර ලියූහ. නිලධාරින්
බිරියෝ ඔහුට ලියමින්, ඔවුන්ගේ සැමියනට 'අවවාද කරන ලෙස'' ඇ
සිටියහ. යුද්ධයේ දී සැමියන් මිය ගිය කනවැන්දුම් ස්ත්‍රීහු තම ව
කටයුතු ලිහිල් කර ගැනීමට ඔහුගෙන් ආධාර ඉල්ලා යැවූහ. යුද්ධයෙ
මිය ගිය කසාක් ජාතික යුද්ධ නිලධාරියකුගේ පුංචි දුවක් පවා ඔහුට ලි
එව්වා ය. කසාක් ජාතික ඒ නම ඔහුට නිතර අමතක විය. මේ සිය
ලියුම් කියවූ ඔහු ඒවාට පිළිතුරු යැවී ය. නිලධාරින්ගේ බිරියනට ආධා
දෙන ලෙස ඉල්ලමින් ලිපි යැවිය යුතු අංශවලට වහාම ලියා යැ
කොමිසාර් දඟකාර සැමියනට තිසි පරිදි අවවාද' කළේ ය. යුද පෙරමුණෙ
සටන් කරන නිලධාරින්ගේ ගෙවල්වලට අවශ්‍ය දෑ නොසපයා
කළමනාකරුවනට තර්ජනාත්මක ලියුම් ලියන හෙතෙම වහාම අඩුපාඩු
නොපිරවුවොත් තමාම විත් ඔහුගේ 'බෙල්ල කඩා දමන බව'' ලි
යැවීය. නිතර නම අමතක වන කසාක් ජාතික දැරියට ලියුමක් යැ
කොමිසාර් ගණිත විද්‍යාවට පහත් ලකුණු ලබා ගැනීම නිසා දො
පැවරී ය.

යුද පෙරමුණ හා පසුපස සමඟ ස්තෙපාන් ඉවානොවිච් ලියු
ගනුදෙනු කළේ ය. ඔහුගේ පුතුන්ගෙන් - ඔහු මෙන්ම පුත්තු ද ඉලක්කය
වෙඩි තබන ස්නයිපර්වරුන් වූහ. ලියුම ලැබිණ. සමූහ ගොවිපළේ ප
නායිකාවක් වන දුවණියගෙන් ද ඔහුට ලියුම් ලැබිණි. සමූහ ගොවීන්ගෙ
නෑයින්ගෙන් හා මිතුරන්ගෙන් සුබ පැතුම් එවූ ඈ සමූහ ගොවිප
දියුණුව ගැන ද ලිවා ය. ස්තෙපාන් ඉවානොවිච් මහත් ආශාවකින් එ
ලියුම් හඬ නගා කියවන විට රෝගීහු ද, හෙදියෝ ද, සෙංගමාල රෝගියකු
සමාන පෙනුමක් ඇති වාට්ටුව භාර දොස්තර ද අසාගෙන සිටියහ. ඔවු
හැම දෙනෙක් ම ඔහුගේ පවුලේ කටයුතු ගැන දත්හ.

මිනිස් සමාජය සමග නිත්‍ය අරගලයක යෙදී සිටින කුකුෂ්කි
බර්නවුල්හි ජීවත් වන මවගෙන් ලියුම් ලැබිණ. හෙදියගෙන් ලියුම උදු
ගන්නා කුකුෂ්කින්, අනික් රෝගීන් නින්දට ගිය පසු මවගේ ලි
වචනයෙන් වචනය කියවමින් තුටු විය. දුටුවන් අප්‍රිය කරවන ඔහුගේ
මුහුණේ පවා පියකරු ශාන්ත බවක් ඇති වන්නේ මවගෙන් ලැබෙන ලි

කියවන විට ය. කුකුෂ්කින් තම මවට බොහෝ සෙයින් ම ආදරය කළේ ය. එහෙත් යම්කිසි හේතුවක් නිසා ඔහු එම හැඟීම ගැන ලජ්ජා වූයේ, නිතර සැහවීය.

එවැනි ප්‍රීතිදායක මොහොතකදී වාට්ටුවේ රෝගීන් තමන්ට ලැබුණු ලියුමවල සඳහන් තොරතුරු හුවමාරු කර ගන්නා විට, යුද්ධ ටැන්කි භටයා පමණක් බිත්තිය පැත්තට හැරී, බ්ලැන්කෙට්ටුවෙන් හිස වසා ගත්තේ ය. ඔහුට කිසිවෙක් නොලියූහ.

එදින ක්ලාව්දියා මිහයිලොව්නා පැමිණියේ ප්‍රීතියෙනි.

"අද කවුද නටන්නේ?"

සුන්දර සිනාවකින් මුව සරසා ගත් ඈ යුද්ධ ටැන්කි භටයා දෙස බැලුවා ය. යම්කිසි අමුත්තක් සිදු වී ඇති බව පෙනිණ. රෝගීහු නිහඬ වූහ.

"ග්වොස්දේව් ලයිතන් සහෝදරය, නටන්න! ඇයි නිකම් ඉන්නේ?"

ග්වොස්දෙව් තිගැස්සුන සැටි අලෙක්සේයි දිටීය. සැනෙකින් සන්සුන් වූ ග්වොස්දෙව් නොසැලකිලි ලෙස මෙසේ කීවේය.

"වැරදිලා වෙන්න ඕන. මේ ළඟ වාට්ටුවක ඇති ග්වොස්දෙව් වාසගම ඇති කෙනෙක්." හෙදිය අත ඇති ලියුම් කවර තුන දෙස ඔහු බැලුවේ ගිජු ඇස්වලිනි.

"වැරදීමක් නෙවෙයි. පී.එම්. ග්වොස්දෙව් ලයිතන් තැනට අංක හතළිස් දෙකේ වාට්ටුව. ඉතින් නටන්න!" යි ඈ කීවාය.

ග්වොස්දෙව් ගිජු ලෙස අතක් දිගු කළේ ය. හෙදිය තිගැස්සී බලා සිටියදී ග්වොස්දෙව් දත්වලින් ලියුම් කවරය ඉරා කියවන්නට විය. වෙළුම් පටිවලින් වැසී ඇති මුහුණේ සිදුරු තුළින් ඔහුගේ දෑස් දිලිසෙන සැටි පෙනිණ. පුදුම අන්දමේ ලියුම් තුනකි. එකම සරසවියක එකම පංතියක ඉගෙන ගන්නා තරුණියෝ තිදෙනෙක් එකිනෙකට වෙනස් අකුරුවලින්, සමාන අදහස් දක්වමින් ලියූහ. වීරයකු වන යුද්ධ ටැන්කි භටයකු වන ග්වොස්දෙව් මොස්කව්හි රෝහලක ප්‍රතිකාර ලබන බව

...නගත් ඔවුහු මෙසේ ලියන බව දන්වූහ. බිය සැක නැතිව මෙසේ ලිවී... ...ැන සමාවන ලෙස ඉල්ලා සිටි ඔවුහු ඔහු කැමති නම් ඔහු සමඟ... ...යුම් හුවමාරු කිරීමට සතුටු බව ද දන්වා එවූහ. ලියුම් තුනෙන් එකක... ...යා ඇත්තේ අනුවා නැමැත්තියකි. ඇ වැඩි දුරටත් මෙසේ ද ලිවා ය... ඔබට අවශ්‍ය පොත් පත් ආදිය සැපයීම මට සතුටක් බැවින් අවශ්‍ය ද... ...න්වා එවන ලෙස ඉල්ලා සිටිමි."

ග්වොස්දෙව් මුළු දවස තිස්සේම ලියුම් තුන පිරික්සමින් බලන්නට... ...ය. මෙවැනි ලියුම් රෝගී සෙබළුන් වෙත එනව බව ඔහු නොදන්නේ... ...නාවේ. ඔහු විස්මය පත් වූයේ මේ තරුණියන් තිදෙන තමා බලාපොරොත්තු... ...නාවූ අවස්ථාවකදී ලියුම් එවීම නිසාය. වෛද්‍ය ශිෂ්‍යාවන් වූ මේ... ...දෙනා තම යුද්ධ ක්‍රියා ගැන දැන ගත්තේ කෙසේද යන්න ග්වොස්දෙව්ට... ...හේලිකාවක් විය. වාට්ටුවේ හැම රෝගියෙක් ම පුදුම වූහ. හැමටම... ...ඩා පුදුම වූයේ කොමිසාර් ය. ස්තෙපාන් ඉවානොවිච් හා හෙදිය දෙ... ...ලා ඉහිමරන කොමසාරිස් දුටු අලෙක්සේයි, මේ සියල්ල සංවිධානය කර... ...ත්තේ කොමිසාර් බව අවබෝධ කර ගත්තේ ය.

කෙසේ වුවද, පසුදින උදෑසන කොමිසාර්ගෙන් ලියුම් ලියන... ...ඩදාසි කීපයක් ඉල්ලා ගත් ග්වොස්දෙව්, අවසර නොලබා තම දකුණ... ...ත් වෙළුම් පටිය ලිහාගෙන ලියන්නට පටන් ගත්තේ ය. වැකියක් ලියන... ...හු නැවත කටු ගායි. නැවත යමක් ලියා කඩදාසිය ගුළි කොට විසිකර... ...මා නැවත මුල සිට ලියයි. මේ විධියට සවස් වන තුරුම ලියූ ඔහු... ...වසානයේදී තිදෙනාට ම පිළිතුරු යැවුවේ ය.

මුලදී ලියුම් එවූ තිදෙනාගෙන් දෙදෙනෙක් ලියුම් එවීම නැවැත්වූ... ...මුදු අනුවා ඔවුන් දෙදෙනාගෙන් අඩුව පිරිමසිමින්, ග්වොස්දෙව්ට ලියන්නට... ...වා ය. ග්වොස්දෙව් හැම දෙයක් ම එළිපිට කරන මිනිසෙක් වූයෙන්, ...වෛද්‍ය විදුහලේ තුන්වන වර්ෂයේ හැම දෙයක් ම වාට්ටුවේ රෝගීහු දැන... ...ත් හ.

ග්වොස්දෙව් කතා කරන්නට පටන් ගත්තා පමණක් නොව... ...තියෙන් ප්‍රමෝද විය.

කුකුෂ්කින්ගේ තුවාල වලින් වාණේ පතුරු ඇද බෙහෙත් දමන... ...දී. ස්තෙපාන් ඉවානොවිච් කිහිලි කරුවල ආධාරයෙන් කොරව ඇවිදින්නට... ...ගත්තේ ය. කොමිසාර්ගේ හා අලෙක්සේයි මෙරේස්යෙව්ගේ තත්ත්වය...

ප්‍රමණක් නරක අතට හැරිණ. කොමිසාර්ගේ තත්ත්වය වඩාත් න
විය.

හැමදාම උදෑසන හෙදියක් කොමිසාර්ගේ මුහුණ සේදුවා හැන්දකින් ඔහුට කැව්වා ය. කොමිසාර්ට තම තියුණු වේදනාව උහු ගත හැකි වුවද, ඔහුගේ මේ අවාසනාවන් තත්ත්වය උහුලාගත නොහ විය. එහෙත් ඔහු බලාපොරොත්තු සුන්කර නොගත්තේ ය. දිවා කාලය කොමිසාර් ප්‍රීතිමත් හඬකින් කතා කළේ ය. පුවත්පත් කියවීම නොකඩව කළේ ය. ජර්මන් බස ඉගෙනීම ද අතපසු නොකළේ ය. දෑතින් පෙ අල්ලා ගැනීමට ඔහු තුළ ශක්තියක් නොතිබුණෙන් ස්තෙපාන් ඉවානො ඔහුට පොත් තබා කියවීමට සුදුසු පොත් මැස්සක් සාදා දුන්නේ ස්තෙපාන් ඉවානොවිච් කොමිසාර්ගේ ඇඳ ළඟ වාඩි වී, ඔහු කිය අවසාන වෙත් ම පිටුවෙන් පිටුව පෙරළන්නට විය.

කොමිසාර්ගේ සිරුර වඩ වඩාත් අබල දුබල වෙත්ම, ඔහු ආත්ම ශක්තිය ප්‍රබල විය. ඔහුට ලැබෙන ලියුම් වලට ඔහු පිළිතු සැපයි ය. වරෙක කුකුෂ්කින් ද තවත් වරෙක ග්වොස්දෙව්ද ඔහු වචන ලිවේ ය. ප්‍රතිකාර වලින් පසු දවසක් දා අලෙක්සේයි නිදි කි වැටෙමින් සිටින විට කොමිසාර්ගේ බැරෑඩි කටහඬ විසින් ඔහු අ කෙරිණි.

"ආරක්ෂක සටන් කරන විට ඔහොම ලියන්නෙ ඔවුන් පිස වැටුණු හන්දද?" යි ඇසූ ඔහු කෝප විය. "ස්රාවිසොවි නිලධාරි වාදියෙක් යුද්ධ හමුදාවේ හොඳම පශු වෛද නිලධාරිවාදියෙක් ද? ග්‍රිගෝරි ලියප ලියපන්!"

ඔහු කියන දේ ග්වොස්දෙව් ලියන්නට විය. දක්ෂ හොඳ ප වෙදෙකුට පදනම් රහිත ලෙස චෝදනා කරන 'ලියන්නාට' විරුද්ධව යුද කමිටුවේ සාමාජිකයකු වෙත කොමිසාර් පැමිණිලි කළේ ය. ලිපිය තැප කිරීමට හෙදියට බාර දුන් පසුද, කොමිසාර් වාර්තාව පළ කළ "ලියන්නා බැණ වැදීම නොනැවැත් විය. කොට්ටය මත හිස හැරවීමට පවා බැ සිටින මේ පුද්ගලයා මෙතරම් තද වචන පාවිච්චි කරනු ඇතැයි කිසිවෙ නොසිතූහ...

හවස් වන විට කොමිසාර්ගේ සෞඛ්‍ය තත්ත්වය වඩාත් අයහප විය. ඔහුට බෙහෙත් විද අම්ලකර වායුව දෙන ලදී. බොහෝ වේලාව යන තුරු ඔහුට සිහි නොලැබිණ. සිහි ලැබුණු විගස ම ඔහු අම්ලක වායුව පිරි මල්ල අතින් ගෙන සිටින ක්ලාව්දියා මිහයිලව්නා දෙස බ

මඳ සිතාවක් පෑමට තැත් කළේ ය.

රෝගයට එදිරිව දැඩි සටනක් කරන මේ යෝධමය පුරුෂයා, දිනෙන් දින දුර්වල වන සැටි බලා සිටීම පවා මහත් වේදනාවකි.

## 8

අලෙක්සේයි මෙරේස්යෙව් ද දිනෙන් දින දුබල වෙමින් සිටී.

හැම කෙනෙකුගේ ම හදවත්වලට යතුරු සොයා ගැනීමෙහි දක්ෂ කොමිසාර්, අලෙක්සේයි පරාජිත ලොඩ්ඩින් මුදවා ගැනීමට මෙතෙක් අසමත් විය. අලෙක්සේයිගේ සැත්කමින් පසු පළමුවැනි දවසේදීම, කොමිසාර් "වානේ පත්තරය ලැබූ සැටි" නවකතාව හඬ නගා කියවන්නට පටන් ගත්තද, එය කා සඳහා කියවන්නේ ද යන්න දැන ගත් හෙතෙම සැලකිල්ලක් නොවීය. එම නවකතාවේ වීරයා වන පාවෙල් කොර්චාගින් අලෙක්සේයිගේ සිත දිනා ගත් වීරයෙකි. ඔහු ළමාවියේ සිටම එම චරිතයට ඇලුම් කළේ ය. "ඒ වුණාට කොර්චාගින් ගුවන් නියමුවෙක් නොවෙයි, නෙව! ගුවන් යානා පැදවීමේ රෝගයෙන් ඔහු පෙළුනේ නැහැ නෙවද?" යි අලෙක්සේයි පාවෙල් කොර්චාගින්ගේ චරිතය විග්‍රහ කරමින් තමාටම කියා ගත්තේය.

නව කතාව කියවීම අසාර්ථක වූයෙන් කොමිසාර් වෙනත් උපායයන් යොදන්නට විය. තම මිතුරෙක් වන පක්ෂාඝාත රෝගියෙක් සමාජ වැඩ කටයුතු කරන සැටි ඔහු අලෙක්සේයිට ඇසෙන සේ විස්තර කළේ ය. හැම දෙයක් ගැනම මහත් උනන්දුවෙන් අසන ස්තෙපාන් ඉවානොවිච් ඔහුගේ කතාව අනුමත කළේ ය. තම ගම් පළාතේ පදිංචි දොස්තර ගැන ස්තෙපාන් ඉවානොවිච්ට මතක් විය. අතක් නැති ඔහු මුළු පෙදෙසේ ඉතාම දක්ෂ දොස්තර විය. ඔහු අසු පිට ගියේ ය. තනි අතින් තුවක්කුවත් රැගෙන දඩයමේ ගියේ ය. ලේනකුගේ ඇසට වුව ඉලක්කය බලා වෙඩි තැබීමට ඔහු සමත් විය. තමා පෞද්ගලිකව දන්නා විලියම්ස් විද්‍යාඥයා ගැන කොමිසාර් විස්තර කළේ ය. අංශබාග රෝගය නිසා එක් අතක් හා පයක් ක්‍රියා විරහිත වුවද, විලියම්ස් කෘෂිකාර්මික විද්‍යායතනයේ පර්යේෂණ කටයුතු මෙහෙයවමින් වැඩ කළේ ය.

මේ කතා අසන අලෙක්සේයි සාවඥ ලෙස සිනාසුණේ ය. කතා කිරීම, කියවීම, ලිවීම, අණ කිරීම, පමණක් නොව දඩයම් කිරීම පවා දෙපා නැතිව කළ හැකිය. එහෙත් ගුවන් යානාවක් පැදවීම කළ නොහැකි

. අලෙක්සේයි ගුවන් නියමුවෙකි. උපන් ගුවන් නියමුවෙකි. තමා කුඩා
ල පැණි කොමඩු වත්තක් උඩින් අහසේ පියාසර කළ රිදී පැහැති
රුංගලය දුටු දා පටන් අලෙක්සේයි ගුවන් යානා පැදවීම ගැන සිහින
වුවේ ය. සුප්‍රසිද්ධ වොල්ගා පැණි කොමඩු වත්තට උඩින් ස්ටාලින්ග්‍රාඩය
දෙසට සෙමින් පියාසර කළ ඒ සරුංගලය දෙස ඔහු බොහෝ වේලාවක්
ලා සිටියේ ය.

ගුවන් නියමුවකු වීමේ ආසාව එදා සිට ඔහු අත් නොහළේ ය.

කොම්සොමොල් තරුණ සංවිධානය ඔහු ඈත පෙරදිගට යැවීය.
මූර් ගඟ බඩ කොම්සොමොල් තරුණ නගරය ඉදි කිරීමට ඔහු වෙහෙස
නොබලා වැඩ කළේ ය. එහෙත් අහස් නියමුවකු වීමේ සිහිනය ඔහු නිතර
වුවේ ය. එම නගරය ගොඩ නැගූ තරුණ තරුණියන් අතර සිටි
අහස්යානා ලෝලයෝ එක් ව නගරය ගොඩ නැගීමට පෙර ගුවන් යානා
සමාජ ශාලාවක් සංවිධානය කළහ. සාදාගෙන යන ගොඩනැගිලි
දුමෙන් වැසුණු පසු තම නේවාසිකාගාර වලට යන තරුණ නිර්මාණකයෝ
ගිනි මැලයක් ගසා ගිනි තැපූහ. මදුරුවන් හා මැක්කන් විනාශ කළහ.
එවැනි සවස් කාල වලදී මදුරුවන්ගෙන් හා මැක්කන්ගෙන් බේරීම
පිණිස භූමිතෙල් ඇඟ පුරා ගාගෙන තයිගා වනයට වැදෙන අහස්යානා
ලෝලයෝ ගස් කපා හෙළමින් අහස්යානා තොටුපළක් සඳහා බිම් සකස්
කළහ. මොවුන්ගේ නායකයා වූයේ අලෙක්සේයි මෙරේස්යෙව් ය. තයිගාවට
එදිරිව සටන් කොට තොටුපළක් සෑදීම ලෙහෙසි කරුණක් නොවී ය.
බාධාවන් මැඩගෙන වෙහෙස නොබලා විවේක නොගෙන වැඩ කළ ඔවුහු
අහස්යානා තොටුපළක් සෑදූහ. මේ සියල්ල ඔවුන් කළේ අනිත් අය
විවේක ගන්නා කාලයේදී ය.

අලෙක්සේයි තම ළමා වියේ සිහිනය වූ අහස්යානා පැදවීම
ඇරඹුවේ මේ ගුවන් තොටුපළෙනි.

පසුව යුද්ධ අහස් යානා ආයතනයක ගුවන් නියමු ශිල්පය
හැදෑරූ හෙතෙම තරුණ නියමුවන් පුහුණු කළේ ය. යුද්ධය පටන් ගත්
විට ආයතනයේ අධ්‍යක්ෂවරුන්ගේ තහනම හා තර්ජන නොතකා වහාම
ඉදිරි පෙරමුණ බලා ගියේය. ඔහුගේ මතු බලාපොරොත්තු ද, ප්‍රීතිය ද,
අනාගතය ද ඔහු ගුවන් යානා ශිල්පය සමඟ සම්බන්ධ කළේ ය. ඔවුහු
...නුව විල්යම්ස් ගැන කියති.

"විල්යමස් ගුවන් යානා පදවන්නෙක් නොවේ" යැයි කී අලෙක්සේ
බිත්තිය දෙසට මුහුණ හරවා ගත්තේ ය.

කොමිසාර් ඔහු 'දිනා ගැනීමට' කළ උත්සාහය අත නොහැරියේ ය.
මන්දෝත්සාහී ලෙස හුදකලාව කල්පනාවෙහි යෙදී සිටි අලෙක්සේයිට
කොමිසාර්ගේ කටහඬ ඇසිණි.

"අලෙක්සේයි මේ බලපන්, මෙන්න තුඹ ගැන ලියල තියෙනවා"

ස්තෙපාන් ඉවානොවිච් සහරාව අලෙක්සේයිට දුන්නේ ය. එහි
ලිපියක් වටා පැන්සලයකින් සලකුණු කර තිබිණි. අලෙක්සේයි සහරාව
ගෙන ලිපිය දෙස බලමින් තමාගේ නම සෙවීය. පළමුවැනි ලෝක මහා
යුද්ධ කාලයේදී රුසියානු ගුවන් නියමුවකු ගැන ලියූ ලිපියකි. ඒ. තම
නොහඳුණන ගුවන් නියමුවකුගේ ඡායා රූපයක් ද ලිපිය සමග පළ
කොට ඇත. තුනී උඩු රැවුලකින් හෙබි තරුණ නියමුවා 'කැප් තොප්පිය'
හිස ලාගෙන සිටී.

"කියවපන්, කියවපන්, තුඹටම ලියාපු ලිපියක් තමා" යැයි
කොමිසාර් කීය.

මෙරේස්යෙව් ලිපිය කියැවී ය. පසුගිය පළමුවැනි ලෝක මහා
යුද්ධයේදී ජර්මන් යුද පෙරමුණට ඉහළින් පියාසර කළ රුසියානු ගුවන්
නියමු වලෙරියාන් අර්කාද්යෙවිච් කාර්පෝවිච්ගේ කකුලකට වෙඩි වැදිණි.
තුවාල ලැබූ කාර්පොවිච් තම 'පාර්මන්' ගුවන් යානය රුසියානු ගුවන්
තොටුපළ දක්වා ගෙන යාමට සමත් විය. කකුල කපා දමනු ලැබුවද
කාර්පොවිච් ගුවන් යානාවෙන් ඇත් වීමට සූදානම් නොවී ය. තමාගේ ම
සැළැස්මක් අනුව ඔහු ලී කකුලක් සාදවා ගත්තේ ය. ඉන්පසු මහත්
ධෛර්යයකින් ව්‍යායාම් කළ හෙතෙම යුද්ධාවසානයේදී නැවත අහස්
හමුදාවට ඇතුළු විය. අහස් හමුදාවේ පරීක්ෂක ධුරයට ඔහු පත් කරන
ලදී. ඔහු "සිය අහස් යානයෙන් පියාඹමින් අභ්‍යාස සටන් වල යෙදුණේ
ය. "සාර් ආණ්ඩුව ජෝර්ජ් කුරුසිය ඔහුට ප්‍රදානය කළේ ය. අහස්
යානය කඩා වැටී මිය යන තෙක් ම ඔහු අහස් හමුදාවේ නියමුවකු ලෙස
සේවය කළේ ය.

අලෙක්සේයි මෙරේස්යෙව් එම ලිපිය තෙවරක් ම කියැවී ය.
සිහින් සිරුරකින් හෙබි ඒ තරුණ නියමුවා තමා දෙස බලා මද සිනා

න්නක් මෙනි. ඔහු විඩාපත් වූ බවක් පෙනේ. වාට්ටුවේ රෝගීහු
ලෙක්සේයි දෙස නිහඬව බලා උන්හ.

"කොහොමද කියෙව්වද?" කොමිසාර් කපටි බැල්මක් හෙළමින්
ශ්න කළේ ය. (නිහඬව උන් අලෙක්සේයි නැවත වරක් ලිපිය බලන්නට
ය.) 'ඉතින් තමුසෙගෙ අදහස කොහොමද?' යි කොමිසාර් ඇසී ය.

"එයාට නැති වුණෙ එක කකුලක් නෙව."

"තමුසෙ සෝවියට් රට වැසියෙක්."

"එයා පැදෙව්වෙ 'පාර්මන්' යානාවක්. ඒකත් අහස් යානාවක්ද?
ර්ම පෙට්ටගමක්. එය පැදවීම බොහොම ලෙහෙසියි. තවීන යන්ත්‍ර සූත්‍
යා කරවන්ට ඕන නැහැ. වේගයක් ඇත්තෙම නැහැ."

"තමුසෙ සෝවියට් රට වැසියෙක්." යැයි නැවතත් කොමිසාර්
වේ ය.

"සෝවියට් රට වැසියෙක්" යැයි තමාටම යාන්ත්‍රික ලෙස කියා
ත් අලෙක්සේයි නැවතත් එම ලිපිය බැලී ය. ඔහුගේ සුදුමැලි මුහුණ
මිසිසි අභ්‍යන්තර බලයක් විසින් ආලෝක කෙරිණි. ප්‍රීතියෙන් හා විස්මයෙන්
රි නෙත් වලින් ඔහු රෝගීන් දෙස බැලී ය.

එදා රෑ ඔහුට නින්දක් නොවී ය. ලෙඩුන්ගේ සුසුම් ලෑම් සහ
කදිරිගෑම් ඔහුට නෑසිණ. වරින් වර කොට්ටය යටින් සහරාව එළියට
ත් අලෙක්සේයි රෑ පහනේ ඇඳිරි එළියෙන් අහස් නියමුවාගේ ඡායා
රූපය දෙස බැලී ය. "උඹට අමාරු වෙන්න ඇති: ඒ වුණත් උඹ ජය
ත්තා." ඔහු සිතී ය. "මට උඹටත් වැඩිය අමාරු වේවි. නමුත් මම පරාද
වන්නෙ නැහැ."

මැදියම් රෑ කොමිසාර් හිටිහැටියේ ම නිහඬ විය. අලෙක්සේයි
ඇළමිටි වාරුවෙන් හිස ඔසවා ඔහු දෙස බැලීය. කොමිසාර් හුස්ම
කාගෙන මළාක් මෙන් සිටින සැටි දුටු අලෙක්සේයි බිය ගත්තේ, සීනුව
නාද කළේ ය. දැස් පියා දමමින් ක්ලාව්දියා මිහයිලොව්නා දුවගෙන
ආවා ය. හිස් වැස්මෙන් ආවරණය නොලැබූ ඇගේ හිසකේ කොණ්ඩ
සිඹිණි. සැණෙකින් වාට්ටුව භාර දොස්තර කැඳවා කොමිසාර්ට බෙහෙත්

විද අමලකර වායුව ආශ්වාස කිරීමට සලස්වන ලදී. පැයක් පමණ ඔහු ඔහුට ප්‍රතිකාර කළද, ඔහුගේ තත්ත්වය බලාපොරොත්තු රහිත විය. පසුව ඇස් හැර බැලූ කොමිසාර් මද සිනාවක් පෑවේ ය. ක්ලාව්දියා මිහයිලොව්නා දෙස බැලූ හෙතෙම මුදු ලෙස මෙසේ කීවේ ය.

"ඔහෙලට මෙතරම් කලබල කිරීම ගැන මට සමාවෙන්න."

දොස්තර වාට්ටුවෙන් පිටව ගියේය. සාත්තු සේවක සේවිකාවෝ පිටවූහ. ක්ලාව්දියා මිහයිලොව්නා කොමිසාර්ගේ ඇඳ අසල වාඩි වූවා ය. අලෙක්සේයි හැර අන් රෝගීහු නිදා ගත්හ. තම අහස් යානාව සවිකරන කෘත්‍රිම කකුල් ගැන අලෙක්සේයි සිතන්නට විය. ඒවා පටි සහිත වූවද කම් නැත. සිවිල් යුද්ධ කාලයේදී මිටි නියමුවකුගේ අහස් යානයේ පා පැදුම් වලට ලී කෑලි සවි කළ බව ආයතනයේ ගුරුවරයා වරක් කී සැටි ඔහු මතක් කලේ ය.

"සහෝදරය මම තමුසෙගෙන් ඈත් වෙන්නෙ නැහැ" යි කාර්පෝව්ච්ගේ ඡායා රූපය දෙස බලමින් හේ කීවේ ය. "මම නැවත පියාඹමි. නැවත පියාඹමි" යි හැඟීම ඔහු සිත පුබුදුවා ලීය. දෑස් පියාගෙන ඔහු වැතිර සිටින සැටි බලන කෙනෙකුට පෙනෙන්නේ ඔහු සැපට නිදා ගනිමින් මද සිනාවක් පාන සැටියකි.

මෙසේ පසුවන ඔහුට දෙබසක් ඇසිණි. තම ජීවිතයේ අසීරු අවස්ථාවලදී ඔහු එය නිතර සිහි කලේ ය.

"ඔහෙ ඇයි ඔහොම හැසිරෙන්නෙ? ඔතරම් වේදනා විඳින කොට විහිළු කිරීමත් හිනාවීමත් හරි භයානකයි. ඔහෙ කොතරම් වේදනා විඳිනවද? එය දකින මගේ හදවත උණු වෙනව. ඇයි ඔහෙ වෙන් කරපු වාට්ටුවකට නොයන්නෙ?"

එසේ කීවේ වාට්ටුවේ හෙදිය වන ක්ලාව්දියා මිහයිලොව්නා නොව, සුන්දර මිහිරි කට හඬක් ඇති ගැහැනියක විසිනැයි ඔහුට සිතිණි. කොමිසාර්ගේ ක්‍රියාවන්ට එදිරිව කතා කරන ඇගේ කට හඬෙහි ශෝකාන්විත බවක් පමණක් නොව තවත් යමක් ගැබ් වී ඇත. අලෙක්සේයි කොමිසාර්ගේ සුදුමැලි මුහුණ පෙනේ. ඔහුගේ බැල්ම දයාන්විතය. හෙදියගේ සුන්දර මුහුණද පෙනිණ. ඇඳිරි පහන් ආලෝකය නිසා ඇගේ කෙස්

වැටිය දිලිසිණ. තමා ඈ දෙස නොබැලිය යුතු බව ඔහුට වැටහුණද, ඔහු ඈ දෙස බලාගත්වනම සිටියේ ය.

"අනේ, අනේ සහෝදරී... ඇයි ඔහොම අඬන්නෙ! හිත සැහැල්ලු වෙන්න බ්‍රෝමයිඩ් ටිකක් බොනවද?" යි කොමිසාර් ඈට කීවේ පොඩි ළමයකු අමතා කතා කරන්නාක් මෙනි..

"ඔහෙ ආයෙමත් හිතාවෙනව. ඔහෙ පුදුම මිනිහෙක්. ඔහෙ හරිම නපුරුයි! ඔව් නපුරුයි. මෙතරම් වද විදිනව. අඩනව වෙනුවට එයා හිනාවෙනව. අනුන්ට උපදෙස් දෙනව. ආදරණීය සහෝදරය ඔහොම හැසිරෙන්න එපා. මීට පස්සෙ ඔහොම හැසිරෙන්න එපා....!

ඈ මුහුණ සඟවා ගෙන නිහඬව ඇඬුවා ය. සුදු ඇඳුමින් සැරසී සිටි ඈ දෙස කොමිසාර් කාරුණික බැල්මක් හෙළී ය.

"දැන් පමා වුණා වැඩියි. මගේ ආදරණීය වස්තුව. මගේ පෞද්ගලික කටයුතු වලදී මම නරක විධියට පමා වෙලා තියෙනව. මම හැමදාම අනුන්ගෙ වැඩ ගැන උනන්දු වුණා. දැන් ඉතින් හොඳට ම පමා වුණා."

කොමිසාර් සුසුම් ලෑවේ ය. හෙදිය කඳුළු පිරී දෙනෙතින් යුතුව ඔහු දෙස බැලුවාය. ඇගේ ඇස්වල යම්කිසි බලාපොරොත්තුවකි. ඔහු මද සිනා පා, සුසුමක් හෙළා. සුපුරුදු විකට හඬින් ඇය අමතා මෙසේ කීවේ ය.

"පුංචි කෙල්ල මා කියන කතාව අහන්න. මට මේ දැන් මතක වුණා බොහොම ඉස්සර තුර්කිස්තානයෙ සිවිල් යුද්ධ කාලෙ සිද්ධ වුණ දෙයක්. බස්ම වී හොර දෙටුවන් පන්නමින් අසරු කණ්ඩායමක් ගියා රුසියානු අශ්වයින්ට වාලුකා කාන්තාරයෙ යන්ට පුරුදු නැහැ. ඉක්මනින ම අශ්වයො එකිනෙකා මැරෙන්ට පටන් ගත්තා. මේ හන්ද අසරු හමුදාව පාබල හමුදාවක් වුණා. හමුදා නායකයා අවි හැර අන් සියලු බඩු බාහිරාදිය විසිකොට ළඟම ඇති නගරයට යාමට අණ කළා. ළඟම ඇති නගරයට කිලෝමීටර් 160 ක් පයින් යා යුතුයි. වැලි කඳු හරහා අපට යාමට සිදුවුණා. ගිනි අව්ව, බොන්ට වතුර උගුරක්වත් හොයාගන්ට නැහැ. අපේ දිව සහ තොල පැලී ඉරී කැලුණා. අපි ඔය දුක් විඳගෙන දවස් තුනක්ම පයින් ගමන් කළා. වැලි සුළං අපේ නහයට, කටට ඇතුළ

වුණා. කට ඇතුළෙ වැලි ඇට, ඇස් කෙවෙන්ට පටන් ගත්තා හන්දා. මිනිහෙක් පය පැටලී වැටුණොත් එයාට බොහෝ වෙලාවක් කුරු නැගිටින්න බැහැ. අපේ කොමිසාර්- යාකොව් පාව්ලොවිච් වොලෙ - තරබාරු මිනිහෙක්. එයා ඉතිහාසඥයෙක්. බුද්ධිමතෙක්. එයා බොල්ෂෙවික් වාදියෙක්. ඇගේ හැටි බැලුවම ඉස්සෙල්ලාම බිම වැටෙ ඕන එයයි. නමුත් එයා අනිත්. අය දිරි ගන්වමින් ගමන් කළා. " ටිකයි, තව ටිකයි. ඉක්මනින් ම නගරයට යන්ට පුළුවනි." යි එයා අ නිතරම කිව්වා. යම්කිසිවෙකු බිම වැටුණොත්, එයා පිස්තෝලය අ කෑ ගහනවා. "නැගිටපන්! නැතිනම් තුඹට වෙඩි තියනව..."

හතරවෙනි දවසෙදි නගරයට කිලෝමීටර් පහළොවක් විතර තියෙන විට, මෙන්න මිනිහ සිංදුවක් කියන්ට පටන් ගත්ත. ඒ වෙලා මිනිස්සු හොඳටම මහන්සි වෙලා දෙපා ඔසවන්න පවා බැරිවයි හිටි හරියට තුවාල ලැබූ සත්තු වගෙ අපි ගමන් කළේ. එයාගෙ කට හ හරිම සවුත්තුයි. බොහොම හීන් කට හඬක්. එයා පටන් ගත්තෙ පැ තාලෙ සින්දුවක්. අපි හැමදෙනාම ගායනා කළා. 'සීරුවෙන් ග කරනු!" කියල මම අණ දුන්නා. හිතන්නවත් අමාරුයි. අපි හැම දෙ ගමන් කළා.

එක සින්දුවක් ගායනා කළාට පස්සෙ අපි තවත් සින්දු ගායනා කළා. ගිනි අව්වේ පිච්චෙමින් අපි ගී කිව්වා. අපේ කට, තොල පැළිලා, ඔය විධියට අපට පුළුවන් වුණා එක මිනිහෙකු කාන්තාරයෙ නොවළලා නගරයට සේන්දු වෙන්න..... ඔන්න වැ හැටි."

"කොමිසාර්ට මොකද වුණේ?" ක්ලාව්දියා මිහයිලොව්නා ප්‍ර කළා ය.

"කොමිසාර්ද? එයා සනීපයෙන් ජීවත් වෙනව. පුරාවිද්‍යාව පිළි මහාචාර්යවරයෙක්. ඉතිහාසයට පෙර විසූ ජනතාව ගැන සාක්ෂි සෙ ගෙන තියනව. කාන්තාරෙ සින්දු කිව්වයින් පස්සෙ එයාගෙ කට හොඳටම බැරෑඩි වුණා. එයාට කටහඬෙන් වැඩක් නැහැ නෙව... කතන්දර කීව. අදට ඇති. පුංචි ළමයා ගිහින් නිදා ගන්න. අසරු හ අද රෑ නොමැරෙන බවට පොරොන්දු වෙනවා."

අලෙක්සේයි බොහෝ පමා වී අවදි විය. කිසියම් ප්‍රීතිමත් සිහි

නිසා ඔහු සතුටු විය. කොතරම් අපූරු සිහිනයක්ද? තිත්දේදි පවා අත නොහැර අල්ලාගෙන සිටි සහරාව දෙසට ඔහුගේ නෙත් යොමු විය. කාර්පෝවිච්ගේ ඡායා රූපය ඔහු දෙස තවමත් මද සිනාවෙන් බලන සැටි ඔහු දුටුවේ ය. අලෙක්සේයි පරෙස්සමින් සහරාව අත ගාමින් ඡායා රූපය දෙස බලා ඉහි මැරුවේ ය.

උදෑසන මුහුණ සෝදාගෙන, හිස පීරාගෙන සිටි කොමිසාර් මද සිනාවකින් යුතුව ඔහු දෙස බලා සිටියේය.

"තමුසෙ මොකද ඡායා රූපෙට ඉහි මරන්නෙ?" කොමිසාර් ප්‍රශ්න කළේ සතුටු ලීලාවකිනි.

"මගේ අදහස ආයෙමත් පියාසර කරන්වයි" අලෙක්සේයි පිළිතුරු දුන්නේ ය.

"එහෙමත් පුළුවන්ද? " එයාට එක කකුලක් තියෙනව. තමුසෙට දෙකම නැහැ නොවැ?"

"ඒ වුණාට මම සෝවියට් රට වැසියෙක්. රුසියන් කාරයෙක්." අලෙක්සේයි කීවේ ය.

ඔහු එසේ කීවේ එම වචන ඔහුට අහස් යානා පැදවීමට සහතිකය දුන්නාක් මෙනි. කාර්පෝවිච් අභිබවා ඔහුට ජය ගත හැකි යැයි ඔහු දැ ලෙස විශ්වාස කළේ ය.

උදෑසන ආහාර ගෙනා විට, තමාගේ කොටස සම්පූර්ණයෙන් කා දැමූ අලෙක්සේයි තවත් වැඩිපුර ඉල්ලා ගෙන එයද කෑවේය. ගියස ගැයීමට, උරුවත් බෑමට තැත් කළ හෙතෙම තම අදහස් එළිපි කියන්නට විය. මහාචාර්ය තුමා ලෙඩුන් බැලීමට පැමිණි විට, ඔ තමාට දක්වන විශේෂ කරුණාව ප්‍රයෝජනයට ගනිමින් ඔහුගෙන් ප්‍රශ් අසමින්, ඉක්මනින් සුවය ලැබීමට කුමක් කළ යුතුදැයි ඇසී ය. වැඩියෙ ආහාර ගෙන වැඩියෙන් නිදාගත යුතු යැයි මහාචාර්ය තැන කිය දවල් ආහාරයද තවත් අමතර ආහාර කොටසක්ද අනුභව කළ ඔ හතරවැනි මස් කට්ලටය ගිල දැමුවේ ආයාසයෙනි. දහවල් කාලය ඔහුට නින්ද නොගියද, දෑස් වසාගෙන ඔහු පැය එක හමාරක් පම වැතිර සිටියේ ය.

ප්‍රීතිය නිසා කෙනෙකු ආත්මාර්ථකාමී වීමට ඉඩ ඇත. අලෙක්සෙ මහාචාර්ය වරයාගෙන් දිගින් දිගටම ප්‍රශ්න ඇසූ නමුදු මූළ වාට්ටුවේ දුවු විශේෂයක් දැකීමට ඔහු අපොහොසත් විය. වසීලියි වසිලෙවිච් පුරු පරිදි නියමිත වේලාවට ලෙඩුන් බැලීම ඇරඹීය. බැස යන හිරු ගේ ර ස්, මදින ලද ලී පොළොවේ සිදුරකට ළඟා වත්ම, ඔහු වාට්ටුවට ඇතුළු විය. බාහිර වශයෙන් ඔහුගේ කිසිම වෙනසක් නොපෙනුනද, අභ්‍යන්තරික වශයෙන් ඔහුගේ සිත වෙනත් අරමුණක යෙදී ඇති බව පෙනෙන්නට තිබිණි. ඔහු තමාට පුරුදු පරිදි කෑ ගැසුවේ හෝ බැණ වැදුනේ නැත. ඔහුගේ ඇස් අග ලේ නහරවල එක්තරා ගැස්මක් ද දකින්නට තිබිණි. වස ඔහු නැවත ආ විට වඩාත් මහලු බවක් හා හැකිළී ගිය බවක් දක්නට තිබිණි. දූලි පිස දමන රෙදි කඩ දොරෙහි එල්ලා තිබීම නිසා ඔහු ස්විකාවට දොස් පැවරුවේ පහත් හඬකිනි. කොමිසාර්ගේ උණ වාර්තාව දෙස බලා යම්කිසි බෙහෙතක් නියම කොට ඔහු නිහඬව පිට විය. ඔහුගේ පිරිවර දොස්තරවරු හා හෙදියෝද කැළඹුණු ස්වභාවයකින් යුතුව ඔහු පිටුපසින් නිහඬව ගමන් කළහ. මහාචාර්යවරයාගේ කකුල යමක හැප් ඔහු වැටෙත් ම, කෙනෙක් ඔහු අල්ලා ගත්හ.

පසුදින ඔවුන්ට රහස හෙළිවිය. වසීලියි වසීලෙවිච්ගේ එකම පුතා බටහිර පෙරමුණේ දී මිය ගිය බව ආරංචි විය. දොස්තර කෙනෙකු වූ ඔහු ගේ නම ද වසීලියි වසීලෙවිච්ය. විද්‍යාඥයකු වීමේ පෙර ලකුණු ඔහු තුළ දක්නට තිබුණෙන්, පියා පුතු ගැන ආඩම්බර විය. සතුටු විය. ඔහුට සිටි එකම දරුවාද යුද්ධයට බිලිවිය. මහාචාර්යතුමා තමන් බැලීමට පැමිණෙත් දැයි ලෙඩ්ඩු මෙන්ම රෝහලේ සේවකයෝ ද හුස්ම නාගෙන බලා සිටියහ. හතළිස් දෙකේ වාට්ටුවට වැදුණු හිරු රැස් මහාචාර්ය තුමා පැමිණෙන වේලාව දක්වන්නාක් මෙන් සිදුරට ළං විය. අද මහාචාර්ය තුමා නොඑතියි කියන්නාක් මෙන් ඔවුහු එකිනෙකා තම තමන්ගේ මුහුණු දෙස බැලූහ. හිරු රැස් සිදුර මත වැටෙත්ම, සුපුරුදු පත්තුවල හඬ ඇසිණි. මහාචාර්ය තුමා අද ඊයේට වඩා සතුටින් න්නා සැටියකි. තද හෙම්බිරිස්සාවක් හැදුණු විටදී මෙන් ඔහුගේ ඇ ය හා නහයද තරමක් ඉදිමී ඇත. ඔහුගේ අත් වෙනදාට වඩා වෙව්ලන ැවි කොමිසාර්ගේ උණ වාර්තාව අල්ලා ගෙන සිටින සැටියෙන් පෙනේ. ැමදා මෙන් ම අද ද හේ කඩිසර ය. උනන්දුය. ඔහුගේ කෑගැසීම් හා ැණ වැදීම් අඩු වී ඇත.

කලින් එකඟ වූ කලෙක මෙන් තුවාල කාරයෝ සහ රෝගීහු හාචාර්ය වරයා සතුටු කිරීමට ඉදිරිපත් වූහ. හැම 'දෙනෙක් ම සුවය

නත බව කියා සිටියහ. බරපතළ රෝගීහු පවා තම වේදනාව යටපත්
ර ගත්තෝ සිනාසුණාහ. රෝහලේ හැම දෙයක් ම අගනා ලෙස සංවිධාන
ර ඇති බවත්, ප්‍රතිකාර ඉතාම උසස් බවත් ඔවුහු එක හඬින් කියා
වියහ. විශාල පොදු දුකක් නිසා රෝගීහු හා සේවකයෝ එකම පවුලක්
වට පත්වූහ.

රෝගීන් පිරික්සමින් වාට්ටුවෙන් වාට්ටුවට ගිය වසීලියී වසිලෙවිච්
දින තම කටයුතු මෙතරම් සාර්ථක වූයේ මන්දැයි සිතමින් පුදුමයට පත්
ය.

ඇත්ත වශයෙන්ම ඔහු පුදුමයට පත් වීද? රෝගීන්ගේ ඒ සුහද
මන්ත්‍රණය ගැන ඔහු දැන ගත්තේ නම්, ඔහු ලැබූ දරුණු, සුවකළ
නොහැකි තුවාලයේ වේදනාව අඩු වීමට එය හේතුවක් වනු ඇත.

9

මොස්කව් නදියේ හිම කැට දිය වී ගියේ ය. මුලදී ගංගා ජලය
තුරා ගිය ද පසුව මෙල්ල වූ කලෙක මෙන්, එය තම සුපුරුදු නි
තීරයන් දක්වා පසු බැස්සේ ය. නැව්, පාරු, බඩු නැව් හා මගීන් ගෙන
යන යාන්ත්‍රික බෝට්ටු ඉහළ පහළ දුවන්නට විය. ගොඩබිම ප්‍රවාහණය
යුද්ධය නිසා අඩු වූ බැවින් එම හිඟය පිරිමැසීමට දිය මතු පිට ප්‍රවාහණ
ඉදිරිපත් විය. වසන්ත ගංවතුරු නිසා හතළිස් දෙකේ වාට්ටුවේ එ
රෝගියකු වත් හානි නොලැබී යැයි කුකුෂ්කින් අඳුරු අනාවැකි පළ ක
ද, කෙමිසාර් හැර අන් හැම දෙනම සුවය ලැබීමට පටන් ගත්හ. සුව
ලබා රෝහලෙන් ටිකට් කපා යාම ගැන ඔවුහු කතා කළහ.

පළමුවෙන්ම රෝහලින් පිට වූයේ ස්තෙපාන් ඉවානොවිච් ය. ඔ
තම යුද ඇඳුමෙන් සැරසී ලෙඩුන්ගෙන් සමු ගැනීමට පැමිණියේය. ඔහුගෙ
පරණ යුද කබාය සෝදා අපුල්ලනු ලැබීම නිසා සුදු පැහැවී තිබිණ
කබාය මනා ලෙස හැඳ හම් පටිය ඉන වටා බැඳ සිටි නිසා කබායේ
දී නොපෙනේ. ස්තෙපාන් ඉවානොවිච් දන් අවුරුදු පහළොවකින් පමණ
තරුණ වී ඇත. සෝවියට් සංගමයේ වීරයා - රන් තරුව ද, ලෙනි
සම්මාන පදක්කම සහ නිර්භයත්වයේ පදක්කම ද ඔහු පැළඳ සිටියේ
රෝහලේ සුදු කබායෙන් ඔහු දෙවුර වසාගෙන සිටියේය. ඔහුගේ සිහි
රඹු රැවුල ද, ඇඳුම් හා සපත්තු ද, ඉරියව් ද 1914 පළමු වැනි ලෝ

හා යුද්ධ සමයේ නත්තල් උත්සව පතක සෙබළෙකුගේ පින්තූරයකට
මාන විය.

වාට්ටුවේ හැම රෝගියකුම වෙත පැමිණි ස්තෙපාන් ඉවානොවිච්
වුන්ගෙන් සමුගත්තේ ය. දෙපයේ විලුඹ එකිනෙකට ගැටෙන සේ සපත්තු
ඩි හප්පමින්, සීරුවෙන් සිට ඔහු තම රෝගී සගයින්ගෙන් සමු ගනිමින්
ාචාර කළේ දූවුවන් මත පිනවමිනි.

කොමිසාර් වෙත පැමිණි හෙතෙම දයාන්විත ලෙස මෙසේ කීය.
සේනාංක කොමිසාර් සහෝදරය, අවසර දෙන්න ඔබගෙන් සමුගන්න."

"ආයුබෝවන් ස්තෙපාන්. සුබ ගමන්" යැයි කොමිසාර් කීවේ
විදනාව මැඩ ගනිමින් ඔහු වෙත හිස හරවමිනි.

ඔහු දණ ගසා කොමිසාර්ගේ ගෙල බදාගෙන රුසියන් සිරිත
නුව තෙවරක් සිප ගත්තේ ය.

"සනීප වෙයන්. සෙමියොන් වසීලෙවිච් කොමිසාර් සහෝදරය.
දවියන්ගෙ පිහිට ලැබේවි! උඹේ හෘදය වස්තුව රත්රන් කඳක්. පියකුට
ඩා හොඳින් තුඹ අපට සැලකුවා. මා මැරෙන තුරු තුඹව අමතක
රන්නෙ නැහැ" යැයි ස්තෙපාන් ඉවානොවිච් කීවේ චිත්ත වේගයෙනි.

"යන්න, යන්න ස්තෙපාන් ඉවානොවිච්. එයාගෙ හිත අවුල් කරන්න
පා" යැයි ක්ලාව්දියා මිහයිලොව්නා තෙපළා ය.

"සහෝදරිය උඹටත් අනේක වාරයක් ස්තුති කරනව. සහෝදරිය
සේ සෝවියට් දෙව්දූවක්" යැයි ස්තෙපාන් ඉවානොවිච් ඇට ආචාර
රමින් පැවසීය.

නැවත වාට්ටුවේ රෝගීන්ට ආචාර කළ සෝවියට් සංගමයේ වීර
සබලා වාට්ටුවේ දොර හැර පිටව ගියේය.

හැම කෙනෙක්ම සුවය ලබන්නට වූහ. දන් එය සිහිනයක් නොවීය.
ානාගත වැඩ ගැන ඔවුහු කතා කළහ. කොරිඩෝරය දිගේ ඇවිදින්නට
වත් ගත් කුකුළ්කින් රෝහලේ අනිකුත් වාට්ටුවල රෝගීන් සමඟ

තලහ කළේ ය. යුද්ධ ටැන්කි සෙබළාගේ තුවාල වෙළා තිබූ වෙළුම් පටි
ගළවා දමන ලදින්, ඔහු කොරිඩෝරයේ කණ්ණාඩිය ඉදිරිපිට සිට ගෙ
බෙල්ලේත්, මුහුණේත් අත් වලත් ඇති තුවාල හා කැළැල් පිරික්සුවේ ය
අන්සූටා සමග ඔහුගේ ලියුම් හුවමාරුව වැඩිවෙත්ම, ඔහු වෛද්‍ය විද්‍යාලය
තොරතුරු වැඩියෙන් දැනගත්තේය. පෙරට වඩා ඔහු කණ්ණාඩිය ඉදිරිපි
සිටගෙන මුහුණේ කැළැල් පිරික්සමින් කල්පනා කළේ ය. හිම්දිරි පාත්ද
සහ හවස ඇදිරි වැටුණු පසු නම්, ඔහුගේ මුහුණ ලස්සන ය. පළ
නළල, මදක් වක් වූ පුංචි නහය, යෞවන මුරණ්ඩුකම් කියාපාන සිහි
දෙතොල, උඩුතොල වසා ඇති සිහින් රැවුළ ඔහුගේ මුහුණේ හැඩය ඔ
නගයි. එහෙත් දහවල නම් ඔහුගේ මුහුණේ සම පිළිස්සී ඇති බව පෙනෙ
ඒ කැළැල් වසා ඇති හම ගොරෝසු ය. අවලස්සන ය. ග්වොස්දෙ
කැළඹී ගත් විට සහ ජල ප්‍රතිකාරවලින් පසුව එම කැළැල් වඩාත් ඉදි
පෙනෙයි. එවැනි අවස්ථාවලදී කණ්ණාඩියෙන් මුහුණ බලන හෙතෙ
අඩා වැළපීමට පවා සූදානම් වූයේ ය.

"උඹ මොකද බය වෙන්නෙ? සිනමා තරුවක් වෙන්ට හදනව
උඹගෙ ඔය පෙම්වතිය උඹට හැබෑටම පෙම් කරනව නම් තුවාල කැළැ
නිසා එයා බය වෙන එකක් නැහැ. බය වෙනව නම් එයා උඹට හැබෑට
පෙම් කරල නැහැ. එහෙනම් එයාව යන අතක යන්ට හරිනව" යැයි
අලෙක්සේයි ඔහු සැනසුවේ ය.

"ගැණු ජාතිය ඔහොම තමා!" කුකුෂ්කින් කීවේය.

"තමුසෙගෙ අම්මත් එහෙමද?" යි එම කතාව අසාගෙන සි
කොමිසාර් ඔහුගෙන් ඇසීය. වාට්ටුවේ හැම රෝගියකුම තම සොහොයුරෙ
මෙන් පිළිගෙන ඇති කොමිසාර්, කුකුෂ්කින් ඇමතුවේ පිටස්තර කෙනෙ
මෙනි.

ඒ ප්‍රශ්නය නිසා කුකුෂ්කින් වෙනස් වූ හැටි දකින විට ප
විශ්වාස කළ නොහැකි විය. ඔහුගේ දෑස් රතු විය. මුහුණ කඩද
කොළයක් මෙන් සුදුමැලි විය.

"ඔන්න පේනව නේද, මේ ලෝකේ හොඳ යහපත් ගැහැනි
ඉන්නව" යැයි කොමිසාර් ශාන්ත ලෙස පැවසීය.

"එහෙනම් තමුසෙ ඇයි ග්වොස්දෙව්ට හරියන්නෙ නැතැයි කියන්න

තට්ටු කරන්නාට දොර හැරෙනව යන කියමන අහල නැතිද?" යි කොමිසාර් ඇසී ය.

වාට්ටුවේ හැම රෝගියකුගේ ම තත්ත්වය යහපත් වූ අතර කොමිසාර්ගේ තත්ත්වය වඩාත් අයහපත් විය. මෝපියා, කැම්පර් වැනි බෙහෙත් නිතර ඔහුට විදීමට සිදු විය. සමහර විට මුළු දවසේ ම ඔහු අඩ සිහියෙන් පසු විය. ස්තෙපාන් ඉවානොවිච් ගිය පසු කොමිසාර්ගේ රෝගය බරපතළ විය. තම ඇඳ කොමිසාර්ගේ ඇඳ ළඟින් තබන ලෙස අලෙක්සේයි ඉල්ලා සිටියේ ඔහුට ආධාර කිරීමේ අදහසිනි. ඔහුගේ සිත වඩ වඩාත් කොමිසාර් කෙරෙහි ඇදෙන්නට විය.

දෙපා නැති ජීවිතය කිව නොහැකි තරම් අසීරු බව දන්නා අලෙක්සේයි බරපතල ලෙස රෝගාතුර වී සිටින කොමිසාර් තම අසාධ්‍ය රෝගය ගැන නොසලකා අනුන්ට ආධාර දීමට නිතර ඉදිරිපත් වීම නිසා ඔහු වෙත ඇදී ගියේ කාන්දමකට ඇදෙන ඉඳිකටුවක් මෙනි. කොමිසාර්ට ප්‍රකෘති සිහිය ලැබුණේ ඉඳ හිටලා ය. ඒ හැම අවස්ථාවකදී ම ඔහු පෙර මෙන් හැසුරුණේ ය.

දවසක් දා රාත්‍රී නවයට පමණ වසිලියි වසීලෙවිච් දැන් පිටිතල හයා තබාගෙන සෙමින් සෙමින් වාට්ටුවට ඇතුළු විය. දොස්තර කබායේ බොත්තම් වසා නොතිබිණ. පැසුණු හිසකේ ඔහුගේ නළල මත වැටී ඇත.

'වසීලියි එනවා' යැයි අලෙක්සේයි කොඳුරා කීවේ ය. මේ වන විට අලෙක්සේයි කෘත්‍රිම කකුල් සෑදීමේ විශේෂ සැලැස්මක් ගැන සිය අදහස කොමිසාර්ට දන්වා තිබිණ.

බිත්තියට මුහුණ දී සිට ගත් වසීලියි වසීලෙවිච් යමක් මුමුණ හතළිස් දෙකේ වාට්ටුවට ඇතුළු විය. ඇඳන් ඉදිරිපිට සිටගෙන නළල අතගාමින් හෙතෙම යමක් කල්පනා කරන්නට විය. ඔහු වෙතින් මත් ද්‍රව්‍ය ගඳක් වහණය විය.

"වසීලියි වසීලෙවිච් වාඩි වෙන්න. අප පොඩ්ඩක් කතා කරමු" යි කොමිසාර් ඔහුට යෝජනා කළේ ය.

සෙමින් ඇඳ ළඟට ආ මහාචාර්ය තුමා එහි කොණක වාඩිවෙ ම, ඇඳේ දුනු 'කිටි, කිටි' යන හඬක් නැඟිය. හේ තම කංශක අතින් ව

මැද්දේ ය. දිනපතා ලෙඩුන් පරීක්ෂා කරන මහාචාර්ය තුමා කොමිසාර් සමග මද වේලාවක් යුද්ධය ගැන කතා කලේ ය. සවස ඔහු හමු වී කතා කිරීම ගැන පුදුමයක් නොවූයේ එබැවිනි. එවැන්නක් අතර විශේෂ සාකච්ඡාවක් ඇති වනු ඇතැයි සිතූ අලෙක්සේයි දෑස් වසාගෙන නිදාගත්තාක් මෙන් සිටියේය.

"අද අප්‍රේල් 29 දා, එයාගෙ උපන් දවස. එයා ජීවත්ව හිටිය නම් අද එයාට අවුරුදු 36 ක් පිරෙනව." මහාචාර්යතුමා පහත් හඬින් කීවේ ය.

බොහෝ අමාරුවෙන් බ්ලැන්කෙට්ටුව යටින් අතක් එළියට ගත් කොමිසාර්, වසීලියි වසීලෙවිච්ගේ අත මත තබත්ම, නොසිතූ දෙයක් සිදු විය. මහාචාර්යතුමා ළමයකු සේ අඬන්නට විය. ලොකු ශක්තිමත් අධිෂ්ඨාන බලයකින් යුතු ඒ පුද්ගලයා අඬන සැටි දකීම අසීරු කරුණකි. ඉබේටම මෙන් අලෙක්සේයි තම බ්ලැන්කෙට්ටුවෙන් මුහුණත්, හිසත් වසා ගත්තේය.

"යුද පෙරමුණට යන්ට ඉස්සෙල්ල, පුතා ආවා මා හම්බවෙන්ට, මහජන හමුදාවට බැඳුණු හන්දා වැඩ බාර දෙන්නෙ කාටද කියල මගෙන් ඇසුවා. මා කොතරම් පුදුමයට පත් වුණාද කියල කීවොත්, මම එයාට බැණ වැදුනා. වෛද්‍ය විද්‍යාව අනුව එයා පශ්චාත් උපාධි ලබා ගෙන පරීක්ෂණ කටයුතු කරන දොස්තර කෙනෙක්. බොහොම හොඳ අනාගතයක් තිබුණා. එයාට තුවක්කුවක් අරන් සටනට යාමට ඇති උවමනාව මට තේරුම් ගැනීමට බැහැ. 'පශ්චාත් උපාධි ලැබූ විද්‍යාඥයො පවා තුවක්කු ගන්න වෙලාවන් තියෙනව තාත්තේ' කියල එයා මට කීවා. "මගේ වැඩ කාටද බාර දෙන්නෙ?" කියල ආයෙමත් මගෙන් ප්‍රශ්න කළා. මම ටෙලිපෝනය අරගෙන ප්‍රධාන යුද්ධ කාර්යාලයට එක වචනයක් කිව්ව නම් බේරාගන්ට තිබුණා. ඔය මරණය වළක්වන්න තිබුණා! මගේ පුතා යුද්ධ භටයන්ට වෙදකම් කරන මේ රෝහලේ අංශයක් භාරව වැඩ කළා!....එහෙම නේද?"

විසීලියි වසීලෙවිච් නිහඬ විය. ඔහු සුසුම්ලන සැටි ඇසිණි.

".... සහෝදරය, මා සනසන්ට ඕන නැහැ. තමුසෙ හොඳටම වේදනා විඳින බව මට තේරෙනව.... මම මුළු රෑම කල්පනා කළා මොනවද කරන්නෙ කියල. මම ටෙලිෆෝන් කලේ නැහැ..."

'දුන් මහාචාර්යතුමා ඒ ගැන කනගාටු වෙනවද?'' යි කොමිසාර් ඇසී ය.

'නැහැ. ඒක කනගාටුවක් කියල හඳුන්වන්න බැහැ! මගේ හිතට නිතර නිතර එකම ප්‍රශ්නයක් පැන නගිනව. මගේ පුතාව මැරුවෙ මල නොවේද? කියල මම, මගෙන්ම අහනව. අපි දෙන්නට රටේ ප්‍රයෝජනය සඳහා බොහෝ වැඩ කටයුතු කරන්ට අවස්ථාවක් තිබුණා. ඔහු බොහොම දක්ෂ, කුසලතාවයක් ඇති විද්‍යාඥයෙක්. වෛද්‍ය විද්‍යාවට විශාල සේවයක් කරන මහා විද්‍යාඥයෙක් වීමේ වාසනාව එයාට තිබුණා...... එදා මම ටෙලිෆෝන් කළා නම්....!''

'ටෙලිෆෝන් නොකළාට ඔබතුමා කනගාටු වෙනවද?''

''මොනවද කිව්වෙ? ආ.... මට ඒකට කෙළින් ම පිළිතුරු දෙන්න බැහැ.''

''නැවත වරක් ඔහෙගෙ පුතා යුද පෙරමුණට යන්න ලෑස්ති වුණොත් ඔහෙ එයාගෙ ගමන වළක්වන්න ඉදිරිපත් වෙනවද?'' යි කොමිසාර් ඇසී ය.

මහාචාර්ය තුමා නිහඬ විය. වාට්ටුවේ රෝගීන්ගේ ආශ්වාස ප්‍රශ්වාස හඬ ඇසිණි. මහාචාර්ය තුමා වාඩි වී සිටි ඇඳේ දුනු 'ක්‍රික්' යන හඬක් පිට කළේ ය. ඔහු පැත්තකට හැරුණා විය යුතුය. කාමරයට උණුසුම ලබාදෙන උණු වතුර බැටරියක වතුර හඬ නගමින් දුවන සැටි ඇසිණි.

''එහෙම කොහොමද?'' යි මහාචාර්ය තුමා ප්‍රශ්න කළේ ය. ඔහුගේ කටහඬ උණුසුම් විය.

''ඔය ප්‍රශ්නෙට පිළිතුරු දීම ලෙහෙසි නැහැ. ලෙහෙසි නැහැ.... ආයෙමත් ඔය දේ සිද්දවුණොත් මම ටෙලිෆෝන් කරල එයාව නවත්වන්ට ලෑස්ති වෙන්නෙ නැහැ. මේ යුද්ධය කොතරම් භයානක දෙයක්ද! කොහොම කතා කළත් එහි බිය ජනක බව අඩු වන්නෙ නැහැ....''

නැගිට සිටි මහාචාර්ය තුමා කොමිෂාර්ගේ අත බිලැන්කෙට්වුව යටින් තබා නිහඬව වාට්ටුවෙන් පිට විය. එදින රෑ කොමිසාර්ගෙ

රෝගය අසාධ්‍ය විය. සිහිසන් නැතිව හෙතෙම ඇඳ මත දඟලන්නට විය. දත් කමින් හඬ නහා සුසුම් ලමින් හුන් හෙතෙම හිටි හැටියේම මළාක් මෙන් නිහඬ විය. ඔහුගේ අවසානය පැමිණ ඇතැයි අපි සිතුවෙමු. සිය පුතාගේ මරණින් පසු ගෙදර නැවතීම අතහැර දමූ මහාචාර්ය තුමා රෝහලේ ම කුඩා කාමරයක රැය ගත කළේ ය. කොමිසාර්ගේ තත්ත්වය බලාපොරොත්තු රහිත වූයෙන් ඔහුගේ ඇඳ වටා ආවරණයන් තබන ලෙස මහාචාර්ය තුමා අණ කළේය. පණ අදින ලෙඩුන් වටා මෙවැනි ආවරණයන් තබන්නේ මළ පසු 'පනහේ වාට්ටුවට'' ගෙන යාමට පෙර බව රෝගීහු කීහ.

වසීලියි වසීලෙවිච් හා වාට්ටුව භාර දොස්තර කොමිසාර්ට බෙහෙත් විද, අම්ලකර වායුව දෙන ලදී. කොමිසාර්ගේ හදවත නැවත ක්‍රියාකාරී විය. නාඩි වැටෙන්නට විය. ඔවුන් ගිය පසු ලෙඩා සමඟ ක්ලාව්දියා මිහයිලොව්නා පමණක් නැවතුණා ය. නොනිදා සිටි අලෙක්සේයි කල්පනා කරන්ට විය. "ඇත්තටම මෙය ඔහුගේ අවසානයද?'' කොමිසාර් වේදනාව ඉවසා ගත නොහී, දඟලන්නට විය. අමාරුවෙන් කට හැර ගත් කොමිසාර් යම්කිසි වචනයක් කියන සැටි අලෙක්සේයිට ඇසුනාක් මෙනි.

"ජලය'' යනුවෙන් කොමිසාර් හඬ නඟන සැටි ඔහුට ඇසිණි.

ක්ලාව්දියා මිහයිලොව්නා වෙව්ලන අත්වලින් යුතුව බඳුනට වතුර වත් කරන සැටි ඔහුට පෙනිණි.

රෝගියාගේ කටට වතුර වත් කළද, වතුර කට දෙපැත්තෙන් ගලා ගිය නමුදු, ඔහු නොපැහැදිලි ලෙස "ජලය, ජල.....'' යන වචනය කීවේය. කොමිසාර් ගොත ගසමින් කියන වචනය 'ජලය' නොව 'ජීවිතය' බව අලෙක්සේයිට තේරුම් ගත හැකි විය. මේ මහා පුරුෂයා සිහිසන් නැතිව සිටිද්දී පවා අභිනව මරණයට එදිරිව සටන් කරන සැටි ඔහු දුටුවේ ය.

නිහඬ වූ කොමිසාර් ඇස් ඇර බැලී ය.

"දෙවියන්ගෙ පිහිටයි!'' කී ක්ලාව්දියා මිහයිලොව්නා ආවරණය ඉවත් කිරීමට සැරසුණා ය.

"සහෝදරිය ඉක්කිරීම ඉවත් කරන්න එපා. ඔහොම තියෙන්න

හරින්න. අඩන්ට එපා. ඔබේ කඳුළු නැතුවට ලෝකෙ බොහොම අම්බ... දේ තියෙනව. ඔයා සෝවියට් දේව දූතියක්! ඔයා වැනි දේව දූතියන් ... මාරයගෙ කට ළඟට ආපසු හමුවීම කනගාටුවට කරුණක්."

## 10

අලෙක්සේයි විස්මය ජනක අත්දැකීමක් ලැබී ය.

ශාරීරික ව්‍යායාම් කිරීම මගින්, නැවත සම්පූර්ණ මිනිසකු ... අහස් යානා පැදවීමට පුළුවන් බව තදින්ම විශ්වාස කළ අලෙක්සේයි ... ක්‍රියාකාරී වීමේ දැඩි ආශාවක් පහළ විය.

දැන් ඔහුට පරමාර්ථයක් ඇත. ප්‍රහාරක අහස් නියමුවකු ... නැවත සේවය කිරීමය. ඒ අරමුණ ඉටුකර ගැනීම සඳහා හෙතෙම ... ආත්ම විශ්වාසයකින් යුතුව වැඩ කිරීමට පටන් ගත්තේය.

අහස්යානා පැදවීමේ විද්‍යාව ගැන දත් මිනිසකුට පවා එය විශ්වා... කළ නොහැකි දෙයක් විය. දෙපා රහිත වුවද, අහස්යානා පැදවිය හැ... යැයි තමාට ඔප්පු කොට පෙන්විය හැකි බව අලෙක්සේයි මෙරෙස්යෙ... දැඩි ලෙස ඉවා ගත්තේ ය. ඔහු තම වැඩ පිළිවෙළ ක්‍රියාවේ යෙදවී... සියලු ප්‍රතිකාර හා බෙහෙත් නොකඩවා ගත්තේ ය. නිතර අමත... ආහාර ගත්තේය. තමාට නුපුරුදු දහවල් නිදා ගැනීම පුරුදු ... ගත්තේය. හැම වැඩකට ම නියමිත වේලාවක් වෙන් කළේ ය. සියලු වැ... කටයුතු කාල සටහනක් අනුව කළේ ය.

අහාර ගැනීම, බෙහෙත් හා ප්‍රතිකාර ගැනීම, නිදා ගැනීම අමා... දේ නොවේ. එහෙත් ශාරීරික ව්‍යායාම් කිරීම දුෂ්කර කාර්යයකි. දෙ... නැති, ඇඳට සීමා වී සිටින මිනිහකුට සාමාන්‍ය ව්‍යායාම් ක්‍රම පමණ... නොසෑහේ. දෙපැත්තට නැමීම, අත්වලට, බෙල්ලට, කවන්ධයට විශේ... ශක්තියක් ලබාදෙන ව්‍යායාම් කළේ ය.

සැත්කම් තුවාල සුවවීමෙන් පසු වෙළුම් පටි ලිහන ලදී. ... ඔහුගේ (දෙපා නැති) කකුල්වල මාංශ පේශීන් ශක්තිමත් කළ හැකි... දෑතේ ශක්තියෙන් හිස හා කඳ ඔසවන හෙතෙම විලුඹ හා ඇඟිලි නැ... කකුල් වලින් ව්‍යායාම් කරයි. ඇඳේ යකඩ රිටිවලට කකුල් තද කරගෙ...

...සත් පසුවත් ඔසවා ඉදිරියට නැමෙයි. මේ ව්‍යායාම දිනපතා කළ ඔහු ...වාර ගණනද, වේලාව ද ක්‍රම ක්‍රමයෙන් වැඩි කළේ ය. කකුල් දණහිස් ...වලින් නවා කදට තද කොට නැවත සැනෙකින් විදහා හරිමින් දිගු ...කළේය. මෙය හොඳ ව්‍යායාමයක් විය. පළමු වරට ඒ ව්‍යායාම කළ විට ඔහුට තියුණු  වේදනාවක් දැනිණ. ඇස් වටය දක්වා කපා දමන ලද කකුල් වලින් ව්‍යායාම කිරීම කොතරම් අපහසු ද යන්න ඔහුට පැහැදිලි විය. පියාපතක් හෝ වලිගයක් හෝ කැඩුණු අහස් යානයක් පැදවීම තරම් අසීරු දෙයකි. ඇස් වටය දක්වා කපා දමන ලද කකුල් වලින් ව්‍යායාම කිරීම, අලෙක්සේයි තම සිරුර අහස් යානයකට සම කළේ ය. මිනිස් සිරුර සැදී ඇත්තේ උත්කෘෂ්ට අන්දමට ය. දෙපා නැති නිසා ඔහු දැන් අසම්පූර්ණ මිනිහෙකි. ව්‍යායාම මගින් සිරුර ශක්තිමත් කළ හැක. එහෙත් විලුඹ හා ඇඟිලි නැති දෙපා වලින් පෙර මෙන් සමබර ව සිටිය නොහැකි ය. කොතෙක් ව්‍යායාම කළත්, දෙපා නැති නිසා ළමා වියේ සිට පුරුදු පුහුණු වූ වැඩ කළ නොහැකිය.

කකුල්වලින් ව්‍යායාම කිරීම තියුණු වේදනාවක් ගෙන දුන්නේය. එහෙත් අලෙක්සේයි දැඩි අදිටනකින් යුතුව දිනපතා ව්‍යායාම කිරීමේ කාලය විනාඩියකින් වැඩි කළේ ය. ඒ වැඩිපුර විනාඩිය ඔහුට තියුණු වේදනාවක් ගෙන දුන්නේ ය. දැසින් කඳුළු කැට වැටිණ. තොල් රත් පැහැ විය. කෙඳිරි ගෑම මැඩ පවත්වා ගනු වස් දෙතොල් සපා ගන්ට වූයෙන්, ලේ රසය පවා දැනිණි. එහෙත් හේ පසු නොබැස්සේය. මුලින් දවසකට වරක් ද පසුව දෙවරක් ද ව්‍යායාම කළ අලෙක්සේයි කාලය දිනපතා විනාඩියකින් වැඩි කළේ ය. මෙසේ ව්‍යායාම කළ පසු ඔහු ඇඳ බිම වැතිර ගත්තේ, නැවත වරක් එසේ කිරීමට ඔහුට ශක්තියක් ඇත්දැයි සැක කරමිනි. ව්‍යායාම කිරීමේ කාලය පැමිණි විට ඔහු නැවත එය පටන් ගත්තේ දුබලත්වය මැඩ ගනිමිනි.

අලෙක්සේයි නිතර සිතුවේ කකුල් ගැන ය. සමහර විට තම විලුඹේ හා පා ඇඟිලි වල වේදනාවක් හටගෙන තිබෙන බව ඔහුට සිතිණි. ඔහු කකුල් ඒ මේ අත සොලවන්නට විය. ඇස්වටය දක්වා තම පාදයන් කපා හැර තිබෙන බව ඔහුට මතක් වූයේ පසුව ය. ඔහු නිතර තම කකුල් ගැන කල්පනා කරන්නට වූයේ, ඒවා සම්පූර්ණ, නිරෝගී බව සිහි ය. ඔහු අහස් යානයේ පියාපතකට නැග පසුව පදවන නියමු ආසනයේ වාඩි වී, තම අත් උදව්කාර ශූරා, යානය වසා ඇති කවරය ගලවන තුරු නොඉවසිලිමත් ව බලා සිටින  සැටි සිහෙනේ දුටුවේ ය.

ඔල්යාගේ අතක් ගෙන ඈ සමහ පාවහන් රහිතව දුවන සැටිද, ස්ටෙප්ස්හි ප්‍රණීත පිණි බිඳු වලින් දෙපා තෙත් වූ සැටිද ඔහුට සිහිනෙන් පෙනිණි. ඔවැනි සුන්දර සිහිනවලට පසුව අවදිවන ඔහු තම පාදයන් නැති බව දකින්නේ, බෙහෙවින් දුක් විය.

සමහර දවස්වලදී අලෙක්සේයි මෙවැනි සිහින වලින් පසුව අධෛර්යයට පැමිණියේය. මෙලෙස ව්‍යායාම් කිරීමෙන් කිසිදු එලක් නැතැයි ද, තමාට කිසි දිනෙක අහස් යානාවක් පැදවීමට බැරි වනු ඇතැයි ද, කල් ගෙවී යත්ම, තමාට වඩාත් ළං වී ඇති, වඩාත් සුන්දර වස්තුවක් බවට පත් වී ඇති, කම්ෂින්හි ඔල්යා සමහ අත් වැල් බැඳගෙන ස්ටෙප්ස් බිම දිගේ දිවීම බැරිවනු ඇතැයිද සිතූ අලෙක්සේයි කනගාටුවට පත් විය.

ඕල්යා සමහ සම්බන්ධකම් පවත්වා ගැනීම අලෙක්සේයිගේ සිතට තුටක් නොවිය. සතියක් පාසාම පැහැදිලි අකුරෙන් ලියන ලද ලියුමක් ගෙනෙන ක්ලාවිදියා මිහයිලොව්නා ඔහු 'නැටීමට' එනම් ඇඳ මත වැතිර රුැර ඒ මේ අත වනමින් අත් පොලසන් දීමට සැලැස්සුවා ය. කල් යත් ත්ම මේ ලියුම් දිගින් වැඩි විය. යුද්ධය නිසා පීඩා ලැබූ ඕල්යාගේ ලය මුහුකුරා වැඩී ඇති බව ඒවා කියා පැවේ ය. කැළඹුණු සිතින් ඒ යුම් කිය වූ ඔහු ඇගේ ආලයට නිසි පිළිතුරු සැපයීමට තමාට අයිතියක් ැති බව අමතක නොකළේ ය. පාසල් සිසුන් වූ අලෙක්සේයි හා ඕල්යා මා වියේ සිටම එකිනෙකාට ඇලුම් කළහ. වැඩිහිටියන් මෙන් පෙනී ටීමට ආශා කළ ඔවුහු මේ හැඟීම් ආලය වශයෙන් හැඳින්වූහ. පසුව ෑදෙන අවුරුදු හතකට පමණ ඈත් වූහ. තරුණිය කාර්මික පාසලකට තුළු වූවා ය. ඈ නැවත තම නගරයට විත් කම්හලේ ශිල්පිනියක ලෙස ඩ කිරීමට පටන් ගත්තා ය. මේ වන විට අලෙක්සේයි අහස් නියමුවන් ුණු කරන පාසලේ උගත් බැවින් ඈ ඔහු හමු නොවූවා ය. ද්ධාසන්න සමයේදී ඔවුහු මුණ ගැසුනහ. වසන්ත සමයේ එක් දවසක ලෙක්සේයි තම මව සමග ගමනක් යද්දී, ඔවුන් වෙත තරුණියක් ගමන් රන සැටි ඔහු දුටුවද, ඔහු ඇය හඳුනා නොගත්තේ ය.

"ඇයි පුතේ නුඹ අර ගැනු ළමයට ආචාර නොකළේ. ඒ ඕල්යා. ටව අමතක වුණාද?" යි අම්මා ඇසුවා ය.

අලෙක්සේයි ආපසු හැරී බලත්ම, ඈඳ ඔහු දෙස බැලුවාය. ඔහුගේ වත ගැස්සිණ. පොප්ලර් ගසක් යට සිටගෙන සිටි ඕල්යා වෙත ඔහු

දුවමින් ගියේය.

"ඕල්යාද?" යි ඔහු ඇසුවේ වෙනත් ලොවකින් බට සුන්දර 'කතක් දැයියෙන් ම කුඩා නගරයකට පැමිණි බැවින් පුදුම වූ කලෙක මෙනි.

"අලෙක්සේයි!" යැයි ඕල්යා කීවේ ඔහු තරම්ම පුදුම වෙමිනි.

මනහර රූ සපුවෙන් යුත් තරුණියකි ඔහු දුටුවේ. ඇගේ මුහුණ වටකුරු ය. සුන්දර ය. නහය ළඟ රත් පැහැති ලපයකි. ඈ තම දීප්තිමත් නෙත් වලින් ඔහු දෙස බැලුවාය. ඇගේ ඇස් බැම් සනව වැවී ඇත. දැන් අලෙක්සේයි ඉදිරිපිට සිටගෙන සිටින මේ රූමත් තරුණිය, තමා පාසල් යන කාලයේ තමා සමඟ එකට ගමන් කළ කෙල්ලට කොහෙත්ම සමාන නැත. එදා ඈ තම පියාගේ ලොකු කබායක් ඇඳගෙන දැත් නවාගෙන ඔහු සමඟ පාසල් ගියේ කොල්ලකු මෙනි.

මව සමඟ යන ගමන පවා අමතක කළ අලෙක්සේයි ඇය දෙස බලාගෙනම සිටියේ පසුගිය අවුරුදු කීපය තිස්සේම ඇය හමුවීමට බලාපොරොත්තුවෙන් සිටියාක් මෙනි.

"ඔයා වෙනස් වෙලා තියෙන හැටි!" යැයි අලෙක්සේයි කීවේ ය.

"වෙනස් වෙලාද?" යි ඈ අසන්නී, කොක් හඬලමින් සිනාසුණා ය. ඇගේ සිනාව පාසල් යන කාලයේදී මෙන් නොවී ය.

තරුණ දෙදෙනා දෙස බැලූ මව දුක්මුසු ලෙස මඳ සිනාවක් පා
ඉවත ගියා ය. මහලු කාන්තාවට සියල්ල අවබෝධ විණි. මහල්ලන් මහලු
විය යුතුය. තරුණයින් වර්ධනය විය යුතුය. මැහැල්ල දුක්වූයේ මේ
නිසාය.

ඔවුහු තම ආලය ගැන එකවර කතා නොකළහ. වොල්ග
හදියේ ජලය නිසලව ගලා බසී. වසන්තයේ හිරු අවර දිගට හැරිණි. ත
නිවාඩු කාලයත් ගෙවී යන බව අලෙක්සේයිට වැටහිණි. ඕල්යාට ත
අදහස් පැවසිය යුතු යැයි අලෙක්සේයි තීරණය කළේය. ඔවුහු සිනම
බැලීමට ද රඟහුම් හා සර්කස් බැලීමට ද ගියහ. ඔහු තිරය දෙස හෝ ර
මඬල දෙස හෝ නොබැලීය. ඒ වෙනුවට ඕල්යා දෙස බලමින් සිතන්න
විය. "දැන් ගෙදර යන ගමන් මම ඈට ආලය කරන බව සන්තකින

කියනවා." ඇගේ නිවස ළඟටම පැමිණියද ඔහුට තම අදහස කියා පෑමට තරම් ධෛර්යක් නොවීය. ඉරිදා දවසක ඔවුහු වොල්ගාව අසල මිටියාවතකට ගියහ. එහි වූ විවිධ මල්වල සිරි බලමින් ඈ ඇවිදින විට, ඔහු ඇය ඡායා රූප ගත කළේ ය. ඈ ඇඳුම් ගළවා නාන ඇඳුම් අඳින විටත්, නැවත නෙත ඇඳුම් ගළවා ගවොම අඳින විටත් ඉවත ගිය ඔහු ඇ දෙස නොබැලී ය.

ඕල්යා ඔහුට අඩ ගැසුවාය. ඈ සුදු වැලි තලාව මත වාඩි වී හිස වටා තුවායක් ඔතාගෙන සිටියා ය. ඇගේ කකුල් ඉරු රැස් නිසා රත් පැහැගෙන තිබිණි. පිරිසිදු රෙදි කඩක් එලා කුඩා ගල් සතරක් ඒ මත තැබූ ඕල්යා තමා ගෙනා සලාද, මාළු සහ විස්කෝතු පිළිවෙළින් රෙදි කඩ මත තබා ඔහුට ආරාධනා කළාය. දෙදෙනාම සතුටින් ආහාර ගත්හ. දිය ලුණු සහ අඹ ආදිය පවා ගෙන ඒමට අමතක නොකළා ය. ඈ ඔහුට ආහාර බෙදා දුන්නීය. ඇගේ හැම වැඩකම පියකරු බවක් පෙනෙන්නට තිබිණි. තව දුරටත් පමා නොකළ යුතු යැයි තීරණය කළ අලෙක්සේයි අද සවස තම අදහස ඇට දන්වන බව සිතා ගත්තේ ය. ඈ ඔහුගේ බිරිඳ විය යුතුහයිද, ඈට ඒත්තු ගැන්විය යුතුහයිද, ඔප්පු කළ යුතුහයි ද ඔහු ඉටා ගත්තේ ය.

නැවත වරක් දිය නාමින් පීනමින් ප්‍රීති වූ මොවුහු සවස ඇගේ ගෙදරදී නැවත හමුවීමට තීරණය කර ගත්හ. ගඟින් එගොඩ වීම පිණිස ඔවුන් තොටුපළට පැමිණියේ විඩාපත්ව ය. සතුටු සිතිනි. එහෙත් බෝට්ටු, ඔරු හෝ යාන්ත්‍රික බෝට්ටු හෝ නොවීය. හිරු නොපෙනී යාමට ආසන්න ය. අවරදිග අහස ලේ පැහැ ගති. ගෙවල්වල වහලවල් හිරු රැස් නිසා රත් පැහැයක් දරී ය. නගරයේ අසැති කුරු මුදුන් බැබළිණි. කවුළු වල විදුරු රතු පැහැති හිරුගේ රැස් පිළිබිඹු කළේ ය. මෙවැනි වේලාවක නගරයේ වීදි පාළු විය යුතුය. එහෙත් අද වීදි පුරා මිනිස්සු දුවති. මිනිසුන් රැගත් ලොරි රථ දෙකක් දුව ගියේය. කුඩා කණ්ඩායම් යුද්ධ සරඹ කළහ.

"ඔරු කාරයා නාවොත් අපට මෙතන රෑ ගත කරන්ට සිද්ද වේවි නේද?" යි අලෙක්සේයි ඇසීය.

"ඔයා ඉන්නා විට මම බය වෙන්නෙ නැහැ" යි ඕල්යා පිළිතුරු දුන්නා ය.

ඔහු ඇය ගෙල වටා අත යවමින් සිප වැළඳ ගත්තේය. ඔහු ඇය ...යක් පළමු වැනි හා එකම වාරයද එය විය. ඔරුව පැදෙන හඬක් ...සිනි. එගොඩ සිට මෙගොඩට පදවන ලද ඔරුව මිනිසුන්ගෙන් පිරී ...තිණි. අලෙක්සේයි සහ ඉල්යා පිළිකුල් සහගතව ඔරුව දෙස බලා ...ටට ගියේ, තමන්ට මතු දන ගන්නට ලැබෙන පුවත ගැන කිසිදු ...ඟුවාවක් හෝ නොදනය.

මිනිස්සු නිහඬව ඔරුවෙන් බැස්සාහ. හැම දෙනෙක්ම උත්සවයකට ...න් අගනා ඇඳුම් වලින් සැරසී සිටියද ඔවුන්ගේ විලාසය බැරෑරුම් ය. ...හුණු අඳුරු වෙලා ය. ඔවුහු ඔවුන් දෙදෙනා අසලින් නිහඬව ගමන් ...ළහ. පිරිමි ඉක්මන් වූහ. ගැහැනුන්ගේ ඇස්වල කඳුළු පිරී තිබිණ. ...ලෙක්සේයි සහ ඉල්යා කිසිවක් නොදන ඔරුවට නැඟ වාඩි වූහ. දෙපා ...ැති ඔරු කාරයා වන අර්කාෂා මාමා ඔවුන්ගේ පියකරු මුහුණු දෙස ...නොබලා මෙසේ පැවසීය.

"යුද්දෙ පටන් අරගෙන, ගුවන් විදුලිය මගින් දනුම් දුන්නා."

"යුද්දෙ? කා සමඟද?" යි ඇසූ අලෙක්සේයි හුන් තැනින් නැගී ...සිටියේය.

"ජර්මන් දුෂ්ටයො සමඟ, වෙන කා සමඟද?" යි කී අර්කාෂා ...මාමා වේගයෙන් හබල් ගැසීය. "මිනිස්සු ගියා යුද්ධ කාර්යාලෙට. පිරිමි ...හැම දෙනෙකුටම යුද්දෙට බැඳෙන්න නියම කරල....." අර්කාෂා මාමා ...කීවේය.

අලෙක්සේයි ගෙදර නොගොස් කෙළින්ම යුද්ධ කාර්යාලයට ගියේය. ...දින රාත්‍රී 12.40 දුම්රියෙන් තම අහස් යානා පාසලට යාමට ඔහුට අණ ...කරන ලදී. තම ඇඳුම් බෑගය ගැනීමට ගෙදරට දුව ගිය ඔහු ඉක්මනින්ම ...දුම්රිය පොළට ගියෙන් ඉල්යාට ආයුබෝවන් කීමට පවා වේලාවක් ...නොතිබිණි.

ඔවුන් එකිනෙකාට ලියුම් ලීවේ ඉඳ හිටලා ය. එකිනෙකා කෙරෙහි ...ැති හැඟීම් වෙනස්වීම නිසා නොවේ එසේ ඉඳ හිට ලියුම් ලීවේ. ඇගේ ...ලියුම් ඔහු නොඉවසිල්ලෙන් බලා සිටියේ ය. ඔහු ඒ ලියුම් තම සාක්කුවේ ...දමාගෙන හුදකලා ව සිටින විට නිතර නිතර කියැවීය. වනයේ දණගාමින් ...හා බඩගාමින් යන විට පවා ඔහු ඒ ලියුම් කියවා පපුවට තබා තද කර

හිටිහැටියේ ...ත්තේ මහත් ආදරයකිනි. ඔවුන් දෙදෙනා අතර සම්බන්ධකම ...ව කඩා වැටීම නිසා ඔවුන්ගේ ලියුම්වලින් ඔවුන් එකිනෙකා ඇමතුවේ ...සුහද මිතුරන් ලෙසිනි. එතැනින් ඔබ්බට යාමට - තම හැඟීම ගැන කීමට ...වුහු ඉදිරිපත් නොවූහ.

ඕල්යා තම හැඟීම් ගැන ඔහුට එළිපිටම ලියමින්, ඔහු නැති ...නිසා ඇ කාන්සියෙන් හා කනගාටුවෙන් පසුවන බවත්, එදා සවස ...අර්කාෂා මාමා ඔරුව රැගෙන නොපැමිණියා නම්, ඈ වඩාත් සතුටු වන ...බවත් දන්වමින් ලියුම් එවීම නිසා අලෙක්සේයි මවිත විය. කවර ...භාග්‍යයකට මුහුණ පෑවත් ඔහු වෙනුවෙන් ඕනෑම දෙයක් කිරීමට ...නිතර සූදානමින් සිටින බව දන්වා යැවූ ඕල්යා, සටන් කරමින් තැතිත් ...ගැන ගියද, තමාගේ ගෙයක් තිබෙන බවද අමතක නොකරන ලෙස ඈ ...ඔහුගෙන් ඉල්ලා සිටියා ය. මේ ලියුම් අනුව අමුතු ඕල්යා කෙනෙකු ...ඔහුට ලියන බව හැඟිණි. ඕල්යාගේ ඡායාරූපය දෙස ඔහු බැලීය. මල් ...වැටුණු ගවොමක් ඇඳ සිටින ඈ සුළඟක් හැමූ විගස ඩැන්ඩේලියන් ...මලක පියලි මෙන් ඉගිලී යනු ඇතැයි ඔහුට සිතිණි. ඒ ලියුම් ලියන ලද්දේ ...කැහැනියක විසිනි. තම පෙම්වතා එන තුරු කාන්සියෙන් බලා සිටින ...හපත් පෙම්බර කතක් විසින් ලියන ලද්දකි. මේ නිසා ඔහු තුළ සතුටක් ...ශෝකයක් උපන්නේය. ඔහුගේ සිත මැඩ ගෙන සතුට පැන නැංගේය. ඔහු ...ශෝක වූයේ ඇට ආලය කිරීමට ඔහුට අයිතියක් නැති බැවිනි. පෙර ...මෙන් ඔහු කඩිසර තරුණයෙකු නොවන බවත්, අර්කාෂා මාමා මෙන් ...දපා නැති කොරකු බවත් ලියා යැවීමට ඔහුට ශක්තියක් නොතිබිණි. ...රෝගීව සිටින තම මවට ඇත්ත ලියා යැවුවොත් ඈ මිය යතියි බියගත් ...අලෙක්සේයි ඕල්යාගෙන් ද සත්‍යය සඟවා තැබී ය. ඇය දිගටම රැවටීම ...සඳහා වැඩි වැඩියෙන් බොරු කීමට ඔහුට සිදු විය.

ඕල්යාගෙන් ලියුම් ලැබෙන විට ඔහු තුළ සතුට හා ශෝකය ...කවර පැන නැංගේ මේ හේතුව නිසා ය. ප්‍රීතිය හා සිත් තැවුලද, ප්‍රීතිය ...ා වේදනාවද එකවර ඇති විය.

ඔහු නැවත අහස් යානා සේවයට ගොස් තම බලාපොරොත්තුව ...දුන් පත්කර ගත් පසු, ඕල්යා කෙරෙහි ඇති ආලය ගැන ඇට දන්වන ...වට ගිවිසුම් දුන්නේ, තම අදහස මුදුන් පමුණුවා ගනු වස් අලෙක්සේයි ...වහෙස නොබලා ක්‍රියා කළේ ය.

# 11

මැයි පළමුවැනිදා කොමිසාර් මිය ගියේය.

එය කෙසේ සිදුවී දැයි කිසිවෙක් නොදත්හ. එදින උදෑසන ඔහුගේ වුළු බෑම සඳහා පැමිණි කාන්තාව සමඟ සතුටු සිතින් කථා කළ හතෙම කාලගුණය පිළිබඳ තොරතුරු ඇසීය. මැයි දින උත්සවය මින්තෙන් මොස්කව් නගරය සරසා තිබෙන සැටි ඇසීය. යුද්ධ කපොලු එත් කිරීම ගැන හේ ප්‍රීති විය. මැයි දින පෙළපාලිය නොපැවැත්වීම ැන දුක්විය. ඔහුට ගුණය ලැබී ඇති බැව් බොහෝ දිනා විශ්වාස ළහ. මාරක දවස් පසුවිණැයි ඔවුහු සිතුහ.

ඔහුට පුවත්පත් කියවීම අපහසු වූවාට පසු ශ්‍රවණ පෙති සහිත වන් විදුලි යන්ත්‍රයක් ඔහුගේ ඇඳ ළඟින් සවි කරන ලදී. යුද්ධ ටැන්කි මුද්‍රාවේ ලයිතන් වන ග්වොස්දෙව් ගුවන් විදුලි යන්ත්‍ර අලුත් වැඩියා රීම ගැන සෑහෙන දනීමක් ඇත්තෙකි. ඔහු ශ්‍රවණ පෙති ද ගුවන් විදුලි න්ත්‍රයෙන් ම මහ හඬින් ගී ගැයීමට හා කතා කිරීමට සැලැස්විය. මැයි න උදේ නවයට ගුවන් විදුලි ප්‍රකාශකයා ආරක්ෂක ඇමතිවරයාගේ දාව හඬ නගා කියැවීය. බිත්තියේ එල්ලා ඇති වටකුරු, කළු පැහැති වණ පෙතිවලට ඔවුන් කන් දුන්නේ මහත් උවමනාවකිනි. අවසානයේදී කාශකයා මෙසේ කීවේ ය. "ශ්‍රේෂ්ඨ ලෙනින්ගේ අපරාජිත ධජය යටතේ ය සඳහා ඉදිරියට යමු." වාට්ටුව තුළ නිහඬතාවය රජ කරන්නට විය.

"කොමිසාර් සහෝදරය! මට මෙන්න මේ ගැන විස්තර කරන්නැ" කී කුකුෂ්කින් ඔහු සමඟ විවාදයකට මුල පුරමින්, ඔහු දෙස බලන්නේ කොමිසාර් සහෝදරයා" යැයි මහත් බියකින් කෑ ගැසීය.

හැම දෙනම කොමිසාර් දෙස බැලූහ. ඇඳ උඩ වැතිර සිටි කොමිසාර්ගේ අත් පා දිග හැරී ඇත. දැස් සීලිමේ එක් තැනකට යොමු ි ඇත. අප්‍රාණික, සුදුමැලි ඔහුගේ මුහුණේ කිසියම් ගම්භිරත්වයක් පෙනෙන්නට තිබිණි.

"කොමිසාර් මළා!" යැයි කුකූෂ්කින් මහ හඬින් කීය. ඔහු කොමිසාර්ගේ ඇඳ වෙතට ගොස් දණින් වැටී කෑ ගැසීය. "කොමිසාර් මළා, අනේ!"

සේවක සේවිකාවෝ ඉක්මන් වූහ. වාට්ටුව භාර හෙදිය සුහුඹුලු වූවා ය. දොස්තර තැන දුවමින් පැමිණියේය. හැම දෙනාගේ ම පිළිකුලට භාජන වී සිටි කුකුෂ්කින් ලයිතන් තැන මළ සිරුර බදාගෙන පොඩි දරුවකු මෙන් විලාප කියමින් හැඬුවේ අවට සිටි අය ගැන නොතකමිනි.

එදින හවස හතළිස් දෙකේ වාට්ටුවට වෙනත් රෝගියකු ගෙනෙන ලදී. ඔහු ප්‍රහාරක අහස් යානා පදවන්නකු වූ පාවෙල් ඉවානොවිච් ස්ටිරුව්කොව් ය. මැයි දිනයේදී මොස්කව් නගරයට බෝම්බ දැමීමට තීරණය කළ පැසිස්ට් හමුදාව අහස් යානා විශාල ගණනක් එවිය. සතුරු අහස් යානාවලට එදිරිව පොද්සෝල්නෙච්නයා පෙදෙසේ දැඩි සටනක් කළ සෝවියට් අහස් යානා ජය ගත්හ. බොහෝ ඉහළින් පියාසර කළ "යුන්කර්ස්" වර්ගයට අයත් එක් සතුරු අහස් යානාවක් පමණක් සෝවියට් අහස් යානාවලින් බේරී මොස්කව් දෙසට යන්නට විය. කෙසේ හෝ මැයි දින උත්සව සිරිය විනාශ කිරීමට ඒ සතුරු අහස් යානාව මෙහෙයැවූ පැසිස්ට් වරු ඉටා ගෙන සිටියහ. අහස් සටනෙහි යෙදී සිටි මේජර් ස්ටිරුව්කොව් සතුරු අහස් යානාව බේරී පැන යන සැටි දුටුවේ, තම යානය සතුරාට පහරදීම පිණිස මෙහෙයැවීය. ඒ දවස් වලදී සෝවියට් අහස් හමුදාවට ලැබුණු නවීනතම ප්‍රහාරක යානයක් පැදවූ ස්ටිරුව්කොව් මහ පොළොවට කිලෝමීටර් හයක් ඉහළින් පියාඹමින් ජර්මන් යානය පසු කළේය. සතුරු යානයට ළංවූ හෙතෙම එයට වෙඩි තැබීය. එහෙත් වෙඩි වදින ශබ්දය නෑසිණි. වෙඩි තැබීම පිණිස ක්‍රියා කරවන බොත්තම මෙවර ක්‍රියා විරහිත විය.

ජර්මන් අහස් යානය තරමක් ඈත්විය. එහෙත් ස්ටිරුව්කොව් සතුරා ලුහුබැන්දේ ය. ජර්මන් අහස් යානාවේ මැෂින් තුවක්කුවලට ත යානාව ගොදුරු නොවන සේ යානය පැදවීමට හේ වග බලා ගත්තේය මැයි දින අහස පිරිසුදු ය. මීදුමෙන් වැසුණු කන්දක් සේ මොස්ක නගරය පෙනිණි. ස්ටිරුව්කොව් සතුරාට පහර දීමට තීරණය කළේ ය සතුරු අහස් යානය වෙත කඩා පැනීමට ලැහැස්ති වන්නාක් මෙ ස්ටිරුව්කොව් පටි බුරුල් කොට සූදානම් විය. දැන් ඔහුගේ ප්‍රහාර යානය පැසිස්ට් යානයට සමාන්තරව පියාඹයි. මේ යානා දෙක අවිද්‍යමා නූල්පටකින් බැඳ තැබුවාක් මෙනි. ජර්මන් යානයේ විනිවිද පෙනෙ පියස්ස තුළින් පැසිස්ට් ජර්මන් මැෂින් තුවක්කු කාරයා තමාට පහරදීම අර අදින සැටි පෙනිණි. කැළඹී ගත් ජර්මන් භටයා තම තොප්පිය අත ගෙන නැවත හිසලා ගන්නා සැටි පවා ඔහු දිටී ය. පැසිස්ට් භටයා

හිසකේ රන් පැහැති ය. දිග ය. ඔහු ඇඹිත් කුවක්කු දෙක ස්ටිරුවිකොව් දෙසට හරවා වේලාව එන තුරු බලා සිටියේ ය. නිරායුධ මිනිසකු මත ආයුධ ගත් හොරෙක් පහර දීමට සැරසෙන විට, නිරායුධ මිනිසා සොරා මත කඩා පනියි. ස්ටිරුවිකොව් ද එවැනිම උපක්‍රමයක් අනුගමනය කරමින් තම යානය මෙහෙයවමින් සතුරු යානය මත කඩා වැදුනේ ය. ඔහුගේ යානයේ "'නාසයෙන්'' සතුරු යානයේ වලිගයට පහර දුන්නේ ය.

අහස් යානා කඩා වැටුණු හඬ ඔහුට ඇසිණි. තම අහස් යානය පුපුරා ගොස් තමා අහසේ පිනුම් ගසන සැටි ඔහුට දැනිණි. පැහැදිලි කොළ පැහැති දිලිසෙන මහ පොළොව ඔහු වෙත වේගයෙන් එන සැටි ඔහු දිටීය. ස්ටිරුවිකොව් තම පැරෂුටය දිග හැරියේය. ඔහුගේ සිහිය නැති වීමට මොහොතකට පෙර පැසිස්ට් යානය වලිගය රහිතව මහ පොළොවට පතිත වන සැටි ඔහුට පෙනිණි., ඔහුගේ පැරෂුටය මොස්කව් නගරය අසල ගෙයක වහළ මත වැටෙත්ම ඔහුගේ සිහි නැති විය. බිම සිට අහසේ සිදු වූ සටන දෙස බලා සිටි වැසියෝ ඔහුට ආධාර පිණිස දුව ආහ. සිහි නැතිව සිටි ස්ටිරුවිකොව් වහලේ හැපී මැයි දින උත්සවයට සරසා තිබූ මගකට වැටුණේ ය. ස්ටිරුවිකොව් රෝහලට ගෙනා විට මොස්කව් නගර වැසියෝ ඔහුට කෘතඥතාවය දක්වමින් මල්, පලතුරු හා චොකලට් ආදිය ගෙන ආහ.

ස්ටිරුවිකොව් සමාජ ප්‍රිය පුද්ගලයෙක් විය. ඔහු වාට්ටුවට ඇතුළු වූ සැටියේ ම කෑම ගැන සොයා බැලීය. වාට්ටුවේ නීති රීති දැඩි ද, ලස්සන හෙදියන් ඉන්නේ ද ආදී ප්‍රශ්න ලෙඩුන්ගෙන් ඇසී ය. ඔහුගේ තුවාල වෙළීමට ක්ලාවිදියා මිහයිලොව්නා පැමිණි විට ඇට උපහාස කතාවක් කියමින් සිනාසුණේ ය. ඇය රූප සුන්දරියක් බව කීමට ද ඔහු අමතක නොකළේ ය. ඈ ගිය පසු ඉඟි මැරූ ස්ටිරුවිකොව් මෙසේ කීය.

"කෙල්ල ලස්සන වුණාට සැර කාරියක් වගේ. කමුසෙලව් එයා බය කරනවද? ඒවට බය වෙන්න නරකයි. උපාය උපක්‍රම දන්නේ නැතිද? අල්ලා ගැනීමට නොහැකි බලකොටුවක් නැහැ. යටත් කර ගැනීමට බැරි ගැහැනියකුත් නැහැ." පසුව ඔහු හඬ නගා සිනාසුණේ ය.

මහ හඬින් කතා කිරීම සහ විහිළු කිරීම ඔහු කළද කිසිවෙකු ඔහු කෙරෙහි රෝස් නොවූයේ ඔහුගේ හැසිරීමේ නරක ගති නොතිබුණු බැවිනි. අවරේස්යෙව් හැර අනිකුත් රෝගීහු ඔහු කෙරෙහි සතුටු වූහ. ස්ත්‍රීන් දකින විට ස්ටරුකොව් කුලප්පු වීම අලෙක්සේයිට රිසි නොවී ය

මුවන හැම ස්ත්‍රියකටම විහිළු කරන ස්වරුච්කොව් ඔවුන් ගැන සිය
හස් නොසඟවා කීවේ ය.

පසුදා කොමිසාර්ගේ අවමඟුල් පෙරහැර පවත්වන ලදී.

අලෙක්සේයි මෙරේස්යෙව්, ග්වොස්දෙව් සහ කුකුෂ්කින් කවුළුව
ලට වී අවමඟුල් පෙරහැරට එන කාල තුවක්කු සහිත අස්රිය බලමින්
ියහ. යුද්ධ තූර්යවාදක කණ්ඩායමේ සංගීත භාණ්ඩ හිරු රැස් නිසා
සෙන්නට විය. විශේෂ භේවා භට කණ්ඩායමක්ද පැමිණ සිටියේය.
ලාව්දියා මිහයිලොව්නා වාට්ටුවට පැමිණ ඔවුනට කවුළුවෙන් ඈත්
ා ලෙස අණ කළාය. ඇ වෙනදා මෙන් ම අදත් තිසල ය. එහෙත් ඇගේ
ා හඬෙහි වෙව්ලන ගතියක් තිබෙන බව අලෙක්සේයිට දැනිණි. ඇ
තෙන් පැමිණි රෝගියාගේ උණ බලත්ම වාදකයෝ අවමඟුල් ගීයක්
දනය කළහ. ක්ලාව්දියා මිහයිලොව්නාගේ දැත් වෙව්ලිණි. උණ කටුව
ා වැටී බිඳිණි. රසදිය කුඩා කැටි වලට වෙන් වී විසිරිණි. දැතින් මුහුණ
ා ගත් ඇ හඬමින් දිව ගියා ය.

"මොකද එයා අඬමින් එළියට දිව්වෙ. මැරුණු එක්කෙනා එයාගෙ
ම්වතා ද?'' යි ඇසූ ස්වරුච්කොව් අවමඟුල් වාදනය හඬ ඇසෙන
දෙසට ඉහි කළේ ය.

කිසිවෙක් ඔහුට පිළිතුරු නොදුන්හ.

රෝගීහු ජනේලයෙන් එළියට හිස් දමාගනිමින් යුද්ධ රථයක් මත
ින ලද රතු පාට මිනී පෙට්ටිය දෙස බැලූහ. රථයට පිටුපසින් කුඩා
ද මෙට්ටවලට අමුණන ලද කොමිසාර්ගේ පදක්කම් ගෙන යන ලදී
ස්ම පෙළේ පදක්කම් අටක් එහි විය. සෙනෙවිවරු කීපදෙනෙක් හිස
ත් කරගෙන ගමන් ගත්හ. වසීලියි වසීලෙව්ච් ලයිනත් ජනරාල
ායෙන් සැරසී ගමන් කළද, ඔහු හිස් වැස්මක් පැළඳ නොසිටියේය.
න්ට පිටුපසින් ක්ලාව්දියා මිහයිලොව්නා ගමන් කළාය. සුදු කබායක
 සිටි ඇ පා තබන්නී, පෙරටුව යන කිසිවකු නොදුටුවාය. කිසිවෙක
ගේ කර වසන්න කබායකින් වැසූහ. එය ගණනකට වත් නොගෙන ඇ
ාය. කබාය බිම වැටිණි. ඇය පිටුපසින් ගමන් ගත් භටයෝ කබාය
ාපැගීමට වග බලා ගත්හ.

"කොල්ලනේ අවමඟුල කාගෙදැ?'' යි ස්වරුච්කොව් ඇසීය.

ඔහුද ජනේලය අසලට යාමට නැත් කළද, ඔහුගේ දෙපා දිගැති ළී පතුරුවලට වෙලා තිබුණෙන් සෙලවීමට පවා නොහැකි විය.

අවමඟුල් පෙරහැර නොපෙනී ගියේය. ඈත ගඟ අසලින් නැඟ එන අවමඟුල් ගීත රාවය මුදු ලෙස ගෙවල්වල බිත්ති වලට වැදිණි. මුරකරු ගැහැනිය ගේට්ටුව වසා දම්මා ය. හතළිස් දෙකේ වාට්ටුවේ රෝගීහු ජනේලය අසල සිටගෙන සිතින් අවමඟුල් පෙරහැරට සහභාගි වූහ.

"කාගෙ අවමඟුලද? ආ! මොකද බත් උඹල ගල් ගැහිලද?" යි ස්ට්‍රුව්කොව් ඇසුවේ තරමක නොසන්සුන්තාවයකිනි.

කුකුෂ්කින් වියලි හඬකින් පිළිතුරු දුන්නේ ය.

"නියම මිනිහෙකුගෙ, වීරයකුගෙ... බොල්ෂෙවික්වාදියකුගෙ අවමඟුලක්."

නියම මිනිහකුගෙ අවමඟුලක් යන වැකිය අලෙක්සේයිගේ සිතට තදින් ම කා වැදිණි. ඇත්ත වශයෙන්ම කොමිසාර් හැඳින්විය හැක්කේ නියම මිනිහකු වශයෙනි. මේ දන් අවසන් ගමන් ගිය කොමිසාර් මෙන් නියම මිනිහකු වීමට අලෙක්සේයි තුළ දැඩි ආශාවක් උපණි.

නියම වෛද්‍ය උපදෙස් හා ප්‍රතිකාර ලැබීම නිසා ලෙඩුන් සුව විය. සම්පූර්ණ සුවය ලබා රෝහලෙන් පිට වී යන දවස ළං වෙත්ම ඔවුහු තම ලෙඩ රෝග හා තුවාල ගැන අඩුවෙන් සිතන්නට වූහ. රෝහලෙන් පිට ජීවිතය ගැන ද, තම සේනාංකය තමා පිළිගන්නේ කෙසේද ආදිය ගැන කල්පනා කළහ. සුවය ලබා පිට වී යන හැම කෙනෙක් ම මෙතෙක් හොලියනු ලැබූ, කතා නොකරනු ලැබූ නමුදු දන් දන් පටන් ගනිකි යි බලාපොරොත්තු වන ප්‍රතිප්‍රහාරයේ කොටස් කරුවන් වීමට බලාපොරොත්තු වූහ. යුද පෙරමුණේ නිහඬතාවය ළඟ එන ප්‍රහාරයක් ගැන කියා පෑවේ ය.

රෝහලේ සිට යුද පෙරමුණට ගොස් සටනට සහභාගි වීම හැම සෙබළකුගේම කාර්යයකි. අලෙක්සේයිගේ ගැටළුව තවම විසඳී නැත. දෙපා නැතිව ඇවිදීමට ඉගෙන ගැනීමෙන් හා ශාරීරික ව්‍යායාම් කිරීමෙන්

තමාට නැවත ප්‍රහාරක අහස් යානාවක් පැදවීමට පුළුවන්ද? යන පැනය ඔහු තුළ පැන නැංගේය. තම අදහස් මුදුන් පමුණුවා ගැනීමට ඔහු වඩාත් වැඩි මහන්සියක් දරා ව්‍යායාම් කළේ ය. විනාඩි කිහිපයකට පමණක් සීමා වූ ව්‍යායාම් කිරීම ඔහු දවසකට දෙපැයක් දක්වා එතම් වැඩි කළේ ය. එයින්ද ඔහු උදේ සවස පැය බැගින් ව්‍යායාම් කිරීම දක්වා වැඩි කළේ ය. එයින්ද ඔහු සෑහීමට පත් නොවූයෙන් දවල් ආහාරයෙන් පසුවද ඔහු ව්‍යායාම කළේ ය.

දෙපා නැතිව ප්‍රහාරක යානා පැදවීම ගැන හතළිස් දෙනෙක් වාට්ටුවේ එකද රෝගියෙක්වත් විශ්වාස නොකළ ද, දැඩි ආත්ම විශ්වාසයකින් යුතුව ව්‍යායාම් කරන අලෙක්සේයිට ඔවුහු ගරු කළහ. තම අදහස් සහවමින් විහිළු කළ ඔවුහු ඔහුගේ ආත්ම විශ්වාසය ගැන පැසසූහ.

මේජර් ස්ට්‍රරුච්කොව්ගේ පුපුරා ගිය දණිස් කටු කෙමෙන් ප්‍රකෘති තත්ත්වයට හැරුණ ද, ඒවායේ තත්ත්වය පෙර සිතුවාට වඩා බරපතළ විය. ඔහුගේ දෙපා වලට ලි පතුරු තබා බැඳ තිබිණි. ඔහුගේ තුවාල සුවවන බවට කිසිදු සැකයක් නොතිබුණද, ඔහු තම දණිස් කටුවලට දොස් පැවරීම නොනැවැත් විය. ස්ට්‍රරුච්කොව්ගේ මේ බැණ වැදීම් සහ දොස් පැවරීම් කන්දොස්කිරියාවක් බවට පෙරළිණි. සුළු දෙයකට කිපෙන ස්ට්‍රරුච්කොව් හැම දෙනෙකුටම බැණ වදී.

තම කෝපයට හේතුව තමාට වැසිකිළියට ගොස් දුම්බීමට අවස්ථාවක් නැතිවීමත්, සැත්කම් අංශයේ හෙදිය හමුවීමට කොරිඩෝරයට පවා යාමට බැරිවීමත් බව ස්ට්‍රරුච්කොව් කීවේ ය. එය එසේ වුවද, මොස්කව් අහසේ අහස් යානාවක් පියාඹන සැටි දුටු විටදීත්, අහස් යානා සටනක් ගැන පුවත් පත් මගින් දුටු විටදීත්, ස්ට්‍රරුච්කොව් වඩාත් කිපී බැණ වදින සැටි අලෙක්සේයි දුටුවේය. අලෙක්සේයි මෙරේස්යෙව්ද මේ නිසා රොස් විය. එහෙත් ඔහු ස්ට්‍රරුච්කොව් මෙන් තම කෝපය පිට නොකළේ, සිය ආත්ම දමනය නිසා ප්‍රීති විය. තම පරමාදර්ශය වන "නියම මිනිහකු වීමේ" තත්ත්වයට ළංවී ඇති බැව් අලෙක්සේයිට වැටහිණි.

ටික දවසකට පසුව කුකුෂ්කින් සුවය ලැබ රෝහලින් පිට විය. ඔහු චිත්ත වේගයෙන් තොරව තම වාට්ටු සගයින්ගෙන් සමුගනිමින්, වෙදකම් හා බෙහෙත් නිසා තමා හෙම්බත් වී සිටින බව පැවසීය. තම මවගෙන් ලියුම් ලැබුණොත් ඒවා තමාට නොවරදවාම එවන ලෙස ඔහු

ඇඩ්‍රියනගෙන් හා අලෙක්සෙයිගෙන් සිප වරක් ඉල්ලා සිටියේය.

"උඹව පිළිගන්න බැරි, වැඩ පටන් ගන්න බැරි දන්වා ලියුමක් ලියපන්" යැයි අලෙක්සෙයි කීවේය.

"මම මොකටද උඹට ලියන්නෙ? උඹ මා ගැන සලකනවද? උඹට ලියලා නිකම් මොකටද මම කඩදාසි නාස්ති කරන්නේ..."

## 12

ගිම්හානයේ හිරු රැසින් ආලෝකමත් වූ දවසක උදෑසන ක්ලාව්දියා මිහයිලොව්නා උදාර ලීලාවකින් වාට්ටුවට පැමිණියා ය. ඇ සමඟ කොල්ලෙක් ද ආවේය. ඔහු පැළඳ සිටි උපැස් යුවළ සින් රෙදි පටියකින් බැඳ තිබිණි. අළුත් සුදු පැහැති රෝහල් කබායක් ඔහු ඇඳ සිටියද, ඔහු රෝහල් සේවකයකු නොව හස්ත කර්මාන්තකරුවකු බව බැලූ බැල්මටම පෙනිණි. සුදු රෙද්දකින් ඔතා ඔහු ගෙනා යමක් අලෙක්සෙයිගේ ඇඳ අසලින් තබන ලදී. ඉන්පසු එහි වූ නොයෙකුත් කොටස් ඔහු පුට්ටු කළේ විජ්ජාකාරයකු මෙනි. ත්‍රීක් යන හඬක් ඉන් පිට විය. පදම් කළ සමෙන් නැගෙන සුවඳ වාට්ටුව පුරා පැතිරිණි.

එය ලීයෙන් හා සමින් කරන ලද කෘත්‍රිම කකුල් දෙකකි. ඇස් වරේ සිට විලුඹ හා ඇඟිලි ලීයෙන් සාදා තිබිණ. නියම හැඩයට හා ප්‍රමාණයට නිම වී තිබූ මේ කෘත්‍රිම පාද වසා ඇත්තේ මිලිටරි සපත්තු දෙකකිනි. කෘත්‍රිම පාද ඒ සපත්තු වලට කොතරම් හොඳින් ගැළපුණේද යත්, සපත්තු වලින් වැසී තිබෙන්නේ කෘත්‍රිම පාද යැයි සැක කිරීමට පවා නොහැකි විය.

තම නිර්මාණය දෙස ශිල්පියා මහත් ආශාවෙන් බලමින් මෙසේ කීවේ ය.

"ගලෝෂ් දෙකක් ඇන්දම මඟුල් ගෙදරකට වුණත් යන්ට පුළුවනි. වසීලි වසීලෙවිච් තමා මේ වැඩේ මට බාර දුන්නෙ. උන්නැහෙ මට මෙහෙම කිව. 'සුයෙව් හැබෑ කකුල් දෙකකටත් වැඩිය හොඳ කකුල් දෙකක් හදන්න.' "ඔන්න සුයෙව් හැදුවා. බලන්න කොතරම් අගෙයිද කියලා. රජකුට වුණත් සෑහෙනවා."

කෘත්‍රිම පාද දුටු හැටියේම අලෙක්සේයි මෙරෙස්යෙව්ගේ හදවත හැකිළී, ගල් ගැසිණි. එහෙත් ඒ හැඟීම මැඩගෙන කෘත්‍රිම පාදවලින් හෝ කාගේවත් ආධාරයක් නැතිව ස්වාධීනව ගමන් කිරීමේ ආශාවක් ඔහු තුළ උපණි. තම කොට කකුල් බ්ලැන්කෙට්ටුවෙන් පිටතට ගත් අලෙක්සේයි කෘත්‍රිම පාද ඒවාට සවි කරන ලෙස ඉල්ලා සිටියේය. විප්ලවයට පෙර අසතු පිටින් වැටීම නිසා කකුලක් කඩාගත් 'සාමි වරයකුට'' පවා තමා කෘත්‍රිම කකුලක් සාදා දුන් සැටි විස්තර කළ සුයෙව් ශිල්පියා ඉක්මන් වීමට අකැමැති විය. තම නිර්මාණය නිසා ආඩම්බර වූ හේ එය හාරදිම හැකි තරම් පමා කළේ ය.

රෝහල් කබායේ අතකින් ඔහු කෘත්‍රිම පාද පිසදා තියෙන් එහි තිබූ ලපයක් ගළවා, නැවත එය ඔප වැටෙන සේ මැද, එය ඔතා තිබූ රෙදි කඩ පරෙස්සමින් ඔතා සාක්කුවේ ලා ගත්තේය.

ඇදෙහි වාඩි වූ අලෙක්සේයි ඉවසුම් රහිතව 'අනේ සීයේ ! ඉක්මනට අන්දවන්නැ'' යි කීය.

අලෙක්සේයිගේ කකුල් කොට දෙස අමුතු බැල්මක් හෙළූ ශිල්පියා සතුටු වූ බවක් පළ කළේය. සැත්කමින් පසු ඉතිරිව ඇති කකුල් කොට ක්‍රියා විරහිතවීම නිසා මහත් වී අප්‍රාණික ලෙස තිබීම ඔහු දක ඇත. එහෙත් අලෙක්සේයිගේ දෙපා රහිත කකුල් කොට ශක්තිමත් ය. සිහින් ය. මස් ගොබ යහතින් වැඩී ඇත. ධාවන ක්‍රීඩකයකුගේ කකුල් මෙනි.

''මොකටද ඔය හැටි කලබල වන්නේ? කියන්න ලේසියි, කරන්න අමාරුයි.'' ශිල්පියා මැසිවිලි කීවේ ය. 'වසීලියි වසීලෙවිච් මට කිවා. සුයෙව්, ලෝකෙ මෙතෙක් හදාපු ඉස්තරම්ම පාද ජෝඩුවක් හදපන්. මේ ලයිතන් කැමතියි ආයෙමත් අහස් යානා පදවන්න.'' ඔන්න බලන්න මි හදාපු පාද වල හැටි. මේ වගෙ පාද වලින් ගමන් කරන්ට විතරක් නෙවී. බයිසිකල් පදින්න, නෝනලා එක්ක පොල්කා නැටුම් වුණත් නටන්න පුළුවනි. ඒ තරම් අගනා පාද!'

අලෙක්සේයිගේ දකුණු කකුල් කොටය කෘත්‍රිම පාදයේ වූලෙන් කෙවෙනියට එබූ ශිල්පියා හම් පටියෙන් තද කොට වෙළී ය.

''ඔහු දක්ෂ ලෙස වම් කකුලටද කෘත්‍රිම පාදය ඇන්ද විය

ලෙක්සේයි සැනෙසිත් කෘත්‍රිම පා වලින් නැඟී සිටියේ ඇඳේ සිට බිමට පැසිණි. කෘත්‍රිම පාදවල කෙළවරෙහි තුළ වූ කකුල් වල කොතරම් තියුණු වේදනාවක් ඇති විද යත්, මුලින් කපා හෙළූ ගසක් මෙන් ඔහු ඇද වැටිණි.

අලෙක්සේයි මෙතරම් නොසැලකිලිමත් ලෙස පනිතියි නොසිතූ ශිල්පියා තම උපැස් යුවළ තළල මත රඳවමින් විස්මය පත් විය. මෙරේස්යෙව් බිම වැතිර ගත්තේ බලාපොරොත්තු රහිතව ය. ඔහුගේ කෘත්‍රිම දෙපා දෙපැත්තට විහිදී තිබිණි. විමතියට හා භීතියට පත් වූ හෙතෙම වේදනාවෙන් පෙළිණි. මෙතෙක් කල් තමා රැවටුණේ ද යන ප්‍රශ්නය අලෙක්සේයි තමාගෙන් ම ඇසී ය.

ක්ලාවිදියා මිහයිලොවිනා දැත් එක්කර ගනිමින් විස්මය පළ කරමින් අලෙක්සේයිට උදව් දීමට ඉදිරිපත් වූවා ය. මහලු ශිල්පියාගේද ආධාරය ඇතිව ඈ අලෙක්සේයි ඇඳ මත තැබුවා ය. කොර ගසන්නට වූ හෙතෙම අධෛර්යයට පත්ව බලාපොරොත්තු රහිතව සිටියේය.

"ආ! තරුණයා! එහෙම කරන්ට එපා!" යැයි මහලු ශිල්පියා කීවේ ය. "හැබෑ කකුල්වලින් වගේ ඔහොම පනින්ට එපා! හිතේ කණගාටු ඇති කර ගන්ට එපා. ඇවිදින්ට ඉගෙන ගන්ට ඕන. මුල ඉඳල ඉගෙන ගන්ට ඕන. සොල්දාදුවකු බව අමතක කරන්ට. පොඩි දරුවකු වගෙ ඇවිදින්න ඉගෙන ගන්ට ඕන. අඩියෙන් අඩිය ඉස්සෙල්ල කිහිලි කරුවල උදව්වෙන් ගමන් කරන්ට ඕන. ඊට පස්සේ බිත්තිය අල්ලගෙන ගමන් කරන්නට ඕන. ඊට පස්සෙ බිත්තිය අල්ලගෙන ගමන් කරන්නට ඕන. ඊත් පස්සෙ හැරමිටියක් අතේ ඇතිව ගමන් කරන්ට ඕන. මේවා සියල්ල එකවර කරන්ට බැහැ. හෙමිහිට, ක්‍රම ක්‍රමයෙන්. තමුසෙ එක පාරටම පනිනව. ඔහොමත් පුළුවන්ද. මම හදපු කකුල් බොහොම හොඳ ඒවා වුනාට, හැබෑ මනුස්ස කකුල් වගෙ නෙවි. අම්මයි තාත්තයි හදන කකුල් වගේ ඉස්තරම් ඒව නෙවෙයි!"

එකවරම පැනීම නිසා ඔහුගේ කකුල්වල වේදනාව වැඩි වුණද තම කෘත්‍රිම කකුල් වලින් ගමන් කිරීමට අලෙක්සේයි තුළ උපන් ආශාව සීමා රහිත විය. අලුමිනියම් වලින් සාදන ලද කිහිලි කරු දෙක ගෙනෙන ලදී. සැහැල්ලු කරු දෙක කිහිලිවල තබාගෙන අලෙක්සේයි පරිස්සමෙන් නැගිට සිටියේය. ඔහු ගමන් කිරීම නොදත් කුඩා දරුවකු බොහෙවින් සමාන විය. ගමන් කිරීමට පුළුවන් වුණද, බිත්තියෙන් ඈත්වීමට

සේ සිය විය. මව සහ ආච්චි දෑතින් අල්ලා ගනිමින් කුඩා දරුවකු ඇවිද්ද වන්නා සේ ක්ලාව්දියා මිකයිලොව්නා සහ ශිල්පියා අලෙක්සෙයි ගේ දෑත් අල්ලාගෙන ඔහු ඇවිද්ද වූහ. කෘත්‍රිම පාදවලට ස්පර්ශ වන කකුල් අගින් සිදුණු වේදනාව දෙනෙන් අලෙක්සෙයි සිටගෙන සෙමින් එක් කකුලකට බර වෙමින් පියවරක් ඉදිරියට තැබීය. කෘත්‍රිම පාදයේ 'ක්‍රීක්' 'ක්‍රීක්' යන හඬක් පිට කළේය.

"පුම ගමින්, පුම ගමින්" යැයි ශිල්පියා සෙමින් කීය. අලෙක්සෙයි තවත් පියවර කීපයක් තබමින් දොර දක්වා ගොස් ආපසු ඇඳ දක්වා ආවේය. ඔහුට සිදුණු වේදනාවක් හා මහන්සියක් දැනිණි. බරැති බර මිටියක් කරින් ගෙන පස් මහල් ගොඩනැගිල්ලකට නැංගාක් මෙන් ඔහුට දැනිණි. ඔහු ඇඳ මත මුණින් වැටිණි.

"ආ කොහොමද මගේ වැඩේ හැටි. අපූරුයි නේද! ලූකාච් වගේ දක්ෂ ශිල්පියෙක් ඉපදීම ගැන දෙවියන්ට පින් දෙනවා" යැයි ශිල්පියා පුරසාරම් දොඩමින් කෘත්‍රිම පාද ගැලවීය. අලෙක්සෙයිගේ කකුල් අග පීඩනය නිසා මදක් ඉදිමී තිබිණි. "මේ කකුල් වලින් අහස් යානා පදවන්නට විතරක් නෙවේ, දෙව්ලොවට වුණත් පියාඹන්ට හැකියි. එතරම් අපූර්ව කකුල්! අපූරු, වටිනා බඩුවක්."

"ස්තුතියි, ස්තුතියි, ඔයේ මොනතරම් හොඳට හදල තියෙනව" යැයි අලෙක්සෙයි තොල මතුලේ ය.

"මට වසිලියි වසිලෙවිච් කිව්වා. 'ලූකාච්, මේක විශේෂ ඕඩරයක්. ඉතාම ඉහළින් වැඩේ කරන්න ඕන කියල.' ලූකාච් කවද හරි බාල වැඩ කරන්නෙ නැහැ. කරලත් නැහැ. මගෙ වසිලියි වසිලෙවිච් හම්බු වුනොත් කියන්න වැඩේ මොනතරම් හොඳයි කියල" මෙසේ කී ශිල්පියා තොල මතුරමින් වාට්ටුවෙන් පිට විය.

ඇඳේ වාඩි වූ අලෙක්සෙයි තම කෘත්‍රිම පාද දෙස බැලී ය. ශිල්පියා විසින් සාදන ලද ලස්සන, සැහැල්ලු පාද ඔහුගේ සිත් ගත්තේය.

එදින ඔහු ඕල්යාට දිගැති, ප්‍රීතිමත් ලිපියක් ලියුවේය. අලුත් අහස් යානා ලබා ගැනීමේ කාර්යය අවසාන වීගෙන එන බැවින්, ඉක්මනින්ම යුද පෙරමුණ බලා යන බවත්, ඔහුගේ අහස් නියමු සගයින් ඔහු එන තුරු බලා සිටින බවත් ඔහු සඳහන් කළේය. අනතුරුව මුණ

පැමෙන් පසු තම පෙම්වතියට අලෙක්සේයි ලියූ පළමුවැනි ආදර ලිපිය එය විය. ඇය දකීමට නොලැබීම නිසා ඔහු දුකින් පසුවන බව පළමු වරට ඔහු ලියුවේ ය. ඔහු සිය අදහස් බයාදු ලෙස දන්වමින්, යුද්ධය අවසාන වූ පසු ඇ ඔහු සමඟ ජීවත් වීමට කැමති නම්, තමා සූදානම් බව අලෙක්සේයි ඇට ලියුව ද, ලියුම කීපවරක් කියවා දිග සුසුමක් හෙළා අවසාන කොටස කපා හැරියේය.

මේ අතර හතළිස් දෙවැනි වාට්ටුවේ "රාජකීය කෘත්‍රිම කකුල් "පාවිච්චි කරන්නෙක් ඇතිවීම ගැන මොස්කව් රාජ්‍ය විශ්ව විද්‍යාලයේ වෛද්‍ය අංශයේ තෙවැනි වර්ෂයේ ශිෂ්‍යයෝ සාකච්ඡා කළහ. යුද්ධ කාලයේ වෛද්‍ය පීඨයේ ශිෂ්‍යයින් ගෙන් ඉතා විශාල කොටස වූයේ තරුණියන් ය. අන්යූටා හතළිස් දෙවැනි වාට්ටුවේ සියලු තොරතුරු හොඳින් දත සිටි අතර, ඇ ඒවා තම යෙහෙළියන් අතර ප්‍රචාරය කළා ය.

"රාජකීය කෘත්‍රිම කකුල්" පාවිච්චි කරන අලෙක්සේයි මෙරේස්යෙව්ට ප්‍රහාරක අහස් යානාවක් පදවන්ට පුළුවන්ද, බැරිද යන ප්‍රශ්නය ගැන විශ්ව විද්‍යාලයේ කැන්ටිමේ විවාදයක් ඇතිවිය. තරුණ සිසුහු හැම දෙනාම අලෙක්සේයිට අනුකම්පා කළහ. නවීන ප්‍රහාරක අහස් යානා පැදවීම අතිශයින්ම දුෂ්කර වැඩක් බව කියා සිටි සර්වාශුභවාදීහු අලෙක්සේයි අසමත් වන බව කීහ. බිඳුණු දෙපා ඇතිව මහා වනයක දින ගණනක් තිස්සේ දණ ගාමින් හා බඩගාමින් ගොස් සතුරන්ගෙන් බේරීමට තරම් ආත්ම ශක්තියක් තිබුණු අලෙක්සේයි ප්‍රහාරක අහස් යානා පදවනු ඇතැයි සර්වශුභවාදීහු පැවසූහ. තම මතය සනාථ කරනු වස් ඔවුහු ඉතිහාසයෙන් හා පොත්වලින් කරුණු ගෙන හැර දක්වූහ.

අන්යූටා මේ විවාදයට සහභාගී නොවූවා ය. තමා නොහඳුනන අහස් නියමුවාගේ කෘත්‍රිම පාද ගැන ඇ නොසිතුවාය. තමාට විවේක ඇති අවස්ථාවලදී ඇ සිතුවේ යුද්ධ ටැන්කි ලයිතන් ග්වොස්දෙව් හා තමා අතර ඇති සම්බන්ධකම් ගැනය. මේ සම්බන්ධකම් වැඩි වැඩියෙන්ම සංකීර්ණ වී ඇති බව ඇට වැටහිණි. වීර සෙබළකුගේ ශෝකාන්විත ඉරණම ගැන පළමුවරට දනගත් අන්යූටා ඔහුට ලියුවේ ඔහුගේ ශෝකය දුරු කරන අදහසිනි. එහෙත් පසුව මේ ලියුම් හුවමාරුව දිග්ගැස්සුණු පසු, දේශප්‍රේමී යුද්ධයේ වීරයාගේ වියුක්ත රූපය අතුරුදහන් වී ඒ වෙනුවට තරුණයකුගේ රූපය දිස් විය. මේ තරුණයා ඇගේ සිත වඩාත් ඇද ගත්තේය. ඔහු ඇට ලිවීම අතපසු වූ විට, ඇය තුළ කාන්සියක් හා

ශෝකයක් ඇති වන සැටි ඇට දනිණි. මේ නිසා ඇය තුළ බියක් හා සතුටක් එකවර ඇතිවිය. මෙයත් ආලයක්ද? කිසි දිනෙක නොදුටු පුද්ගලයකුගේ ලියුම් නිසා ඔහුට ආලය කළ හැකිද? ග්වොස්දෙව් තම ලියුම් මගින් ඇට "ආලය කරන බව" දන්වීමෙන් පසුව, අන්නූටාද ඔහුට ආලය කරන බවත්, එය පාසල් සමයේදී ඇති වන ළමා ආදරය නොවන බවත් වටහා ගත්තා ය. ග්වොස්දෙව්ගෙන් ලියුම් ලැබීම පමා වුණොත් කැලඹී ගත්තා අන්නූටා, ඔහු ලියුම් ලිවීම නැවැත්වුව හොත් ජීවත් වීමේ තේරුම පවා නැතිවන බව වටහා ගත්තාය.

එකිනෙකා නොදැක ඔවුහු එකිනෙකාට පෙම් කළහ. ඉන්පසු ග්වොස්දෙව් තුළ විශාල වෙනසක් ඇති විය. කෝලයකින්, අඩිරුවකින් හා නොපැහැදිලිතාවයකින් ඔහු ඇට ලියුවේ ය. එකිනෙකා නොදැක පෙම් කිරීම නුවණට හුරු නැති බවත්, තමාගේ තුවාල නිසා තමා කොතරම් අවලස්සන වී ඇති ද යන්න ඇට සිතා ගැනීමට පවා අපහසු බවත්, ඇට ඒවා ඇති ඡායා රූපයට වඩා දන් ඔහු බොහෝ සෙයින් ම වෙනස් වී ඇති බවත් දන්විය. ඇය රැවටීමට ඔහු සූදානම් නැති නිසා, ඈ ඔහු දුටු පසු ඇගේ අදහස් පවසන ලෙස ඉල්ලා සිටි ග්වොස්දෙව් ලියුම් ලිවීම නවත්වන ලෙස ද ඉල්ලා සිටියේය.

ග්වොස්දෙව් රෝහලින් පිටවන දිනය ළං විය. වරෙක ඔහු දුර සිට ගෙන කැඩපතින් තම මුහුණ බලයි. තවත් වරෙක ඔහු කැඩපතට ළංවී තම මුහුණේ කැළැල් එකිනෙක පිරික්සා බලයි.

ඈත සිට බලන විට ඔහුගේ පෙනුම පියකරු ය. පළල් උරහිස්, සිහින් ඉඟටිය, ශක්තිමත් කකුල් ඔහුගේ සිරුරේ හැඩය කියා පායි. ළංවී බලන විට ඔහුගේ දෙකොපුල්වල තුවාල කැළැල් ද, රත් පැහැති සනැවී හම ද මුහුණ විරූපී කළ සැටි පෙනේ. ඔහු බියෙන් යුතුව සිතී ය. "ඈ මා දුටු විට මොනවා සිතාවිද?" ඈ බිය වී පැන දුවනු ඇත. සිත නොකළකිරවනු පිණිස ඈ පැයක් පමණ ඔහු සමඟ කතා කොට, ඔහුගෙන් සමුගෙන සදහටම ඉවත් වී යනු ඇත.

තමා සිතූ ඒවා සියල්ල සැබැවින්ම සිදුවූවාක් මෙන් ඔහු කනගාටුවට පත් විය.

එවිට ඔහු තම සාක්කුවෙන් ඡායාරූපයක් ගෙන බැලීය. පළල් නළලක් ඇති ඒ තරුණිය මහත ය. හිසකේ මුදු ය. කුනී ය. නියම්

යන් තහයකි, දෙතොල් පොඩි දරුවකුගේ මෙනි. උඩු තොලේ කුඩා
න් ලපයකි. ඇගේ ඇස් අළු පාට හෝ තිල් පාට හෝ විය යුතු ය.
ණ අකපට ය. ජායා රූපය ඔහු දෙස අවංක බැල්මක් හෙළයි.

'තී කවුද? තී බය වන්නෙහිද? පැන දුවන්නෙහිද? මගේ අවලස්සන
ණ දක බිය නොවීමට ඇ සමත් වන්නීද?'' යනාදී ප්‍රශ්න අසන්නාක්
න් ග්වොස්දෙව් අන්‍යූටාගේ ජායාරූපය දෙස බැලීය.

මේ අතර කොරිඩෝරය දිගේ කෘත්‍රිම පාදවලින් හා කරුවල
ධාරයෙන් අලෙක්සේයි ඇවිද්දේය. වරක්, දෙවරක්, දසවරක්, විසිවරක්
හා මෙහා යන ජ්‍යෂ්ඨ ලයිතන් අලෙක්සේයි මෙරේස්යෙව් දුටු ග්වොස්දෙව්
ල්පනා කරන්නට විය. දිනපතාම උදේ සවස මේ විධියට ඇවිදින
ලෙක්සේයි තම ගමන දිගු කළේ ය.

''හරිම හොඳ හාදයා'' යැයි අලෙක්සේයි දෙස බැලූ ග්වොස්දෙව්
මාට ම කියා ගත්තේය. ''පුදුම ධෛර්යයක් ඇති මිනිහෙක්. එයාට
කායින්ද මෙතරම් දැඩි ආත්ම ශක්තියක්. සාමාන්‍ය මිනිහෙකුට ඔහොම
ැවිදින්ට ඉගෙන ගන්ට මාස ගණනක් යනව. මේ යෝධයා ඊයේ පඩිපෙළ
ගේ තනියම බැහැල ආපහු නැග්ග. කකුල් කොටවල අගින් නගින
වේදනාව නිසා එයාගේ ඇස්වලින් කඳුළු ගැලුවා. ඒ වුණත් එයා පයින්ම
ැස්සා, නැග්ගා. එයාට උදව් කරන්ට ආපු සේවකයට බැණ වැදුණා.
පඩිපෙළ නැග වාට්ටුවට ආ පසු එයාගෙ මූණ ප්‍රීතියෙන් බැබළුණා.
හරියට එල්බ්රුස් කන්ද නැංගා වගෙ.''

සවස කොරිඩෝරය දිගේ විසිතුන් වරක් එහා මෙහා ඇවිද්ද
අලෙක්සේයිගේ කකුල් අගින් පැන නැංගේ තියුණු වේදනාවකි. කරු නිසා
කිහිලිවලද වේදනාවක් ඇති විය.

වක්, වක්, ක්‍රීක්, ක්‍රීක්, වක්. වක්, ක්‍රීක්, ක්‍රීක්....

දෙතොල් සපමින් කඩා හැළෙන කඳුළු බිංදු නවත්වා ගනිමින්
ජ්‍යෂ්ඨ ලයිතන් අලෙක්සේයි මෙරේස්යෙව් විසි නවවැනි වරටද කොරිඩෝරය
දිගේ ගමන් කරමින් තම සවස ව්‍යායාම් අවසන් කළේය.

## 13

ජූනි මස දෙවැනි සතිය අන්තයේදී ග්වොස්දෙව් රෝහලින් පිට විය.

ඊට දවස් දෙකකට පෙර ඔහු හා අලෙක්සේයි අතර කුළුපග ලෙන්ගතු සාකච්ඡාවක් ඇති විය. අවාසනාවන් බව අනුව එකම ඉරණමකට මුහුණ පා ඇති මේ දෙදෙනා අතර විශේෂ සහෝදරත්වයක් ඇති විය. තම උදාරත්වය නිසා අභාග්‍යයකට මුහුණ නොපෑ, පිට අයට හෙළි නොකරන හැඟීම් ඔවුහු තමන් අතර නොසඟවා හෙළි කළහ. තම පෙම්වතියන්ගේ ඡායා රූප ඔවුහු තම තමන්ට පෙන්වූහ.

අන්යූටා තමා පිළිගන්නා සැටිත්, ඈ තම පිළිස්සුණු මුහුණ කෙරෙහි දක්වන සැලකිල්ල ගැනත් අලෙක්සේයිට ලියා දැන්වීමට ග්වොස්දෙව් පොරොන්දු විය. ග්වොස්දෙව්ගේ පෙම්වතිය ඔහු සතුටින් පිළිගත හොත්, තමාට වූ සියලු බාධාවන් හා අභාග්‍යයයන් ගැන ඕල්යාට දන්වා, තමා ගැන ඔත්පලව සිටින මවට නොදන්වීමට ඇය පොරොන්දු කරවා ගැනීමට අලෙක්සේයි ඉටා ගත්තේය.

ග්වොස්දෙව් රෝහලින් පිට වීම ගැන ඔහු මෙන් ම අලෙක්සේයි ද කැළඹුණු සිතින් පසුවූයේ එබැවිනි. නොනිදා රැය ගත කළ මිතුරෝ දෙදෙන නිහඬව වාට්ටුවෙන් පිටවී කොරිඩෝරයට ආහ. ග්වොස්දෙව් කැඩපත ඉදිරිපිටව වී තම තුවාල බලමින් ඒවා පිරිමැද්දේය. අලෙක්සේයි තම කකුල් අග රෙදි කඩවලින් ඔතා නැවත වරක් කෘත්‍රිම පාදවලින් ඇවිද්දේය.

උදේ දහයට වාට්ටුවට පැමිණි ක්ලාව්දියා මිහයිලොව්නා, ග්වොස්දෙව් කැටුව යාමට කෙනෙක් ඇවිත් සිටින බව දැන්වූවාය. මහා කුණාටුවකට හසු වූ කලෙක මෙන් ග්වොස්දෙව් කලබල විය. ඔහුගේ මුහුණේ කැළැල් තවත් රත් පැහැ ගත්තේ ය. තම ඇඳුම් ආදිය ඔහු ඉක්මනින් එකතු කළේ ය.

"හරි හොඳ තරුණියක්. පෙනුම බොහොම වැදගත්" යැයි ක්ලාව්දියා මිහයිලොව්නා කියන්නී, ග්වොස්දෙව් ඉක්මන් වන සැටි බලමින් දඟකාර ලෙස සිනාසුණා ය.

මේජර් සටාරුවකොව් ද, අලෙක්සේයි සහ අලුත් රෝගීහු දෙදෙනෙක්ද රෝහලින් පිටව ගිය ග්වොස්දෙව් මහ මග යන සැටි බලනු වස් ජනේලය අසලට පැමිණියහ.

"අන්න එනවා!" යැයි අලෙක්සේයි සෙමින් කීය. රෝහලේ විශාල දොරවල් විවර වී දෙදෙනෙක් මහ මගට බටහ. තරුණිය තරමක් මහත ය. ඇගේ හිසකේ පස්සට පීරා ඇත. සුදු හැට්ටයක් හා කළු පැහැති සායක් ඇඳි ඈ අලෙක්සේයිට පවා හඳුනා ගත නොහැකි තරුණ සෙබළකු සමඟ ගමන් කළා ය. ඔහු එක් අතකින් තම සූට් කේසයද අනිත් අතින් වැහි කබායද ගෙන ගමන් කළේය. ඔහු කොතරම් කඩිසර ලෙස ගමන් කළේද යත්, ඔහු දෙස බැලීම පවා සතුටකි. නිදහසේ ඇවිදීමට අවස්ථාව ලැබීම නිසා සතුටු වූ තරුණ සෙබළා - ග්වොස්දෙව් තම ශක්තිය මැන බැලීමට මෙන් යම්තමින් උඩ පනින්නාක් මෙන් කඩිසර ලෙස පා තැබීය. තරුණිය ඔහුගේ අතක් ගෙන රත් වන් වැහි පොදින් සේදී ගිය පදික වේදිකාව ඔස්සේ ගමන් කළාය.

ඔවුහු වාට්ටුවේ ජනේලය අසලින් යද්දී අලෙක්සේයිගේ හදවත ප්‍රීතියෙන් සැලිණි. 'හැම දෙයක්ම අගේට සිදු වී ඇත! ඇගේ මුහුණ සුන්දරය. පෙණුම අවංකය, චාම් ය. එවැනි තරුණියක් විපතට පත් මිනිහකුව අත හරින්නේ නැහැ" යි හේ තමාට ම කීවේ ය.

ඔවුහු ජනේලය ඉදිරිපිට නැවතී, වාට්ටුව දෙස බැලූහ. ඔවුහු වැසි නිසා ඔප් නැගී දිලිසෙන තාප්පය ළඟ සිට ගත්හ. තාප්පය දිගේ ගලා යන වැහි බිංදු කුඩා සර්පයන්ට සමාන විය. යුද්ධ ටැංකි හමුදාවේ ටයිකත් තැන්පත් ග්වොස්දෙව් ලජ්ජාවෙන් හා කරදරයකින් පසු වන බව අලෙක්සේයි දිටී ය. ඡායාරූපයේ මෙන් ම සුන්දර රූ සපුවකින් හෙබි අන්යූටාද ලජ්ජාවෙන් හා කැළඹුණු සිතින් පසුවූවාය. ඈ ග්වොස්දෙව්ගේ අත අල්ලා ගෙන සිටින්නේද දෙගිඩියාවකිනි. ග්වොස්දෙව් අතහැර ඈ පලායාමට සූදානම් බවක් ඇගේ පෙණුම කියා පායි.

මුළු දවස තිස්සේම අලෙක්සේයිට අසහනයක් දැනිණි. එදින සවස ව්‍යායාම් නොකළ ඔහු කලින් නින්දට ගියේය. එහෙත් අනිත් රෝගීන් නින්දට ගිය පසුද ඔහු නොනිදා ඇඳ මත පෙරළුණේය.

පසුදා උදෑසන හෙදිය වාට්ටුවට ඇතුළු වූ විගසම අලෙක්සේයි

තමාට ලියුම් තිබේදැයි ඇගෙන් ඇසී ය. ලියුම් නොතිබිණි. ඔහු උදාසීන ලෙස මුහුණකට සෝදා ගෙන රුචියකින් තොරව ආහාර ගත්තේය. එහෙත් ඔහු වෙනදාට වඩා වැඩි වාර ගණනක් කෘත්‍රිම පාදවලින් ගමන් කරමින් ඊයේ දක් වූ අලසකමට දඬුවම් වින්දේය. වෙනදාට වඩා පහළොස් වරක් වැඩියෙන් ගමන් කළ අලෙක්සේයි තම අසහනය මැඩගෙන, වැඩියෙන් ව්‍යායාම කිරීමෙන් ලැබුණු චිත්ත ධෛර්යය නිසා ප්‍රීති විය. කරුවල ආධාරයෙන් වැඩි මහන්සියක් නොවී ගමන් කළ හැකි බව ඔහු ඔප්පු කළේය. කොරිඩෝරයේ දිග මීටර් පනහකි. පනහ හතළිස් පහකින් වැඩි කළ විට මීටර් දෙදහස් දෙසිය පනහකි. නැතහොත් කිලෝමීටර් දෙකකුත් කාලකි. මෙය ඔහු ගමන් කළ දුර ප්‍රමාණය ය. දෙවියනි! එය සෑහෙන දුරකි!

තමා ගමන් කරන දුර ප්‍රමාණය හතළිස් හය වාරයක් දක්වා වැඩි කිරීමට හෙතෙම තීරණය කළේය. උදේට වාර විසිතුනක් ද සවසට වාර විසි තුනක් ද බැගිනි. හෙට ඔහු පළමු වරට කරු රහිතව ඇවිදීමට සිතුවේ ය. මේ නව අදහස නිසා පරාජිත හැඟීම් පහව ගොස් ඔහු තුළ ප්‍රබෝධයක් ඇති විය. සවස ඔහු තම ව්‍යායාම වාරය අරඹා තිස් වාරයක් කොරිඩෝරය දිගේ ගමන් කරත්ම, සේවිකාව ලියුමකුත් රැ ගෙන ඔහු වෙත පැමිණියා ය.

අලෙක්සේයි කවුළුව අසලට වී ලියුම කියවීය. යුද පෙරමුණට පිටත්ව ගිය ග්වොස්දෙව් දුම්රිය පොළේ සිට එවන ලද ලියුමකි. එය කියවන අලෙක්සේයිගේ මුහුණ වඩ වඩාත් සුදුමැලි විය. අන්යූටා තරම් රූමත් තරුණියක් මොස්කව් නගරයේ නැති බවත්, ඇය තමා සිතූ විධියේ කෙනෙකු බවත්, ඈ තමාට ඉතා හොඳින් සැලකූ බවත්, ඔහු ඇට තදින් ඇලුම් කරන බවත් ග්වොස්දෙව් ලීවේ ය.

"...... ඒ වුණත් අපේ අදහස තහවුරු වුණා. ඈ බොහොම හොඳ කෙනෙක්. ඈ මට කිසිවක් නොකීවා පමණක් නොව, මගෙ මූණ ගැන ඉඟියක් වත් කළේ නැහැ. ඒ වුණාට මම පොට්ටයෙක් නොවේ. මට පෙනුණා ඈ මා නිසා බිය වී සිටින සැටි. හිටිහැටියේම මා ඈ දිහා බැලුවා. එවිට මා දක්කා මා දිහා ඈ බියෙන් බලන හැටි. ලජ්ජාව, බිය සහ අනුකම්පාව මුසු බැල්මකිනුයි ඈ මා දෙස බැලුවේ. ඈ තනිවම ගෙදර ඉන්නේ. ඇගේ මව සහ පියා පිට පළාතකට ගිහින්. වැදගත් පවුලක්. ඈ තේ හදන්ට ගියා. තේ පෝච්චියේ මගේ මුහුණ පිළිබිඹු වන

හැටි බලමින් ඈ උහුලන්නට පටන් ගත්තා. මම කියන්ට ඕනෑ දේ කෙළින්ම කීවා. "මගේ මුහුණ නිසා අන්යූටා බයවෙලා තියෙන හැටි මට ජේනවා. මම ඒ ගැන අමනාප වෙන්නේ නැහැ." එවිට අන්යූටා අඬන්ට පටන් ගත්තා. "අන්යූටා අඬන්න එපා. ඔයා හොඳ තරුණියක්. හොඳ කෙනෙක් ඔයාට පෙම් කරාවි. මා හන්දා ඔයාගෙ ජීවිතය කාලකණ්ණි කර ගන්න එපා." ඊට පස්සෙ මම ඈට මෙහෙම කීවා. "අන්යූටා දන් මගේ හැටි දක්කා නෙව. මම ඇඩ්රැසය තියලා යන්නම්. කල්පනා කරල පස්සෙ ලියන්න" ඒ වන විට අහස් අනතුරු සංඥාවක් කළා. ඈ ආරක්ෂක බිම් ගෙයකට දිව්වා. මම ඒ අවස්ථාවෙන් ප්‍රයෝජන අරගෙන ගෙයින් පිට වුණා. නිලධාරි සේනාංකයට ගිහින් මා යුතු තැනට පත්වීමක් ලබා ගත්තා. අලෙක්සේයි මම දන් යුද පෙරමුණ බලා යනවා. පෙරටත් වඩා මම දන් අන්යූටාට ආලය කරනවා. ඈ නැතුව ජීවත් වෙන්නෙ කොහොමද කියා හිතන්නවත් බැහැ."

අලෙක්සේයි තම මිතුරාගේ ලියුම කියවන්නේ, තම අනාගතය ගැනද සිතී ය. ඔවුන් එවැනිම ඉරණමකට මුහුණ පානු ඇත. ඕල්යා ඔහු ප්‍රතික්ෂේප නොකරනු ඇත. අනුකම්පා සහගතව ඈ ආත්ම පරිත්‍යාග කරනු ඇත. කඳුළු මැඩගෙන සිනාසෙනු ඇත. දුක මැඩගෙන ප්‍රීති වනු ඇත.

"නැහැ, නැහැ, එහෙම ජීවිතයක් ඕන නැහැ" අලෙක්සේයි හඬ නඟා කීවේ ය.

ඔහු තම ඇඳ මත වාඩි වී ඕල්යාට කෙටි, අමිහිරි ලිපියක් ලියුවේ ය. "අප දෙදෙනා අතර ඇති සබඳකම් ගැන මම කල්පනා කර බැලීමි. ඕල්යාට මා එනතුරු බලා සිටීම කරදරයකි. යුද්ධය තව අවුරුදු කීයක් වේදැයි? කාලය ගෙවී යයි. ඒ සමඟම තරුණ වියද ගෙවේ. යුද්ද කාලෙදි බලාපොරොත්තු සියල්ල විනාශ වෙනවා. යුද්ධයේදී මා මළොත් ඔබට බිරියක් නොවීම කනවැද්දුම් ගැහැනියක් වීමට සිදු වනු ඇත. මගේ අත ය කැඩී ගියොත් ඔබට අබ්බගාතයකුගේ බිරියක් වීමට සිදුවනු ඇත. වැත්තකු කුමටද? ඔබේ තරුණ විය අපතේ නොයවා මා අමතක රන්න. ඕල්යා මේ ලියුමට පිළිතුරු නොලියුවද මම අමනාප නොවෙමි. වැනි තීරණයක් ගැනීම කොතරම් අමාරු වුවද එසේ කළ යුතුය."

එදින අලෙක්සේයිට නින්දක් නොවිණි. අමුතු වර්ගයක "ලා-5"

ගේ අහස් යානාවක් සේ සිහිනෙන් දිටී ය. එහි පා පුවරුව කුරුළු පාද මෙනි. යානයට නැග ගත් කාර්මික ශිල්පී යූරා 'අලෙක්සේයි අහස් යානා පැද වූ කාලය ඉවරයි. දැන් ඉතිං මගේ කාලයයි.'' කියමින් යානාව පදවන්නට විය. ඉන්පසු ඔහු මිහයිල් සීයාව දුටුවේය. අලෙක්සේයි පිදුරු පැදුරක් මත වැතිර සිටී. සුදු කමිසයක් ඇඳ සිටි මිහයිල් සීයා දුම් දමන උණු වතුරෙන් අලෙක්සේයි නාවමින් ඔහුගේ පිටට ළපටි කොළ අත්තකින් පහර දෙමින් සම පිරිමැද්දේය. ''කසාදෙට ඉස්සෙල්ලා නාවන්ට ඕන'' යැයි සීයා කීවේ ය. හිමිදිරි පාන්දර ඔහුට ඕල්යා සිහිනෙන් පෙනිණි. ඈ පෙරළුණු ඔරුවක් මත වාඩිවී දෙපා දියට ඔබාගෙන සිටියාය. ඇගේ කකුල් හිරු රැස් නිසා දුඹුරු පැහැයෙන් දිලිසිණි. හිරු රැස් වැලැක්වීම වස් එක් අතකින් දෑස් ආවරණය කර ගත් ඕල්යා මද සිනාපාමින් ඔහුට අඬගසමින් අතක් වැනුවා ය. ඔහු ඈ වෙත පීනන්නට විය. එහෙත් සැඩ පහර නිසා ඔහුට ඈ වෙත පීනන්නට බැරි වූ අතර ඔහුත් ඈත් අතර දුර ප්‍රමාණය වැඩි වූයෙන් ඔහු ගඟ මැදට විය. ඔහු වැර යොදා ඈ වෙත පීනමින් ඈට ළං විය. ඔහුට ඇගේ හිස කේ ද, දුඹුරු පැහැති දෙපා වල දිය බින්දු ද පෙනිණි.

ඔහු අවදි වූයේ ප්‍රීතිමත් හැඟීමෙකිනි. දෑස් වසාගෙන වැතිර සිටි අලෙක්සේයි ඇය නැවත සිහිනෙන් දකින ආශාවෙන් නිදා ගැනීමට උත්සාහ කළේ ය. නිතර එකම දෙයක් ගැන සිහින දැකීමට හැක්කේ ළමා කාලයේදී ය. ඕල්යා සිහිනෙන් දකීම නිසා ඔහු ප්‍රබෝධයට පත් විය. පසු නොබැස ඕල්යා වෙත යා යුතුය. සැඩ පාරට එදිරිව පීනමින් ඈ වෙත ළං විය යුතුය. ඒ සඳහා යෙදිය හැකි හැම ශක්තියක්ම යෙදිය යුතුය. ලියුම? ඒ ලියුම ඈට ලැබුණාවේ! එවැනි ලියුමකින් නියම ආලයට හානි සිදු නොවේ.

උදැසන අලෙක්සේයි කරු නැතිව කෘත්‍රිම පාද වලින් ඇවිදීමට උත්සාහ කළේ ය. ප්‍රවේසමින් නැගිට සිටගත් හෙතෙම දෑත් දෙපැත්තට වනමින් සමබරව සිට ගත්තේය. පසුව කාප්පය අල්ලා ගනිමින් සෙමින් පියවරක් ඉදිරියට තැබීය. කෘත්‍රිම පය ''ක්‍රීක්'' යන හඬක් නැඟීය. ඇවිදීම මෙතරම් අසීරු වැඩක් බව හේ මීට පෙර නොදත්තේය. සිරුර එක් පැත්තකට බර කරමින් තවත් පියවරක් තැබීය. ඔහු තෙවැනි පියවර ඉදිරියට තබත් ම බිම ඇද වැටිණි.

වාට්ටුවේ රෝගීන් නොයෙකුත් ප්‍රතිකාර ගැනීම සඳහා චිකිත්සාගාර

යන වේලාව තම ව්‍යායාම සඳහා අලෙක්සේයි තෝරා ගත්තේය.
ර සඳහා කිසිවකු නොකැඳවීමට ඔහු තීරණය කලේය. බිත්තිය
ගිය ඔහු තම වැළමිටේ තුවාල කැළල දෙස බලා සුසුමක් හෙළා,
කමින්, පියවරක් තබා බිත්තියෙන් ඈත් විය. දැන් ඔහු රහස ඉගෙන
ඇතැයි ඔහුට සිතිණි. කෘත්‍රිම පා සැබෑ පාවලට වඩා නම්‍යතාවයෙන්
. මේ පාවල ගුණයත් ගැන ඔහු තවම හරි හැටි නොදනී. පියවරක්
මට පෙර සිරුරේ බර අනිත් පයට දී ගමන් කළ යුතුය. දෙපය
න්තරව නොතබා දෙපයේ ඇඟිලි දෙපැත්තට විහිද යන සේ
කාරව තැබිය යුතුය. මෙයින් සමබරව සිටීමට හා ස්ථිරව පා
මට පුළුවන් විය.

මේවා සියල්ලම කෙනෙක් ඉගෙන ගන්නේ ළමා කාලයේදී ය.
ගේ මග පෙන්වීම රටතේ සිහිති දරුවා පළමුවරට පා තබයි. පසුව
සේ ගමන් කිරීම ඉබේටම සිදුවෙයි. එය ස්වභාවික දෙයක් බවට පත්
. එහෙත් මිනිසෙක් කෘත්‍රිම පාද ඇඳ ගත් පසු, ඔහු ළදරු කාලයේ
පුරුදු වූ මේ ප්‍රකෘති ක්‍රමය බාධාවක් වේ. පැරණි පුරුද්දට එදිරිව
නොසිටින්නේ නම්, ඔහුට කෘත්‍රිම පා වලින් ගමන් කළ නොහැකි
ළමා කාලයේදී ඉතා ලෙහෙසියෙන් ඇවිදීමට ඉගෙන ගත් මිනිසකුගේ
නැතිවීමෙන් පසු ඔහු කෘත්‍රිම පාද අදිත් නම්, කරු වල ආධාරය
ව ගමන් කිරීම පුරුදු කර ගැනීම සඳහා ඔහු තුළ දැඩි ආත්ම
ක්තියක් තිබිය යුතුය. නොඑසේ නම්, ඔහුට නැවත ගමන් කළ
හැකි වේ.

අලෙක්සේයි මෙරේස්යෙව් තම අරමුණ වෙත යාමට දැඩි අදිටනකින්
ක්‍රියා කලේය. පළමුවරට කළ වැරදි වලින් පාඩම් ඉගෙන ගත් ඔහු
උත්සාහ කලේය. මෙවර කෘත්‍රිම පාදවල විලුඹ පිටතට විහිද යන
සිට ගත් අලෙක්සේයි මෙරේස්යෙව් සිරුරේ බර විලුඹට දුන්නේ ය.
සිරුරේ බර ඇඟිලි සහිත ඉදිරි කොටසට මාරු කරන විට, කෘත්‍රිම
කෝපය පිට කරන්නාක් මෙන් හඬ නැඟීය. මෙලෙස සිරුරේ බර
කරමින් ඔහු පියවරක් ඉදිරියට තැබීය. බිත්තියෙන් ඈත් වූ ඔහු බිම
පය එසවීමට බියවූයේ, සමබරව සිටගනිමින් නොසෙල් වී උන්නේය.
වීම නිසා ඔහුට හීන් දාඩිය දැමිණි.

ඔහු මෙලෙස සිටගෙන සිටින විට වසීලියි වසීලෙවිච් ඔහු දිටීය.
දොර ළඟ සිටගෙන අලෙක්සේයි දෙස බලමින්, පසුව ඔහු වෙත
, ඔහුට උදව් වෙමින් මෙසේ පැවසී ය.

"ඇවිදින්ට පටන් ගැනීම අපූරුයි! ඇයි හෙදියට හෝ සේවකයකුට කතා නොකළේ ආඩම්බරකම හන්දා වෙන්ට ඕන..... කමක් නැහැ. හැම වැඩයකදීම මෙන්ම දනුත් පටන් ගැනීම තමා ඉතාම වැදගත්. තමුසෙ අමාරු කාරිය පසු කළා."

"මෙරේස්යෙව් අපි ආයෙමත් පටන් ගනිමු" යි කී මහාචාර්ය තුමා තම ගෝල පිරිසට මෙසේ පැවසීය. "මොකද නුඹල බලාගෙන ඉන්නෙ? මේක සර්කස් එකක් නොවෙයි. මා නැතුව ඉතිරි ලෙඩුන් බලාපල්ල." නැවත අලෙක්සේයි දෙසට හැරී 'පටන් ගනිමු. තරුණයා ලජ්ජා වෙන්ට එපා. මාව අල්ලා ගන්නව. මම යුද්ද නිලය අනුව ජනරාල් කෙනෙක්. මට කීකරු වෙනව. පියවරක්, තව එකක්. දකුණට හරි හොඳා.... වමට හරිම අපූරුයි!"

ලෝක ප්‍රසිද්ධ වෛදවරයා දැන් පිරිමැද්දේ යම්කිසි වැදගත් වෛද පරීක්ෂණයක් සාර්ථක ලෙස කළාක් මෙනි. තමා කරන හැම වැඩකින්ම උනන්දුවක් හා ප්‍රබෝධයක් ලබා ගැනීම ඔහුගේ චරිත ලක්ෂණයකි. හැම වැඩක් ම සපුරාලීම සඳහා ඔහු සම්පූර්ණ ශක්තිය යෙදවීය. විඩාපත් වී සිටි අලෙක්සේයි ඔහු තවත් වරක් වාට්ටුව දිගට ඇවිද්දවී ය. අලෙක්සේයි පුටුවක් මත ඇද වැටුණු විට ඔහු ද පුටුවක් ගෙන ඔහු ළඟින් වාඩි විය.

"කොහොමද පියාසර කරමුද? අතක් නැති මිනිහෙක් එක් අතින් බෝම්බයක් අරගෙන ප්‍රහාරය අරඹනව. මරණීය තුවාල ලබාපු හටයො මැෂින් තුවක්කුවලින් සතුරට වෙඩි තියනව. සෝවියට් හටයො තම සපුවෙන්, සිරුරෙන් මැෂින් තුවක්කුවල කටවල් වසා තම සගයින් මරණින් ගලවනව. මැරිච්ච මිනිස්සු විතරයි මේ යුද්දෙදි සටන් නොකරන්නෙ" මෙසේ කී වසිලියි වසීලෙවිච්ගෙ මුහුණ අඳුරු විය. "මැරිච්ච අය පවා සටන් කරනව. ඒ ගොල්ලන්ගෙ කීර්තියෙන්..... ඔව්... ඔව් තරුණයා අපි නැවත පටන් ගනිමු."

දෙවැනි වර ඇවිද විවේක ගැනීමට අලෙක්සේයි වාඩි වුණු විට, ග්වොස්දෙව්ගේ ඇඳ පෙන් වූ මහාචාර්ය වරයා මෙසේ ප්‍රශ්න කළේ ය.

"යුද්ධ ටැන්කි හටයා ගැන මොනවද ආරංචි? එයා රෝහලින් පිට වුණාද?"

දකුණු පැත්තේ ජනේලය අසල ද තබන ලදී.

ඔත්තු කාරයෝ පුළු සටන්වල යෙදෙති. නිහඬතාවය දිග් ගැසුණු තරමට ම, ප්‍රති ප්‍රහාරය බිහිසුණු වන බව මෙරේස්යෙව් සහ ස්ට්‍රැව්කොව් පළපුරුදු සෙබලෝ දනිති.

සෝවියට් සංගමයේ වීරයෙක් වන ස්තෙපාන් ඉවුෂ්කින් දකුණු දිග පෙරමුණේ ජර්මන් හටයින් විසිපස් දෙනෙකු මැරූ බව දන්වන පුවත්පත් නිවේදනයක, යුද්ධය පටන් ගත් දා සිට වීර හටයා පැසිණි ජර්මනුන් දෙසිය දෙනෙකු මරා ඇති බව ද සඳහන් විය. ග්වොස්දෙව්ගෙන් ලිපියක් ලැබිණි. ඔහු සටන් කරන පෙරමුණ ගැන සඳහන් නොකළද තම පැරණි මහ සෙනවි රොත්මිස්ටර්ගේ සේනාවට ඇතුළු වීමට ඉඩ ලැබීම ගැන සතුටු විය. මේ ලියුම ලැබුණු විගස ඉඩ තිබුණොත් අන්යූටාට ලියුමක් ලියන ලෙස ඉල්ලා සිටියේ ය. ග්වොස්දෙව් ද ඇට ලියූ නමුත් ඔහුගේ ලියුම් ඇට නොලැබී ඇතැයි ඔහු සිතන බව ද ඔහු සඳහන් කළේ ය.

මේ පුවත් දෙකින් වුවද දකුණු දිග මහා ප්‍රහාරයක් ඇරඹෙන ලකුණු පළපුරුදු යුද්ධ හටයෝ දුටහ. අලෙක්සේයි තම මිතුරාගේ ඉල්ලීම පරිදි අන්යූටාට ලිපියක් යැවීය. මහාචාර්ය තුමාගේ උපදෙස් පරිදි ග්වොස්දෙව් රැවුලක් වැවිය යුතු බව ඔහුට දන්වා යැවීය. මහා ප්‍රහාරයකට සූදානම් වන ග්වොස්දෙව්ට අන් හැම හටයකුට මෙන්ම සතුට මුසු කැළඹුණු හැඟීමකි. ඔහුට රැවුල වැවීම තබා අන්යූටාට ලියුමක් ලිවීමට පවා විවේකයක් නැති බව අලෙක්සේයි දනී.

හතළිස් දෙවැනි වාට්ටුවේ තුවාල කාරයෙක් වන මේජර් පාවෙල් ඉවානොවිච් ස්ට්‍රැව්කොව්ට සෝවියට් සංගමයේ වීරයා යන උසස් නාමය ප්‍රදානය කරන ලදින්, එය එම වාට්ටුවේ රෝගීන්ට උත්සවයක් විය. එහෙත් අහස් නියමු මේජර් ස්ට්‍රැව්කොව් සතුටු සිතින් පසු නොවීය. මෙවැනි වෙලාවක තමා ගේ 'කාලකණ්ණි දණහිස්' නිසා ඇඳට සීමා වී සිටීම ගැන ඔහු තමාට ම දොස් නගා ගත්තේය.

රෝහල් කාර්යාලයේ හෙදියක් වන හින්දැරි මැදිවිය කාන්තාවක් හතළිස් දෙවැනි වාට්ටුවට ඇතුළු වූවා ය.

'අලෙක්සේයි මෙරේස්යෙව්ට පයින් යන්ට පුළුවනිද'' යි ඇ ඇසුවාය.

"එයාට දුවන්නත් පුළුවනි" යැයි ස්ට්‍රැව්කොව් මහ හඬින් කීවේ

"මා මෙහි ආවේ විහිළු කරන්ට නොවේ" යැයි දඩි හඬකින් කීවා ය. "අලෙක්සේයි මෙරේස්යෙව් ජ්‍යෙෂ්ඨ ලයිතන් තැනට ත්නත් මගින් ගැහැනියක් කතා කරනව" යැයි ද ඇ පැවසුවාය.

"තරුණියක්ද?" මෙසේ ප්‍රශ්න කළ මේජර් ස්ට්‍රැව්කොව් හෙදිය ආවේ ය.

"මම ඇගේ උප්පැන්න සහතිකය දක්කේ නැහැ" යැයි කී හෙදිය රෙ ලෙස වාට්ටුවෙන් පිට වූවා ය.

අලෙක්සේයි වහාම ඇඳෙන් පැන තම සැරයටියද ගෙන හෙදියට වේගයෙන් ගමන් කොට පඩි පෙළ දිගේ පහත මාලයට බැස්සේ ය. ල්යාගෙන් ලියුමක් බලාපොරොත්තුවෙන් සිටි නිසා සමහර විට ඇ ටෙලිෆෝන් කරතියි සිතුවේ ය. ස්ටාලින්ග්‍රාඩ් වැනි නගරයකට ත්‍ත පෙදෙසක සිට ඕල්යාට මොස්කව් නුවරට පැමිණිය නොහැකිය. පැමිණිය ද ඔහු මේ රෝහලේ සිටිතියි ඇ නොදන්නීය. ඔහු ඇට ව් මොස්කව් අසල නගරයක කිසියම් වැදගත් වැඩක යෙදී සිටින ය.

එහෙත් අලෙක්සේයි හාස්කම් ගැන විශ්වාස කළ වෙලාවකි මෙය. ආම ඔහු දුවන්නට පටන් ගත්තේ ය. ඉද හිට ඔහු තම සැරයටියට විය. ඔහු දුවන විට ඔහුගේ කෘත්‍රිම පාද ක්‍රීක්, ක්‍රීක් යන හඬ නැගී

ඔහු ටෙලිෆෝනය අතට ගත් විට තමා කිසි දිනෙක නොඇසූ ත්, ගැඹුරු ගැහු කටහඬක් ඇසිණි. හතළිස් දෙවැනි වාට්ටුවේ ෂ්ඨ ලයිතන් අලෙක්සේයි මෙරේස්යෙව් දයි කාන්තාව ඇසුවා ය.

ඒ ප්‍රශ්නයේ යම් කිසි රළු ගතියක් තිසා නොසතුටට පත් ස්යෙව් ද මහ හඬින් පිළිතුරු දුන්නේ ය.

"ඔව්, මමයි!"

මොහොතක් නිහඬ වූ කාන්තාව ඔහුට කරදර කිරීම ගැන සමාව ඉල්ලා සිටියා ය.

"මේ කතා කරන්නේ අන්යූටා ග්‍රීබෝවා, ඔහෙගෙ යාළුවා වන ග්වොස්දෙව් අඳුනන කෙනෙක්. ඔහෙ මාව අඳුනන්නෙ නැහැ" යැයි කාන්තාව අලෙක්සේයිගේ පිළිතුර නිසා අමනාප වූවා අසහනයකින් මෙන් පැවසුවා ය.

ඇතින්ම ටෙලිෆෝනය අල්ලාගත් අලෙක්සේයි මහ හඬින් කතා කළේය.

"ඔය කතා කරන්නෙ අන්යූටාද? මම ඔහෙව බොහොම හොඳට දන්නව. ග්වොස්දෙව් මට ඔහෙ ගැන කියල තියෙනව."

"එයා කොහෙද? එයාට විපැත්තියක්වත් වෙලාද? එදා එයා හිටි හැටියෙම පැනල ගියා. අහස් අනතුරු සංඥාව ඇසුණු හැටියෙම මම ගියා. මම එක ආරක්ෂක බිම් ගෙයක් භාරව කටයුතු කරනව. ඒ වෙලාවෙ එයා අතුරුදහන් වුණේ මන්ද කියල මට තේරෙන්නෙ නැහැ.....අලෙක්සේයි දයාබර සහෝදරය..... මා එහෙම කතා කරනවට මට සමාවන්න. මම ඔහෙ ගැනත් දන්නව. මම ග්‍රිගෝරි ගැන කලබල වෙලා. කැළඹිලා. එයා එදා එහෙම අතුරුදහන් වුණේ ඇයි....."

අලෙක්සේයිගේ හදවතට උණුසුමක් දැනිණි. ඔහු මිතුරා නිසා ප්‍රීති විය. සැබෑ තරුණියන් යුද්ධ අනතුරුවලට බිය වන්නේ නැහැ. එහෙනම් ග්‍රිගෝරි ග්වොස්දෙව්ට අන්යූටා ආලය කරන්නා සේ ම ඕල්යා නැතද ඔහුට බලාපොරොත්තු තැබිය හැකිය. ඕල්යා ඔහු මහත් උවමනාවකින් සොයනු ඇත! ඔහු අන්යූටා සමඟ කතා කරන අතර එම අදහස් සීඝ්‍ර වේගයෙන් ගලා එන්නට විය. ඔහු ඇට කතා කළේ ය.

"අන්යූටා, හැම දෙයක් ම හොඳින් ඉටු වී තිබෙනවා. පොඩි වැරැද්දක් අන්යූටා! ග්‍රිගෝරි සතීපෙන්. යුද පෙරමුණේ සටන් කරනවා. තැපැල් පෙට්ටිය අංක 42531-වී. ඒ ලිපිනයට ලියුවම එයාට ලියුම් ලැබේවි. දැන් එයා යටි රැවුලක් වවනවා. හරි අගේ ඇති යටි රැවුළ හරියට... හරියට දේශප්‍රේමී ගරිල්ලා භටයකු වගෙ...... මිනිහට ම කැපෙන රැවුල. අනේ අම්මප ඇත්ත....."

රැවුළ වැවීම ගැන අන්යුටා කැමැත්තක් නොදක්වූවා ය. නුවමනා දෙයක් හැටියට ඈ ඒ රැවුළ සැලකුවා ය. අන්යුටා අකැමැති නම් රැවුළ ග්‍රිගොරිට ඉතා හොඳින් ගැළපුනද, ඔහු එය එකවරම කපා දමනු ඇතැයි අලෙක්සේයි කීය.

ටෙලිෆෝන් කතාව අවසන් වූයේ ඉඩක් ලැබුණු විගස අලෙක්සේයි අන්යුටාට ටෙලිෆෝන් කරන බවට පොරොන්දු වෙමිනි.

ටෙලිෆෝන් කරන්ට යද්දී ඔහු දිව්ව බව, ටෙලිෆෝන් කතාවෙන් පසු හැරී ආ අලෙක්සේයිට මතක් විය. ඔහු තව වරක් දුවන්ට තැත් කළ නමුදු කෘත්‍රිම පාද තම කකුල්වල අගට තදින් හැප්පුණු නිසා තියුණු වේදනාවක් ඇති වී, එය සිරුර පුරා විහිද ගියේය. කමක් නැහැ. අද [illegible]ට නොව, හෙට අනිද්දා නොව, ටික කලකින් ඔහු තම කෘත්‍රිම පාවලින් දුවනු ඇත. හැම දෙයක් ම අපේට ඉටු වී ඇත. දිවීමට, අහස් යානා පැදවීමට, යුද්ධ කිරීමට තමා සමත් වන බවට සැක නැත. දිවුරුම් දීමට කැමති අලෙක්සේයි මෙරේස්යෙව් නැවත යුද පෙරමුණට ගොස් පළමුවැනි අහස් යානා සටනට සහභාගි වී පළමු වැනි සතුරු යානය විනාශ කළ විගස තමාට සිදු වූ සියළු විපත් ඕල්යාට දන්වීමට දිවුරුම් දුන්නේ ය.

## තෙවැනි කොටස

### 1

1942 ගිම්හානයේදී සෝවියට් අහස් යාත්‍රා හමුදාවේ නිල ඇඳුමකින් සැරසුණු පළල් උරහිස් සහිත ජ්‍යෙෂ්ඨ ලයිතන් කෙනෙක්, කළුවර ලීයෙන් සාදන ලද සැරයටියකුත් රැගෙන යුද්ධ රෝහලේ විශාල දොරටුවලින් පිට විය. ඔහු කැටුව හෙදියක් ගමන් කළාය. පළමුවැනි ලෝක මහා යුද්ධ කාලයේදී හෙදියන් පැළැඳි රතු කුරුසිය සහිත හිස් වැස්මකින් සැරසී සිටි ඇගේ මුහුණ ශාන්තය. රෝහලේ දොර අසල ඔවුහු නැවතුණහ. අහස් නියමුවා තම හිස් වැසුම ගළවා, නුහුරු ලෙස කඳ නවා ඇගේ අතක් ගෙන සිප ගත්තේය. හෙදිය ඔහුගේ හිස දෑතින් බදාගෙන නළල සිප ගත්තා ය. පසුව තම සැරයටියට තරමක් වාරු වී ඉක්මනින් පඩිපෙළ බැසගිය අහස් නියමුවා ආපසු හැරී නොබලාම රෝහලින් පිට විය. නොබෝ වේලාවකින් හෙතෙම රෝහල අසල පදික වේදිකාව දිගේ ගමන් කළේය.

නිල්, කහ සහ දුඹුරු පැහැති පිජාමා ඇඳුමින් සැරසුණු රෝගීහු ජනේල අසල සිටගෙන, රෝහලින් පිට වූ තම සගයා අමතමින් "ආයුබෝවන්", "සුබ ගමන්" යැයි කෑ ගැසූහ. සමහරු අත් වැනූහ. තවත් සමහරු සැරයටි වනමින් උපදෙස් දුන්හ. ඔහු ද ඔවුන් දෙස බලා අත් වැනීය. තම කැළඹීම යටපත් කර ගැනීම පිණිස ඔහු ඉක්මනින් රෝහල් ගොඩනැගිල්ලෙන් ඈත්ව ගියේය. සෘජු, නුහුරු, ඉක්මන් ගමනින් යන ඔහු තම සැරයටියට වාරු විය. කෘත්‍රිම පාවලින් නැගෙන හඬක් නිසා නොවේ නම්, මේ කඩිසර තරුණයාගේ දෙපා නැති බව කිසිවකුට සිතා ගැනීමට පවා අපහසුය.

රෝහලේ ප්‍රතිකාරවලින් පසුව අලෙක්සේයි මෙරේස්යෙව් මොස්කව් අසල පිහිටි සෝවියට් අහස් යාත්‍රා හමුදාවේ සුඛාගාරයට යවන ලදී. මේජර් ස්ට්‍රුච්කොව් ද එම සුඛාගාරයට යැවිය. සුඛාගාරයේ මෝටර් රථයක් රෝහලට යැවුව ද, අලෙක්සේයි මොස්කව් නගරයේ තම නෑයින් සිටින්නා බව පවසමින්, මෝටර් රථයෙන් යාම ප්‍රතික්ෂේප කළේය. තම ඇඳුම් පෙට්ටිය මේජර් ස්ට්‍රුච්කොව් අත යැවූ අලෙක්සේයි, හවස විදුලි දුම්රියෙන් එන බව පවසමින් රෝහලින් පිටවිය.

මොස්කව් නගරයේ අලෙක්සේයිගේ නෑයෝ නොවූහ. මොස්කව් නගරය නැරඹීමට ද, තමා ගැන නොසිතන නගර ජනතාව අතරට වැද

ඉවසීනව ඇවිදීමට ද ඔහුට වුවමනා විය. මොස්කව් ගඟ අද්දර ගල් කුට්ටිවලින් සාදන ලද වැට දිගේ ඔහු ගමන් කළේය. ගිම්හාන හිරු රැස් නිසා ගඟේ ජලය රිදී කඳක් මෙන් දිලිසිණි. ප්‍රණීත ගිම්හාන වාතය ආශ්වාස කළ ඔහු ප්‍රීතියට පත් විය.

අවට හැම දෙයක්ම සුන්දර ය.

ඔහු දුටු හැම ගැහැනියක්ම ලස්සන ය. තුරු ලතා හරිත වර්ණයෙන් දිලිණි. පිරිසුදු ගිම්හාන වාතය නිසා ඔහුගේ හිස ක්ලාන්ත වුවාක් මෙනි. ඔහු දකින හැම දෙයක් ම ඈත තිබුණ ද, ඒවා අත ළඟ තිබෙන සැටියකි ඔහුට දැනුණේ. ඔහු මෙතෙක් පින්තූරවලින් පමණක් දුටු ක්‍රෙම්ලින් මන්දිරය, කණ්ඨාරය සහිත මහා ඉවාන්ගේ කුළුණ, ගඟ හරහා ඇති මහා පාලම ආදී සියල්ලම ඔහු අත ළඟ මෙනි.

මොස්කව් නගරය කිසි දිනෙක නොදුටු අලෙක්සෙයි එහි නොයෙක් දේ දැක ඇත්තේ පත්‍රවල, සඟරාවල පින්තූර හා වාර්තා මගිනි. මැදියම් රෑ දොළහට මිහිරි ගී හඬක් පිට කරමින් වේලාව කියන ක්‍රෙම්ලින් ඔරලෝසුව දුටු කෙනෙකුගේ විස්තරය ද, උත්සව පෙළපාලි පවත්වන දිනවලදී මොස්කව් නගරයේ ගුවන් විදුලි වාර්තාද අසා ඇති අලෙක්සෙයි ඉදිරිපිට දැන් සැබැවින්ම මොස්කව් නගරය ය.

මේ මොස්කව් නගරය ය!

හාර මසක් තිස්සේ රෝහලේ ප්‍රතිකාර ලබමින් සිටි අලෙක්සෙයි පළමුවරට නගරය දකීම නිසා" මහත් සේ සතුටට පත්විය. නගරය යුද්ධයට සැරසී තිබෙන සැටි දකීමට අපොහොසත් වූ හෙතෙම නගරාරක්ෂක කුරු ආදිය නොදුටුවේ ය. අහස් නියමුවන් හඳුන්වන පරිදි "අංක එකේ සූදානම" හෙවත් ඕනෑම මොහොතකදී සතුරාට පහර දීමට මොස්කව් නගරය සූදානමින් සිටියේය. මහ පාර හරහා යුද කපොලු ය. පොඩි දරුවකුගේ සෙල්ලම් මේසයක් මත ඇති ඝණක වලට සමාන කොන්ක්‍රීට් සිමෙන්ති වලින් සාදන ලද විශාල ඝණක පාර හරහා දමා ඇත. පාලම් අසල මැෂින් වෙඩි කපොලු ය. රතු චතුරශ්‍රය මත ගෙවල් කණු පිට්ටනි හා පටු මාර්ග විවිධ පාට වලින් ඇඳලා ය. ගෝකි වීදියේ විශාල කඩ සාප්පුවල ජනේල ආරක්ෂක වැලි මිටිවලින් වසා ඇත. පටු මාර්ගවල ද විවිධ වර්ගවලට අයත් ආරක්ෂක උපකරණ හා කපොලු ය. මොස්කව් නගරය නොදුටු සෙබලෙක් යුද පෙරමුණේ සිට පැමිණිය හොත් අගනුවර

වෙනස වටහා නොගත්තු ඇත.

විඩාපත් අලෙක්සේයි සැරයටියට වාරු වෙමින් ගෝර්කි වීදිය දිගේ උඩහට යන්නේ, සතුරු බෝම්බ නිසා විනාශ වී ගිය තැන් සෙවීමට වට පිට බැලීය. සතුරු බෝම්බ පහරට ලක් වූ ගොඩනැගිලි, ගෙවල් කිසිවක් නොදුටු ඔහු පුදුම විය. බටහිර යුද පෙරමුණේ අහස් තොටුපළක සේවය කළ අලෙක්සේයි හැමදාම රෑට නැගෙනහිර දෙස බලා යන පැසිස්ට් ජර්මන් අහස් යානා හමුදා දැක ඇත. එක සතුරු අහස් හමුදාවක හඬ නෑසෙත්ම, තවත් සතුරු අහස් යානා කණ්ඩායමක් හඬ නගමින් නැගෙනහිරට පියාඹයි. සමහර දවස්වලදී සතුරු අහස් යානා වැළ නොකැඩී සෝවියට් දේශය තුළට පියාඹති. පැසිස්ට් අහස් යානා මොස්කව් නගරයට යන බව දත් සෝවියට් අහස් නියමුවෝ අගනුවර නියම අපායක් බවට පත් ව ඇතැයි සිතූහ.

දැන් යුද්ධාවතීර්ණ වී ඇති මොස්කව් නගරයේ බෝම්බ පහරවල් නිසා විනාශ වී ගිය තැන් සොයමින් අලෙක්සේයි ගමන් කළ ද ඔහුට එවැනි තැන් හමු නොවී ය. තාර පාරවල් පළුදු රහිත විය. ගොඩනැගිලි එක පෙළට ඇත. ජනේලවල වීදුරු මත කඩදාසි තීරු අලවා තිබුණද, බිඳුණු ජනේලයක් දකින්ට ලැබුණේ ද කලාතුරකිනි. යුද පෙරමුණ ඈත නොවන බව කියන සලකුණු පෙනිණි. නගර වැසියන්ගෙන් අඩකට වඩා යුද භටයන් ය. දූලි සහිත "බූට්ස්" සපත්තු ඇඳ ගත් ඔවුන්ගේ මුහුණුවල විඩාපත් බවක් පෙනේ. දහඩියෙන් තෙමී ඇති ඔවුන්ගේ උරහිස් වල සෙබළ මලුය. විශාල ට්‍රක් රථ කීපයක් පෙළ ගැසී එන සැටි පෙනිණි. දීප්තිමත් හිරු රැස් නිසා ධූලිවලින් වැසී ඇති ඒ රථ දුඹුරු පැහැතිය. රියැදුරු ආසන ඉදිරිපිට ඇති වීදුරු ඉරි තැළිලා ය. ඒවායේ වාඩි වී සිටින සෙබළ පිරිස් කුතුහලයෙන් යුතුව වටපිට බලති. මේ රථ පෙළ නගර ප්‍රවාහනය -ට්‍රොලි බස්, ට්‍රෑම්. මගීන් ගෙන යන බස් පසු කොට වේගයෙන් ගියේ, යුද පෙරමුණ වැඩි ඈත නොවන බව හඟවමිනි.

මහා කවි පුෂ්කින් ස්මාරකය සහිත චතුරශ්‍රයට ඔහු ළඟා වූයේ මහත් අමාරුවෙනි. කීපවරක්ම ඔහු සැරයටියට වාරුවෙමින් විඩාහැරියේ පසළ කඩ සාප්පුවල විසිතුරු භාණ්ඩ පරීක්ෂා කරන්නාක් මෙනි. මහත් කෂ්ටයකින් අලෙක්සේයි බංකුවක් මත වාඩි වී ගිමන් හැරියේය. ඔහු වාඩි තාවිය. ගිම්හාන හිරු රැස්වලින් උණුසුම් වී ඇති බංකුව මත ඔහුට හිඳ ගැනිණි. වේදනාවෙන් විඩාපත් වී ඇති තම දෙපා දිග හරිමින් අලෙක්සේයි සතුටු සිතින් වටපිට බැලීය. වලාකුළු සහිත පිරිසුදු අහස නිල් පැහැති ය.

හිරු රැස් දීප්තිමත් ය. සිසිල් සුළඟක් හමා ගියෙන්, ලීපා ගස්වල මිහිරි සුවඳ චතුරශ්‍රය පුරා පැතිරිණි. ට්‍රෑම් රථ ටින්, ටින්, ටින් හඬ නගමින් ගියේය. පුෂ්කින් ස්මාරකය අසල රැස් වූ සුදුමැලි, කෙට්ටු ළමයි හඬ නගා සිනා සෙමින් වැලි කෙළියෙහි යෙදුණාහ.

දෑස් වසා ගෙන හිරු දෙසට මුහුණ හැරවූ අලෙක්සේයි මඳ සිනා පෑවේය.

2.

විදුලි දුම්රිය හඬ නගමින් මොස්කව් නගරයෙන් පිට විය. එකවෙක ඇඬෙන ගීතමය හඬක් එහි රෝදවලින් පිට වූවාක් මෙනි. අලෙක්සේයි ඉදිරිපිට වාඩි වී සිටියේ මැක්සිම් ගෝකි තොප්පියක් පැළඳ ගත්, රන් වළලු සහිත "පෙන්ස්-නේ" උපැස් යුවළක් ලා ගත් මහල්ලෙකි. ඔහුගේ උපැස් යුවළ කළු පාට සීත් පටියකින් බැඳ තිබිණි. පුවත් පතකින් ඔතන ලද රිටි කරුවක්, උදැල්ලක් හා ඉස්කෝප්පයක් ඔහුගේ දණහිස් මත තිබිණි. හැම දෙනෙකු මෙන්ම මහල්ලා ද යුද්ධය ගැන නිතර සිතීය.

අලෙක්සේයි මෙරේස්යෙව් ඉදිරිපිට මහත් වැදගත් ලෙස තම කාරසැඩි අතක් වැනූ මහල්ලා, ඔහුගේ කණට කොඳුරා මෙසේ පැවසීය.

"මම යුද්ධ සේවයට නොබැඳුණාට අපේ උපාය උපක්‍රමය ගැන හොදන්නවයි කියල හිතන්න එපා. මට එය හොඳට අවබෝධ වෙනවා. සතුරාව වොල්ගා පෙදෙස දක්වා ඇදගෙන ඔහුගේ ප්‍රවාහණ හා පණිවුඩ සම්බන්ධකම් දිග්ගස්සවා ඔහුගේ ගුහාවෙන් ඔහු එළියට ඇද, ඉන්පසු ඔහුට දකුණින්, බටහිරින්. උතුරින් පහර දී විනාශ කිරීම තමා අපේ සංග්‍රාම උපාය. ඒක බොහොම දක්ෂ සැලැස්මක්. අපට විරුද්ධව හිට්ලර් විතරක් නොවෙයි නෙව. මුළු යුරෝපයම අපට විරුද්ධව හිට්ලර් යුද්ධයට යොදවනව. රටවල් හයකට විරුද්ධව අපි තනිවම සටන් කරනව. ඔව් තනිවම. අප රටේ විශාලත්වය ප්‍රයෝජනයට ගෙන හෝ සතුරා දුර්වල කරන්ට ඕන. කළ හැකි එකම දේ එය තමා. අපේ මිතුරෝ නිහඬව ඉන්නවා. එහෙම නේද? ඔහෙ කොහොමද හිතන්නෙ?"

"මා හිතන්නෙ තමුසෙගෙ කතාව කිසිම තේරුමක් නැහැ කියල. සතුරු උත්තැහෙ පහර වැළැක්වීමට රට තුළ ඉඩ දෙනවා කියන කතාව වැරදියි. අපේ රට අපට බොහොම වැදගත්" යැයි අලෙක්සේයි නොසතුටු

ආවකින් පැවසීය.

මහල්ලා අලෙක්සේයි වෙත වඩාත් ළං වෙමින් මුමුණුවේ ය. ඔහු
කින් දුම්කොළ සහ බාර්ලි කෝපි සුවඳක් නික්මිණි.

"....තමුසෙ යුද්ධ නිලධාරියෙක්. අවුරුද්දකටත් වැඩි කලක් තිස්සේ
ි තනිවම යුද්ද කරනව. ඒක සාධාරණද? අපේ මිතුරො කොහිද?
වැනි පෙරමුණ කෝ? ඔහෙ හිතනවද මේක හරි වැඩක් කියල? ඔත්ත
ල්පනා කරල බලනව. කිසිම අන්තරාවක් ගැන සැක නොකරන මිනිහෙක්
ඩිය මහන්සියෙන් වැඩ කරමින් ඉන්න කොට ඒ මිනිහට පල් හොරු
හර දෙනව. ඒ වුණාට ඒ මිනිහ බය වෙන්නෙ නැහැ. පල් හොරුන්ට
රලා පහර දෙනවා. පල් හොරු එයාට බරපතළ තුවාල කළත් එයා
ට අසුවන හැම අවියකින් ම ඔවුන්ට පහර දෙනවා. පල් හොරු මේ
නිහට පහර දීමට බොහෝ කලක් තිස්සේ බලාගෙන හිටිය. අවි ආයුධ
් පල් හොරු ඒ මිනිහට පහර දෙන විට අසල් වැසියො ගෙවල්වලට
බලාගෙන කයිවාරු කියනව. "හා! හා! හරි හපනා. ගහපිය! ඇනපිය!"
යලා ඒ මිනිහට කටින් උදව් දෙනව. පල් හොරුන්ව එළවා දමන්ට
ි අරගෙන සටන් කරනව වෙනුවට ඒගොල්ල ලි කෝටු, ගල් මුල්
නව. "ගහපිය! මේ කෝටුවෙන් ඇනපිය! මේ ගලෙන් ගහපිය! කියල ඒ
 කියනව. අපේ මිතුරො හැසිරෙන්නෙ ඔහොම තමා......!
යිවාරුකාරයො....."

අලෙක්සේයි මෙරේස්යෙව් මහත් වුවමනාවකින් මහල්ලා දෙස
ලිය. මේ වන විට දුම්රිය මැදිරියේ බොහෝ දෙනෙක් මහල්ලා දෙස
න්නට වූහ.

"හරි! එයා කියන කතාව හරි. අපි තනිවම සටන් කරන්නෙ.
වෙනි පෙරමුණ කෝ?" යැයි කීප දෙනෙක්ම කීහ.

"කමක් නැහැ අපි කොහොම හරි සටන් කරල සතුරාව පරාජය
රමු. යුද්දෙ අවසාන වී ගෙන එන කොට දෙවෙනි පෙරමුණ පටන්
හිවි."

දුම්රිය විනාඩි කීපයකට නවත්වන ලදී. පිජාමා ඇඳුමින් සැරසුණු
ර්ගිහු කීපදෙනෙක් දුම්රියට ඇතුළු වූහ. කරුවල ආධාරයෙන් සමහරු
මන් කළ අතර අන් සමහරු සැරයටි වාරුවෙන් ගමන් කළහ. ඔවුන්

නැම කෙනෙකු අත සූරිය මල් හෝ පළු වර්ග සහිත කඩදාසි බෑග් තිබිණි. තුදුරු සුබාගාරයකින් පැමිණි රෝගීන් ය ඔවුන්. තම අසුනෙන් නැගී සිටි මහල්ලා දුම්රියට ඇතුළු වූ තරුණ රෝගියකුට තම අසුන දෙමින් මෙසේ කීය.

"පුතේ මෙන්න මෙතනින් වාඩි වෙයන්. මා ගැන හිතන්ට එපා. මෙ ඉක්මනින් බහිනවා."

මහල්ලා තම උදළු සහ අනිකුත් උපකරණත් රැගෙන දොර ළඟට ගියේය. ගෙවිලියෝ තෙරපී වාඩිවෙමින් තුවාල කාරයකුට වාඩි වීමට ඉඩ දුන්හ. ගැහැනියක් චෝදනා මුඛයෙන් කතා කරන සැටි අලෙක්සේයිට ඇසිණි.

"එයාට ලැජ්ජා නැතිද? තුවාල කාරයෙක් එයා ළඟ හිටගෙන ඉන්නව. එයා මහ ලොකුවට වාඩිවෙලා. අසරණ තුවාල කාරයා අමාරුවෙන් ඉන්න හැටි පවා පෙනෙන්නෙ නැතුව වගෙ. හරියට වෙඩි උණ්ඩ එයාට වැදෙන්නෙ නැතුව වගෙ. ඒ මදිවට එයා අහස් හමුදාවේ නිලධාරියෙක්!"

ගැහැනියගේ අවලාදය නිසා අලෙක්සේයි කෝප වූයේ, ඔහුගේ නාස්පුඩු නැටවිණි. එහෙත් මොහොතකින් ඔහු තම හැඟීම් යටපත් කර ගනිමින් හුන් තැනින් නැගිට සිට ගත්තේය.

"වාඩිවෙන්න සහෝදරය!" යැයි ඔහු කීය.

තුවාලකාර සෙබළා අන්දමන්ද විය. "ජෝෂ්ඨ ලයිතන් සහෝදරය කමක් නැහැ. මම හිටගෙන ඉන්නම්. ඉක්මනට අපි බහිනවා."

"ඉඳගන්න! ඉඳගන්න!" යැයි අලෙක්සේයි ඔහුට කීවේ උද්ගත වී ඇති තත්ත්වයේ හාස්‍ය රසය අවබෝධ කර ගනිමිනි.

දුම්රිය කොන්දොස්තර තැන ඊළඟ නැවතුම් පොළේ නම හඬ නඟා කීයෙන්, අලෙක්සේයි දොර ළඟට ගියේය. තමා සමඟ යුද්ධය ගැන කතා කළ මහල්ලා අලෙක්සේයි දෙස බලා ඉහිමරා පහත් හඬින් මෙසේ ඇසී ය.

"කොහොමද ඒ ගොල්ල දෙවෙනි පෙරමුණ පටන් ගනීවිද?"

"පටන් නොගත්තොත් අපි තනිවම සටන් කරනව" යැයි අලෙක්සෙයි පවසා දුම්රියෙන් පිටතට බැස්සේ ය.

මීට පෙර සුබාගාරයට යන මඟ ඔහුට විස්තර කර තිබුණෙන්, විනාඩි දහයක ගමනින් පසු අලෙක්සේයි වැවක් අසල පිහිටි සුබාගාරයට පැමිණියේය.

සාම කාලයේදී අහස් යානා හමුදාවේ නිලධාරීහු තම බිරියන් සමඟ ද සමහර විට දූ දරුවන් සමඟද මෙහි පැමිණ විවේක ගත්හ. යුද්ධය පටන් ගත් පසු තුවාල ලැබූ නියමුවන් රෝහල් වල ප්‍රතිකාර ලබා සම්පූර්ණ සුවය ලැබීමට සුබාගාරයට යවන ලදී. අලෙක්සේයි සුබාගාරයට පැමිණියේ පළල් තාර පාර ඔස්සේ නොව, දුම්රිය නැවතුම් පොළේ සිට සුබාගාරය දක්වා ඇති අඩි පාරක් ඔස්සේ ය. සුබාගාරයේ පෝටිකෝව අසල නවත්වා ඇති මගීන් ගෙන් පිරි බස්රථ දෙකක් වෙත පැමිණි අලෙක්සේයි කිසිවෙක් නොදුටහ.

සුවය ලැබූ අහස් නියමුවන් යුද පෙරමුණ බලා පිටත්ව යද්දී ඔවුන්ට ආයුබෝවන් කීමට පැමිණි අය කියන කතාවලට ඔහු සවන් දුන්නේ ය. යුද පෙරමුණට යන නියමුවෝ මහත් සතුටකින් උන්හ. හැම වළාකුළකම මාරයා සැඟවී ඇති බව දන දනත් ඔවුහු ප්‍රීති වූහ. සාම කාලයක අහස් තොටුපොළක සේවයට යන නියමුවන් මෙන් ඔවුහු ප්‍රීතියෙන් කැළඹුණහ. ඔවුන්ට ආයුබෝවන් කියන්නට පැමිණි අය තුළ එවැනි සතුටක් දක්නට නොතිබිණි. එය අවබෝධ කර ගත හැකිය. දකුණු යුද පෙරමුණේ මහා සටන ඇරඹීමෙන් පසු එම සටනට සහභාගිවීමට අලෙක්සේයි තුළ ද පැන නැගි ආශාව ඉමහත් ය. යුද පෙරමුණේ තත්ත්වය මේ මහා සටන නිසා වඩාත් උග්‍ර විය. යුද්ධ කවයන් වල "ස්ටාලින්ග්‍රාඩ්" යන නම ශාන්ත හා ප්‍රවේසම් සහිත ලෙස කියන විට, රෝහලේ වැඩක් නැතිව සිටි හටයින් තුළ එහි ගොස් සටන් කිරීමේ ආශාව ඉමහත් ලෙස වැඩිණි.

අළුත් පත්නයේ බස් රථ වල විදුරු ජනේල වලින් නිරෝගිමත් පිහුණු මඳ සිනා පෑහ. පිජාමා ඇඳුමකින් සැරසුණු ආමිනියානු ජාතිකයෙක් ඝෝෂා ගසමින් හැම බස් රථයකටම ගොඩ වෙමින් තම සැරයටිය වනමින් යුද පෙරමුණ බලා යන්නවුන්ට සුබ පතයි. සුබාගාරයේ විකට ධුරයට තමා විසින්ම පත් වී ඇති මොහු කවිටයෙකි. ඔහුගේ කතාවෙන් ඔහු විකටයකු බව හැඟිණි.

"පේද්‍යා! ජර්මන් කාරයාට අභසේද් මගේ සුබ පැතුම් බාර දීපන්. සඳරැස් නෑමට තුඹට ඉඩ නොදුන්නාට තුඹ උන්ගෙන් පළිගනින්. පේද්‍යා! සෝවියට් ශූරයන්ට සඳරැස් නෑමට ඉඩ නොදීම අසභ්‍ය ක්‍රියාවක් බව ඔවුන්ට ඔප්පු කරපන් පේද්‍යා!"

"පේද්‍යා! ඉක්මනින් එවපන් තුඹේ ලිපිනය. සීනා ඇගේ හදවත රෙජිස්ටර් තැපෑලෙන් තුඹට එවාවි...."

බස් රථ ධූලි නංවමින් වංගුවෙන් හැරී නොපෙනී ගිය පසු සුඛාගාරයේ තුවාල කාරයෝ උද්‍යානය දෙසට සෙමින් සෙමින් ගියහ. සුඛාගාර කාර්යාලයට මෙරෙස්යෙව් කැඳවා ගෙන ගියේ කොර ගසන ආමිනියානු අභස් නියමුවා විසිනි. ළංවී බලන විට ඔහුගේ මුහුණ පියකරුය. දෙනෙත් ලස්සනය. ලොකු ය. ඔහුගේ බැල්ම කනගාටුදායකය. තමා සඳරැස් නාන කමිටුවේ සභාපති බව ආමිනියානුවා කීවේය. ඕනෑම තුවාලයක් සඳ රැස් නෑම නිසා සුවවන බව කී ඔහු සඳරැස් නෑමේ දී විනය ගරුක විය යුතු බවත්, එයට උවමනා සියලු කටයුතු තමා සංවිධානය කරන බවත් පැවසි ය. ඔහු විහිළු කළේ ආයාසයකින් තොරවය. එහෙත් බැල්ම බැරෑරුම්ය. කතා කරන අතර ඔහු තම සගයා දෙස විමර්ශනාත්මක බැල්මක් හෙළී ය.

පිළිගැනීමේ කාමරයේදී අලෙක්සේයි ඉදිරිපිටට ආ හෙදිය සුදු කබායක් හැඳ සිටියා ය. ඇගේ කෙස් වැටිය තද රතු පාට ය. හිස මත ගිනි උදුනක් ඇත්තාක් මෙනි.

"මෙරේස්යෙව්දැ?" යි ඇ බැරෑරුම් ලෙස ප්‍රශ්න කළේ කියවමින් සිටි පොත පසෙක තබමිනි. "මෙරේස්යෙව් අලෙක්සේයි පෙට්රෝවිච් ද" යි ඇසූ ඇ නියමුවා දෙස විචාරාත්මක බැල්මක් හෙළුවා ය. "මා රවටන්ට එපා. මෙරේස්යෙව් අහස් හමුදාවේ ජ්‍යෙෂ්ඨ ලයිතන්, රෝහලින් පිට වූ දෙපා නැති කෙනෙක් බව මෙහෙ ලියල තියනවා! ඒ වුණාට තමුසෙ........"

හැම රක්ත කේශියකගේ මෙන් ම ඇගේ මුහුණ ද වටකුරු බව අලෙක්සේයි දිටී ය. සුදු පැහැති ඇගේ මුහුණ රත් පැහැති හිසකෙස් කොඩකින් වැසිලා ය. සිනිදු සම රත් පැහැති ය. ඇ තම විශාල, වටකුරු දහකාර ඇස් වලින් ඔහු දෙස බලන්නී, විස්මය පළ කළා ය.

"කොහොම වුණත් මම අලෙක්සේයි මෙරෙස්යෙව්, මෙන්න මගේ

බලපත්‍රය..... ඔහෙගෙ නම ල්යොලා නේද?"

"නැහැ! මගේ නම සීනා" මෙසේ කී ඈ සැක සහිතව අලෙක්සේයිගේ පා දෙස බැලුවා ය. "ඔහෙට ඔය තරම් හොඳ කෘත්‍රිම කකුල් ලැබුණේද?"

"ඔව්. ජේද්යාගේ ආදරය දිනා ගත්තු සීනා ඔහෙදැ?" යි ඇසීය

"මේජර් බූර්නස්යාන් ඔහෙට දනටමත් බොරු ආරංචි කියලද? මම ඒ නිලධාරිය එක්ක හැබෑටම තරහයි. එයා හැම දෙනාටම විහිළු කරනව. හැම දෙනාවම සිනහවට ලක් කරනව. මම ජේද්යාට නටන්න උගැන්නුව. ඕකත් හිනාවෙන්ට වැඩක්ද?"

"දන් ඔය සහෝදරිය මටත් උගන්වන්න නටන හැටි. කැමතිද? බූර්නස්යාන් කිව්වා සඳරැස් නාන කමිටුවට ඇතුළුවීමට බලපත්‍රයක් දෙනවා කියලා"

තරුණිය වඩාත් විශ්මය පළ කරමින් අලෙක්සේයි දෙස බලන්නී මෙසේ කීවා ය.

"ඒ කොහොමද නටන්නෙ? කකුල් නැතිව නටන්ට පුළුවන්ද? අනේ යන්න......! ඔහෙත් එනව මට සිනහ වෙන්න."

මේ අතර කාමරයකින් එළියට පැමිණි මේජර් ස්ට්රුච්කොව් තරුණ සගයා බදා වැළඳ ගත්තේ ය.

"සීනා අපි කතා කර ගත්තු විධියට ජොෂ්ඨ ලයිතන්ට මගේ කාමරයට එවන්න." යැයි ස්ට්රුච්කොව් තරුණියට කීවේ ය.

එකම රෝහලක බොහෝ කාලයක් එකට ප්‍රතිකාර ලැබූ අය හමු වූ විට සහෝදරවරුන් මෙන් හැසිරෙති. ස්ට්රුච්කොව් දුටු අලෙක්සේයි සතුටු වුණේ දෙදෙනා අවුරුදු කීපයක් හමුනොවූවාක් මෙනි. තම ඇඳුම් බෑගය කාමරයට ගෙන්වා ගත් ස්ට්රුච්කොව් සුඛාගාරයේ හැම දෙනෙකුවම හඳුනා ගත්තේය. බොහෝ අය ස්ට්රුච්කොව් හඳුනා ගත්හ.

රාත්‍රී ආහාරයෙන් පසු ඉක්මනින්ම ඇඳ මත වැතිර ගත් අලෙක්සේයි සිසිල් පොරෝනයන්ගේ මුදු පහස ලබමින් නිදා ගත්තේ ය.

එදා රෑ ඔහුට අරුම පුදුම, බිය ජනක සිහින පෙනිණ. තිල්වත් . සඳ, මහ වනය ඔහු වටා දැලක් මෙන් විහිද ඇත. දැල ඉරාගෙන ා යාමට ඔහු තැත් කළ ද හිම ඔහුගේ පාද දැඩි කොට අල්ලාගෙන ා. තමා නොපැහැදිලි අනතුරකට මුහුණ පා ඇති බව වටහා ගත් ක්සේයි දැඩි ලෙස සටන් කළේය. හිම ගොඩක එරුණු දෙපා ගළවා ීමට තරම් ශක්තියක් ඔහුට නොමැති විය. දැන් ඔහු ඉදිරියේ වනයක් ව අහස් තොටුපළක්. අහස් නියමු ආසනයේ වාඩි වී සිටියේ මිකැනික් ශ් යූරාය. අහස් යානය ද අරුම පුදුම පියාපත් රහිත යානයකි. යූරා ක්සේයිට අතක් වනා සිනාසී යානය පැදවීය. කුඩා බිළිඳකු වඩා ්හාක් මෙන් අලෙක්සේයි දැතට ගත් මිහයිල් සීයා ඔහු නලවමින් ස් කීය. 'කමක් නැහැ, උණු වතුර නාමු! එතකොට හොඳ සනීපයක් ්වී. එහෙම නේද?" උණුවතුර නාවනු වෙනුවට සීයා ඔහු හිම ගොඩකට දැම්මේය. අලෙක්සේයි නැගිටීමට උත්සාහ කළද සීයා ඔහු වැරෙන් ලා ගත්තේය. හිම ගොඩෙහි එරුණු ඔහුට පා එසවීමට පවා බැරි . නැත. එය හිම ගොඩක් නොව වලසෙකි. වලසා අලෙක්සේයිගේ ව මත නැග ඔහු ගෙල මිරිකුවේය. අහස් නියමුවන් රැගත් බස් රථ යක් ඔහු අසලින් ගියද ඔවුහු ඔහු නොදුටහ. නියමුවන් වෙත යාමට, ්ට අඬ ගැසීමට, සංඥා කිරීමට ඔහුට වුවමනා වුවද කළ නොහැකි . කට ඇර කෑගැසුවද හඬ පිට නොවේ. තමාගේ බෙල්ල වලස් ණයට හසුව සිහි නැතිව යන සැටිත්, හදවත නවතින සැටිත් ඔහුට ණ. ඔහු අවසාන වරට වෑයමක් දැරීය...

කැළඹුණු ගතියකින් යුතුව අලෙක්සේයි අවදි විය. නිහඬතාව රජ ළේය. ස්ට්රුච්කොව් සෙමින් ගොරවමින් නිදයි. අවතාරයක් වැනි සඳ ් කාමරයට වැටී ඇත.. බිය ජනක දවස් නැවත ඔහු වෙත පැමිණියේ ? තමා සිහි නොකළ ඒ දවස් නැවත තමා වෙත පැමිණ ඇත. ාහිදා සිටින විට ඒ ගැන සිහි කළද එය සුරහනා කතාවකට සමාන . සිසිල් ප්‍රණීත සුළං පහරක් වනය පිසගෙන, සඳ එළියෙන් පිරි මරය තුළට වැදිණි. වරෙක පහත් හඬක් ද තවත් වරෙක උස් හඬක් ඇසිණි.

ඇඳ මත වාඩි වූ අලෙක්සේයි පයින් තුරුවල ගුප්තමය හඬට ත් දුන්නේ ය. අප්‍රියජනක සිහින සිතින් එළවා දැමූ අලෙක්සේයි නැවත ජනක දේ ගැන සිතන්නට විය. සුබාගාරයේ දින විසි අටක් නැවතී කාර ගත යුතු ය. මේ දින කීපය තුළදී ඔහු එක්කෝ අහස් යානා දැවීමට, සටන් කිරීමට, ජීවත් වීමට තීරණය කර ගත යුතුය. නැතිනම්

අසරණයකු ලෙස ඔහුට අනුකම්පා කොට වාඩි වීමට ආසනයක් ලබ
ගැනීමේ තත්ත්වය දක්වා ඔහු පහත වැටෙනු ඇත. නියම මිනිහකු වීමේ
සටනින් දිනා ගැනීමට ඇති කාලය දින විසි අටක් පමණකි.

කාමරය තුළට පිවිස ඇති සඳරැස් අවතාරයක් වැනිය
ස්ට්‍රැව්කොව් ගොරවමින් සැපසේ නිදයි. අලෙක්සේයි ඇඳ මත වාඩි
ශාරීරික ව්‍යායාම් කිරීමේ සැලැස්මක් සිතින් ඇන්දේය. උදේ හවස ව්‍යායාම
කිරීම, ඇවිදීම, දිවීම, කකුල්වල මස් පිඩු ශක්තිමත් කිරීම සඳහා විශේෂ
ව්‍යායාම් කිරීම. මේ හැමටම වඩා ඔහු සිත් ගත්තේ තම දෙපා ශක්තිමත්
කිරීමේ ඉතාම හොඳ ක්‍රමයක් වන නැටුම් ඉගෙනීම ගැනය. සීනා සමඟ
කතා කරන විට ඔහුට එම අදහස ඇතිවිය.

ඔහු ඇගෙන් නැටුම් ඉගෙන ගැනීමට ඉටා ගත්තේ ය.

## 3

අගෝස්තු මාසයේ නිසල දහවල් කාලයෙක හැම දෙයක්ම හිරු
රැස් නිසා රත් වී දිලිසෙමින් තිබිණ. හේමන්තය වැඩි ඇත නොවේ ය
යන පාළු හැඟීම පැතිරී යන සලකුණු ඇති ඒ දවස කුඩා බැද්දක් අතරින
ගලා ගිය දිය පාරක් අසල අහස් නියමුවෝ කීප දෙනෙක් හිරුරැස්
නාමින් සිටියහ.

සූර්ය තාපය නිසා විඩාපත් ඔවුහු තිහඬව වැතිර ගත් වන ම
සිටියහ. විඩාපත් නොවන බුර්නස්යාන් පවා නිහඬව සෙමින් පුවය
ඳබන තම කකුලේ තුවාලය මත රත් වූ වැලි වත් කරමින් සිටියේය.
ඔවුන් වැතිර සිටින තැන ඝනව වැඩුණු හේසල් පඳුරු නිසා කිසි
වකුට නොපෙනේ. එහෙත් පඳුරු වලට මුවා වූ ඔවුන්ට දිය පාරට උඩහ
ැති අඩි පාර සහිත තණ බිස්ස පෙනේ. තම තුවාලයට සාත්තු කරමින්
ටි බුර්නස්යාන් හිස ඔසවා බලන්නේ පුදුම සහගත දර්ශනයක් දිටීය.

ඊයේ සුබාගාරයට පැමිණි අහස් නියමුවා පිජාමා කලිසමකින්
ා සපත්තු වලින් සැරසී ගං ඉවුරට ආවේ ය. වට පිට බලා කිසිවෙකු
ැති බව දනගත් ඔහු වැළමිටිවලින් දෙපැත්ත තද කර ගනිමින් උඩ
නිමින් දුවන්නට විය. මීටර දෙසීයයක් පමණ දුව ගිය ඔහු ගමන්
රන්නට විය. හති දමූ ඔහුගේ සිරුර පුරා දහඩිය ගලා ගියේය. විඩා

නැරිය පසු ඔහු නැවත දුවන්නට පටන් ගත්තේ ය. දුවන අසකුගේ කඳ මෙන් ඔහුගේ සිරුර දිලිසිණි. බූර්නස්යාත් තම සගයින්ට ඔහු පෙන්විය. සංකීර්ණ නොවන මේ ව්‍යායාම නිසා ඔහුගේ මුහුණ වේදනාවෙන් විකෘති විය. සමහර විට ඔහු නැවතුණ ද, නැවත ඔහු දිව්වේ ය.

"ඒ මිනිහා සර්කස් කාරයෙක්ද? පිස්සෙක්ද?" යි බූර්නස්යාත් ඇසීය.

නිදි කිරමින් සිටි ස්ට්‍රුව්කොව්, ඇස් ඇර දුවන මිනිසා දෙස බලා පැහැදිලි කරමින් මෙසේ කීය.

"එයාගෙ කකුල් දෙකම නැහැ. ඔය දුවන්නෙ බොරු කකුල් ඇඳගෙන, එයාගෙ එකම බලාපොරොත්තුව ආයෙමත් ප්‍රහාරක අහස් යානාවක් පදවන්ට."

නිදිකිරමින් සිටි අලසයෝ සිසිල් දියෙන් තෙමනු ලැබූ කලෙක මෙන් හිස් ඔසවමින් එකවර කතා කළහ. අපූරු හැඩයකට පා තබමින් මෙන් කරන මේ අහස් නියමුවාගේ පාද නැති බව ඔවුහු නොදත්හ. පා නැත්තෙකු ප්‍රහාරක යානාවක් පැදවීම විහිලුවකි. නොඇසූ විරූ කතාවකි. අවමානයකි. ඇඟිලි දෙකක් නැතිවීම, ස්නායු දුර්වලත්වය, සමතලාපාද නිසා ඇති වන රෝග ආදී සුළු කරුණු නිසා අහස් යානා සේවයෙන් අස් කරන සැටි ඔවුහු විස්තර කළහ. යුද්ධ කාලයේදී පවා අහස් යානා නියමුවන් සෞඛ්‍යය හා ශාරීරික ශක්තිය අතින් අනිකුත් යුද්ධ සේවාවල සටයින්ට වඩා උසස් විය යුතුය. පා නැත්තකුට ප්‍රහාරක අහස් යානාවක් වැනි සංකීර්ණ යන්ත්‍රයක් ක්‍රියා කරවිය නොහැකි බව අවසානයේදී ඔවුහු නිගමනය කළහ.

නොකළ හැකි දෙයක් කිරීමට අලෙක්සේයි බලාපොරොත්තු වන බව කී ඔවුහු ඔහුගේ දැඩි අධිෂ්ඨාන ශක්තිය නිසා පැරදුණහ.

'තමුසෙගෙ යාලුව එක්කො අමුම අමු මෝඩයෙක්. නැතිනම් මහා ශ්‍රේෂ්ඨ පුරුෂයෙක්" යැයි බූර්නස්යාත් ස්ට්‍රුව්කොව්ට කීවේය.

දෙපා නැතිව වුව ප්‍රහාරක අහස් යානා පැදවීමේ බලාපොරොත්තුවෙන් ව්‍යායාම කරන්නෙක් සුබාගාරයේ සිටින බව ඇතකින් පැතිර ගියේය. එදින දහවල් ආහාරයෙන් පසු හැම දෙනම

අලෙක්සේයි දෙස බලන්නට වූහ. එහෙත් ඔවුන් ඔහු දෙස බලන
නොදත්තේය.

අලෙක්සේයි මහ හඬින් සිනාසෙන සැටිද, රුවියකින් යුතු
ගන්නා සැටිද, රූමත් වේටර තරුණියන්ට ප්‍රශංසා කරන සැටිද
දිගේ ඇවිදින සැටිද, ක්‍රිකට් ක්‍රීඩාවෙහි පමණක් නොව වෙ
ක්‍රීඩාවෙහි පවා යෙදීමට වෑයම් කරන සැටි ද දුටු සුඛාගාරයේ
ඔහු අමුතු කෙනෙකු ලෙස නොසැලකූහ. දූන්නක් ලෙස පහිමිහ
ගමන් කිරීම හැර විශේෂ ලක්ෂණයක් ඔවුහු නොදුටහ. ඔහු සාමා
විය.

දෙවැනි දවසේ දී අලෙක්සේයි සුඛාගාර කාර්යාලයට
සීනා හමු විය. ඈ ඉදිරිපිට අසුනක ගරු සරු නැතිව වාඩි
පොරොන්දුව ඉටු කරන්නේ නැතිදැයි ඇගෙන් ඇසීය.

"මොන පොරොන්දුවද?" යි සීනා ප්‍රශ්න කරන්නී නො
නක්තා ය.

"සීනා ඔහෙ පොරොන්දු වුණා මට නැටුම් උගන්වන්ට

"ඔහෙගෙ....." ඈ ඔහුගේ දෙපා ගැන කීමට තැත් කළා

"කකුල් නැති අයට නැටුම් උගන්වන්ට තරම් දක්ෂ ගුරු
වෙ මට කීවා. දෙපා ඇති අය ඔහෙගෙන් ඉගෙන ගන්න
ගාල්ලන්ගෙ දෙපා විතරක් නෙවි. ඔලුවක් නැති වන බව පෙ
හිදසුනෙන් පේනවා. කවදද පටන් ගන්නෙ? කාලය නාස්ති
රකයි".

අලුතින් ආ මේ මිනිහා ඇගේ සිත් ගත්තේය. දෙපා
නැටුම් ඉගෙන ගන්ට ඕනලු. ඇයි බැරි? සීනාගේ ජීවිතයේ නැටුම්
ැහක් ගත්තේ ය. නැටුම් වලට තරම් ඈ අන් කිසිවකට ඇලුම් කෙ
. ඔහුට උගැන්වීමට ඈ එකඟ වූවා ය. ඈ ඉදිරිපත් කළ කො
රපතළ ඒවා විය. ඔහු සීකරු විය යුතුය. ආචාරශීලී විය යුතුය
ලය නොකළ යුතුය. ඊර්ෂ්‍යා නොකළ යුතුය. අනිත් අය
ඳහා ඇයට ආරාධනා කළ විට එරෙහි නොවිය යුතුය. එකම පුද්ග
මහ නටන විට කලා නිපුණත්වය පහත වැටීමට ඉඩ ඇති

ඇරත් එකම මිනිහකු සමඟ නැටීමද කාන්සිය ගෙන දෙන වැඩකි.

ඒ සියලු කොන්දේසි ඔහු එක්වරම පිළිගත්තේය. හිනිමෙන් රන් පැහැති හිසකේ සකස් කර ගත් සීනා තම සිහින් පාද තාලයකට තබමින් නැටුමක් නටන සැටි පෙන්වූවාය. තම ජන්ම භූමිය වූ කම්බින්හි පිහිටි නිවන හමුදාවේ වාදක කණ්ඩායම නගර උද්‍යානයේ වාදනය කරන "රූසියන්" නැටුම හා අනිකුත් නැටුම් නැටීමට අලෙක්සේයි පුරුදු වූ සැටි ඔහුට මතක් විය. කාලය අනුව පා තබමින් නැටීමට ඔහු තුළ සහජ දක්ෂතාවයක් තිබිණි. දැන් ඔහු ඉදිරියේ අසීරු කාර්යයකි. පණැති ජංගම ලී සැබෑ පාද නොව කකුල් වල කෙන්ඩා වලට සවි කොට ඇති කෘත්‍රිම පාද වලින් තාලය අනුව නැටීම ලෙහෙසි වැඩක් නොවී ය. අප්‍රාණික, ලී කකුල් වේගයෙන් එහා මෙහා තැබීමත්, තාලය අනුව නැටීමත් සඳහා මිනිස් ශක්තිය පරදවන සුළු දැඩි ආත්ම ශක්තියක් අවශ්‍යය.

අලෙක්සේයි සියලු අමාරුකම් මැඩ ජය ගත්තේය. අසීරු හැම නැටුමක් ම ඔහු කීපවරක් පුරුදු විය. නාට්‍ය ශිල්පයේ හැම විජ්ජාවක් ම ඉගෙන ගත්තේය. විවිධ නැටුම් වල රාග, තාල, රිද්ම ආදිය උගත් ඔහු කොල්ලකු මෙන් ප්‍රීති විය. කිසියම් නැටුමක් කීපවරක් පුහුණු වන අලෙක්සේයි තම ගුරුවරිය වටා වටයක් නටන්නේත්, දෑතින් ඇය ඔසවන්නේත් ජයග්‍රාහී ලීලාවෙනි. මේ සංකීර්ණ නැටුම් නිසා ඔහුගේ කෙන්ඩා වලින් පැන නැඟ මුළු සිරුර පුරා විහිද යන වේදනාව කොතරම් තියුණු දැයි නැටුම් ගුරුවරිය ඇතුළු කිසිවෙක් නොදත්හ විඩාපත් වීම සහ වේදනාව නිසා දෙනෙතින් කඩා වැටෙන කඳුළු කැට කිසිවකුට නොපෙනෙන පරිදි ඔහු පිය දමුවේ මද සිනා පාමිනි.

නැටුම් පාඩමකින් පසුව වරක් ඔහු තම කාමරයට පැමිණියේ විඩා පත්වුණු වේදනාවෙන් නමුදු සතුටකිනි.

"නැටුම් ඉගෙන ගන්නව!" යැයි ඔහු නිහඬව ජනේලයෙන් පිටත බලාගෙන සිටි මේජර් ස්ට්‍රුච්කොව් අමතා කීවේ ගම්භීර ලීලාවකිනි. බැස යන හිරුගේ රැස් ඈත තුරු මුදුන් ආලෝක කළේ ය.

"ඔව් ඉගෙන ගන්නවාමයි!" මෙසේ කී අලෙක්සේයි ඇඳ මත වාඩි වී තම කෘත්‍රිම පාද ලිහා දමා කෙන්ඩා පිරි මැද්දේ ය.

# 4

සීනා කාර්යාලයේ වැඩ අවසන් කොට එළියට බසින් ම ඇගේ ගෝලයා ඈ බලාපොරොත්තුවෙන් සිටියේ ය. ඈ නියම ගුරුවරියක මෙන් ඔහුට අතදී ආචාර කොට, ඔහු සමඟ ගිම්හාන ශාලාවට ගියාය. අලෙක්සේයි වේලාසනින් ශාලාවේ පුටු මේස අස්කොට නැටුම් සඳහා බිම පිළියෙළ කළේ ය. ටේබල් ටෙනිස් ක්‍රීඩාව සඳහා වූ මේසය ද බිත්තියට ළං කළේ ය. සීනා අළුත් නැටුමක් නටන සැටි පෙන්වා දුන්නා ය. ඈ තම කුඩා පාදයන් වේගයෙන් තබන්නී, සුන්දර නැටුමක් නැටුවා ය. ඇස් බැමි හකුළුවා ගත් අලෙක්සේයි ඇගේ නැටුම දෙස මහත් උවමනාවකින් බලා සිට, ඇගේ අණ අනුව පා තබමින් නැටුවේ ය.

"එකයි-දෙකයි-තුනයි, වමට හැරෙන්න. එකයි-දෙකයි-තුනයි දකුණට හැරෙන්න! වටයක් කරකැවෙන්න. එකයි- දෙකයි- තුනයි.... එක්ව නටමු...."

දෙපා නැතියකුට නැටුම් උගැන්වීම ඇගේ සිත් ගත්තා විය හැකිය. කලෙලළු පැහැති, කළු හිසකේ ඇති, උපහාසාත්මක ඇස් ඇති තරුණයා ඇගේ සිත් ගත්තා විය හැකිය. කෙසේ වුවද, ඈ තම නිවාඩු කාලය ඔහුට නැටුම් ඉගැන්වීම සඳහා යෙද වූයේ සතුටකිනි.

හවස් වත්ම ගඟ අද්දර නාන ස්ථානයද, වොලි බෝල් ක්‍රීඩා පිටිය හා ගරද්කී ක්‍රීඩා පිටියද හිස් වූ විට හැම දෙනෙක්ම නැටුම් පිටියට ගියහ. අලෙක්සේයි හැම නැටුමක්ම දක්ෂ ලෙස නැටුවේය. ඔහුට දඩි කොන්දේසි ඉදිරිපත් කිරීම ගැන ගුරුවරිය නිතර කනගාටු වූවාය. බයානය නමැති රුසියානු සංගීත භාණ්ඩයේ වාදනය අනුව ජෝඩු නටන්නට වූහ. අලෙක්සේයි තම මිතුරිය සමඟ 'ග්ලිසේඩ්' 'ස්මියා' ආදී අපරදිග මූලික නැටුම් ඇතුළු සියලු නැටුම් නටමින් තාලය අනුව පා තබමින් දුටුවන් විස්මය පත් කළේ ය. තම දස්කම් නිසා පැහැදුණු ඔහු සතුටු විය. ඔහුගේ දෙනෙත් ප්‍රීතියෙන් බැබලිණි. හිටිහැටියේම නැටුම් හලින් පිටව යන ඔහු මොනවා කරතිදයි කිසිවකුට සිතා ගැනීමට පවා බැරිය.

ලේන්සුවක් වනමින්, මද සිනා පාමින් නැටුම් හලින් පිට වී යන ඔහු අඩ අඳුර සහිත බැද්දට ළං වූ සැටියේම වේදනාව පිට කිරීමට මෙන් සුසුම් ලෑවේය. වැට අල්ලා ගනිමින්, වැනෙමින්, පඩි පෙළ පැ බැස ගිය

ඔහු පිනි බිඳු සහිත තණ බිම මත වැතිර ගෙන වේදනාවෙන් කෙඳිරි ගෑවේ ය.

කෘත්‍රිම පාද ගළවා කකුල් වලට නිවාඩුවක් දුන් හෙතෙම, නැවත ඒවා ඇඳගෙන ඉක්මනින් නැටුම් හල දෙසට ගියේය. කිසිවකුට නොදැනෙන පරිදි නැටුම් හලට ඇතුළු වූ ඔහු, විඩාපත් නොවන අබ්බගාත සංගීතඥයා වාදනයෙන් කුල්මත් වී නටන පිරිස අතරට වැදෙමින් සීනා සොයා ගියේය. සීනා ද තම ගෝලයා සොයමින් ඉදිරියට ගියාය. කිරි පැහැති සුදු දත් පෙනෙන සේ සිනහ වූ අලෙක්සේයි සීනොච්කා හමුව ඇගේ අතක් අල්ලා ගනිමින් නටන්නට විය.

ඉළ කැඩෙන අසීරු නැටුම් ඉගෙන ගැනීම නිසා යහපත් ප්‍රතිඵල ඇතිණ. තම කෘත්‍රිම පාදවල බාධාව වඩාත් අඩුවෙන් අලෙක්සේයිට දැනිණි. ලීයෙන් සෑදූ ඒ කෘත්‍රිම පාද සැබෑ කකුල් වලට බද්ධ කළාක් මෙනි.

අලෙක්සේයිගේ ප්‍රීතියට බාධා කරන්නේ එක් කාරණයකි. ඕල්යාගෙන් ලියුමක් නොලැබීම ය. ග්වොස්දෙව් සිද්ධියෙන් පසු කැළඹුණු සිතින් අලෙක්සේයි ඕල්යාට මසකට පෙර මාරක ලියුමක් යැවීය. එය ඇත්ත වශයෙන්ම අමන ක්‍රියාවක් විය. ඒ ලියුමට ඔහුට මෙතෙක් පිළිතුරු නොලැබිණි. හැමදාම උදෑසන ආහාරයෙන් පසු අලෙක්සේයි දිව්වේය. ගමන් කළේය. දිනපතාම ඔහු තම ගමන් මග අඩි සීයයකින් දිගු කළේය. ඉන් පසු ඔහු කාර්යාලයට ගොස් ලියුම් රාක්කය පිරික්සා බැලීය. 'එම්' අකුර සහිත පෙට්ටියේ අනිත් පෙට්ටිවලට වඩා ලියුම් තිබුණද මෙරේස්යෙව් අලෙක්සේයිට ලියුම් නොතිබිණි. එහෙත් ඔහු නිතර එම ලියුම් මිටිය පිරික්සා බැලීය.

දවසක් දා අලෙක්සේයි නැටුම් ඉගෙන ගනිමින් සිටින විට බුර්නස්යාන් එම කාමරයට ඇතුළු විය. ඔහු අත ලියුම් කවරයකි. බුර්නස්යාන්ට වචනයකුදු කතා කිරීමට ඉඩ නොතබා ඔහුගෙන් ලියුම උදුරා ගත් අලෙක්සේයි ඔහු අන්දමන්ද කරවමින් හා නැටුම් ගුරුවරිය සීනා කෝප කරවමින් ඉවතට ගියේය. ලියුම් කවරය අලෙක්සේයි හොඳින් දන්නා වටකුරු සිසු අකුරින් ලියා තිබිණි.

ලියුම් කවරය අතිනත මාරුවීම නිසා ඉරිතැලී තිබිණි. කවරය ඉරා ලියුම අතට ගත් අලෙක්සේයි එහි අග කොටස කියැවීය: 'මීට,

බගේ පෙම්වතිය. ඕල්යා " යැයි එහි ලියා ඇත. ඔහුට සැහැල්ලුවක් තිණි. බිම වාඩි වුණු අලෙක්සේයි ඇක්සයිස් පොතකින් කඩා ගත් කාලවල ලියන ලද ඒ ලියුම කියවන්නට විය. අකුරු පේළි අතරින් මඩ, වූ පැල්ලම් තිබීම ඔහුගේ පුදුමයට හේතු විය. ඕල්යා හැම වැඩක්ම පවිත්‍ර ලෙස කළාය. දැන් ඇට කුමක් වීද? ලියුම කියවූ පසු කරුණු පැහැදිලි විය. ඈ කම්මින්හි කම්හල අතහැර ගොස් දැනට මසක් ගත වී ඇත. ඈ අනෙකුත් කම්මින් තරුණියන් සමඟ 'එක්තරා විශාල නගරයක' ආරක්ෂාව සඳහා යුද්ධ ටැන්කි නාශක කපොලු සාදන්නීය. ස්ටාලින්ග්‍රාඩයේ නම එහි කොතැනකවත් සඳහන් නොවිණි. එහෙත් ඈ එම නගරය ගැන කොතරම් වුවමනාවකින් හා සැලකිල්ලකින් ලියුවාද යත්, එම නගරයට ඈ කොතරම් ආදරය කළාද යත්, එහි ඉරණම ගැන කොතරම් කැළඹුණා ද යත්, එම ලියුමේ සඳහන් නගරය ස්ටාලින්ග්‍රාඩය බව පැහැදිලි විය.

නගරාරක්ෂක කටයුතු ගැනත්, තමා දිවිය ගෙවන සැටිත් විස්තර කළ පසු ඕල්යා ඔහුගේ පැණයට පිළිතුරු ලියුවාය. ඔහුගේ පැණය ඇට නින්දා කළ බව දැන්වූ ඈ එය ලැබුණේ නගරාරක්ෂක කපොලු සාදන විටදී බවත්, යුද්ධය නිසා හැම දෙනාගේම ස්නායු කිපී ඇති බැවින් ඔහුට සමාව දෙන බවත්, නැතිනම් එවැනි පැණයක් නිසා ඇගෙන් කිසි දිනෙක ඔහුට සමාව නොලැබෙන බවත් ඈ ලියුවාය.

'පෙම්වත, පරිත්‍යාග කිරීමට බිය නම් එවැනි ආලයක් සැබෑ එකක් නොවේ. " යැයි ඇගේ ලියුමේ සඳහන් විය. "එවැනි ආලයක් තිබේ නම් එය ආලයක් නොව බොරුවකි. නගරාරක්ෂක වැඩ වල දවසේ පැය විසි හතරේම යෙදෙන අපට මුහුණ සෝදා ගැනීමට පවා කාල වේලාවක් නැත. සුමානයක්ම මා මුහුණ සේදුවේ නැත. දිග කලිසම් ඇඳ අපි වැඩ කරමු. මගේ සපත්තු දෙක කැඩී පා ඇඟිලි එළියට නෙරා ඇත. තද ඉර අව්ව නිසා හම පිච්චී ගොසිනි. පිටේ හා උරහිස හම ගැළ වී දම්පාට ගැසිලා ය. විඩාපත් වැ, වැරහැලි ඇඳගෙන, මඩ හා කුණු තවරාගෙන අවලස්සන වී සිටින මා නුඹ වෙත ආවොත් නුඹ මා එළව දමන්නෙහිද?චෝදනා කරන්නෙහිද? දහකාර කොල්ලකු වෙන්ට එපා නුඹට මොනවා වුණත් මම නුඹ එනතුරු හැමදාම, නිතරම බලා සිටිමි හති වැටෙන තුරු අගල් හාරන අපි නවාතැන් පොළට ආ විගස නින්දට යමු. වැඩ කරන විට මම නුඹ සිහි කරමි. නින්දට ගිය වි සිහිනෙන් දකිමි. මා ජීවත්ව සිටින තුරු ඕනෑම දවසක, ඕනෑ වේලාවක නුඹට මා වෙත පැමිණිය හැක. මම නුඹ පතමින් නුඹ ගැ සිතමින් ජීවත් වෙමි...."

“මේ මොකක්ද?....... පූර්ව හැඟීමක්ද? පේන කීමක්ද? අනාවැකි පළ කිරීමක්ද? වරක් ඔහුගේ මව එසේ පවසා ඇත. ඔහු ඇට තොඝී ... අගල් හැරීමේ අසීරු ක්‍රියාව නිසාදෝ ඉවෙන් මෙන් දනගෙන ඇත. ඇට දිවැස් ලැබුණේ කෙසේ ද? යි ඔහු කල්පනා කළේ ය. ඔහු නැවත වරක් ලියුම කියැවීය. එවැනි අනාවැකි පළ කිරීමක් එහි නැත. ඔහුගේ ප්‍රශ්නයට ඈ පිළිතුරු සපයා ඇත.

5

යුද්ධ වාර්තාවල ස්ටාලින්ග්‍රාඩ් යන නාමය සඳහන් නොවිය. එහෙත් හැම කෙනෙක් ම එම නගරය ගැන සඳහන් කළහ. 1942 සැප්තැම්බරයේදී ස්ටාලින්ග්‍රාඩය ගැන කැළඹුණු සිතින්, වේදනාවෙන් කතා කළහ. මාර සටනක යෙදෙමින් සිටි එම නගරය ගැන ඔවුන් කතා කළේ මරණයට බෙහෙවින්ම කිට්ටු මිනිසකු ගැන කතා කරන්නාක් මෙනි. අලෙක්සේයිට එම නගරය වඩාත් වැදගත් වූයේ තම පෙම්බරිය එහි ආරක්ෂාව සඳහා තවත් දස දහස් ගණනක් සමඟ වැඩ කරන බැවිනි. ඈ විඳින ගැහැට කිසිවෙක් නොදනිති. ඔහු ඇට දිනපතාම ලියුවේ ය. ඇගේ ලිපිනය යුද පෙරමුණක කැපැල් පෙට්ටියකි. වොල්ගා නදිය අසල ස්ටෙප්ස් බිම්හි පැන නැඟි ඒ මාරාන්තික සටන අස්සේ ඔහුගේ ලියුම් ඇට ලැබෙතියි කාහට නම් කිව හැකිද?

පාගන ලද කුඹසක දිමියන් සේ සුඛාගාරයේ අහස් නියමුවෝ කැළඹුනහ. හැම දෙනෙක් ම උදෑසනින් නැගිට, උදෑසන යුද පුවත්වලට සවන් දුන්හ. කම්මැලියෝ පවා ගුවන් විදුලි යන්ත්‍රය අසලට වී උන්හ. අහස් සටන් ගැන විස්තරත්, ඒවාට සහභාගි වූ අහස් නියමුවන් දක් වූ වීරත්වයත් ඇසූ ඔවුහු මලානික වූහ. මෙවැනි උග්‍ර සටන් පවතින වෙලාවක සුඛාගාරයක වැවක් අසල වැතිර ගෙන හිරු රැස් නෑමට සිදු වී ඇත්තේ සුඛාගාර පාලනයේ වරදින් යැයි සිතූ නිසාදෝ, ඔවුහු හෙදියන්ට චෝදනා කළහ. ආහාර හොඳ නැතැයිද, රෝගීන් සඳහා වූ දින චරියාව නුසුදුසු බැව් ද කීහ. විවේක ගැනීම තිත්ත වී ඇති බැවින් වහාම යුද පෙරමුණට යැවිය යුතුහයි ඔවුහු එක හඬින් ඉල්ලා සිටියහ.

සවස් වන විට අහස් හමුදාවේ විශේෂ කොමිසන් සභාවක් සුඛාගාරයට ළඟා විය. දූවිලි සහිත මොටෝ රියකින් අහස් හමුදාවේ නිල ඇඳුමින් සැරසුණු දොස්තරවරු කීප දෙනෙක් පැමිණියහ. ඉස්සරහ රථයෙන් එළියට ආවේ අහස් යානා හමුදාවේ සුප්‍රසිද්ධ දොස්තරයෙක්

වූ මිරොවොල්ස්කි ය. අහස් නියමුවෝ ඔහු පියකු මෙන් සැලකූහ. පළමුවැනි ශ්‍රේණියේ නිලධරයෙක් වූ ඔහු මහතය. රාත්‍රී ආහාරයෙන් පසු, ඉක්මනින් යුද පෙරමුණ බලා යාමට කැමති, සුවය ලැබූ නියමුවන් පරීක්ෂණයට භාජනය කරන බවට නිවේදනය කරන ලදී.

එදින වෙනදාටත් වඩා වේලාසනින් පිබිදුණු අලෙක්සෙයි මෙරේස්යෙව් සිරිත් පරිදි ශාරීරික ව්‍යායාම නොකර බැද්දට වැදී සක්මන් කළේ ය. උදෑසන ආහාර සඳහා වාඩි වූ අලෙක්සෙයි හේතු රහිතව වේටර තරුණියට බැන්නේ ය. ඔහුට ආධාර කිරීමට පැමිණි තරුණියට බැණ වැදීම නුසුදුසු දෙයක් ලෙස ස්ට්‍රුච්කොව් ඔහුට කීවෙන්, ඔහු අවන් හලින් පිට වී ගියේය.

වෙනදාටත් වඩා කොර ගසමින් ගමන් කළ අලෙක්සෙයි කාමරය තුළට වී දොර අගුළු ලා ගත්තේය.

වෛද්‍ය කොමිෂන් සභාව කටයුතු ඇරඹීය. අහස් නියමුවන්ගේ පෙණහළුවල වායු ප්‍රමාණය මැන බලන යන්ත්‍ර, කාය ශක්තිය පෙන්වන මීටර, අක්ෂි පරීක්ෂණය සඳහා උපකරණ කොමිෂන් සභාව රැස් වූ ශාලාවට ගෙනෙන ලදී. ඉක්මනින් යුද පෙරමුණ බලා යාමට කැමති හැම කෙනෙක් ම - සුඛාගාරයේ විවේක ගත් හැම කෙනෙක් ම එතැනට රැස්වී පෙළ ගැසී සිටියාහ. සීනා හැම අහස් නියමුවකුටම කොමිෂන් සභාව ඉදිරියට පැමිණිය යුතු වේලාව සටහන් කරමින් ටිකට් පතක් බැගින් දී නියමිත වේලාවට පැමිණෙන ලෙස දන්වා සිටියෙන්, ඔවුහු විසිර ගියහ. පළමුවැනි අහස් නියමුවා කොමිෂන් සභාව ඉදිරිපිටට පැමිණි පසු ඉක්මනින් පෙරමුණට යාම සඳහා අවසර ලබා ගැනීම අමාරු නොවන බවට කට කතා පැතිරිණි. වොල්ගාව අසල යෝධමය සටන් පැන නැඟ ඇති මෙවැනි අවස්ථාවකදී වඩ වඩාත් පිරිස් බලය අවශ්‍යව තිබියදී අමාරු නීති රීති ඇතිවිය නොහැකිය. පෝටිකාව ඉදිරිපිට කාප්පය මත වාඩි වුණු අලෙක්සෙයි බොරු කකුල් දෙක වනමින් කොමිෂන් කාමරයෙන් පිට වී යන නියමුවන් අමතා ඕනෑවට එපාවට මෙන් මෙසේ ඇසීය.

"ආ කොහොමද?"

"පෙරමුණට යනවා" යැයි පිටතට ආ අහස් නියමුවා කීවේ ඉන පටිය තද කර ගනිමිනි.

...ඔරේස්යෙව්ට පෙර ශාලාවට ඇතුළු වූයේ බූර්නාස්යාන්ය. තම ...යිය ආලින්දයේ තබා කොට කකුලේ අඩුව නොපෙනෙන සේ ගමන් ...ත් බූර්නාස්යාන් ශාලාවට ඇතුළු වූ නමුදු ඔහු බොහෝ වේලාවක් ...තුරු සිටනව නාත්වේය. හැර ඇති ජනේලයෙන් හඬක් පිටවන සැටි ...ලෙක්සෙයිට ඇසිණි. වික වේලාවකට පසුව බූර්නාස්යාන් එළියට ආවේය. ...හු අලෙක්සෙයි දෙස කෝපාන්විත බැල්මක් හෙළූ නමුදු නිහඬ විය. ...ස්ථානය දෙසට ගමන් කළ බූර්නාස්යාන් මැණ වදින සැටි ඇසිණි.

"නිලධාරිවාදී අලි හොරු! අහස් යානා පැදවීම ගැන උන් දන්න ...වක් නැහැ. කකුලක් කොටයි. මම බැලේ නටන්න යන්නෙ නැහැ. ...ණි කරන්න විතරයි ඔවුන් දන්නෙ....!."

අලෙක්සෙයිට හීන් දහඩිය දැමිණි. ඔහු මද සිනාවකින් මුව ...සාගෙන කඩිසර ගමනින් ශාලාවට ඇතුළු විය. කොමිෂන් සභාවේ ...සාමාජිකයෝ වාඩි වී උන්හ. මේසය මැද පළමුවැනි ශ්‍රේණියේ යුද්ධ ...වෛද්‍ය නිලධාරි මිරොවොල්ස්කි ඇත් පැටවකු මෙන් අසුන් ගෙන සිටියේය. ...ආද්දලික ලියවිලි තබා ඇති කුඩා මේසයක් අසල සීනා වාඩි වී සිටියාය.

"ආ තරුණයා ගලවනව කමිසය!" යැයි කී ප්‍රධානියා ඇස් කුරවා ගත්තේය.

හැමදාම ව්‍යායාම කිරීම හා හිරු රැස් නෑම අලෙක්සෙයිට බෙහෙවින් ...සිව විය. තලෙලෑ පාටැති තමින් වැසී ගත් ඔහුගේ උඩුකයේ මාංශ ...පේශීන් මනා ලෙස වැඩී තිබිණි.

ශාරීරික ශක්තිය පෙන්වන මීටරය අලෙක්සෙයි තද කළේ ය. ...තාවටත් වඩා ඔහුට ශක්තිය ඇති බව එයින් පෙනිණි. පෙනහළුවල ...ප්‍රමාණය පෙන්වන යන්ත්‍රයේ නලය කටින් ගෙන එක හුස්මට තම ...පෙනහළුවල වාතය හිස් කරමින් ප්‍රශ්වාස කරත්ම, එහි බැලුම උපරිම ...ප්‍රමාණය දක්වා ඉහළ නැංගේ ය. රුධිර පීඩනය සාමාන්‍ය විය. ස්නායු ...ල තත්ත්වයද යහපත් විය. පිටි කොන්දේ ශක්තිය පෙන්වන යන්ත්‍රයේ ...ත් දම්වැල කොතරම් වේගයෙන් ඔහු විසින් අදිනු ලැබිද යත් එය කැඩිණි.

"අහස් නියමුවෙක්ද" යි වෛද්‍යා ප්‍රශ්න කළේ සතුටිනි. ඔහු ඒ.පී.

"ඔව් සත්තකින්ම යනවා!" කළු පැහැති දෙනෙත් වලින් ඔහු ...නව අභියෝග කළේ ය.

"තමුසෙට පිස්සු! දෙපා නැතුව අහස් යාතා පදවන්ට පුළුවන්ද?"

"ඔව්. දෙපා නැතුවට අහස් යාතා පදවනවා මයි!"

මේ වර අලෙක්සේයි සන්සුන් ලෙස පිළිතුරු දුන්නේය. ඔහු තම සාක්කුවට අත දමා පුවත්පතකින් කපා ගත් ලිපියක් ගෙන වෙදනා ...ට දුන්නේ ය.

"බලන්න එයා අහස් යාතා පැදෙව්වා කකුලක් නැතුව. මට ...නි අහස් යාතා පදවන්ට කකුල් දෙකම නැතුවට."

ලිපිය කියැවූ වෙදනා විස්මයෙන් හා ගෞරවයකින් යුතුව ...ලෙක්සේයි දෙස බැලීය.

"ඒ වුණාට බොහොම අමාරුවෙන් පුරුදු පුහුණු වෙන්ට ඕන. ...යා අවුරුදු දහයක් පුහුණු වුණා. බොරු කකුල් වලින් වැඩ කරන්ට ...ගන්ට ඕන" යැයි ඔහු මුදු ලෙස පැවසී ය.

මෙතැනදී අලෙක්සේයිට බලාපොරොත්තු රහිත ආධාරයක් ලැබිණි. ... මේසයෙන් නැගී සිටගත් සීනා දෑත් එක් කොට ගෙන කතා කළාය. ... මුහුණ ලජ්ජාවෙන් රත් පැහැගෙන තිබිණි.

"ප්‍රධාන නිලධාරි සහෝදරය! මෙයා නටන හැටි බලන්න. හැමෝ... ඇති මිනිහකුටත් වඩා හොඳට නටනවා. මම කියන්නෙ සම්පූර්ණ ...!"

"නටනව- කොහොමද? හරිම යකෙක් නෙවැ!" යැයි කී වෙදනා ... සාමාජිකයින් දෙස දයාන්විත බැල්මක් හෙළී ය.

සීනා ඉදිරිපත් කළ අදහස අලෙක්සේයි දැඩි කොට අල්ලා ගත්තේ ...

"...මා ගැන දැන් තීරණයක් ගන්න එපා. ඔය සහෝදරවරු නවසට ... නැවුම් හලට. එතකොට ඔහෙලට පෙනේවි මට අහස් යාතා

ට පුළුවන් බව."

ශාලාවෙන් එළියට යන අලෙක්සේයි කොමිසන් සභාවේ
ජිකයින් උනන්දුවකින් යුතුව සාකච්ඡා කරන සැටි කණ්ණාඩියෙන්
ය.

දවල් ආහාරයට පෙර අලෙක්සේයි සොයා ගිය සීනා ඔහු
නයේ පඳුරක් අසල වාඩි වී සිටින සැටි දිටී ය. ඔහු ගිය පසු
මිසමේ සාමාජිකයෝ බොහෝ වේලාවක් ඔහු ගැන කතා කළ බවත්,
ක්සේයි මෙරේස්යෙව් අසමාන පුද්ගලයකු බවත්, සැබැවින්ම ඔහුට
යානා පැදවීමට හැකි වනු ඇතැයි තමා සිතන බවත් වෛද්‍යා සී
සීනා අලෙක්සේයිට කීවාය. රුසියානු ජාතිකයාට හැම දෙයක්ම කළ
ය. කොමිසමේ එක් සාමාජිකයෙක් විරුද්ධත්වය ප්‍රකාශ කරමින්
හි නිදසුනක් අහස් යානා පැදවීමේ ඉතිහාසයේ නොතිබුණු බව
ය. අහස් යානා පැදවීමේ ඉතිහාසය නොදත් බොහෝ දේ මේ
යේදී සෝවියට් ජනතාව විසින් උගන්වනු ඇතැයි ඔහුට පිළිතුරු
යන් වෛද්‍යා පැවසීය.

යුද පෙරමුණට යාමට අවසර ලබා ගත් අහස් නියමුවෝ -
නින් ඔවුහු දෙසියයක් පමණ වූහ. එදින සවස බාල් නැටීමට පටන්
හ. විධාපත් වීම හා වැගිරෙන දහඩිය පිසදමා ගනිමින් එදින සවස
ස් නියමුවෝ නැටූහ. මේ අය අතර අතිශයින්ම දක්ෂකම් පාමින්
ලක්සේයි ප්‍රීතියෙන් නැටුවේ ය. අලෙක්සේයි සහ ඔහුගේ රක්ත කේශිය
වන් සිත් ඇද ගනිමින් නැටූහ. එදින ඔවුන් දෙදෙනා තරම් දුටුවන්
පිනවන යුවළක් නොවී ය.

නැටුම් හලේ ජනේලයක් අසල වාඩි වී සිසිල් බීර වීදුරුවක්
මින් සිටි මිරොවොල්ස්කි වෛද්‍යා, මෙරේස්යෙව් හා ඔහුගේ රක්ත
කේශිය දෙස ඇසි පිය නොහෙළා බලාගත්වනම සිටියේය. ඔහු වෛද්‍යවරයකු
මණක් නොව, ඔහු යුද්ධ හමුදාවේ වෛද්‍යවරයෙකි. සැබෑ හා බොරු
කුල්වල වෙනස ඔහු ඉතා හොඳින් දන සිටියේය.

එහෙත් දත් ශක්තිමත්, තලෙලු අහස් නියමුවා දෙසත් ඔහුගේ
න්දර ගුරුවරිය දෙසත් බලා සිටින ඔහුට මේ හැම දෙයක ම එක්තරා
යාකාරී බලයක් ඇතැයි සිතිණි. අවසානයේදී අත් පොළසන් මැද
ාරිනියා" නමැති රුසියානු ජන නැටුම දක්ෂ ලෙස නැටූ අලෙක්සේයි

...ස්සෙව් අත්පුඩි ගසමින් උඩ පනිමින් වේගයෙන් කරකැවෙමින් බලා ...දුන් විස්මය පත් කළේ ය. නැටුම අවසානයේදී ඔහු මිරොවොල්ස්කි ...ත ගියේ ප්‍රබෝධයකින් යුතුවය. ඔහු නැගිට අලෙක්සේයිට අත දී ...චාර කළේය. අලෙක්සේයි නිහඬව සිටියද ඔහුගේ දැඩි බැල්ම වෙදනාගෙන් ...පිඹුරු ඉල්ලා සිටියේය.

"දැන් ඔහෙට තේරෙනවා ඇති. ඔහෙව එක වරම යුද පෙරමුණට ...ද්දීමට මට බලයක් නැති බව. මම ශිල්පීන් පුහුණු කරන අංශයට ...සමාදාරුවක් කරන්නම්. අපේ අදහස් දක්වෙන ලිපියක් ලියන්නම්. ...ගෙන පුහුණුවකින් පසු ඔහෙට පුළුවන් වේවි නැවත අහස් යානා ...දවීමට. කොටින් කියතොත් මගේ චන්දය ඔහෙට පක්ෂව පාවිච්චි ...රනව" යැයි මිරොවොල්ස්කි පැවසීය.

මිරොවොල්ස්කි, තවත් දක්ෂ සැත්කම් දොස්තරක වන සුඛාගාර ...ලකයා සමඟ නැටුම් හලින් පිට විය. දෙදෙනාම අලෙක්සේයි නිසා ...නැදී සිටියහ. දැඩි අධිෂ්ඨානයකින් කටයුතු කළ හොත් සෝවියට් රට ...සියතට නොකළ හැකි දෙයක් නැතැයි, නින්දට පෙර දුම්බොමින් ...කච්ඡා කළ දෙදෙනාගේ මතය විය.

නැටුම් හල සංගීතයෙන් පිරී ඇත. බාල් නැටුම් නටන ජෝඩු ...ලය අනුව පා තබති. නාන කාමරයට ගිය අලෙක්සේයි නාන බාල්දිය ...ල වතුරෙන් පුරවා තම කකුල් අග එහි එබුවේ ය. බොහෝ වේලාවක් ...යෙන් නැටීම නිසා ඇති වූ වේදනාව ඔහු සිහිසන් නැති කරවීමට ...මි දරුණු විය. දෙතොල් සපා ගනිමින් ඔහු තම කකුල් අග රත් ...ගත් තුවාල සිසිල් ජලයට ඔබා ගෙන සුසුම් ලෑවේය.

6

හිම්දිරි පාන්දර බස් රථ කීපයක් සුඛාගාර ගේට්ටුවෙන් පිට විය.

බස් රියක පාපුවරුවේ වාඩි වී සිටි මේජර් ස්ට්‍රුච්කොව් කබායේ ...ත්තම ගලවා ගෙන මොස්කව් අවට සිරි නරඹමින් මඳ සිනා පෑවේ ...නිබර සංචාරයෙහි යෙදෙන මේ සෙබළා යුද පෙරමුණ බලා යන්නේ ...හත් ප්‍රීතියකිනි. යුද පෙරමුණ ඔහුට තම ගෙදර මෙනි. මේ වර ඔහු ...දන්නා අහස් යානා සේනාංකයට ඔහු ගියද, ඔහුට එය ද තම ගෙදර

මෙනි. අලෙක්සේයි නිහඬව කල්පනාකාරීව සිටියේය. අසීරු කාලය ඉදිරියටය. ඉදිරියේ ඇති විය හැකි බාධාවන් මැඩ නැගී සිටීමට ඔහු සමත් වෙතිද?

මොස්කව් පැමිණි විගසම ඊ. නවාතැන ගැන පවා නොතකා ඔහු තම සුහද අනුග්‍රාහකයා වන මිරොවොල්ස්කි සොයා ගියේය. මිරොවොල්ස්කි හදිසියෙන්ම යුද කටයුත්තක් සඳහා පිට පළාතකට ගිය බවත්, ඔහු ඉක්මනින් ආපසු නොඑන බවත් ඔහුට දැන ගන්නට ලැබිණ. පළමුවැනි ප්‍රයත්නය අවාසනාවක් විය. සාමාන්‍ය නීති රීති අනුව වාර්තාව බාර දෙන ලෙස අලෙක්සේයිට දන්වන ලදින්, ඔහු ජනේලය අසල පඩියට නැඹුරු වී එය ලියා බාර දුන්නේය. වාර්තාව භාරගත් නිලධාරියා මිටි ය. ඔහුගේ දෙනෙත් විඩාපත් බවක් පළ කළේ ය. දවස් දෙකකින් පිළිතුරු සපයන බවට ඔහු පොරොන්දු විය. අලෙක්සේයි ඉක්මන් කරන ලෙස ඔහුගෙන් ඉල්ලා සිටියේය. කන්නලව් කළේ ය. අවසානයේදී තර්ජනය කළේය. එහෙත් එය ඵල රහිත විය. තම සිහින් දෑත් පපුව මත තබා ගත් නිලධාරියා නීතිය අනුව ක්‍රියා කරනවා මිස, ඉන් පිටතින් ක්‍රියා නොකළ හැකි බව පැහැදිලි කළේ ය. ඇත්ත වශයෙන්ම ඔහුට තම වාර්තාව ගැන තීරණය ඉක්මන් කරවීමට බලයක් නැතුවා විය යුතුය. අලෙක්සේයි එතැනින් පිට වූයේ නොසතුටකිනි.

අන්යූටා වැඩ කරන රෝහලට අලෙක්සේයි ටෙලිෆෝන් කළේ ය. ඇ යම්කිසි වැඩක යෙදී සිටින බව අන්යූටාගේ කට හඬින් දැනුණද, ඔහු ටෙලිෆෝන් කිරීම නිසා ඇ බෙහෙවින් සතුටු වූවා ය. දවස් කීපයකට ඇගේ ගෙදර නවාතැන් ඉල්ලා සිටි අලෙක්සේයි නිසා ඇ වඩාත් සතුටු වූවා, තමා මේ දිනවල රෝහල් නේවාසිකාගාරයේ නැවතී සිටින බැවින් ගෙය පාවිච්චි කිරීමේ සම්පූර්ණ නිදහස ඔහු සතු බව දන්වා සිටියා ය.

සුබාගාරය දවස් පහකට සෑහෙන වියළි ආහාර සලාකයක් හැම අහස් නියමුවකුටම දී ඇත. අලෙක්සේයි තම ආහාර සලාකයත් ඊගෙන මහ ගොඩනැගිලි මත ඇති අන්යූටාගේ පුංචි ගෙය සොයා ගියේය. නවාතැන සහ ආහාර ගැන ප්‍රශ්නයක් නැත. පිළිතුරු බලා සිටිය යුතුය.

තම වාර්තාවට පිළිතුරු ලබා ගැනීමට කාර්යාලයට යාමට පෙර අලෙක්සේයි සැටිය මත වැතිර දෑස් ඇරගෙන කල්පනා කරන්නට විය. මුළු රැයම පාහේ නොනිදා පහන් කළ අලෙක්සේයි උදෙන් ම නැගිට, රැවුළු කපා මූණ සෝදා, පළමුවෙන්ම කාර්යාලයට ඇතුළු වී, තම

අනාගතය විසඳීමට භාරව ඇති මේජර වෙත ආවේ ය. මේජර ඔහු හොඳුටුවාක් මෙන් බොහෝ වේලාවක් කඩදාසි, ලිපිගොනු අවුස්සමින් සිට, පසුව තම ලේකම්වරියට ටැලිෆෝන් කොට ලිපි ගොනු වලට අංක දමන සැටි බොහෝ වේලාවක් විස්තර කොට, අසුනෙන් නැගිට පිට වී ගියේය. බොහෝ වේලාවක් යන තුරු ආපසු නොපැමිණි ඔහු පළමුව අලෙක්සේයි සිත් නොගත්තේය. දන් ඔහු අලෙක්සේයිගේ කෝපයට ලක් වී ඇත. අවසානයේදී නැවත පැමිණි මේජරයා දින දර්ශනයේ කොළයක් පෙරළා අලෙක්සේයි දෙස බැලීය.

"ජ්‍යෙෂ්ඨ ලයිතන් මා හමුවන්ටද ආවේ?" ඔහු ආත්මාඩම්බරයෙන් පැමිණි කාරණය ගැන මේජර්ට විස්තර කළ පසු, ඔහු ලේකම්වරිය ලවා අලෙක්සේයි මෙරේස්යෙව්ගේ පෞද්ගලික ලිපි ගොනුව ගෙන්වා ගෙන බැලීය. "සැත්කමින් දෙපා කපා දමලාය." යන වැකිය කියූ පසු මේජර් මොහොතක් වේලා සිටගෙන සිටි අලෙක්සේයිට වාඩි වෙන ලෙස පුටුවක් පෙන්වීය. නැවත ඔහුගේ පෞද්ගලික ලිපි ගොනුවේ අවසාන පිට දක්වා කියැවූ මේජර අලෙක්සේයිගෙන් ප්‍රශ්න කළේය.

'තමුසෙ ඉල්ලා හිටින්නේ මොකක්ද?"

"ප්‍රහාරක අහස් යානා සේනාංකයට පත්වීමක්."

මේජර පුටු ඇන්දට හේත්තු වී, තමා ඉදිරිපිට සිටින අලෙක්සේයි දෙස විස්මයෙන් බලා නැවත වරක් වාඩි වෙන ලෙස කියමින් පුටුවක් පෙන්වී ය. මේජර්ගේ ඇස් බැම් තෙල් පෙරෙන නළල දක්වා ඉහළ ගොස් තිබිණි.

"තමුසෙට අහස් යානා පදවන්ට බැහැ නෙව?"

"මට පුළුවනි. මම අහස්යානා පදවනවා." යැයි කී අලෙක්සේයි "මාව අභ්‍යාස පාසලකට යවන්නැ" යි මහ හඬින් කීය. අසල මේසවල වැඩවල යෙදෙමින් සිටි අනෙකුත් නිලධාරීහු හිස් ඔසවමින් මේ කළෙලපු ලයිතන් තැන දැඩි ලෙස ඉල්ලා සිටින්නේ මොනවාදැයි අවබෝධ කර ගැනීමට මෙන් බැලූහ.

"මේ අහනව. කකුල් නැතිව කොහොමද ඔය වැඩේ කරන්නෙ? පිස්සුවක් නෙව... කවදාවත් අහල තියෙනවද. තමුසෙට කවුද අවසර

දෙන්නෙ?" මෙසේ ඇසූ මේජර් තමා ඉදිරිපිට සිටින්නේ පිස්සෙක්ද යි සැක සිතින් බැලීය.

අලෙක්සේයිගේ කෝපාන්විත මුහුණ හා අනුකම්පා සහගත බැල්ම දෙස බැලූ මේජර වඩාත් මුදු ලෙස කතා කිරීමට වෑයම් කළේ ය.

"මීට ඉස්සෙල්ලා අහල නැතුවට මීට පස්සෙ අහවි" යැයි අලෙක්සේයි පිළිතුරු දුන්නේ ය. පළමුවැනි ලෝක යුද්ධයේදී කකුලක් නැති මිනිහෙක් අහස්යානා පැදවීම පිළිබඳ පුවත පළවූ ලිපිය මේ වර ඔහු මේජර්ට දුන්නේ ය.

අසල මේසවල වැඩ කරමින් සිටි නිලධාරීහු තම වැඩ ද නවත්වා සාකච්ඡාවට සවන් දුන්හ. එක් නිලධාරියෙක් තම අසුනෙන් නැගිට මේජර වෙත විත් ගිනි පෙට්ටියක් ඉල්ලන ගමන් අලෙක්සේයි දෙස බැලීය. මේජර් ඔහු දුන් ලිපිය කියැවී ය.

"මේක අපට ලියවිල්ලක් හැටියට ගණන් ගන්ට බැහැ. අපට වෙනම නීති රීති තියෙනව. අහස් යාත්‍රා හමුදාවට තුසුදුසු අය ගැන විස්තර එහි තියෙනවා. කකුල් දෙක නැති අය ගැන නොවෙයි. ඇඟිලි දෙකක් නැති වුණු අයට පවා අහස් යානාවක් පැදවීමට අවසර දීමට මට බලයක් නැහැ. මේ ලිපිය ආපහු ගන්න. මේක ඔප්පු කිරීමක් නොවේ. මට තමුසෙගෙ ආශාව ගැන තේරුම් ගන්ට පුළුවනි...." යැයි මේජර කීවේ ය.

තව මොහොතකින් අලෙක්සේයි මේජර්ගේ මුණට ළඟ ඇති තීන්ත කුඩුවෙන් ගසනු ඇතැයි යන හැඟීම ඔහුට ඇති වුවද, ඔහු එය යටපත් කර ගනිමින්, "මේ ලියවිල්ල ගැන මොනවද කියන්නෙ?" යැයි ඇසීය.

පළමුවැනි ශ්‍රේණියේ වෛද්‍යවරයා විසින් දෙන ලද ලියුම මේසය මත තබන ලදී. මේජර් සැක සිතින් ලියුම කියැවීය. එය නියම සහතිකයකි. අහස් යාත්‍රා හමුදාවේ ජනප්‍රිය මිරොවොල්ස්කි විසින් අත්සන් තබා ඇති මේ ලියවිල්ල වෛද්‍ය කොමිසන් සභාවේ මුද්‍රාව සහිත විය. එය කියවූ පසු මේජර් තැන වඩාත් ආචාරශීලී ව කතා කරන්නට විය. ඔහු ඉදිරියේ සිටින්නේ පිස්සකු නොවේ. මේ තරුණයා ඇත්ත වශයෙන්ම අහස් යාත්‍රා පැදවීමට ඉවා ගත් එකෙකි. කකුල් නැති මොහු එතරම් ගරු කටයුතු වෙදනා පවා ඡවරීමට සමත් වී ඇත.

"ඒ කොහොම වුණත් ඉල්ලීමට ඉඩ දෙන්ට බැහැ" යි මේජර් අලෙක්සේයි මෙරේස්යෙව්ගේ පෞද්ගලික ලිපි ගොනුව පැත්තකින් තැබිය. "පළමුවැනි ශ්‍රේණියේ යුද්ධ වෛද්‍යවරයාට කැමති දෙයක් ලියන්ට පුළුවනි. අපට දීල තියෙන අණ හා නියමයන් අනුව සුදුසු නැති අය අහස් හමුදා සේවයට බඳවා ගන්ට බැහැ.... මම නීතිය උල්ලංඝනය කළොත් ඒකට වගකියන්නෙ දොස්තරද?"

අලෙක්සේයි තරබාරු උඩඟු මේජර් දෙස කෝපාන්විත පිළිකුල මුසු බැල්මක් හෙළී ය. ඔහු නිසල ය. ආචාරශීලී ය. ඔහුගේ කර පටිය පිරිසුදු ය. අත්වල මයිල් ගහන ය. අවලස්සන ඇඟිලිවල නිය කපා ඇත. මොහුට විස්තර කරන්නේ කොහොමද? ඔහුට අවබෝධ කර ගත හැකිද? අහස් යාත්‍රා සටන් යනු කුමක්ද යන්න ඔහු දනිත්ද? ඔහු මුළු ජීවිත කාලයේදී එකම වෙඩි හඬක් පවා අසා නැතිවා විය හැකි ය. තම හැඟීම් මැඩ ගත් අලෙක්සේයි මෙසේ ඇසී ය.

"මම මොනවද කරන්නේ?"

"තමුසෙට හොඳටම වුවමනා වෙලා තිබෙනව නම් නිර්මාණ අංශයේ කොමිසන් සභාවට යවන්ට පුළුවනි. හැබැයි වේලාසනින් ම දැනුම් දෙනව. තමුසෙගෙ වැඩේ හරියන්නෙ නැහැ" යි මේජර් දෙඋර සෙලවිය.

"යකාට ගියත් කමක් නැහැ. ඒ කොමිසමට වත් යවනව." මෙතෙක් වෙලා සිට ගෙන සිටි මෙරේස්යෙව් පුටුව මත වාඩි විය.

තම කාර්යය සඵල කර ගැනීම් වස් කාර්යාලයෙන් කාර්යාලයට යාමට අලෙක්සේයි පටන් ගත්තේය. වැඩ බහුල විඩාපත් නිලධාරීහු ඔහුට සවන් දුන්හ. විස්මයට පත් වූහ. අනුකම්පා කළහ. පුදුම වූහ. ඉටු නොකළ හැකි බව පවසමින් දෑත් වැනූහ. ඇත්ත වශයෙන්ම ඔවුන්ට කළ හැකි දෙයක් තිබේද? ප්‍රධාන නිලධාරි මණ්ඩලය විසින් සම්මත කරන ලද පැහැදිලි නීති රීති මාලාවක්ද එමෙන්ම අවුරුදු කීපයක් තිස්සේ හැඩ ගැස්නු සම්ප්‍රදායයක්ද තිබේ. දෙපා නැතියකුට ඉඩදීම සඳහා ඒ නීතිවලට හා සම්ප්‍රදායයට පටහැනි විය හැකිද? ප්‍රහාරක අහස් යානාවක් පැදවීමේ ආශාවෙන් නිලධාරීන්ගෙන් අවසර ඉල්ලා සිටින දෙපා නැති තරුණයාට අනුකම්පා කළ ඔවුහු ඔහුගේ ඉල්ලීම එළිපිට ප්‍රතික්ෂේප නොකළහ. එක් අංශයකින් තවත් අංශයකට ඔහුගේ ඉල්ලීම යනව ලදී. හැම අංශයකදී ම

ට අනුකම්පා කළ නිසා ඔහු පරීක්ෂණ කොමිසමක් ඉදිරියට යවන

ප්‍රතික්ෂේප කිරීම්, උපදෙස් දීම්, අනුකම්පා කිරීම්, උපහාස කිරීම් ිය නිසා අලෙක්සේයි කෝප නොවීය. ඔහු තම හැඟීම් මැඩ ගැනීමට ත් විය. ඔහු යමක් ඉල්ලා සිටින්නකු කතා කළ යුතු සැටි උගත්තේය. ම දවසකදී නිලධාරීන් දෙතුන් දෙනෙකු ප්‍රතික්ෂේප කළද ඔහු පොරොත්තු සුන් නොකර ගත්තේ ය. පයක් නැති අහස් නියමුවාගේ ක්‍රියාව ගැන ලිපිය හා වෛද්‍යනාගේ සහතිකය හැම කාර්යාලයකම ධාරීන්ට පෙන්වීමත් නැවත ඒවා නවා සාක්කුවේ දමා ගැනීමත් නිසා තැලුනෙන් තෙල් කඩදාසියකින් අලවා අළුත් වැඩියා කිරීමට ඔහුට විය.

7

මෙරේස්යෙව් කොමිසන් පරීක්ෂණයට පළමුවෙන්ම කැඳවන ලදී. ක්ෂණ "මඩුල්ලේ මූලසුන හොබවන ලද්දේ මිරොවොල්ස්කි වෛද්‍යා ිනි. ඔහු අලෙක්සේයි මෙරේස්යෙව් වහාම හඳුනා ගෙන නැඟිට ඔහුට දී ආචාර කිරීමට ඉදිරියට ගියේය.

"මොකද? ගත්තෙ නැතිද? ඔව් තරුණයා තමුසෙගෙ තත්ත්වය ාඳ නැහැ. නීතිය තමුසෙට විරුද්ධව තියෙනව. කොහොමද නීතියට ින් පනින්නෙ?" යැයි ඇසූ වෛද්‍යා අනුකම්පාව පළ කලේ ය.

ඔහු පරීක්ෂා නොකළ වෛද්‍යා ඔහුගේ පෞද්ගලික ලිපි ගොනුව කොළයක රතු පැන්සලකින් මෙසේ ලියුවේ ය. "පරීක්ෂණය සඳහා ස් යානා අභ්‍යාස පාසලට යැවීමට සුදුසු බව කොමිෂන් සභාව රණය කළාය." අවසර පත ද රැගත් අලෙක්සේයි කොමිෂන් සභා ලාවෙන් පිට විය. ඔහු පෞද්ගලික අංශයේ ප්‍රධාන සෙනෙවියා වෙත මට අවසර ඉල්ලා සිටි නමුදු ඔහුට අවසර නොදෙන ලදී. අලෙක්සේයි ත්පයට පත් වී කෑ ගැසීමට ඉඩ තිබුණද, සෙනෙවියාගේ පෞද්ගලික ්කම් තැන්පත් කපිතන් කාරුණික පුද්ගලයෙක් වූයෙන්, ඔහුගේ ත්පය සන්සිඳිණි. අලෙක්සේයි කියන පරිදි 'රැකවල් දූතයින්' ඔහු ාරිස්සුව ද, සීත් කළු උඩු රැවුලකින් හෙබි කපිතන් ඔහුගේ සිත් ත්තේය. අලෙක්සේයි කපිතාන්ට තම මෑත ජීවිත කතාව කීවේය. ඔහුගේ

සභාවට බාධා කරමින් නිතර වෙලිපෝත්තය හැඳිනේය. විරෙක සභාව අවසන් කපිතන් තම ලොක්කාගේ කාමරයට දුව ගියේය. එසේත් නැවත ත කපිතන් කුඩා ළමයෙකු මෙන් දෙකොපුල් විදගා සනිමින් ඔහුගේ සභාවට පවත් දුන්නේ ය. විරෙක කුතුහලය හා විස්මය ද සමග විරෙක විශ්වාසය ද කපිතන් තුළ ඇති විය.

"ඉතින්, ඉතින් ඊට පස්සෙ?" යැයි ඔහු අලෙක්සේයිට පවත් ඇසීම් ප්‍රශ්න කළේ ය. "මට විශ්වාස කරන්ට බැහැ. දෙවියන්ට විශ්වාස කරන්ට බැහැ!"

කාර්යාලයෙන් කාර්යාලයට යමින් තමා විඳි දුක ගැන කී ව ළමයකු මෙන් කතාව අසාගෙන සිටි කපිතන්ගේ මුහුණ වෙනස් විය. කාර්යාලවල සියලු රහස් දන සිටි කපිතන් නැත කෝපයෙන් කෑ ගැසීය.

"උන් හරිම කාලකණ්ණියො වගයක්. උන්ට අයිතියක් නැහැ මිනිසුන්ව මහොම රස්තියාදු කරවන්ට.... තමුසෙ ඉතාම දක්ෂ මිනිහෙක්. දෙපා නැති අයට අහස් යානා පදවන්ට බැරි බවත් ඇත්ත."

"නැහැ, දෙපා නැතුවත් පුළුවනි" යැයි කී අලෙක්සේයි පුවත් පතින් කපා ගත් ලිපිය හා වෛද්‍යාගේ සහතිකය පෙන්විය.

"තමුසෙ දෙපා නැතිව අහස් යානා පදවන්නෙ කොහොමද? දෙපා නැති මිනිහට නැට්ටුවෙක් වෙන්න බැහැ. කියන කතාව අහල තිබ්බද?" යි කපිතාන් ඇසී ය.

වෙන යමෙක් එසේ කීවේ නම් අලෙක්සේයි කෝප වී ඔහුට බැණ වදිනු ඇත. කපිතන්ගේ කරුණාබර හැසිම සහ උනන්දුව නිසා ඊස් නොකළා පමණක් නොව, ළමයකු සේ කෑ ගසමින් හැඬිට කෑ ගැසීය.

"ඒව හරියන්නෙ නැද්ද?" නැගිට සිටි අලෙක්සේයි කපිතන්ගේ කාමරය තුළ නටමින් උඩ පනිමින් තම දක්ෂතා පෙන්විය.

කපිතන් මහත් විස්මයෙන් ඔහු දෙස බලා සිට ඔහුගේ අයදුම් පත ගෙන තිහඬව සෙනවියාගේ කන්තෝරු කාමරයට ඇතුළු විය.

' ඔහු බොහෝ වේලාවක් යන තුරු නොපැමිණියේ ය. සෙනවියාගේ කාමරයෙන් පිට වූ හඬ හා කතා නිසා අලෙක්සේයි ගේ හදවත සැළුණේ ය. වේගයෙන් දුවන මොටෝ රියකින් වංගු සහිත පාරක ගියාක් මෙන් ඔහුගේ හිස වේදනාවෙන් පෙළිණි.

කපිතන් තැන සෙනවියාගේ කාර්යාලයෙන් පිට වූයේ මඳ සිනාවක් පාමිනි.

"තමුසෙ අහස් යානා පදවනවාට සෙනවියා කැමති නැහැ. ඒ වුණාට තමුසෙව අහස් තොටු පොළ වලට උපකරණ සැපයීමේ අංශයේ සේවයට මාරු කළා. පඩිත් ආහාර සලාකයත් අඩු නොකර. ඇඳුමුත් අඩු නොකර...." යැයි කපිතන් කීය.

"උපකරණ සපයන අංශයේ සේවය කරන්න මම ලැහැස්ති නැහැ. මම පඩි ගැන, ආහාර ගැන සොයන මිනිහෙක් නෙවී. මම අහස් නියමුවෙක්. මට යුද්ධ පෙරමුණට ගිහින් සටන් කරන්න ඕන! ඇයි තමුසෙලාට මාව තේරුම් ගන්ට බැරි? මෙයටත් වඩා පැහැදිලිව මට කියන්ට බැහැ."

කපිතන් මේ වර වඩාත් පුදුම විය. වෙන කෙනෙකුට මෙවැනි වාසියක් කළොත් ඒ මිනිහා සන්තෝෂයෙන් නටාවී... මේ මිනිහා මහ පුදුම කෙනෙක්! එහෙත් මේ පුදුම මිනිහා කපිතන්ගේ සිත් වඩාත් ඉක්මනින් දිනා ගත්තේ ය. කෙසේ හෝ අලෙක්සේයිට ආධාර කළ යුතු යැයි කපිතාන් ඉටා ගත්තේ ය. ඔහුට අමුතු අදහසක් පහළ විණි. ඇසක් අඩවන් කර ගත් කපිතන් තම ලොක්කාගේ කාමරය පෙන්වමින් මුමුණුවේ ය.

"අපේ සෙනෙවිතුමාට කළ හැකි හැමදෙයක් ම කළා.ඔයිටත් වඩා යමක් කිරීමට එයාට බලයක් නැහැ. දෙපා නැතියකුට අහස්යානා පැදවීමට අවසර දෙන්න කියල ඔහු ලියුවොත් ඔහුවත් පිස්සෙකුට ගණන් ගනීවි. තමුසෙ කෙළින්ම යනව මහ සෙනෙවි තුමා වෙතට...." යැයි කපිතන් මහ සෙනෙවියා හමුවීම සඳහා බලපත්‍රයක් ද ලබා දුන්නේ ය.

පැය බාගයකට පසු අලෙක්සේයි මෙරේස්යෙව් මහ සෙනෙවි කාර්යාලයේ බුමුතුරුණු දිගේ සෙමින් ගමන් කළේ ය. ඔහු මීට පෙර ඒ ගැන කල්පනා නොකළේ ඇයි? මෙතරම් දවස් කාලය නාස්ති නොකර

ඹු පළමුවෙන්ම මේ කාර්යාලයට ආ පුතුව තිබිණි. එය හෝ පරාජය.... ග සෙනවියාද පෙර කලෙක ප්‍රහාරක අහස් යාත්‍රා පැදවීමෙහි ශූරයකු ස ප්‍රසිද්ධියක් ලැබූ කෙනෙක්ලු.

උපකරණ සපයන අංශයේ සේවය කිරීමට ප්‍රහාරක අහස් නියමුවන් කැමති නොවන බව ඔහුට අවබෝධ විය යුතුය!

මහ සෙනවියා හමු වීමට සෙනවිවරු සහ ජ්‍යෙෂ්ඨ නිලධාරීහු පෙළින සිටියහ. ඔවුහු දුම් බොමින් පහත් හඬින් කතා කළහ. ජ්‍යෙෂ්ඨ ලයිතන් අලෙක්සේයි මෙරේස්යෙව් පමණක් දුම් නොබී අවුකු හැඩයකට ත නමමින් කාර්යාල කොරිඩෝරයේ ඒ මේ අත ඇවිද්දේය. ඔහුගේ වාරය පැමිණි විට ඔහු මහ සෙනෙවිගේ ලේකම් වන මේජර් ඉදිරියට ආවේ ය.

"තමුසෙ මහ සෙනවි තුමා හමුවන්නටද ලයිතන් සහෝදරය?" යැයි වටකුරු මුහුණක් ඇති මේජර් තැන ප්‍රශ්න කළේ ය.

"ඔව්. මට පෞද්ගලික වැදගත් ඉල්ලීමක් ඉදිරිපත් කරන්ට තියෙනවා."

"ඔහෙ මට ඉස්සෙල්ලා ඒ ගැන විස්තර කරන්ට කැමති නැතිද? වාඩි වෙන්න. සිගරැට්ටුවක් දල්වා ගන්නවද?" මේජර් තැන අලෙක්සේයිට සිගරැට් පෙට්ටිය දිගු කළේ ය.

සිගරැට්ටුවක් අතට ගත් අලෙක්සේයි එය නොදල්වාගත් නමුදු ඇඟිලි වලින් පොඩි කරමින්, කපිතාන්ට කීවාක් මෙන් තම කතාව මේජර්ට ද කීවේය. සෙනවිවරුන්ගේ 'රැකවල් දූතයින්' ගැන අලෙක්සේයි තුළ තිබූ තාපය එදින දුරු විය. ඔහු අලෙක්සේයිගේ කතාවට සවන් දුන්නේ ඇලකිල්ලෙනි. ව්‍යාජ ගති ඔහු තුළ නොවීය. ඔහු පුවත්පත් ලිපිය ද, දනාගේ වාර්තාව ද කියැවී ය. කපිතාන් ඉදිරියේ නැටුවාක් මෙන් නැවත වරක් මේජර ඉදිරියේද නැටීමට ඔහු නැගී සිට ගත්තේය. තම බලාපොරොත්තුව සුන් වී යාමට පවා ඉඩ තිබිණි. එවිට ම දොර හැරගෙන සිහින් උස පුද්ගලයෙක් එළියට ආවේය. කළු හිසකේ සහිත ඒ පුද්ගලයාගේ ඡායාරූපය දක ඇති අලෙක්සේයි ඔහු මහ සෙනවියා බව එකවරම හඳුනා ගත්තේ ය. තමා පිටුපසින් ආ සෙනවියාට ඔහු පහත්

හඬින් යමක් කීය. කැළඹී සිටි මහ සෙනවියා අලෙක්සේයි තොදිටි ය.

"මම ක්‍රෙම්ලිනයට යනවා. හවස හයට අහස් යානාවක් සූදානම් කරන්න ස්ටාලින්ග්‍රාඩ් වලට යන්න. වෙර්හ්නායා පග්රෝම්නයා වලට අහස් යානය පාත් වෙන්න ඕන." මේජරට මෙසේ කී මහ සෙනෙවියා, අත් ඔරලෝසුව දෙස බලා ඉක්මනින් පිට විය.

එවේලේම අහස් යානාවක් අවශ්‍ය බව ටෙලිෆෝන් මගින් දත් වූ මේජර අලෙක්සේයි ගැන මතක් වී දැක් වැනී ය.

"අවාසනාවක හැටි. අපි ස්ටාලින්ග්‍රාඩ් යනවා. තමුසෙට නැවත බලා ඉන්ට සිදුවේවි. නවතින්න තැනක් තියෙනවද?"

තමා ඉදිරියේ පෙනී සිටි මේ අසමාන මිනිසාගේ මුහුණ මොහොතකට පෙර අධිෂ්ඨානයෙන් පිරී පැවතිය ද දුන් ඔහු බලාපොරොත්තු රහිත ව, විඩාපත්ව සිටින සැටි දුටු මේජර තැන මෙසේ කී ය.

"කමක් නැහැ. අපේ ලොක්කගෙ හැටි මම දන්නව. ඔහු වුණත් මෙවැනි තීරණයක් ගනීවි."

අලෙක්සේයිගේ ඉල්ලුම් පත අනුව, නිල කඩදාසියක යමක් ලියූ මේජර තැන එය ලියුම් කවරයක බහා, "සේවක මණ්ඩල අංශයේ ප්‍රධාන තැනට" යන වැකිය ලියා අලෙක්සේයි අතට දී ඔහුට සුබ පැතීය.

"තමුසෙගෙ පැතීම හැම අතින්ම සාර්ථක වේවා!" එම ලිපියේ මෙසේ සඳහන් විය. "ලයිතන් අලෙක්සේයි මෙරේස්යෙව්ට නැවත ප්‍රහාරක අහස් යානා පැදවීම සඳහා හැම ආධාරයක්ම සැලකිල්ලක්ම දක් විය යුතුය."

පැයකට පසු, පළමුව අලෙක්සේයිට ආධාර දුන් කාරුණික කපිතන් වරයා අලෙක්සේයිව තම ලොක්කාගේ කාමරයට කැඳවීය. මහලු, තරබාරු සෙනවියා තම දිගැති ඇස් බැමි හකුළුවා ගනිමින් ලියුම් කියවා අලෙක්සේයි දෙස බැලීය. ඔහුගේ නෙත් විශාල ය. නිල් පාට ය. දයාන්විත ය. සේ සිනාසුළුණේ ය.

"මහ සෙනවියා හමුවුණා. හරිම ඉක්මන් කාරයෙක්! මම හුඟාව

...කරණ සපයන අංශයට යැවූ හන්දා තුඹ අමනාප වුණා? හා-හා-හා!" ඔහු හඬ නගා සිනාසුණේ ය. "හරිම දක්ෂයෙක්! අහස් නැවියකුගෙ ...ම ලේ තුඹේ ඇඟේ තියෙන්නෙ. උපකරණ අංශයේ සේවය කරන්න ...ත් නැහැ. එයාට අපි තීන්දා කළා... හරිම විහිලුවක්.....! නැව්වුවා ...ව මොනවද කරන්න කියන්නෙ. ආ? තමුසෙ බෙල්ල කඩා ගත්තම ...ගේ හිස ගහල දාවි. මේ මහල්ලා මොකටද දෙපා නැති මිනිහකු අහස් ...නා පදවන්ට යැව්වෙ කියල අහවි..... මොනව වෙව්දැයි දන්නෙ කව්ද? ...ම් යුද්දෙදි අපේ කොල්ලො ලෝකය මවිත කළෙ එය වගේ දෙවලින් ...රක් නෙවි.... මෙහෙට දෙනව තමුසෙගෙ ලියවිලි."

"මහලු සෙනවියා අලෙක්සේයිගේ අයදුම් පත මත නිල් ...ත්සලයකින් නොපැහැදිලි ලෙස මෙසේ ලියුවේ ය." අහස් යානා පැදවීම ...ණු කරන පාසලට යැවීමට තීරණය කරන ලදී. "අලෙක්සේයි ...ර්ස්යෙව් වෙව්ලන අත්වලින් එම ලියුම අල්ලා ගත්තේය. සෙනවියාගේ ...රණය ඔහුගේ මේසය ළඟ සිටගෙන කියවූ අලෙක්සේයි පඩිපෙළ අසල ...ද කාර්යාලයෙන් පිට වන දොරටුව අසලදී ද, කියැවී ය. ට්‍රෑම් රථයට ...ඩ වුණු හෙතෙම නැවතත් එම ලියුම කියවා වැස්සද නොතකා පදික ...දිකාවේ සිටගෙන තව වරක් කියැවී ය. නොසැලකිලිමත් ලෙස ලියා ...ති ඒ වචන තීපයේ තේරුම, පෘථිවි ගෝලයේ සියලු මිනිසුන් අතුරින් ...ගෙන ඇත්තේ ඔහු පමණකි.

8

මොස්කව් අසල කුඩා ගුවන් තොටුපළක් අසල තිබුණු අභ්‍යාස ...සලේ ඒ දවස්වල වැඩ කටයුතු අධික විය.

මොස්කව් අසල පිහිටි මේ අභ්‍යාස පාසලේ ප්‍රධානියා මිටි, ...ත රතු මුහුණක් ඇති ලයිතන් කර්නල් ධූරයක් දරන නිලධාරියෙකි. ...දී මැරීම නිසා ඔහුගේ ඇස් ඉදිමිලාය. "මොන කෙහෙල්මලකට ද තුඹ ...හෙට ආවේ? තුඹ නැතුවට මට ඇති වැඩ හොඳටම ඇති" යි කියන්නාක් ...ත් පාසල් ලොක්කා අලෙක්සේයි දෙස බැලීය. ඔහුගේ පත්වීම කඩදාසි ...ලොක්කා උදුරා ගත්තේ ය.

"මට දෙපා නැතැයි කියා මා එළවා ගනීවි" යැයි ලොක්කාගේ ...දුණ් ඉපනැලි වැනි රැවුළු කොට දෙස බැලූ අලෙක්සේයි සිතී ය. ...වාම වාගේ ලොක්කාට එකවර ටෙලිෆෝන් පණිවුඩ දෙකක් ලැබිණ.

ඔහු එක රිසීවරයක් කනට තබාගෙන එය උරහිසින් තද කරගෙන, අනිත් රිසීවරයට කට ළං කොට කෑගැසීය. ඔහු කියවූයේ සෙනවියාගේ ලියුම පමණක් විය යුතුය. සෙනවියාගේ අත්සනට පහළින් ඔහු මෙසේ ලියුවේ ය. "තුන් වැනි අභ්‍යාස කණ්ඩායම භාර් නාවුමව් ලයිතන් තැනට. කණ්ඩායමට ඇතුළු කර ගන්න." ටෙලිෆෝන් දෙකම පසක තැබූ ලොක්කා විධාපත් ලෙස මෙසේ ඇසී ය.

"තමුසෙට නිල ඇඳුම් බලපත්‍ර තියනවද? ආහාර කූපොන් තියෙනවද? මා දන්නව තමුසෙ කියන්ට යන්නෙ මොකක්ද කියල. ඉස්පිරිතාලෙ හිටිය හන්ද වෙලාවක් නැහැ කියාවි. මම කොහොමද තමුසෙට කෑම දෙන්නෙ? වහාම අයදුම් පත් ලියනව. වැටුප් ඉල්ලා අයදුම් පතක් ලියනව. නැතිනම් තමුසෙව භාර ගන්නෙ නැහැ."

"හොඳමයි, මම වහාම ලියන්නම්" යැයි අලෙක්සේයි කීවේ සතුටකිනි. ඔහු සෘජුව සිට ආචාර කොට, "මට යන්ට අවසරද!" යි ඇසී ය.

"යනවා" යැයි කී ලොක්කා අතක් වැනී ය. නැවත ඔහු මහ හඬින් කෑ ගැසීය. "ඒයි මේ මොකක්ද?" යි ඔහු අලෙක්සේයිගෙන් අසමින් වසීලියි වසීලෙවිච් විසින් තෑගි කළ සැරයටිය පෙන්වීය. වසීලියි වසීලෙවිච්ගේ නමේ මුල අකුරු සහිත ඒ සැරයටිය ගෙන යාමට අලෙක්සේයිට අමතක වූයේ ඔහු කැලඹුණු බැවිනි. "මේ මොකක්ද? විසිකරල දානව. මේක යුද්ධ කඳවුරක් මිස අභිකුන්ඩීක කූඩාරමක් නොවේ. උද්‍යානයකුත් නොවේ. බස්තම්, වේවැල්, හැරමිටි, ඉක්මනටම කරේ බොරලික්කම් එල්ලා ගෙන නියමු ආසනවලට කළු බළල්ලු ගෙන යාවි. ඔය හැරමිටිය මට පේන්න තියන්න එපා. හරිම ජේත්තුවෙක්!" යැයි ලොක්කා බැණ වැදුණේ ය.

"එහෙමයි ලයිතන් කර්නල් සහෝදරයා!"

තුන්වැනි අභ්‍යාස කණ්ඩායම භාර ලයිතන් නාවුමව් සොයා පළමුවැනි දවසේම අලෙක්සේයි ගියේය. මිටි දිගැති අත් සහිත කඩිසර මිනිහෙක් වූ නාවුමව් 'T'* ලකුණ අසල දුවමින්, උෂ්කා නැමැති කුඩා අහස් යානය පියාසර කරන සැටි බලමින්, එය පදවන්නාට පරුෂ වචනයෙන් බැණ වැදුණේ ය.

* එය අහස් යානය ගොඩබෑසීමට සුදුසු පෙදෙසය

"ඒකා හරිම පකිස් පෙට්ටියක්.... පිපි මිටියක්... ප්‍රහාරක අහස් නැවියෙක්ලු. මාව රවටන්ට එයාට බැහැ....!"

මෙරේස්යෙව් සෘජුව සිටගෙන තමා හඳුන්වා දුන්නද අතක් ගස්සා නවුමව් අහසට අතක් යොමු කරමින් කෑ ගැසීය.

"ජේනවද? ප්‍රහාරක අහස් නැවියගෙ හැටි! ගුවනේ තර්ජකයා!" මේ අත පා වෙනවා."

ගුරුවරයා අලෙක්සේයිගේ සිත් ගත්තේ ය. සිතින් හා කයින් තම ක්‍රියාවට ආදරය කරන මෙවැනි මිනිසුන්ට අලෙක්සේයි කවදත් ඇලුම් යේ ය. දක්ෂ හා කාර්ය ශූර නියමුවන්ට ඔවුන් සමහ ඇසුරු කිරීම හෙසි ය. නියමුවා අහස් යානය පදවන සැටි බලා සිටි නවුමව් ඔහු ච්චනය කළේ ය. නියමු ගුරු නවුමව් තම නවක සිසු දෙස විනිවිද න බැල්මක් හෙළී ය.

"මගේ කණ්ඩායමටද? නම කොහොමද? මොන අහස් යානාවද දැව්වෙ? අහස් සටන් වල යෙදී තියෙනවද? කොපමණ කල් පදවන්නෙ නුව හිටියද?"

තමාගේ පිළිතුරු නවුමව්ට ඇසිණැයි අලෙක්සේයිට සිව නැකි ය. ඔහු නැවත අහස දෙස බලමින් හිරු රැස්වලින් දෙනෙත් කරගනිමින්, අතක් මිට මොලවා ගෙන නැවත අහස් නැවියාට සින්නට විය.

"අන්න බලනව හරිම බර කරත්තයක්. විසිත්ත කාමරයකට ඳු ම හරකෙක් වගෙ...."

හෙට උදේ පැමිණෙන ලෙසත්, පැමිණි විගස පරීක්ෂණය සඳහා ස් යානයක් පැදවීමට දෙන බවත් නවුමව් අලෙක්සේයිට කීය.

❧

"දත් තිඩාඩු ගන්න. ගමන් මහන්සි ඇති නේවද? කෑම ගත්තද? මැද්දෙ කමුසෙට ආහාර දීමට අමතක වෙන්නත් පුළුවනි...." සි නවුමව් නැවත අහස් යානය පදවන්නාට බැණ වැදුණේ ය. "...පල් යෙක්! තුඹ කිමට බැහැපන්කො, තුඹට යස ප්‍රහාරක නැවියෙක්

පත්වන්න!"

අලෙක්සේයි විවේක ගැනීමට නොගියේය. බැටැලියනයේ සපත්තු හන්නා සොයා ගොස් ඔහුට සතියක දුම්කොළ සලාකය දෙන බවට පොරොන්දු වූ අලෙක්සේයි තම බොරු කකුල් අහස් යානයේ පෙඩල්වලට වි කිරීම සඳහා ගාංචු සහිත හම් පටි දෙකක් සාදා දෙන ලෙස ඉල්ලා ටියේය. ඔහු නැවත අහස් තොටුපළට විත් සවස් වන තුරුම ගුවන් ගත් හස් යානා නැරඹී ය.

ඔහුට ඒවා සාමාන්‍ය පියෑඹීම් නොවීය. ශූර අහස් නියමුවන්ගේ රහයක් සේ එය සැලකූ ඔහු අවසාන අහස් යානය ගුවන් තොටුපළට ැමිණි පසු එය බැඳ දැමීම දක්වා බලා සිටියේය. අලෙක්සේයි ගුවන් ගත් ැම යානයක් දෙසම නොබැලීය. ඔහු වඩාත් ප්‍රිය කළේ වටපිටාවට ය. හස් යානා නගන හඬට ය. රොකට්වල ශබ්දයට ය. පැට්‍රල් හා තෙල් වඳට ය. අහස් යානය හෙට තමාට අකීකරු වී විපතක් සිදු වනු ඇත ත හැඟීම ඔහුගේ සිතට නොවැදිණි.

උදෑසන ගුවන් තොටුපළ හිස් ව තිබියදී අලෙක්සේයි පැමිණියේ . ඇත එන්ජිම රත් කරන හඬ ඇසිණි. ගුවන් තොටුපළේ ගිනි උදුන් ලින් ගිනි දළු පිට විය. අවර පෙති කරකැවූ මිකැනික්වරු ඒවා තයින් මන් සිතා, ඇත් වූහ. උදෑසන වැඩ ආරම්භ විය.

"ලැස්තියි!"

"ස්පර්ශය දැනෙනවද!"

'ඔව් දැනෙනව!"

මෙතරම් පාන්දරින් ගුවන් තොටුපළට ආවේ මන්දැයි කිසිවෙක් ලෙක්සේයිගෙන් අසා ඔහුට බැණ වැදුණහ. රොස්වූවන්ට විහිළු කළ ලෙක්සේයි සිතින් තමාට මෙසේ කීය. "ස්පර්ශය දැනෙනවා! ස්පර්ශය නෙනවා! ස්පර්ශය දැනෙනවා!" අහස් යානා සෙමින් සෙමින් ගුවන් තට පිවිසියේය. ඒවායේ අත් අඩු වැනෙන්නට වූයෙන් මිකැනික්වරු වා දෙපැත්තෙන් අල්ලා ගත්හ. මේ වන විට පැමිණි තවුමව් කොතරම් ඩා සිගරැට් කොටයක් උරන්නට විද යත් දුම්කොළ සාරමෙන් වැඩි ත් ඔහුගේ ඇඟිලි තුඩුවලින් දුම් පිටවෙන්නාක් මෙන් දැනිණි.

අලෙක්සේයි මිලිටරි සැලියුට් ආචාරයකින් ඔහු පිළිගත්තේය. තමුසෙ ආවාද?" යි ඇසූ නවුමව්. "ඉස්සෙල්ලා අයට ඉස්සෙල්ලා බෙදනවා. ..ත නවයේ අහස් යානයේ පිටුපස ආසනයට නගිනවා. මම මොහොතකින් ..න්නම්. බලමු තමුසෙගෙ දස්සකම්" යැයි පැවසීය.

නවුමව් තම සිගරැට් කොටය දෙතුන් වරක් උරන්නට විය. ..ක්සේයි අහස් යානය දෙසට ගියේය. නවුමව් පැමිණෙන්නට පෙර ..ම බොරු කකුල් දෙක අහස් යානාවේ පැඩල්වලට සවිකළ යුතුය. ඔහු ..ද මිනිහෙක් වුවද කුමක් කරත්ද? ඔහු බැණවැදී පරීක්ෂණය සඳහා ..ස් යානයක් නොදෙනු ඇත. අලෙක්සේයි වැනි වැනී අහස් යානයේ ..ත් අණ්ඩක් දිගේ ගොස් පිටුපස ආසනයට ඇතුළු වුණද, පැඩල්වලට ..ස තැබීමට අපොහොසත් විය. කැළඹීම හා පුරුදු නැතිකම ඊට හේතු ..ය. දිගැති මලානික මුහුණක් ඇති මැදිවියේ සිටි මිකැනික් අලෙක්සේයි ..ස බලන්නේ, පුදුමයෙන් මෙසේ සිතීය. "මේ බැල්ලිගෙ පුතා බීලා."

අවසානයේදී අමාරුවෙන් තම බොරු කකුල් දෙක පෙඩල් පුවරුව ..ම කුහරයට ඔබාගත් විට ඔහුට ඉබේටම ආසනයේ ඉන්දවිණි. ඔහු ..ම බොරු කකුල් දෙක පැඩල්වලට තබා ගාන්චු සහිත හම් පටිවලින් ..ස සවි කළේය. හම් පටි අගනා ලෙස සාදා තිබිණ. අලෙක්සේයිට සිය ..ක වියේදී හැදි හිමයානා සහිත සපත්තු සිහිවිය.

නවුමව් අලෙක්සේයි වාඩි වී සිටි ආසනයට හිස ඔබා විමැසිල්ලෙන් ..ක්ෂා කළේය.

තමුසෙ බීලද? හුස්ම පිට කරනව බලන්න."

අලෙක්සේයි ප්‍රශ්වාස කළ විට එහි මත්පැන් ගඳක් නොතිබුණෙත්, ..වූ වූ නවුමව් මිකැනික් දෙස තර්ජනාත්මක ලෙස බලා අණ ..ළේ ය.

"ලැහැස්තිද!"

"ස්පර්ශය!"

"ඔව්. ස්පර්ශය!"

අහස් යානයේ එන්ජිම කීප වරක් ගොරවා. පසුව රිද්මානුකූල හඬ නැඟුවේ ය. ප්‍රීති වූ අලෙක්සේයි එක වරම ගෑස් ලීවරය ඇරියේ. එවිටම ශබ්ද නලය දිගේ නවුමව්ගේ රොස් හඬ ඇසිණි.

"වලං කඩේ ගොනා වගේ පනින්ට එපා!"

නවුමව් ක්‍රමයෙන් ගෑස් ලීවරය විවෘත කරත්ම අහස් යාන තරමක් උඩ පැන ධාවනය කරන්නට විය. නවුමව් සුක්කානම අතට ග විට, ඒ කුඩා අහස් යානය ගුවන් ගත්තේය. හැම අහස් නැවියකු පළමුවෙන් පුරුදු වන්නේ මෙවැනි යානාවලිනි.

හැඩයකට තබා ඇති කැඩපතින් නවුමව්ට තම නවක සිසුගෙ මුහුණ පෙනේ. බොහෝ කලක් අහස් යානා නොපදවන අයගේ මුහුණු ඔහු කී වරක් දැක තිබේද? ශූර අහස් නියමුවන්ගේ තෘප්තිමත් සිනාවද රෝහලින් රෝහලට යමින් ප්‍රතිකාර ගත් උනන්දු සහගත අහස් නියමුවන්ගෙ ප්‍රබෝධමත් මුහුණු ද ඔහු දැක ඇත. බරපතළ අනතුරුවලට මුහුණ පෑ නියමුවෝ සුවය ලැබූ පසු පළමුවන වරට අහස් යානාවක් පදවන විට කැළඹෙති. තොල් සපති. ඔවුහු මලානික වෙති. ගරුසරු නැති නවකයෙ පළමුවරට අහස් යානාවක් පදවන විට හැම දෙයක් ම අත පත ගාමි නියමුවන් පුහුණු කරන්නෙකු ලෙස අවුරුදු කීපයක්ම සේවය කර ඇති නවුමව් තමා සමග වාඩි වී අහස් යානා පදවන අලෙක්සේයිගේ මුහුණෙ ඇති ස්වභාවය වැනි යමක් මීට පෙර දැක නැත. එසේ වුවද, කඩවසම් පෙණුමැති ජොෂ්ඨ ලයිතන් අලෙක්සේයි නවකයෙක් නොවේ.

ඔහුගේ මුහුණ රත් පැහැ ගෙන ඇත. දෙතොල් සුදුමැලි ය. එය බිය නිසා නොවේ. නවුමව්ට තේරුම් ගැනීමට බැරි චිත්ත වේගයක සලකුණකි එය. මොහු කවරෙක්ද? ඔහුට කුමක් සිදු වන්නේ ද? ඔහු මන පැන් බී ඇතැයි මිකැනික් සිතුවේ කවර හේතුවක් නිසාද? අහස් යානය තොටුපළේ සිට ගුවන් ගන්නා විට කළු පැහැති ඔහුගේ ඇස්වලින් කඳුළු කැට කඩා වැටුණේ මන්ද? දෙකොපුල් මත වැටුණු කඳුළු කැට සුළං පහර නිසා වියැළිණි.

"මිනිහ ඔල්මාද කාරයෙක් වෙන්ට ඕන. පරෙස්සමින් කටයුතු කරන්ට ඕන. මොනවා වේද කවිද දන්නේ!" යැයි නවුමව් සිතා ගත්තේ ය. එහෙත් අලෙක්සේයිගේ මුහුණේ යම්කිසි ලක්ෂණයක් නවුමව්ගේ සිත්

ය. උගුරේ යමක් හිරවන සැටියක් ද, යන්ත්‍රය තමාට අකීකරු සැටියක් ද නවුමව්ට දැනිණ.

"අහස් යානය පැදවීම තමුසෙට භාර දෙනවා" යැයි නවුමව් හඬ ... තමිදු ඔහු යන්ත්‍රය සම්පූර්ණයෙන්ම භාර නොදී, අත් හා පය ... කළේ මේ ඔල්මාද කාරයා මොනව හරි කළොත් නැවත පැදවීම ... ගන්නා අටියෙනි.

නවකයා අහස් යානය පදවන්නට විය. ඔහුගේ හැම ක්‍රියාවක්ම ...යෙන් බලා සිටි නවුමව්, ඔහු පළපුරුදු ඇත්තෙකු බව වටහා ... ය. පැරණි අහස් යානා ගුරයකු වූ අභ්‍යාස පාසලේ නායකයා ... වූ පරිදි ඔහු "දෙවියන් එවූ අහස් නැවියෙක්" විය.

පළමුවැනි වටය පැදවීමෙන් පසු නවුමව් අලෙක්සේයි ගැන සැක ...ළේ ය.

අහස් යානය "ගුවන් විද්‍යාවේ හැම රීතියක්ම පිළිපදිමින්" අලෙක්සේයි ... පැදවිණි. අහස් යානය කෙළින් පදවන විට, නවකයා යමතමින් ... බර වී නැවත යමතමින් දකුණට බරවෙන සැටි දුටු නවුමව් පුදුම ... වත් වරෙක ඔහු තරමක් ඉදිරියට නැමී නැවත පිටුපසට බර විය. ...යා තම ශක්තිය පිරික්සා බලන සැටියකි. හෙට අලෙක්සේයිට ... අහස් යානාවක් පැදවීමට ඉඩ දිය යුතු යැයිද, දවස් දෙක ... ඔහුට "උට්-2" නමැති කුඩා ප්‍රහාරක යානාව පැදවීමට ඉඩ දිය ... යැයිද නවුමව් තීරණය කළේ ය. ලීයෙන් තැනූ 'උට්-2" නමැති අහස් ... ප්‍රහාරක අහස් යානයක ආදර්ශයකි.

...දින ශීත දවසකි. උෂ්ණත්වය බින්දුවෙන් පහළ ශීත අංක 12 ... නවුමව්ගේ හම් සපත්තු විනිවිද ගොස් දෙපා හිරි වැට්ටවීමට ... වූ ශීත සුළඟක් අහස් යානය තුළට වැදිණි. ගොඩ බැසීමට ... විය.

"ගොඩ බසිනු!" යැයි නවුමව් අණකළ හැම ... නොගැන්දීම ...ගේ උණුසුම් තියුණු කළු පැහැති නොක් ඉල්ලීම... කරන ... ඉල්ලීමක් පමණක් නොව ඉල්ලා සිටීමක් වන සැටිද ඉඟිතින් ... නැවත අණ කිරීමට ඉදිරිපත් නොවී ය. විනාඩි ...යක් ... පැය භාගයක් පමණ වෙලා අහස් යානය පැදවීමට අඟ ...සේයිට

ඉඩ ලැබිණ.

අහස් යානය ගොඩ බට පසු ඉන් පැන ගත් තවුමව් ලැ පනිමින් අත් පිරිමදිමින් උණුසුම් විය. එදින උදෑසන හීත සුළඟ තදින විය. අලෙක්සේයි බොහෝ වේලාවක් තම නියමු ආසනයේ වාඩි වී ගමන් කරමින් සිට, නොකැමැත්තෙන් මෙන් සෙමින් පිට විය. අහස් යානයේ පියාපත් ළඟ ඇණ තබාගෙන වාඩි වූ අලෙක්සේයිගේ මුහුණ පැමිණිණි මත්පැන් බීගත් මිනිසකුගේ මෙනි. හීත සුළං නිසා ඔහුගේ මුහුණ රත් පැහැගෙන ඇත. දෙනෙත් දීප්තිමත් ලෙස බැබළිණි.

"කොහොමද හිතල ආ? මගේ කකුල් හිරි වැටුණ. තමුසෙ සැහැල්ලු සපත්තු නෙව ඇඳල ඉන්නෙ. කකුල් හිරි වැටුණෙ නැද්ද?"

"මට කකුල් නැහැ" යි නී නවකයා තම සිත තුළින් මද සිනා පාමින් කල්පනා කළේ ය.

"මොනවා?' තවුමව්ගේ මුහුණ ගල් ගැසිණි.

"මට කකුල් නැහැ" යි අලෙක්සේයි පැහැදිලි ලෙස නැවත වරක් පිළිතුරු දුන්නේය.

"කකුල් නැහැ"යි කියන්නෙ කොහොමද? තමුසෙගෙ කකුල්වලට රෝගයක් හැදිලද?"

"කකුල් නැහැ... බොරු කකුල්."

තවුමව්ගේ හිසට යකඩ මිටියකින් පහරක් වැදුණු කලෙක මෙන් ඔහු අන්ද මන්ද විය. මේ පුදුම තරුණයා ඔහුට කී කතාව නොවිය හැක්කකි. කකුල් නැතැයි කියන්නේ කොහොමද? ඔහු අහස් යානයක් පැදවූ ක් මේ දත් ය. ඇරත් ඔහු පැදවූ සැටි තරක නැත....

හි:

...න්තාපත්" යැයි තවුමව් කීවේ යම්කිසි බියගත් හඬකිනි.

...ට තවුමව්ගේ කුතුහලය නිසා අලෙක්සේයි කෝප නොවීය. එය තින්ද...ත් ලෙසද නේ නොසැලකී ය. මේ ප්‍රීතිමත් කවටයා විස්මිත ...ත් කිරීම ...ට සතුටකි. ඔහු කලිසම උස්සමින් තම දෙපා පෙන්වූයේ

...ස් ප්‍රීවාචක විජ්ජා කාරයකු මෙනි.

...හමින් සහ ඇලුමිනියම්වලින් සාදන ලද තම බොරු කකුල් ...වෙහින්, ඒවා බලන නවුමව් හා මිකැනික් දෙස ද, තම වාරය ...බලා සිටින නියමු සිසුන් දෙස ද අලෙක්සේයි මඳ සිනා ...ය.

අලෙක්සේයිගේ කැළඹීම් ද, ඔහුගේ මුහුණේ ඇති වුණු අසමාන ...ද, කළු පැහැති ඔහුගේ ඇස් වලින් කඳුළු කැට කඩා වැටීම ද ...යානය පැදවීමේ කාලය දිගු කරවා ගැනීමට ඔහු දරූ තැත ද දන් ...ව අවබෝධ විය. මේ සිසු ඔහු කැළඹීමට පත් කළේ ය. නවුමව් ...පැත අලෙක්සේයි දෑතින් අල්ලා ගෙන මෙසේ කීවේ ය.

"තමුසෙ කොහොමද ඔවැනි වැඩක් කළේ? තමුසෙ දන්නවද... ...කොහොම මිනිහෙක්ද කියල.....!"

දන් ප්‍රධාන කාරිය සඵල වී ඇත. ගුරුවරයාගේ හිත දිනාගෙන ...ස නවුමව් හමු වූ අලෙක්සේයි ඔහු සමඟ එකතු වී අභ්‍යාස වැඩ ...ක් සැදූවේ ය.

9

මාස පහකට වැඩි කලක් මෙරේස්යෙව් අහස් යානා අභ්‍යාස ...ප් පුහුණුව ලැබී ය. ගුවන් තොටුපළ හිම වලින් වැසිණ. රෝද ...අහස් යානයට හිම යානා සවි කරන ලදී. වස්සාන සෘතුවේදී ...ලැබෙන විවිධ පාට වෙනුවට අලෙක්සේයි දුටුවේ කළු සහ පාට ...ස්ටාලින්ග්‍රාඩ් මහ සටනේදී පැසිස්ට් ජර්මන් හමුදාව අන්ත ...ලැබූ බවත්, හයවැනි ජර්මන් හමුදාව සමූල ඝාතනය කරනු ...බවත්, ජර්මන් මහ සෙනවි පවුලස් සිරභාරයට ගත් බවත් ...ට ලැබිණි. දකුණෙහි තවත් මහා ප්‍රහාරයක ලකුණු පහළ විය. ...රොව් සෙනෙවියාගේ යුද්ධ ටැන්කි හමුදාවෝ නිර්භයව ඉදිරියට ...සතුරාට පහර දුන්හ. සතුරාගේ පිටුපස කඳවුර විනාශ කළහ. ...සවන් පැත නැග ඇති අවධියකදී, අලෙක්සේයිට අභ්‍යාස අහස් ...පැදවීම රෝහල් කොරිඩෝරය දිගේ ඇවිදීම මෙන්ම ඉදිම් ඇති ...වීත් පැත නගින වේදනාව නොතකා බාල් නැටුම් හා 'මසූර්කා' ...නැටුම් නැටීම මෙන්ම අපහසු කරුණක් විය.

නැවත අහස් හමුදාවට බැඳී සේවය කිරීමට ඔහු ප්‍රතිඥා දුන්නේ රෝහලේ දී ය. එම අරමුණ වෙත ළඟා වීම සඳහා ඔහු වේදනා විඳිමින්, වීඩා නොතකා කටුක දුක්වලට හා බලාපොරොත්තු සුන්වීම් වලට මුහුණ පාමින් දැඩි අදිටනකින් යුතුව ක්‍රියා කළේ ය. ඔහුගේ අලුත් ලිපිනයට ලොකු ලියුම් කවරයක් ලැබිණ. රෝහලේ හෙදිය වන ක්ලාව්දියා මිහයිලොව්නා ඔහුට ලියමින් ඔහුගේ දුක් සැපද, ඔහුගේ අරමුණ කරා ඔහු කොතෙක් ළං වී ඇතිද ආදී දේ ගැන විමසුවා ය.

"තම අදහස ඉටු වුණාද? නැතිද?" යන ප්‍රශ්න ඔහු තමාගෙන් ඇසී ය. එයට පිළිතුරු නොදුන් අලෙක්සේයි තමාට ලැබුණු ලියුම් මිටිය පිරික්සී ය. එහි ලියුම් කීපයකි. එකක් මවගෙනි. අනික ඕල්යාගෙනි. කෙවැන්න යුද්ධ ටැන්කි ලයිතන් ග්වොස්දෙව්ගෙනි...

මව විසින් එවන ලද ලියුම අලෙක්සේයි පළමුවෙන් ම කියැවී ය. මව පුතුගේ දුක හා සැප ගැන මහත් වුවමනාවකින් අසා ඇත. ලියුම අවසානයේදී ජර්මනුන් ස්ටාලින්ග්‍රාඩයෙන් පන්නා දැමූ බව ද ඇ ලියුවාය. ස්ටාලින්ග්‍රාඩ් මහ සටනින් පසු ඕල්යා දවස් පහක නිවාඩුවක් ගත කිරීමට කම්ෂින්වලට ආ බවත්, ඇගේ ගෙය ජර්මන් බෝම්බවලින් විනාශ වූ නිසා ඇ තමා සමග නැවතුණු බවත් මව පුතුට ලියා දන්වුවා ය. ඕල්යා දැන් ඉංජිනේරු යුද්ධ හමුදාවේ ලයිතන් ධූරයක් දරන බවත්, ස්ටාලින්ග්‍රාඩ් මහ සටනේදී තුවාල ලැබූ ඇට උසස් සම්මානයක් පිරිනමා ඇති බවත්, එහි නම තමා හරිහැටි නොදන්නා බවත් දන් වූ මව, ඕල්යා ඇගේ නිවාඩු කාලය මුළුල්ලේම නිදා ගත් අතර නොනිදා සිටි කාලයේදී දෙදෙනාම ඔහු ගැන කතා කළ බවත් ලියුවා ය. මවත් ඕල්යාත් එක්ව කාඩ් කුට්ටම මගින් අනාගතය බැලූ අතර නිතරම කලාබර හේරාට උඩින් රුවිත පොරව ආ බැවින් - මෙහි තේරුම අලෙක්සේයි හොඳින් දැන සිටියේය-රුවිත පොරව තම ලේලි වශයෙන් පිළිගැනීමට මව බොහෝ සෙයින් ම සතුටු බවත් මව පුතුට දන් වූවා ය.

මවගේ රාජ්‍ය තන්ත්‍රිකමය ඉඟිය ගැන සිතමින් මඳ සිනා පෑ අලෙක්සේයි "රුවිත පොරව" -ඕල්යා එවූ ලියුම ප්‍රවේසමින් කඩා බැලීය. ලියුම දිග නොවීය. යුද අගල් හා ආරක්ෂක කපොලු කැනීමෙන් පසු ඉතාම දක්ෂ අය නිත්‍ය ඉංජිනේරු යුද හමුදාවට බඳවා ගත් බව සඳහන් කළ ඕල්යා දැන් නිලයෙන් ඇ ලයිතන් කෙනෙකු බවද ලියුවාය. ඕල්යා සේවය කළ හමුදාව මමායෙව් කුර්ගාන්හි ආරක්ෂක කපොලු සෑදීය. එය ස්ටාලින්ග්‍රාඩ් සටනේදී ප්‍රසිද්ධියට පත් විය. පසුව ඇ සේවය කළ හමුදා

...ර් කම්හල වටා ආරක්ෂක වළල්ලක් තැනීය. ඇයට රතු ධජයේ ...ෂම සහිත සම්මානය පිරිනමන ලදී. එදයි කලයේ සිට විත්වල ...න ලද ආහාර දක්වා වූ හැම දෙයක්ම වොල්ගා නදිය හරහා ...ගන්නට වූ බැවින් නිකර සතුරු පහරට ලක් වූ බවද ඔල්යාගේ ...ම් සදහන් විණි. ස්ටාලින්ග්‍රාඩයේ එකද ගෙයක් හෝ ගොඩනැගිල්ලක් ... නැත. හැම තැනම විනාශ වූ ගෙවල් කම්හල් හා මාර්ගය එය හදේ ... රූපයකට සමාන විශාල වළවල් වලින් පිරී ඇත.

තුවාල ලැබූ ඔල්යා රෝහලෙන් පිට වූ පසු රියකින් ස්ටාලින්ග්‍රාඩය ...හා ගිය සැටි තම ලියුමෙන් අලෙක්සේයිට විස්තර කළා ය. ...ාලින්ග්‍රාඩය පුරා පැසිස්ට් හටයින්ගේ මළ කඳන් ය. මහ පාර ...ැත්තේ ගොඩ ගසා ඇති සතුරු මළ සිරුරු ගණනින් කොපමණදැයි ... නොහැකිය. ඔබේ යහළුවා වන යුද්ධ ටැන්කි ලයිතන් තැන සතුරු ...ු සිරුරු දුටුවා නම් මැනවයි මට සිතිණි. ඔහුගේ මව සහ පියාද ...හෝදරියන් සියලු දෙනාද පැසිස්ට් ජර්මන්නු මරා දමුවාට අපි ඔවුන්ගෙන් ...ළි ගන්නෙමු. එවැනි අයට සතුරු මළ සිරුරු පෙන්විය යුතුය. ස්ටාලින්ග්‍රාඩ් ...ුනේදී සතුරන් මාරාන්තික පරාජයක් ලැබූ සැටි චිත්‍රපට මගින් පෙන්විය ...ු ය." දැන් ස්ටාලින්ග්‍රාඩ් සංග්‍රාමයෙන් පසු ඈ ඔහුගේ බිරිඳ වීමට ...නම් වීරයින්ගේ වීරයකුගේ බිරිඳ වීමට සුදුසුකම් ලබා ඇතැයි යන ...කිය අලෙක්සේයිට නොතේරුණෙන්, ඔහු එය කීප වරක්ම කියවිය. ...ී ලියුම ඔල්යා ලියා ඇත්තේ හදිසියකින් නොව, සෙමිනි. ඇගේ සේනාංකය ...ිරීය පොළට පැමිණි විට ලැබුණු විවේකය තුළ දී එය ලියා ඇත. මී ...කට තම සේනාංකය යන තැන නොදත් ඈ තම ලිපිනය නොලීවා ය. ...ගෙන් කවත් ලියුමක් ලැබෙන තුරු ඈට පිළිතුරු සැපයීමට ඔහුට ...ැරිවිය. වීරයින්ගේ වීරවරිය ඈ- යුද්ධයේ ගිනිජාලා මැද නොසැලී තම ...ාර්යයන් සපුරාලන ඒ තරුණිය - මිස ඔහු නොවේ.

අවසානයේදී නවුමව් අලෙක්සේයිට අවසාන පරීක්ෂණයට සූදානම් ...න ලෙස දන්වා සිටියේය. "උටියොනක්" නම් වූ කුඩා අහස් යානාව ...ෑඹීත් අවසාන පරීක්ෂණයට මුහුණ පෑ යුතු විය. ඔහුගේ දක්ෂතාවය ...රීක්ෂනු ලබන්නේ නවුමව් නොව, ආචාර්ය මණ්ඩලයේ ප්‍රධාන තැන ...සිසි. අලෙක්සේයි අභ්‍යාස පාසලට පැමිණි දින ඔහුට අකාරුණික ...ලෙස හැලකූ රතු මුහුණක් ඇති, තරබාරු ලයිතන් කර්නල් විසිනි.

ඉවත් තොටුපළේ සිටගෙන තමා පදවන අහස් යානය දෙස ...සිල්ලෙන් බලා සිටින බව දැන ගත් අලෙක්සේයි තමා පිතුවාටත් වඩා

සස් අන්දමින් අහස් යානය පැදවීය. ඔහු ඒ කුඩා අහස් යානයෙන් කාතරම් අසීරු අභ්‍යාස සරඹ කළේ ද යත් ලයිතන් කර්නල් තැන බෝධ වී ප්‍රශංසා කළේය. පසුව අලෙක්සේයි අහස් යානය ගුවන් තාටුපළට ගොඩ බස්වා, නිලධාරි මණ්ඩලය ඉදිරිපිට පෙනී සිටි විට ඩුමව්ගේ ප්‍රීතිමත් මුහුණ දුටුවේය. තමා පරීක්ෂණයෙන් සමත් වූ බවට ය සාක්ෂියක් විය.

"තමුසෙ හරිම දක්ෂයෙක්! දේව කරුණාව ලැබූ අහස් නැවියා යන්නෙ තමුසෙ වගෙ උදවියට" යැයි කී ලයිතන් කර්නල් "තමුසෙට රකද අපේ පාසලේ නැවතිල ගුරුවරයකු ලෙස සේවය කරන්ට, ආ?" ැසී ය.

අලෙක්සේයි එම ඉල්ලීම එකහෙළාම ප්‍රතික්ෂේප කළේ ය.

"ඔන්න මෝඩයෙක් වෙන්න හදනවා. හැම එකකුටම යුද්ධ කරන්න එවනි. උගන්වන එක ලේසි නැහැ."

ලයිතන් කර්නල් තැනගේ ඇස් අලෙක්සේයි නැඹුරු වී සිටින ැරයටිය දෙසට යොමු විණි. ඔහු කෝපයට පත්ව කෑගැසීය.

"ආයෙමත්! මෙහෙ දීපන්! තුඹ හැරමිටි අරගෙන සිදාදියෙ ඇවිදින්න දනවද? තුඹ කොහෙද ඉන්නෙ? මහ පාරේද?.... පැය හතළිස් අටක් රබාරයට....! අණට අකීකරු වුණු හන්දා... කවච පාවිච්චි කරන අහස් ානා ශූරයා..... පැය හතළිස් අටක් හිරබාරෙට... ඇහුණද?"

අලෙක්සේයිගෙන් සැරයටිය උදුරා ගත් ලයිතන් කර්නල් තැන ය කැඩීමට සූදානම් විය.

"ලයිතන් කර්නල් සහෝදරය අවසර දෙන්න වාර්තා කරන්න! යාගෙ කකුල් දෙකම නැහැ" යැයි නවුමව් පැවසීය.

ලොක්කාගේ රතු මුහුණ සුදු මැලි විය. දෙනෙත් පිස දා ගනිමින් හු අමාරුවෙන් හුස්ම ගත්තේ ය.

"ඒ කොහොමද? තුඹ මාව පිස්සෙක් කරන්ට හදනවද? ඒ කතාව ැත්තද?"

එය සත්‍යයක් බව අහවමින් හිස වැණූ අලෙක්සේයි තම හැරයටිය
මැදුවේ දැන් දැන් මහා විනාශයකට මුහුණ පෑමට සිදුවනු ඇතැයි යන
ණිනි. වසිලි වසිලෙවිච් ඔහුට තෑගි කළ ඒ හැරයටියෙන් දැන් මිහු
මුවින් ම ඇත් නොවිණි.

ලයිතන් කල්නල් තැන සැක සිහින් දෙදෙනා දෙස බලමින් මෙසේ
ඇසීය.

"හා... තත්ත්වය එහෙම නම් උත්තැහෙ තමුසෙගෙ කකුල් දෙක
පන්වනව... ඔව්.... ඔව්...!"

අභ්‍යාස පාසලින් අලෙක්සේයි සම්මාන උපාධි ලබා ගත්තේය.
නැවටම වඩා අලෙක්සේයිගේ දක්ෂතාවය ගැන නිතර කියන පාසල්
ධ්‍යක්ෂ වන ලයිතන් කල්නල් පැහැදුණේය. "දක්ෂ, පළපුරුදු ඇති,
ත් ශක්තියකින් හෙබි නියමුවකු" ලෙස ලයිතන් කල්නල් අලෙක්සේයි
දුවමින් ඔහුට චරිත සහතිකයක් දුන්නේ ය.

10

ශීත කාලය හා වසන්ත කාලය තුළදී අලෙක්සේයි තම දක්ෂතාවය
ළි කර ගැනීමෙහි යෙදුණේ ය.

අලෙක්සේයි මෙරේස්යෙව් ඇතුළු තවත් නියමුවන් විශාල
ඩායමක් එවකට නවීන පන්නයේ සෝවියට් අහස් යානාවක් වූ
ලා" පැදවීම පුරුදු විය. එය අංග සම්පූර්ණ පුහුණුවීමක් විය. ප්‍රහාරක
ස් එන්ජිම ගැනද, අනිකුත් කොටස් ගැනද කාර්මික ශිල්පය ගැනද
ළ ඉගෙන ගත්හ. අහස් යානා පැදවීමේ ශිල්පය ගැන ශාස්ත්‍රීය
යන් ඇසූ අලෙක්සේයි මවිතයට පත් විය. ඔහු සේවයෙන් ඈත්ව
ඒ කෙටි කාලය තුළදී, සෝවියට් අහස් යානා විද්‍යාව බොහෝ
ස් වර්ධනය වී ඇත. යුද්ධය පටන් ගත් කාලයේදී නවීනතම අහස්
ා වශයෙන් ගැණුනු යානා දැන් යල් පැනපු ඒවා බවට පත් වී ඇත.
ත් "ලාස්තච්කා" සහ සැහැල්ලු "මිග්" වර්ගවලට අයත් අහස්
ා එඩි ගුවනේ සටන් වලට ඔබින ඒවා විය. යුද්ධය පටන් ගත්
දී උසස්තම අහස් යානා වශයෙන් නම් කළ මේවා දැන් නිපදවීම
නවත්වා ඇත. යුද්ධය පටන් ගත් පසු සෝවියට් අහස් යානා

කම්හල් ඉතාමත්ම කෙටි කාලයක් තුළදී ඉස්තරම් අහස් යානා වූ "යාක
"ලා-5" මහ පොළොව මත හැම දෙයක් ම සමතලා කරමින් සතුරාගේ
හිස මත බෝම්බ වෙඩි උණ්ඩ ෂෙල් වෙඩි, පතුරුවමින් ජර්මනුන්ට ම
පෙන් වූ - ජර්මනුන් විසින් "මාරයා" වශයෙන් නම් කරන ලද- ආස
දෙකේ 'ඉල්' යානය ද නිපදවූහ. සටන් වැදී සිටින ජනතාවගේ ප්‍රඥා
විසින් නිර්මාණය කරන ලද සංකීර්ණමය අහස් යානා විසින් අහ
සටන් බල කරන ලදී. සටන් බිමේදී අසමසම නිර්භීත කමක්ද, ඉක්මනි
තමාගේ තත්ත්වය අවබෝධ කර ගැනීමද, සටන නියමිත අංග සම්පූර්
කොටස්වලට බෙදීමද, අණ ලැබෙන තුරු නොසිට අවශ්‍ය හා වුවමන
තීරණ ගෙන සටන් කිරීම ද, සෝවියට් අහස් නියමුවාගේ යුතුකම වි

මේ හැම දෙයක්ම අතිශයින්ම සිත් ගන්නා සුලු විය. ප්‍රති ප්‍රහා
ගැසීම නොකඩවා කැරිණි. ඉඩ පහසු ඇති පංති කාමරයේ වාඩි වී යුද්
විද්‍යාව හදාරන අලෙක්සේයි මෙරේස්යෙව් යුද පෙරමුණට ගොස් සට
කිරීමට ඉඩ නොලැබීම නිසා දුක් විය.

අලෙක්සේයි සමඟ එකම රෝහලක ප්‍රතිකාර ගත් මේජර්
ස්ට්රුච්කොව් ද මේ විද්‍යාලේ පුහුණුව ලැබීම ඔහුගේ සතුටට හේතු විය.
ඔවුහු පැරණි මිතුරන් මෙන් මුණ ගැසුණහ. ස්ට්රුච්කොව් මේ විද්‍යාලට
ආවේ අලෙක්සේයිට සති දෙකකට පමණ පසුවය. ඔහු පැමිණි වහාම
යුද්ධ කාලයට පවා අසමාන වූ දැඩි විනය ගරුකත්වයට කීකරු වී
අනිකුත් අහස් නියමුවන් සමඟ කුළුපඟ විය. අලෙක්සේයි චිත්ත පීඩාවකින්
පසුවන බව වටහාගත් ස්ට්රුච්කොව් රාත්‍රී ආහාරයෙන් පසු ඇඟ සෝදා
නිදා ගැනීමට සැරසෙන විට ඔහු හමු වී මිත්‍ර ලීලාවෙන් මෙසේ පැවසී
ය.

"තරුණයා කණගාටුවෙන්න එපා. මේ යුද්ධය ඉක්මනට ඉවර
වෙන්නේ නැහැ. බර්ලින් දක්වා යා යුතු දුර කොපමණදැයි කියා
බලපන්! අපට යුද්ධ කරන්න ඉඩ ලැබේවි. ඕන තරම් ඉඩ ලැබේවි."

ශීත සෘතුවේ මැද භාගයේදී මෙරේස්යෙව් හා ස්ට්රුච්කොව්
ඇතුළු කණ්ඩායම අහස් යානා පැදවීම ආරම්භ කළහ. කුඩා පියාපත්
ඇති මාළුවකුට සමාන "ලා-5" වර්ගයේ අහස් යානය සදහා පුරුද්දක්
අලෙක්සේයිට තිබිණි. විවේක ඇති වෙලාවලදී ගුවන් තොටුපළට එන
අලෙක්සේයි ඒ අහස්යානය ගුවන් ගන්නා සැටිද, හැරෙන පෙරළෙන
සැටිද, ගුවනේ පිනුම් ගසන විට එම අහස් යානයේ කඳ ලා නිල් පාටින්

ඇඹලෙන සැටි ද, දුටුවේය. අහස් යානයට ළං වූ අලෙක්සේයි එහි පියාපත් අතගාමින් කඳට සෙමින් තට්ටු කළේය. ඔහුට එය යන්ත්‍රයක් නොව උසස් වර්ගයකට අයත් ලස්සන අසකු මෙනි. අහස් නියමුවන් කණ්ඩායම අහස් යාතා පැදවීම සඳහා සූදානම් විය. හැම කෙනෙක්ම ගුවන් ගත වීමට නොඉවසිලිමත් වූහ. පළමුව අහස් යානය පදවන්නේ කවිද යන්න තරහයක් ඇති වූවාක් මෙනි. ගුරුවරයා ස්ට්‍රුච්කොව් පළමුවෙන් කැඳවිය. ඔහුගේ දෙනෙත් ප්‍රීතියෙන් බැබලිණි. මුහුණට දහකාර ගතියක් ආරූඪ විය. තම පැරචූටය බැඳගෙන නියමු ආසනයට උඩින් පියස්ස ස්ට්‍රුච්කොව් වසා ගත්තේ උරුවම් බාමිනි.

"ලා-5" හේ ඇත්පීම හඬ නගමින් දිව්වේ ය. හිම සහිත වළාපටලයක් ඇති කළ අහස් යානය ගුවන් ගත්තේ ය. ගුවන් තොටුපළට ඉහළින් කවාකාර ලෙස පියාසර කළ ස්ට්‍රුච්කොව් ලස්සන පිනුම් කීපයක් ගැසුවේය. ප්‍රහාරක නියමුවෙක් දැන ගත යුතු සරඹ අභ්‍යාස සියල්ල අගනා ලෙස කළේ ය. පියාපතෙන් පියාපතට ද, උඩු යටිකුරු කොටද පෙරළෙමින් ඔහු තම දස්කම් පෙන්වී ය. හිටිහැටියේම අතුරුදහන් වූ ස්ට්‍රුච්කොව් ගුවන් තොටුපළේ ගොඩනැගිල්ලට ඉහළින් මතු වී අහස් යාතාව පැදවීමට තම වාරය එනතුරු බලා සිටි සිසුන්ගේ හිස්වලට වැදෙන නොවැදෙන තරම් ඉහළින් පියාසර කර නැවත අතුරුදහන් වී, නියමිත ස්ථානයට ගොඩබසිනු වස් දක්ෂ ලෙස තම අහස් යානය මෙහෙයැවිය. දුටුවන් බලා සිටියදී අගනා ක්‍රීඩාවකින් ජය ගත් දහකාර කොල්ලකු සේ සිනහවෙමින්, ප්‍රීතිවෙමින්, ප්‍රමෝදයෙන් යුතුව ස්ට්‍රුච්කොව් අහස් යානයෙන් එළියට ආවේ ය.

"යානාවක් නෙවි, වීණාවක්, දෙවියම්පා ඇත්ත වීණාවක්!" යැයි ඔහු කීවේ, ඔහුගේ සාහසික බව නිසා ඔහුට දෙස් පැවරූ ගුරුවරයාගේ කතාවට බාධා කරමිනි. 'චයිකොව්ස්කිගේ සංගීත වාදනයක් පවා වාදනය කළ හැකි" යැයි කී මේජර් ස්ට්‍රුච්කොව් තම ශක්තිමත් දැත් වලින් අලෙක්සේයි වැළඳ ගනිමින් මෙසේ පැවසීය. "ජීවිතය හරිම අගෙයි. අලෙක්සේයි! දෙවියම්පා ඇත්ත!"

අහස් යානය සැබැවින් අපූරුය. හැම කෙනෙක්ම එය වැනූහ. අලෙක්සේයි වාරය පැමිණි විට ඔහු හම් පටි දෙකින් තම බොරු කකුල් යානයේ පැදි පුවරුවට සවිකොට අහසට නැග්ගේ ය. දෙපා නැති ඔහුට මෙවැනි අසකු මෙල්ල කිරීම ලෙහෙසි කාර්යයක් නොවන බැවින් ප්‍රවේසම් විය යුතු බව ඔහු වටහා ගත්තේය. අහස් යානය සමග සම්පූර්ණ

සබඳකම් ඇති වූ විට ලැබෙන සතුට මේ වර ඔහුට නොලැබිණි. අහස් යානයේ යන්ත්‍රවලට පාදවල ස්පර්ශය පමණක් නොව අත්වල වෙව්ලීම පවා දැනිණි. ඒ අනුව අහස් යානය සිය හැසිරීම ගුවනේ වාර්තා කළේ ය. එය සැබැවින්ම වීණාවක් මෙනි. තම ජීවිතයේ පළමුවන වරට දෙපා නැතිවීමේ පාඩුව අලෙක්සේයිට දැනිණි. කෘත්‍රිම පාද කොතරම් ඉස්තරම් ලෙස සාදා තිබුණද ඒවා සැබෑ පා මෙන් ජංගමශීලී නොවී ය.

අහස් යානය ලෙහෙසියෙන් හා නම්‍යතාවයෙන් ගුවන් ගත්තේ ය. අලෙක්සේයිගේ හැම ක්‍රියාවක්ම සැනෙකින් පිළිබිඹු කළේ ය. එහෙත් ඔහු අහස් යානයට බිය විය. කවාකාර ලෙස අහස් යානය හරවන විට තම බොරු කකුල් පමාවන සැටි අලෙක්සේයිට දැනිණි. එසේ පමාවීම නිසා අහස් යානයේ එන්ජිම ගැස්සී මාරක අනතුරකට මුණ පෑමට ඉඩ ඇති බව ඔහු දනී. තමා නොන්ඩි අසකුට සමාන බව අලෙක්සේයිට හැඟිණි. ඔහු බියගුල්ලෙක් නොවීය. ඔහු අහස් යානයට නැංගේ පැරවූටය ගැන ද නොතකමිනි. තමා අතින් සිදුවිය හැකි අතිශය සුළු වැරැද්ද පවා ඔහුට ප්‍රහාරක නියමුවකු වීමට බාධා කරනු ඇත. තමා අතිශයින්ම කැමති වෘත්තියෙන් ඈත් වීමට තමාට සිදුවෙතියි යන බියක් ඔහු තුළ උපණි. ධුවමනාවට වඩා ප්‍රවේසම් සහිත වීම නිසා නියමිත තැනට ගොඩ බැසීමට පවා අලෙක්සේයිට බැරි විය. ඔහුගේ බොරු කකුල්වල පමාවීම නිසා අහස් යානය හිමට ගොඩබට පසු කීප වරක්ම ගැස්සිණ.

තිහඬව, බුම්මාගෙන අලෙක්සේයි අහස් යානයෙන් එළියට ආවේය. සිසු නියමුවෝද, ගුරුවරයාද තමන්ගේ සැබෑ හැඟීම් සඟවා ගනිමින් ඔහුට ප්‍රශංසා කළහ. එහෙත් මේ ඉච්චා සහගත ක්‍රියාව නිසා ඔහු වඩාත් රොස් විය. මාර්තු මාසයේ දී ඔහුගේ අහස් යානය කඩා වැටුණු විට ඔහු මුහුණ පැ ඛේදවාචකයට සමාන හානියකට දැන් ඔහු මුහුණ පෑවේය. දවල් ආහාරය හා රාත්‍රී ආහාරය ගැනීමට ඔහු භෝජන ශාලාවට නොපැමිණියේය. අභ්‍යාස විද්‍යාලේ නීති උල්ලංඝනය කරමින් හෙතෙම සපත්තු පිටින්ම ඇඳ මත වැතිරගෙන, කොට්ටය බදාගෙන සිටියේය. ඔහුගේ දුක දන්නා සේවයෙහි යෙදී සිටි සිසු නියමුවාද අතිකුත් ගුවන්සේනා නිලධාරීහුද ඔහුට දොස් නොපැවරූහ. ස්ට්‍රැච්කොව් පැමිණ තම මිතුරා සමඟ කතා කිරීමට උත්සාහ ගත් නමුදු ඔහුට පිළිතුරු නොලැබුණෙන් ඔහු හිස වනමින් පිට වී ගියේය.

ස්ට්‍රැච්කොව්ට පසු අලෙක්සේයි වෙත පැමිණියේ අභ්‍යාස විද්‍යාලේ දේශපාලන නිලධාරී කැප්පත් ලයිතන් කල්නල් කපුස්තින් ය. හේ මිටි

... බෝතල් අඩිවලට සමාන උපැස් යුවළක් පැළඳ සිටි ඔහුගේ පෙණුම ...ත් නොගත්තේය. ඔහුගේ නිල ඇඳුම කොට්ට උරයකට සමාන විය. ...ජාත්‍යන්තර දේශපාලන තත්ත්වය ගැන ඔහු කළ කතාවලට සිසුහු සතුටින් සවන් දුන්හ. දේශප්‍රේමී මහා යුද්ධයට සහභාගි වීම ගැන ඔහු කළ විස්තරය නිසා, සිසුන්ගේ සිත් ආඩම්බරයෙන් පිරිණි. නිලධාරියෙකු හැටියට ඔහු ගැන කිසිවෙක් සැලකිලි නොදැක්වූහ. සිවිල් නිලධාරියෙක් වන ඔහු ...ස් යානා ගැන කිසිවක් නොදන්නෙකියි ඔවුහු සිතූහ. අලෙක්සේයි මෙරේස්යෙව් ගැන සැලකිලි නොදක්වමින් කාමරය පිරික්සා බැලූ කපුස්තින් ...ට අල්ලා රොස් වී කෑගැසීය.

'මෙතන දුම්බීවෙ මොන යකාද? දුම් බීමට විශේෂ කාමර තියෙනව. ජොෂ්ඨ ලයිතන් සහෝදරය මේකෙ තේරුම මොකක්ද?"

"මම දුම් නොබොන කෙනෙක්" යැයි අලෙක්සේයි පිළිතුරු දුන්නේ උදාසීන ගතියකිනි.

"ඇයි තමුසෙ ඇඳ මත දිගාවෙලා ඉන්නෙ? නීතිය දන්නේ නැද්ද? නිලයෙන් උසස් කෙනෙක් එන විට ඇයි නැගිට්ටෙ නැත්තෙ...? නැගිටිනව" යැයි කපුස්තින් පැවසීය.

එය අණ කිරීමක් නොව, ආචාරශීලී ලෙස පැවසීමකි. මෙරේස්යෙව් හෙමි සෘජුව නැඟිට සිටියේය.

"අන්න හරි ජ්‍යෙෂ්ඨ ලයිතන් සහෝදරය. දන් වාඩි වෙනව. අපි ...ඩ්ඩක් කතා කරමු" යැයි කපුස්තින් කීවේ ය.

"මොනව ගැනද?"

"තමුසෙ ගැන, අපි එළියට යමු. මෙතන දුම්බීම තහනම්. මට දුම් ...න්න ඕන."

ඔවුහු කණාමැදිරි එළියකින් ආලෝක කර ඇති කොරිඩෝරයට ...ත. තිල් පැහැති විදුලි බුබුළු සහිත එහි කවුළුවක් අසල ඔවුහු සිට ...ත. කපුස්තින් තම දුම්කොළ පයිප්පය ගෙන උරන්නට විය. පයිප්පය ...ත හැම වරකදීම දුම්කොළ ඇවිලෙන ගින්නෙන් ඔහුගේ මුහුණ ...ලෝකමත් විය.

"තමුසෙගෙ ගුරුවරයට අවවාද කිරීමට මා බලාපොරොත්තු වෙනවා"

"මොනවටද?"

"විදුහලේ අණදෙන නිලධාරී මණ්ඩලයේ අවසරය නැතිව තමුසෙට අහස් යානය පැදවීමට ඉඩ දුන්න හන්දා.... ඇයි තමුසෙ මා දිහා ඔහොම බලන්නෙ? ඇත්තටම තමුසෙ එක්ක මීට ඉස්සෙල්ල මා කතා නොකළට මටත් දොස් පවරන්න ඕන. මට ඒකට වෙලාවක් තිබුණේ නැහැ. නමුත් මා කලින් හිතාගෙන හිටියා.... කමක් නැහැ... මෙරේස්යෙව් මා කියන දේ අහනව. තමුසෙට අහස් යානා පැදවීම සෙල්ලමක් නොවෙයි. ඔව්... තමුසෙගෙ ගුරුවරයට සැරෙන් කතා කරන්න අදහස් කරන්නේ ඒ හන්ද....."

අලෙක්සේයි නිහඬ විය. තමා ළඟ සිටගෙන දුම් පයිප්පයක් උරන මේ මිනිසා කවරෙක්ද? ඔහු නැතුවට බෙල්ලේ එල්ලා ගැනීමට තරම් අමාරු තත්ත්වයක් ඇතිවී තිබෙන මේ වෙලාවේ ඔහු මෙතනට ආවේ ඇයි. ඔහුට වුවමනා මොනවාද?....

මහත් අමාරුවෙන් අලෙක්සේයි තම හැඟීම් මැඩ ගත්තේ ය. තමා මෙල්ල කර ගත්තේ ය. මාස කීපයක් තිස්සේ විදි දුක් විසින් හදිසි තීරණයන් නොගැනීමට අලෙක්සේයිට උගන්වන ලදී. අලෙක්සේයි විසින් සැබෑ මිනිසකු ලෙස හඳුන්වනු ලැබූ දේශපාලන කොමිසාර් වරබියොව් හා කසුස්තින් අතර එක්තරා සමානකාවයක් ඇති බව ඔහුට පෙනිණ. ඔහුගේ දුම්කොළ පයිප්පයේ මඳ ගින්න නැවත ආලෝක වෙත්ම, ඔහුගේ ලොකු නාසය ද. බුද්ධිමත් දෙනෙත් ද පෙනී, නැවත ඇඳිර පැතිරිණි.

"ඇහෙනවද, මෙරේස්යෙව් මා කැමති නැහැ තමුසෙට බොරු ප්‍රශංසා කරන්න. එහෙත් කොහොම වුණත් දනට මුළු ලෝකෙම දෙපා නැති අහස් නියමුවකුට ඉන්නෙ තමුසෙ විතරයි. ඔව් එකම මිනිහා" ඔහු තම දුම්කොළ පයිප්පයේ නළය ගලවා එහි සිදුර පිරික්සීම පිණිස කනා මැදිරි පහත් ආලෝකයට ළං කළේය. පසුව හිස වනමින් කසුස්තින් මෙසේ පැවසීය. "ප්‍රහාරක අහස් යානා හමුදාවට නැවත බැඳී සේවය කිරීමේ ආශාව ගැන නොවෙයි මම දන් කියන්නෙ. එය ඇත්ත වශයෙන්ම වීර ක්‍රියාවක්. ඒ වුණාට එහි විශේෂයක් නැහැ. හැම කෙනෙක් ම තමන්ට දිය හැකි හැම දෙයක්ම ජයග්‍රහණය සඳහා දෙන වෙලාවක්

බලනවකො මගේ පයිප්පෙ මොනවද හිරවෙලා...!."

කපුස්තින් නැවත තම දුම්කොළ පයිප්පයේ බටය සුද්ද කරන්න ඔහු එම කාර්යයෙහි සම්පූර්ණයෙන්ම යෙදී සිටින බව පෙනිණි. සිටි අලෙක්සේයි කපුස්තින් මොනවා කියති දැයි නොඉවසිල්ලෙන් සිටියේය.

තම දුම්කොළ පයිප්පයේ බටය සුද්ද කිරීම නොනවත්වා කරගෙන අතරම කපුස්තින් තම කතාව නිසා අලෙක්සේයි තුළ ඇතිවිය හැකි ගැන නොසලකා මෙසේ පැවසීය.

"මෙය ජ්‍යොෂ්ඨ ලයිතන් අලෙක්සේයි මෙරේස්යෙව්ගේ පෞද්ගලික ණයක් නොවේ. තමුසෙගෙ දෙපා නැතුවට තමුසෙට පුළුවන් වුණා. ද ශරීර සනීපය ඇති සියයකින් එක්කෙනෙකුටවත් බැරි දෙයක් වන රක අහස් යානා පැදවීම ඉගෙන ගැනීමට. තමුසෙ නිකම් සෝවියට් වැසියෙක් නොවේ. විශාල පරීක්ෂකයෙක්. ඔන්න දන් මම කාරණාව දිලි කරන, තැනට ආවා. මෙතනින් නවතියි කියල සිතුවද?... තමුසෙට මානය අහස් නියමුවකුට මෙන් සලකන්න අපට අයිතියක් නැහැ. හම කිරීමට යුතුකමක් නැහැ. තේරුණාද! තමුසෙ ඉතාම වැදගත් ක්ෂණයක් කරන්නෙ. අපේ යුතුකම තමුසෙට උදව් කිරීමයි. මොන යෙ උදව්ද වුවමනා කියන එක තමුසෙගෙ කාර්යයි. අපට කියනව මුසෙට ඕන මොන විධියෙ උදව්ද?"

නැවත තම පයිප්පයට දුම්කොළ පුරවාගෙන ඔහු දුම් උරන්නට ය. කපුස්තින් දුමක් උරන විට මඳ ගින්න ආලෝකයක් ඇති කරයි. විට අඳුර බිඳ ගෙන ඔහුගේ මුහුණ පැහැදිලිව පෙනිණි.

අභ්‍යාස විද්‍යාලේ ප්‍රධානාචාර්ය තැන සමග කතාකොට අලෙක්සේයි මරේස්යෙව්ගේ අභ්‍යාස වැඩ පිළිවෙළ සහ පියාඹන කාල වේලාව දිගු කිරීමට කටයුතු කරන බව පැවසූ කපුස්තින්, සිය අභ්‍යාස වැඩ පිළිවෙළ අලෙක්සේයි විසින්ම සාදාගත යුතු යැයි දන්විය.

"ඒ වගෙ වැඩවලට පැට්රල් තෙල් කොතරම් වියදම් වේවිද?" යි ඇසූ මෙරේස්යෙව් සිත් නොගන්නා සුළු පෙනුමක් ඇති මේ මිටි පුද්ගලයා ඔහුගේ සැක දුරු කිරීම සඳහා ක්‍රියා කළ සැටි සිතමින් පුදුම විය.

'පැට්‍රල් තෙල් බොහොම වටිනා දෙයක් තමා. ඇත්ත වශයෙන්
ගෙ යුද්දෙ ඇති වෙලාවක. පෙට්‍රල් මතින්නෙ ගැලොම් ගණනි
ටට පෙට්‍රල් වලට වඩා වටිනා දේ තියෙනව'' යැයි කී කපුස්ති
පත්තු අඩියකට දුම්කොළ පයිප්පය ගසමින් දුම්කොළ හිස් ක

ඊළඟ දවසේ සිට අලෙක්සේයි විශේෂ වැඩ පිළිවෙළක් අනු
වෙන්නට පටන් ගත්තේය. බොරු කකුල් ඇඳ ගෙන ගමන් කිරීම
ට හා දිවීමට පුරුදු වුණාක් මෙන් ම දැඩි අදිටනකින් යුතුව පුරු
රම්භ කළේ ය. එපමණක් නොව ඔහු තුළ මහත් ආස්වාදයක්
විය. මුළු මහත් පියාසැරියම විශ්ලේෂණය කොට එහි එක් එ
හා කොටස බැගින් වෙන් කොට හැදෑරීම ද හැම අංග චලනය
දු වීම ද අලෙක්සේයි තම වැඩ පිළිවෙළට ඇතුළු කළේ ය. තරුණ
ඉබේටම වාගේ කළ දෙයක් දැන් ඔහු හැදෑරීය. නුවණින් සොයා
. පළපුරුද්දෙන් කළ දෙය විග්‍රහ කොට බලා ඉගෙන ගත්තේය
යානයක් පැදවීමේදී ඇතිවන සියලු සන්තතිය ඉතා හොඳින
නා කොට එහි හැම කොටසකටම අවශ්‍ය පැදවීම් හා ඒවා ලි
වලින් කරන සැටි කීප වරක්ම පුරුදු විය.

එය කිව නොහැකි තරම් අසීරු කාර්යයක් විය. ආරම්භයේදී
 නොදැනෙන තරම් සුළු විය. අහස් යානය පදවන හැම වාරයකදී
ඔහුට වඩ වඩාත් කීකරු වන සැටි දැනිණි.

"අහා! කොහොමද ආචාර්ය තුමනි!" යැයි දවසක් ද කපුස්තින්
ක්සේයිගෙන් ප්‍රශ්න කළේ ය.

වැඩ සාර්ථක බව හඳුන්වමින් ඔහු තම දකුණතේ මාපට ඇඟිල්ල
ය. ඔහු අතිශයෝක්තියෙන් තම ප්‍රතිඵල වැනුවේ නැත. ප්‍රතිඵල
නොවුණද ස්ථිර ලෙසම බාධා මැඩ ඉදිරියට යන බව පෙනෙන්නට
. වේගයෙන් දුවන අකීකරු අසකු පිට යන විටදී මෙන් අපහසු
ත් හා අස්ථිර ගතියක් අහස් යානය පදවන විට අලෙක්සේයිට
නුනේ ඔහුගේ විශේෂ පුහුණුවීම් නිසා ය. අසරුවාට කීකරු වන
මෙන් හැම වාරයකදීම අහස් යානය වඩ වඩාත් අලෙක්සේයිට
විය. ප්‍රහාරක අහස් නියමුවකුට තිබිය යුතු හැම දක්ෂතාවක්ම ලබා
ට කෙමෙන් ඔහු සමත් විය.

# 11

අලෙක්සේයි මෙරේස්යෙව් අහස් යානය පැදවීම සඳහා බොහෝ
ාවක් යෙදවීය. අහස් යානයේ හැම චලනයක්ම දත ගැනීම වස්,
රු කකුල්වල සම හා ලෝහය විනිවිද හහිනු වස් ඔහු දැඩි ආත්ම
තියකින් යුතුව ක්‍රියා කළේ ය. සමහර විට තමාට අහස් යානය
රු වන සැටියක් දනුණද, ඔහු කිසියම් අභ්‍යාසයක් කළ විගස අහස්
නය තමාට අකීකරු වන සැටි වටහා ගත්තේය. මෙසේ ස්වාධීන
ාසයක් කළ විට අහස් යානය තමාට මෙල්ල නොවීම ගැන
ක්‍රියට හා පසුතැවිල්ලට පත් අලෙක්සේයි නැවත තම මුල් වැඩ
වෙළ අනුව පුහුණු වීම නැවත ඇරඹීය.

මාර්තු මාසයේදී එක් දවසක තදින් හිම වැටිණි. අහස ඇඳිරි
. ගුවන් තොටුපොළ හිමෙන් පිරිණි. අලෙක්සේයි තම ප්‍රහාරක යානය
න ගුවන් ගත විය. දැඩි කුණාටුවකට හසුවුණු අහස් යානය නිතර,
ර නියම මගෙහි යෙදවීමට ඔහුට සිදුවිය. හිම කුණාටුවට එදිරිව
සටනේදී අලෙක්සේයිට තම අහස් යානය මෙල්ල කොට ජය ගත
කි විය. එදින නැවත ගුවන් තොටුපළට හැරී එන විට අහස් යානය
ාට සම්පූර්ණයෙන්ම කීකරු වන සැටියක් දනිණි. එහෙත් ඔහු එය
ශ්වාස කළේ ය. එවැනි හැඟීම් නිසා කීපවරක්ම ඔහුගේ බලාපොරොත්තු
විය. ඔහු තම වාසනාව විශ්වාස කිරීමට එකවරම ඉදිරිපත් නොවූයේ
හේතුව නිසාය.

ඔහු ගැඹුරට කිඳා බැස දකුණට හැරවීය. අහස් යානය අකුරටම
රු විය. ඇඳිරි දවස ආලෝකමත් වූ සැටියකි.

ඔහුගේ පුහුණුවීමේ ප්‍රතිඵල එකවර කිසි අවිද්‍යමාන බලයක්
න් පිරික්සුමට භාජනය කළ සැටියකි. දත් ඔහු එම දීර්ඝ පුහුණුවීමෙන්
ි ඵල ලබා ගැනීමට පටන් ගෙන ඇත. ඔහුට මෙතෙක් ලබා ගත
හැකි වූ ප්‍රධාන දෙය දත් ඔහුට ලැබී ඇත. තම ප්‍රහාරක අහස්
නය දත් අලෙක්සේයිට තම සිරුර මෙනි. එහි හැම චලනයක්මත්
ස්වක්මත් ඔහුට ඉතා හොඳින් දැනේ. ඔහුගේ අප්‍රාණික බොරු
කුල්වලට පවා මේ දනීම හා ස්පර්ශය නැවැත්වීමට නොහැකි විය.
ියට හා ප්‍රබෝධයට පත් අලෙක්සේයි ගුවනේ කවයන් කීපයක් අදිමින්
ම අහස්යානය පැදවීය. ඉන්පසු අතියයින්ම අසීරු අභ්‍යාසයක් වන
ාත්තුව හෙවත් මළ පුඩුව" ගුවනෙහි ඇඳ පෙන්වීය. එවිටම වාගේ

අහස් යානය ගැස්සෙන්නට විය. තමාට පහළින් ඇති හැම දෙයක් ම.. ගුවන් තොටුපළ කුළුණ, කාලගුණ වාර්තා කාර්යාලය - එකම කවයකට පැදී ගැස්සෙන කරකැවෙන සැටියක් ඔහුට දනිණි. ඔහු ගැස්සෙමින් තිබුණු අහස් යානය ස්ථිර ලෙස මෙල්ල කොට වටයක් පැදවිය. යුද්ධ කාලයේදී සුප්‍රසිද්ධ "ලා-5 " වර්ගයේ අහස් යානයේ සියලු රහස් තමාට දැන ගන්නට ලැබුණු බව අලෙක්සේයිට වැටහිණි. අහස්යානය පළපුරුදු අත්වලට පත්විද! අලෙක්සේයිගේ අණට කීකරු වූ අහස් යානය අසිරු, සංකීර්ණ අභ්‍යාස රූප කීපයක් ඇඳ රොකට්ටුවක් මෙන් වේගයෙන් ඉහළ නැග්ගේය.

අලෙක්සේයි තම ජයග්‍රාහී පියාසැරියෙන් පසු අහස්යානයෙන් එළියට ආවේ ප්‍රබෝධයෙන් මත් වූවකු ලෙසිනි. ඔහුගේ සිතාවෙහි සාහසික බවක් තිබිණි. කෝප වූ ගුරුවරයා ඔහුට බැණවදින සැටි පවා නෑසුණාක් මෙන් ඔහු ගමන් කළේ ය. සාහසික ලෙස අහස්යානය පැදවීම නිසා ඔහුට දඬුවම් විඳීමට සිදුවේද? කමක් නැත. ඔහු එයට සූදානම්ය. එක් කරුණක් පැහැදිලිය. ඔහු - අලෙක්සේයි හොඳ අහස් නියමුවෙකි. අතිශයින් ම වටිනා ද්‍රව්‍යයක් වන පැට්රල් නාස්ති වුණද පුහුණුවීම ඉතා හොඳ ප්‍රතිඵල ලබා දී ඇත. පැට්රල් මෙන් සිය ගුණයක් වටිනා ජයග්‍රහණයන් ලබා දීමට ඔහුට හැකි බව සිතේ. ඉක්මනට යුද පෙරමුණට ගොස් සටන් වලට සහභාගිවීමට පුළුවන් නම්!

නේවාසිකාගාරයට ගිය අලෙක්සේයිට තවත් සතුටුදායක පුවතක් ලැබිණ. ග්වොස්දෙව් එවූ ලියුමක් ඔහුගේ ඇඳෙහි කොට්ටය මත තිබිණි. එම ලියුම අලෙක්සේයි අතට පත් වීමට පෙර කොතෙක් දුර ගමන් කර තිබේද, කී දෙනෙකු අතට පත් වී ඇතිද යන්න එය තැළී පොඩි වී තිබෙන සැටියෙන් පෙනිණි. පරණ කවරය වෙනුවට අන්යූටාගේ අත් අකුරින් ලියන ලද අළුත් කවරයක් තුළ එම ලියුම බහා තිබිණි.

යුද්ධ ටැන්කි ලයිතන් තැන අලෙක්සේයිට තමා මුහුණ පෑ අභාග්‍යය ගැන විස්තර කරමින් ලියුවේය. ජර්මන් අහස් යානයක පියාපතක් වැදීම නිසා ඔහුගේ හිස තුවාල විය. රෝහලේ නැවතී ප්‍රතිකාර ලැබූ ඔහු ළඟදීම ඉන් පිටවීමට බලාපොරොත්තු වෙන බවද ලියා තිබිණි. ඔහු එම අභාග්‍යයට මුහුණ පෑ සැටි මෙසේ විය: හයවැනි ජර්මන් හමුදාව වට වූ පසු, පසුබසිමින් සිටි ජර්මන් පෙරමුණ බිඳ ගෙන ඔවුන්ට පිටුපසින් පහර දුන් යුද්ධ ටැන්කි හමුදාවේ ග්වොස්දෙව්ගේ යුද්ධ ටැන්කිය ද විය. මේ සටනේදී යුද්ධ ටැන්කි සේනාංකයක් මෙහෙයැවීම ග්වොස්දෙව්ට භාර විය.

එය දරුණු පහරක් විය. සෝවියට් යුද්ධ ටැන්කි ජර්මන් ආරක්ෂක පවුරු බිඳිමින් සතුරු දුම්රිය මාර්ග විනාශ කරමින් සතුරා තැති ගන්වමින් පහර දුන්හ. ජර්මන් බලකොටුවේ ඉතිරිව සිටි භටයෝ හිස් ලූ ලූ අත පලා ගිය විට, සෝවියට් පාබල හමුදාවෝ සතුරු වෙඩි බෙහෙත් ගබඩා, පාලම්, දුම්රිය මාර්ග පාලක ස්ථාන ආදියට පහර දී ඒවා විනාශ කළහ. මේ නිසා පසුබසින ජර්මන් හමුදාව කොටුවිය. සෝවියට් යුද්ධ ටැන්කි කිනම් මගක් ඔස්සේ ඉදිරියට යන්නේ දැයි සතුරාට දැන ගැනීමට ඉවක් නොතැබූ සෝවියට් හමුදාවෝ අල්ලා ගනු ලැබූ සතුරු ඛනිජ තෙල්, ආහාර ආදිය ප්‍රයෝජනයට ගනිමින් නැවත පහර ගසමින් ඉදිරියට ගියෝය.

"..... මා අභාග්‍යයට මූණපෑවේ මෙහෙමයි. යුද්ධ ටැන්කි හමුදාවේ සෙනවියා අප කැඳවා මෙතැන සිට තරමක් දුරින් සතුරු ගුවන් තොටුපළක් තිබෙන බවත්, එහි සතුරු අහස් යානා තුන් සියයක් පමණ තිබෙන බවත්, ඔත්තු බලන සෝවියට් අහස් යානාවක් තමාට දන් වූ බව පැවසීය. 'ග්වොස්දෙව් අද රෑට තමුසෙ යුද්ධ ටැන්කි කණ්ඩායමක් අරගෙන ඒ ගුවන් තොටුපළට යන්න ඕන ශබ්ද නොකර, ගුවන් තොටුපළට හොඳටම ළං වූ පසු පහර දෙන්ට ඕන. එකම බැල්ලිගෙ පුතෙකුටවත් පණ බේරාගෙන යන්ට ඉඩ තියන්න එපා. යැයි සෙනවියා පැවසීය. මේ කාර්යය සඳහා මට යුද්ධ ටැන්කි සේනාංක දෙකක් භාර දෙන ලදී. හමුදාවේ ඉතිරි යුද්ධ ටැන්කි රස්ටොව් බලා ගියේය.

"ඉතින් අලෙක්සේයි අපි ඔය ගුවන් තොටුපළට වැදුණේ කුකුළු කොටුවට වැදුණු හිවල්ලු වගෙ. ගුවන් තොටුපළේ ප්‍රවාහණ පාලක කාර්යාලය දක්වා අපි ගියා. අපව කිසිවෙක් නැවැත්තුවෙ නැහැ. පාර මීදුමෙන් වැසී තිබුණා. උන්ට ඇහුණෙ යුද්ධ ටැංකිවල හඬ විතරයි. සතුරා හිතුව අපිත් ජර්මනුන් කියල. ඉතින් අලෙක්සේයි අපි හොඳටම ළං වෙලා ලෝහ පසා කරගෙන යන වෙඩි උණ්ඩවලින් වෙඩි තැබුවා. එක පහරකින් ජර්මන් අහස් යානා පහක් හෝ හයක් හෝ බැගින් විනාශ වුණා. ඔය විධියට පහර දීලා කාර්යය ඉටු කරන්ට බැරි බව අවබෝධ වුණා. සමහර ජර්මන් අහස් නියමුවෝ උන්ගෙ අහස් යානාවල එන්ජිම ක්‍රියා කරවන්ට පටන් ගත්තා. යෝධ ප්‍රවාහන අහස් යානාවල එන්ජිම්වලට ඉක්මනට පහර දෙන්ට බැරි බව පෙනුණා. අපි යුද්ධ ටැන්කිවල කවුළු වසා දමා සතුරු අහස්යානාවල වලිග පොඩිකර විනාශ කරන්ට පටන් ගත්තා. වලිගය නැති වුණාම ඉගිලෙන්ට බැහැ නෙව. හරියට එන්ජිම නැතිවුණා වගෙ. මම මගේ යුද්ධ ටැන්කියෙ කවුළුව ඇරල වට පිට

ලන්ට හිස එළියට දමූ හැටියෙම අහස් යානාවක පියාපතකින් කොටසක්
ගේ හිසට වැදුණා. මගේ වාතේ හිස්වැස්ම හන්දා මා බේරුණා.
ැකිනම් මම එදා කපෝතියි. දැන් ඒවා සියල්ල යටගියාවට අයිතිය.
ක්මනින් ම සම්පූර්ණ සුවය ලබා මම මගේ යුද්ධ ටැන්කි කණ්ඩායමට
නවා. මට වුණ අනික් අභාග්‍යය මෙයයි. රෝහලේදී මගේ යටි රැවුළ
පා දැම්මා. බොහෝ කාලයක් තිස්සේ මම ප්‍රවේසමින් ඔය රැවුළ
ැව්වෙ. කිසිම කනගාටුවක් නැතුව ඒ අය මගෙ රැවුළ කපලා දැම්මා.
මක් නැහැ! යුද්දෙ ඉවර වෙන්න ඉස්සෙල්ල තවත් රැවුළක් වවා මගේ
වලස්සන මුහුණ සඟවා ගැනීමට හැකි වෙතියි මා හිතනවා. අලෙක්සේයිට
ව කරුණක් කියන්න ඕන. අන්යූටා මගෙ රැවුළට විහිළු කරමින් ලියුම්
වනවා. එයා කියනව මට රැවුළ බූ ගා දමන්නට කියල."

ලියුම දිගය. රෝහලේ ප්‍රතිකාර ලබමින් සිටි ග්වොස්දෙව් කාන්සිය
රු කර ගැනීම පිණිස මේ ලියුම ලියූ බව පෙනිණි. ස්ටාලින්ග්‍රාඩ් සටන
වසානයේදී ග්වොස්දෙව්ගේ යුද්ධ ටැන්කිය කැඩී ගියෙන්, අලුත් යුද්ධ
ැන්කියක් ලබා ගැනීම සඳහා යන අතර පාබල හමුදාවට එක්ව සටන්
ිරීමට ඔවුන්ට සිදුවිය. මමායෙව් කුර්ගානයේදී ග්වොස්දෙව්ට මහලු
ස්තෙපාන් ඉවානොවිච් හමු විය. විශේෂ පුහුණුවක් ලැබූ ස්තෙපාන්
වානොවිච් දැන් යුද්ධ ටැන්කි නාශක හමුදාවේ සාජන්ට් මේජර් ධුරයක්
රන බව ග්වොස්දෙව් ලියුවේ ය. ඉස්සර ස්තෙපාන් ඉවානොවිච් තිදල්ලේ
රු රැස් නාමින් සිටි ජර්මනුන් එකා බැගින් මරා දැම්මේ ය. දැන් ඔහු
ලාකු දඩයමක යෙදී සිටි. යුද්ධ ටැන්කි විනාශ කිරීමේදීත් මේ දක්ෂ
ඩයක්කාරයා තම නිපුණත්වය ද, ශෛලමය ඉවසීම ද, ධෛර්යය ද,
ලක්කයට වෙඩි තැබීමේ දක්ෂතාවය ද පෙන්වමින් සටන් කළේය.
වොස්දෙව් හමුවීම නිමිත්තෙන් දූරදර්ශී ස්තෙපාන් ඉවානොවිච් විසින්
ල වර්ගයේ ජර්මන් වයින් බෝතලයක් විවෘත කොට අනිත් අයත්
මඟ එකතුව පානය කළේය. මෙය ජර්මනුන් ගෙන් උදුරාගත් ආහාර
ාගයක තිබුණකි. ස්තෙපාන් ඉවානොවිච්, මෙරේස්යෙව්ට උණුසුම් සුබ
ැතුම් එවන බව ද එහි සඳහන් විය. යුද්ධයෙන් පසු තිදෙනාම ජීවතුන්
අර සිටියොත්, ලේනුන් හා කුරුල්ලන් දඩයම් කිරීම සඳහා තම සමූහ
ාවිපළට පැමිණෙන ලෙස මහල්ලා අලෙක්සේයි, මෙරේස්යෙව්ට හා
වොස්දෙව්ට ආරාධනා කරන බව දන්වා තිබිණි.

ග්වොස්දෙව් විසින් එවන ලද මේ ලියුම නිසා අලෙක්සේයි තුළ
ණුසුමක් ද, කනගාටුවක් ද ඇති විය හතළිස් දෙවැනි වාට්ටුවේ සිටි
ම කෙනෙක් ම පෙරමුණ ගෙන යුද්ධ කරති. ග්රිගෝරි ග්වොස්දෙව්

ස්තෙපාන් ඉවානොවිච් දත් කොහිද? යුද පෙරමුණේ කිනම් තැනක ත් ඔවුහු සටන් කරත්ද? ඔවුන් ජීවතුන් අතරද? ඕල්යා කොහිද?....

යුද පෙරමුණේ සිට එන ලියුම් නිවී ගිය තරුවක ආලෝක ධාරාවකට සමාන යැයි දේශපාලන කොමසාරිස් කළ ප්‍රකාශය ලෙක්සේයිට මතක් විය. තරුව නිවී ගියද එහි ආලෝක ධාරාවක් දිලි ප්‍රීතිමත් ආලෝකයක් ඇති කරමින් විහිද යයි. නොපවතින එම තරුවේ ආලෝක ධාරාවක් මිනිසුන් වෙත සුභාරංචි ගෙන එයි.

## හතරවන කොටස

## 1

1943 ගිම්හානයේ එක් උෂ්ණ දවසකදී, ඉදිරියෙන් ගමන් ක
සෝවියට් යුද්ධ හමුදාවේ පෙරමුණු බල ඇණි විසින් තණ කොළ ස
කුඩා පැලෑටි පාගා සාදන ලද පාරක් ඔස්සේ පරණ ට්‍රක් රථය
වේගයෙන් ගමන් කළේ ය. කුඩා වළවල්වල වැටෙමින් ගොඩ එමින්
රිය යුද පෙරමුණ බලා ගියේය. දූලි ගැවුණු රියේ දෙපස සුදු පැහැ
කුඩා අකුරින් මෙසේ ලියා තිබිණි. ''යුද පෙරමුණේ තැපැල් සේවය'' රථ
පිටුපසින් නැගෙන දූලි, වලාකුළු මෙන් සැදී ඉහළ නැංගේ ය.

ලියුම් මිටි සහිත මලු සහ පුවත්පත් ගොඩක් සහිත මෙම රියෙ
අහස් යානා හමුදාවේ නිලධාරීහු දෙදෙනෙක් ද ගමන් කළහ. රිය සෙලවෙන
විට ඔවුහුද සෙලවුණහ. මේ දෙදෙනාගෙන් එකෙක් තරුණ ය. ඔහුගෙ
අලුත් නිල පටි අනුව ඔහු අහස් හමුදාවේ සාජන්ට් මේජර් කෙනෙකි. ඔහු
සින්දැරි ය. කඩවසම් ය. ඔහුගේ හිස කේ රන් පැහැති ය. ඔහුගෙ
මුහුණේ හම කොතරම් සිනිඳුද යත්, ලේ නහර පවා රත් පැහැයෙන් සම
විනිවිද පෙනිණි. ඔහුගේ වයස අවුරුදු දහනවයකට වැඩි නොවූවද, ඔහු
පළපුරුදු සෙබළෙකු මෙන් හැසිරීමට වෑයම් කළේ ය. දත් අතරින් කෙළ
ගැසූ හෙතෙම බැරෑඩි හඬකින් බැණ වැදුනේය. ඇඟිල්ලක් තරම් මහත
සිගරැට් එතුවේ ය. හැම දෙයක් ගැනම උදාසීන ලෙස බැලීය. මේ සියලු
ලක්ෂණ මැද ඔහු පළමුවරට යුද පෙරමුණට යන බවත් ඔහු කැළඹී
සිටින බවත් පෙනෙන්නට තිබිණි.

ඔහු සමග ගමන් ගත් අනෙක් සගයා පළපුරුදු සෙබළකු බව
එකවරම පෙනිණි. හේ ජ්‍යෙෂ්ඨ ලයිතන් කෙනෙකි. බැලූ බැල්මට ඔහුගේ
වයස විසි හතරක් හෝ විසි පහකැයි කිව හැකිය. එහෙත් අව්වට දැවුණු
ඔහුගේ මුහුණේ ලකුණු අනුව - ඇස් වටේට කට දෙපස හා නළලේ
රැලි නිසා ද, කල්පනාකාරී විඩාපත් ඇස් නිසා ද ඔහුගේ වයසට තව
අවුරුදු දහයක් වැඩි කළ හැකිය.

මිටිවලට බැඳ තිබුණු පුවත්පත්වලින් සැප පහසු ආසනයක්
සාදාගත් ජ්‍යෙෂ්ඨ ලයිතන් තැන එහි වාඩි වී නිකට සැරයටියක් මත
තබා ගෙන නිදි කිරා වැටෙන්නට විය. කළුවර ලීයෙන් සාදන ලද ඒ
අපූරු සැරයටියේ රන් අකුරු දෙකකි. ඉඳ හිට අවදි වන ජ්‍යෙෂ්ඨ ලයිතන්
තැන උණුසුම් සුවඳ වාතය ළය පුරා ඇද ගත්තේය. ඈත අහසේ කුඩා

දෙකක් ඔහුගේ ඇසට ලක්විණි. ඔහු මහත් වුවමනාවෙන් ඒවා දෙස විට, ඒ අහස් යානා බව පෙනිණි. එකිනෙකා පුහුබඳිමින් වැඩි ...යකින් සොරව පියාඹන අහස් යානා දුටු හෙයින් ප්‍රබෝධමත් ... ඇත කළු ලපවලට සමාන ඒ අහස් යානා දෙක බලාගත් වනාම ඔහු ... රථයේ රියැදුරු කාමරයේ පියස්සට මිටින් ගසමින් කෑගැසීය.

"මහ පාරෙන් හරවපන්! ආවරණයක් සොයන්ට ඕන!" නැගිට ... ජ්‍යෙෂ්ඨ ලයිතන් තැන වටපිට සැනෙකින් පිරික්සා කුහරයක් තුළින් ... යන දිය පාරක් දක රථය ඒ දෙසට හරවන ලෙස අණ කළේ ය. ... නොයෙකුත් වල් පැලෑටි හා පඳුරුද, තණ ද වැවී තිබිණි.

තරුණ සාජන්ට් මේජර් තැන සාවඥ ලෙස සිනාසුණේය. ඇත ...හස් කිසිවකුට හානියක් නොවන ලෙස පියාඹන අහස් යානාවලින් ... නැවමින් දුවන මේ රියට හානියක් වන්නේ කෙසේදැයි ඔහුට වටහා ... නොහැකි විය. ඔහු තම විරුද්ධත්වය ප්‍රකාශ කිරීමට පළමුව රියැදුරා ... මහ පාරෙන් හරවා ගෙන බිම් ගෙයක් වැනි කුහරය දෙසට පැදවිය.

ජ්‍යෙෂ්ඨ ලයිතන් තැන රියෙන් පැන තණ බිම මත වාඩි වී අහස් ...රීක්සා බැලී ය.

"තමුසෙට මක් වෙලාද....." සාවඥ ලෙස තරුණයා ඔහු දෙස ... කීවා පමණකි. තණ බිම මත දිගාවුණු නිලධාරියා තරුණයාට කෑ ...ගැසීය.

'වැතිරියන්!"

එවිටම වාගේ යෝධ එන්ජින් යන්ත්‍ර දෙකක බියකරු හඬ ඇසිණි. ... අහස් යානා දෙක මහ ඝෝෂාවක් ඇති කරමින් ඔවුන්ගේ හිස්වලට ...ළින් පියාසර කළෝය. තරුණයා මෙයින් බිය නොවූයේ ඒ අහස් ... සෝවියට් යුද හමුදාවට අයත් විය යුතුයැයි සිතූ බැවිනි. ගෝ... ...පිට බැලීය. මහ මග අසල තිබුණු යකඩ මල කෑ පරණ ලොරිය ... වැසී ගොස් ගිනි ගත් සැටි ඔහුට පෙනිණි.

"ගිනි ඇවිලෙන බෝම්බ දමනවා" යැයි රියැදුරු තැන මඳ සිනා ... කියන්නේ, ගිනිගෙන දැවෙන රථය දෙස බලමිනි. "පැසිස්ට්කාරයෝ ...වලට පහර දෙනව".

තණ බිම මත වඩාත් පහසු ලෙස වැතිර ගත් ජෝෂ්ඨ ලයිතන් ...ැන "උත් දඬයක්කාරයෝ!" යැයි පැවසීය. "අපට නැවති සිටීමට සිදුවේවි. ...තුරා ආපසු අප සොයා එනවා සහතිකයි. ඩ්‍රයිවර් උන්නැහෙ තමුසෙගෙ ...ථය අන්න අර බිරියෝජ්සා ගහ යටට ගෙනියන්න."

ජෝෂ්ඨ ලයිතන් තැන එසේ කීවේ ජර්මන් අහස් නැව්යෝ තම ...දහස ඔහුට විශේෂ පණිවුඩයක් මගින් දන්වූවාක් මෙන් ස්ථිරත්වයකින් ...ා විශ්වාසයකිනි. කැළඹුණු තරුණයා නොසැලකිල්ලෙන් මෙසේ පැවසීය.

"මෙතන ඉන්නවාට වඩා හොඳයි යනවා. කාලය නාස්ති කරන්නේ ...මොකටද? එල්ලා මැරීමට නියම වුණු මිනිහා ගිලෙන්නේ නැහැ."

ජෝෂ්ඨ ලයිතන් තැන තණ පැළයක් සපමින් තරුණයා දෙස ...ැලීය. කළු පැහැති ඔහුගේ ඇස්වල නොසතුට මුසු උපහාසාත්මක බවක් ...තිබිණ.

"ඒයි යාළුවා මෙහෙ අහපන්. තමුසෙ ඔය මෝඩ කතාව අමතක ...රනව. තවත් එක කරුණක් ගැන මතක් කරන්ට ඕන සාජන්ට් සහෝදරය. ...ද පෙරමුණේ නීතිය අනුව උසස් නිලධාරීන්ගේ අණට කීකරු වෙන්ට ...ඕන. "බිම වැතිර දිගාවෙයන්" කියල අණ කළාම එහෙම කරන්න ඕන."

ජෝෂ්ඨ ලයිතන් තැන තවත් පැළෑටියක් ගෙන සෙමින් සපන්නට ...වූයේ එහි පිටපොත්ත ගලවා දමමිනි. නැවත එන්ජින්වල හඬ ඇසිණි. ...මහ මගට ඉහළින් වේගයෙන් පියාඹා ගිය අහස් යානාවල පියාපත්හි ...ඇඳ තිබුණු සුදු කුරුසය ද, එක් යානයක බඳයේ ඇඳ තිබුණු ඉස්කෝප්ප ...ආසියා සටහනද ඔවුහු දුටහ. ජෝෂ්ඨ ලයිතන් තැන තවත් පැළෑටි ...කීපයක් උදුරමින්, උදාසීන ලෙස අත් ඔරලෝසුව දෙස බලා රියැදුරාට ...අණ කළේ ය.

"යමු යන්ට. දන් ඉතින් යන්ට පුළුවනි. යාළුවා ඉක්මනින් මෙතැනින් ...පිටවෙන්ට ඕන."

"ආයෙමත් සතුරු අහස් යානා නොපැමිණේකියි ලයිතන් සහෝදරය ...දන්නේ කොහොමද" යි තිගැස්ව සිටි තරුණයා ප්‍රශ්න කළේ, ගල් මුල්වල ...රිය හැප්පෙන විට, ඒ අනුව තමාත් වැනෙමිනි.

"ඒක එතරම් අමාරු වැඩක් නොවෙයි. ඔය ජර්මන් අහස් යානා
දුර්ගය "මෙසර්ස්" "මෙ-109" ඒවාවල පැට්‍රල් තෙල් ටැන්කිය විනාඩි
හතළිස් පහක් තුළදී හිස් වෙනව. ඊට පස්සෙ උන්ට සිද්ද වෙනව පැට්‍රල්
ටැන්කි පුරවා ගැනීම සඳහා ගුවන් තොටුපළට යන්ට."

ඔහු එය විස්තර කළේ උදාසීන ගතියකිනි. මෙවැනි සාමාන්‍ය දේ
කොදන සිටීම ඔහුට තේරුම් ගත නොහැකි විය. තරුණයා අහස දෙස
දවමනාවකින් බලන්නට විය. "මෙසර්ස්" අහස් යානා පළමුවෙන් දකීමට
ඔහු තුළ මහත් ආශාවක් ඇති විය. අවට වාතය පිරිසිදුය. තණ පුවළ
මුහු නැවුම් සුවඳක් පැතිර ගියේය. අව්වට පිළිස්සෙන පසින් දූලි නැගී
ඇඹ. තණ පෙත්තෝ මහ හඬින් ශබ්ද කළහ. කොවුලෝ මිහිරි ගී ගැයූහ.
මේ සියල්ල නිසා තරුණයාට ජර්මන් අහස් යානා ගැන අමතක වූයෙන්
ඔහු ඒ දවස්වල යුද හටයින්ගේ ජනප්‍රිය ගීතයක් ගයන්නට විය. යුද
පෙරමුණේ අගලක සිටින තරුණ යුද භටයෙක් තම සුන්දරිය සිහි කරමින්
ගයන ගීතයකි ඒ......

තැපැල් රිය කුඩා ගමක මගකට පිවිසෙන විට ඇඳිරි වැටී
තිබිණි. අහස් යානා සේනාංකයක ප්‍රධාන කාර්යාලයක් අසල පිහිටා
ඇති බව පළපුරුදු ඇස්වලට පෙනිණි. චෙරි ගස් සහ ඇපල් ගසක අතු
අතරින් ටෙලිෆෝන් කම්බියක් විහිද යන සැටි දකිය හැකි. ගොවීන් තම
උපකරණ සහ කරත්ත තබන මඩුවක් අසල 'එම්කා'' සහ 'විලිස්'' රථ
කීපයකි. කණමැදිරි එළියක් ඇති ගොවි පැළක යුද ඇඳුමින් සැරසුණු
අය වැඩවල යෙදී සිටින සැටි එහි ජනේලයෙන් පෙනිණි. ටයිප් රයිටර
ක්‍රියා කරන හඬ ද විදුලි කම්බි රාශියක් එකට ඇදී ඇති තැනින් ටික් -
ටික් යන හඬ නගමින් විදුලි පණිවුඩ හුවමාරු කරන හඬක් ද
ඇසෙන්නට විය.

තැපැල් රිය ගමේ පාසල් ගොඩනැගිල්ල ඉදිරිපිට නවත්වන ලදී.
පාසල් ගොඩනැගිල්ලේ එක් ජනේලයක් තුළට ඇදා තිබෙන විදුලි කම්බි
ද ගොඩනැගිල්ල මුර කරන මැෂින් තුවක්කු භටයාද නිසා එය ප්‍රධාන
කාර්යාලය බව හඳුනා ගත හැකි විය.

"මට සේනාංකය භාර නිලධාරියා හමුවන්ට ඕන" යැයි ජොෂ්ට
ඔසිනත් කැත සේවයෙහි යෙදී සිටි නිලධාරියාට පැවසීය.

සේනාංකය භාර නිලධාරියාගේ කාර්යාල කාමරය පිහිටා ඇත්තේ

ලොකු පංති කාමරයක ය. මිස් ලීයෙන් සාදන ලද එම කාමරය මැද
ඒක් මේසයකි. එහි ටෙලිෆෝන් යන්ත්‍ර කීපයකි. අහස් සිතියම් සහිත හම්
බෑගයකි. රතු පැන්සලයකි. මිටි, තඩිසර පුද්ගලයෙක් වූ සේනාංකය
භාර නිලධාරියා තම කාර්යාල කාමරය තුළ ඒ මේ අත ඇවිදිමින්
සිටියේය. ගැඹුරු කල්පනාවෙක යෙදී සිටි හෙතෙම සීරුවෙන් සිටගෙන
හුන් අහස් යානා භටයින් දෙදෙනා නොදිටි ය. හිටිහැටියේම ඔවුන්
දෙදෙනා ඉදිරිපිට නැවතුණු නිලධාරියා විමැසිල්ලෙන් ඔවුන් දෙස බැලී
ය.

"ජ්‍යෙෂ්ඨ ලයිතන් අලෙක්සේයි මෙරේස්යෙව් වාර්තා කරනවා"
යැයි සීරුවෙන් සිටි ලයිතන් තැන සපත්තු අඩි එකට හප්පමින් ආචාර
කරමින් කියා සිටියේ ය.

"සාජන්ට්- මේජර් අලෙක්සාන්දර් පෙත්රෝව්" යැයි තමා හඳුන්වා
දුන් තරුණයා වඩාත් වැරෙන් සපත්තු අඩි හප්පමින් ආචාර කරමින්
ටිගසක් මෙන් සෘජුව සිටියේය.

"සේනාංකය භාර නිලධාරි කර්නල් ඉවනෝව් මම" යැයි කී
නිලධාරියා නිවේදනයක්ද?" යි ඇසී ය.

අලෙක්සේයි මෙරේස්යෙව් තම සිතියම් බෑගයෙන් සන්දේශය ගෙන
නිලධාරි තැනට භාර දුන්නේ ය. නිලධාරියා ඉක්මනින් එය කියවා තමා
ඉදිරියේ සිටගෙන සිටන්නන් දෙස විමසුම් සහිත බැල්මක් හෙළී ය.

"හොඳා! නියම වෙලාවට තමුසෙල ආවෙ. ඇයි මෙතරම් අඩු
ගණනක් එව්වෙ?" යැනෙකින් ඔහුට යම් කිසිවක් මතක් වූවාක් මෙන්
විස්මයට පත්වෙමින් බැලිය. 'ප්‍රධාන කාර්යාලයෙන් මට දැනුම් දුන්නා.
තමුසෙද මෙරේස්යෙව්. එයා මට කිව්වා තමුසෙ....."

"කර්නල් සහෝදරය එය අවශ්‍ය කරුණක් නොවේ" යැයි ඔහුගේ
කතාවට බාධා කළ අලෙක්සේයි, "වැඩ භාර ගැනීමට අවසර දෙන්නැ" යි
ඉල්ලා සිටියේය.

කුතුහලයෙන් යුතුව ලයිතන් තැන දෙස බැලූ නිලධාරියා ඔහුගේ
ඉල්ලීම පිළිගනිමින් මඳ සිනා පාමින්, මෙසේ කීවේ ය.

ඒ කුඩා ගෙයි අහස් නියමුවෝ නව දෙනෙක් නිදා ගත්හ. සමහරු ඇඳන්වල ද, අන් සමහරු පිදුරු ගොඩවල් මත එළන ලද ඇඳන්වලද නිදාගත් අතර ගෙදර හාම්පුතා, ඔහුගේ බිරිඳ සහ තරුණ දූ විශාල රුසියානු උදුන මත නිදා ගත්හ.

නවකයෝ දොර ළඟ සිටගෙන ගෙතුළට යන්නේ කොහොම දැයි කල්පනා කළෝය. උදුන මත නිදා සිටි මැහැල්ල කෝපාන්විතව කෑ ගැසුවා ය.

"ඉඩ නැහැ. ඉඩ නැහැ. පේනව නේද නිදා ඉන්න හැටි. උඹලව සිලිමේ එල්ලන්ටද?"

තරුණ පෙත්රොව් ලජ්ජා වී ආපසු යන්ට හැරෙත්ම, අලෙක්සේයි නිදා හුන් අය නොපෑගෙන සේ පා තබමින් මේසය ළඟට ගොස් මෙසේ කී ය.

"අනේ අම්මේ අපට කෑම ටික කන්න ඉඩ ලැබුණොත් ඒ ඇති. අද මුළු දවසෙම කෑමක් නැහැ. පිහානකුයි, කෝප්ප දෙකකුයි දෙන්න! නිදා ගන්න අපි ගෙවත්තට යනව. අද උණුසුම් දවසක් නෙව."

රොස් වූ මැහැල්ලට පිටුපසින් නැගී සිටි සිහින් සිරුරක් කුඩා දෙපා සමබරට තබමින් නිදා සිටින්නවුන්ගේ සිරුරුවලට උඩින් පනිමින් ගබඩා කාමරයට ගොස් පිහන් සහ කෝප්ප දෙකක් ගෙනාවා ය. ඇගේ සිහින් ඇඟිලි කෝප්ප අඩු පැළඳ සිටියේය. ඇය කොලු ගැටයෙකි යි පළමුව පෙත්රොව් සිතුවද, ඈ පහන් ආලෝකයට ළං වූ විට රූමත් එකියක් බව දැන ගත්තේය. ඈ ඇඳ සිටි දුඹුරු හැට්ටය සහ ගෝනි රෙදි සාය ඇගේ රුව යටපත් කළේ ය. හිස වසා සිටි පරණ කඩමාලු සලුව ඇයි මැහැලියක් කළේය.

"මරීනා, මරීනා, මෙහෙ වර ලජ්ජා නැති කෙල්ල!" යැයි මැහැල්ල ඇට දොස් පැවරුවා ය.

මැහැල්ලගේ කෑ ගැසීම ඇට ඇසුණු බවක් පවා නොහඟවමින් ඈ කඩදාසියක් ගෙන මේසය මත එළා හැඳි හා ගෑරුප්පු තබමින් ඇස් කොණින් පෙත්රොව් දෙස බැලුවා ය.

'කන්න, ලජ්ජා වෙන්න එපා. පාන් කපා දෙන්නද? රත් කරන්න ...ගවා හරි තියෙනව නම් මම ඉක්මනට ලෑස්ති කරන්නම්!"

"මරීනා! මෙහෙ වර!" යැයි මැහැල්ලි නැවතත් කෑ ගැසුවා ය.

"ඔහෙලා එයා ගැන අමනාප වෙන්න එපා. එයාව ජර්මන් ...රයො බය කළා. රෑට සොල්දාදුවො දැක්කම මාව රකින්න එයා ...ර්පත් වෙනව. තරහ වෙන්ට එපා. රෑට ඔහොම වුණාට දවල් කාලෙදි ... කරුණාවන්තයි."

අලෙක්සේයිගේ මල්ලේ කල්බසා නැමැති මස් වර්ගයද, වියලි ...එන් දෙදෙනෙකුද, ලොකු පාන් ගෙඩියක් ද, තිබිණ. පෙත්රොව්ගේ ...හාර කොගය එයට අඩු ය. ඔහු සතුව තිබුණේ මස් හා විස්කෝතු ...රකි. මරීනා තම කුඩා අත්වලින් පාන්, මස් හා මාළු පෙති ගසා ...න් මත තබන්නී, යටැසින් පෙත්රොව් දෙස නැවත වරක් බැලුවාය. ...ත්රොව් ද හොරෙන් හොරෙන් ඈ දෙස නෙත් යොමු කළේ ය. දෙදෙනාගේ ...ස් හමු වූ විට, ඔවුන්ගේ මුහුණු ලජ්ජාවෙන් රතු විණි. දෙදෙනාම ...වර ඉවත බැලූහ. ඔවුන් එකිනෙකාට කතා කළේද අලෙක්සේයි මගිනි. ...න්ගේ සැටි දුටු අලෙක්සේයි සතුටු වූ අතරම දුක්විය. ගැටවරයා හා ...රුණිය දෙස බැලූ ඔහුට තමා මහල්ලකු බවත් බොහෝ කල් ජීවත් වුණු ...ඩපත් පුද්ගලයකු බවත් සිතිණ.

'මරීනා, ළපටි කැකිරි ගෙඩියක් එහෙම නැතිද?" යි අලෙක්සේයි ...සීය.

"ඇයි නැත්තෙ, තියනවා" යැයි තරුණිය කීවේ මඳ සිනා පාමිනි.

"තම්බපු අල ගෙඩියක් දෙකක් එහෙම සොයාගන්ට පුළුවන්ද?"

'ඉල්ලනව නම් සොයා දෙන්නම්."

ඈ නැවත නිදන්නන් අතරින් සෙමින් පා තබමින් මුළුතැන්ගෙට ...ගියා.

"ජ්‍යෙෂ්ඨ ලයිතන් සහෝදරය! කොහොමද ඔහෙ නාඳුනන ...රුණියකගෙන් කැකිරි ඉල්ලන්නෙ? ඈය සමග කුළුපග ලෙස කතා

කරන්නෙ..."

අලෙක්සේයි මෙරේස්යෙව් හඬ නගා සිනාසුණේ ය.

'තරුණියා තුඹ කොහෙද? යුද පෙරමුණේද? නැතිද?.. අම්ම
නිකම් බොරුවට කෑ ගහන්නෙ නැතිව අප සමඟ වාඩිවෙලා කන්න!"

මැහැල්ල මුමුණමින් උදුනෙන් ... ය මේසය අසල වාඩි වී කල්බ
නමැති මස් වර්ගය කෑමට පටන් ගත්තා ය. සාම කාලයේදී ඇ කල්බ
කෑමට මහත් ආසාවක් දක් වූ බව පසුව හෙළිවිය.

මැහැල්ලත්, තරුණියත් ඔවුන් දෙදෙනා සමඟ එක්ව ආහා
ගත්හ. නිදන්නෝ ඔවුන්ගේ ආහාර රුචිය වැඩි කිරීමට මෙන් කාලයක
සමින් ගෙරවූහ. දිගටම කතා කළ අලෙක්සේයි මැහැල්ලට සරදම් කරමි
තරුණිය සිනාසුණේය. විදෙස් රටවල දිගු කලක් ඇවිද්ද පසු නැව
ගෙදර පැමිණියකු සේ අලෙක්සේයි නව සතුටක් ලැබ ප්‍රබෝධමත් විය
මේ ගම විනාශ නොවූයේ, එහි ජර්මන් යුද්ධ හමුදාවේ ප්‍රධාන කාර්යාල
තිබුණු බැවිනි. සෝවියට් හමුදාව කොතරම් වේගයකින් ප්‍රතිප්‍රහාර ගැසුවේ
යත්, පැසිස්ට් හමුදාවට ගම විනාශ කර දැමීමට පවා වේලාවක් නොතිබුණු
බව ඔවුහු දැන ගත්හ. මැහැල්ලගේ වැඩිමහල් දියණිය මව ඉදිරිපි
පැසිස්ට් හටයකු විසින් දූෂණය කළ පසු, ඇ සිහි මදකමින් පෙළෙන්න
වූවාය. වැඩිමහල් දියණිය ලජ්ජාව ඉවසා ගත නොහී සියදිවි හානි ක
ගත්තා ය. ජර්මන්නු ගම අල්ලා ගෙන සිටි අටමස් කාලය තුළදී පිදුරු
මඩුවක මරීනා සඟවා තැබූ මැහැල්ල මහ රෑ ඇට කෑම් බීම් ගෙන ගිය
ය. මරීනා හිරු නොදක අඳුරු පිදුරු මඩුව තුළ අට මසක්ම ගත කළාය
අලෙක්සේයි ඇ සමඟ කතා කරන විට ඇ තරුණ පෙත්රොව් දෙස නිත
නිතර බලන්නී, ලජ්ජාව මුසු දඟකාරී ගතියක් පළ කළාය. ඇ තරුණයා
කෙරෙහි පැහැදී සිටින බව සැඟවීමට ඇයට බැරිවිය.

ආහාර ගැනීමෙන් පසු ඉතිරි වූ ආහාර කොටස් සියල්ල මන
ලෙස ඔතා තරුණිය විසින් ඒවා අලෙක්සේයිගේ මල්ල තුළ බහාල
ලදී. යුද හටයෙකුට හැම දෙයක්ම අවශ්‍ය වෙයි. තරුණිය මැහැල්ල සමඟ
කසුකුසු ගා තීරණාත්මක ලෙස මෙසේ පැවසුවාය.

"පාලකයා ඔහෙලට මෙහි නිදාගන්ට කීවා නෙව. ඔහෙල උදු
උඩට වෙලා නිදා ගන්න. අපි ගබඩා කාමරේ නිදාගන්නව. ඔහෙලට

...න් මහන්සිය ඇති නේවද? හෙට ඔහෙලට තැනක් සොයා දෙන්නම්."

ඉක්මනින් ගෙවත්තට ගිය තරුණිය වියලි පිදුරු මිටියක් ගෙනැවිත් ...න මත විසුරුවා හැර බැළලියක මෙන් නිහඬව පිටව ගියාය.

"තරුණයා කෙල්ල නම් අපූරුයි!" මෙසේ කී අලෙක්සේයි සතුටු ...න් උදුන මත වැතිර ගත්තේ ය. ඔහු අත් පා දිගහරින විට ඇට ...ඩෙන හඬක් නික්මිණි.

"ඔව්. කෙල්ල නරක නැහැ!" බොරු උදාසීන, බවක් ඇඟවූ ...ත්රොව් කීවේ ය.

"ඒකි නුඹ දිහා බලපු හැටි...!."

"ඈ එහෙම බැලුවෙ නැහැ. ඈ ලයිකත් සහෝදරය සමඟ කතා ...ළා මිස..."

යම්කිසි බියජනක සිද්ධියක් නිසා අලෙක්සේයි අවදි විය. කුමක් ...ද යන්න නොදත් නමුදු සෙබළ ඉවක් ඇති අලෙක්සේයි නැගිට වහාම ...ස්තෝලය අතට ගත්තේ ය. ඔහු කොහිද, ඔහුට කුමක් වීදැයි ඔහු ...නොදනී. සුදුළුණු සුවඳක් සහිත දුමකින් හැම තැනම වැසී ඇත. තම ...ට උඩින් විශාල තරු වැනි යමක් දිලිසෙන සැටි දුම් වළා පහව ගිය ...ඔහුට පෙනිණි. දහවල මෙන් පැහැදිලිය. ගොවිපැළේ හැම ලී බිත්තියක්ම ...ර ගොස් ගිනිගෙන ඇවිලී ඇත. හැඩයකට ඇති යමක් තරමක් දුරින් ...ගෙන භ්‍රමණය විය. බෝම්බ හෙළන අහස් යානාවල හඬ සහ බෝම්බ ...වෙන විට ඇතිවන බියකරු හඬද ඇසුණේ ය. අවදි වූ පෙත්රොව් ...න් හිඳගෙන වටපිට බලන සැටි දුටු අලෙක්සේයි "බිම වැතිරියන්!" ...යි කෑ ගැසීය.

ඔවුහු උදුණ මත මුණින් වැටී සිටියහ. එවිටම වාගේ උදුණේ ...ඩොල් දුම් බටයට බෝම්බක පතුරක් වැදී ගඩොල් කුඩු සහ පස් ඔවුන් ...ට වැටිණි.

"හෙල්ලෙන්නෙ නැතිව ඉඳපන්!" යැයි අලෙක්සේයි අණ කළේ ...න දිවීමට ඇති ආශාව මැඩ ගනිමිනි. රාත්‍රි කාලයේදී සිදුවන පහර ...දී කොහේ වුණත් පැන දිවීමට හැම කෙනෙකු තුළම ආශාවක් ඇති ...

සතුරු යානා නොපෙනේ. අඳුරු අහසේ කවාකාර ලෙස පියාෂ
සතුරෝ බෝම්බ දමූහ. අඳුර බිඳගෙන එක් බෝම්බයක් පුපුරන
ඇතිවන ආලෝකය නිසා කළු පැහැති බෝම්බ පාත්වන සැටිද, ඒ
පුපුරන සැටිද, කළු පැහැති බෝම්බ කැබැලි ගිනිගෙන විසිර යන සැ
දැකිය හැකි විය. මහ පොළොව කැබැලිවලට කැඩී පිපිර යන සැටිය
ඇසිණි දනිණි.

උදුන මත වැතිර සිටි අහස් නැවියෝ තවත් වැතිර ගෙ
ගඩොල් පියස්ස බදා ගත්හ. මුහුණත් බෙල්ලත්, පසුවත් පියස්සට තදකරමි
එයට හා වීමට ඔවුහු තැත් කළහ. පසුව අහස් යානා වල හ
කෙමෙන් ඈත් වෙත් ම ඉදිරි පස පිහිටි වීදියේ කිසියම් තැනක් ගිනිගෙ
දැවෙන සැටි සහ එහි සෝෂාවද ඇසිණි.

"එවුන් අපට හොඳ සංග්‍රහයක් කළා!" යැයි කී අලෙක්සේ
නිසල බවක් පෙන්වමින් තම ඇඳුම් මත තිබූ පස්, අඟුරු හා දූලි පිෘ
දැමීය.

"මෙතන නිදාහිටිය අයට මක් වුණාද!" යි ඇසූ පෙත්රෝ
කැලඹුණෙන් ඔහු ඉක්කා ගසන්නට විය. "මරිනා කොහිද?"

ඔවුන් උදුනෙන් බිමට බැසගත් අතර අලෙක්සේයි ටෝච් පහන
අකට ගෙන ගෙබිම, සොයා බැලී ය. එතැන කිසිවෙක් නොවූහ. අනතුරු
සංඥා හඬ ඇසූ අහස් නැවියෝ ආරක්ෂක ස්ථාන වෙත දුව ගිය බ
පසුව දැන ගන්නට ලැබිණ. බෝම්බවලින් විනාශ වූ පෙදෙසට ගිය
අලෙක්සේයි සහ පෙත්රෝවිච මැහැල්ල සහ තරුණිය සොයා ගත නොහැකි
විය. ඔවුන්ව අඬගැසූ නමුදු පිළිතුරු නොලැබිණි. ඔවුන්ට අනතුරක්
සිදුවීද? ඔවුහු ආරක්ෂක ස්ථානයකට ගියෝද?

යුද්ධ භටයෝ වීදිවල සාමය හා නීතිය රැක්කාහ. ඉංජිනේරු
භටයෝ ගිනි නිවා දමා මළ සිරුරු ගොඩගත්හ. තුවාල ලැබුවන් ප්‍රතිකාර
සඳහා ගෙන ගියහ. අහස් නැවියන්ගේ නම් අඬගසමින් සේවකයෝ කැ
වැදූහ. සේනාංකය වෙනත් තැනකට ගෙන යන ලදී. හිමිදිරියේ ම අහස්
යානා පැදවීමට අහස් නියමුවෝ සූදානම් වූහ. මූලික පරීක්ෂණ අනුව
අලාභ හානි විශාල නොවී ය. එක් අහස් නියමුවෙක් තුවාල ලැබූ අතර
මිකැනික්වරු දෙදෙනෙක් හා මුර භටයෝ කීප දෙනෙක් ද මිය ගියහ.
වමුන් බොහෝ ගණනක් මිය ගිය බව වාර්තා කළ ද, කොපමණදැයි

...බව නොහැකි විය. අඳුර හා විනාශය නිසා මිය ගිය අයගේ නියම ...ගණනාව කිසිවෙක් නොදත්හ.

උදෑසන ගුවන් තොටුපළට යන ගමන් අලෙක්සේයි මෙරේස්යෙව් ...හ පෙත්රොව් රෑ නවාතැන් ගත් ගෙය අසල නැවතුණහ. ඉංජිනේරු ...වෙකින් දෙදෙනෙකු විනාශ වූ ගෙයින් කිසිවක් ගිලන් මැස්සක් මත ...බාගෙන එළියට ගෙන එන සැටි දුටු ඔවුහු ප්‍රශ්න කළහ.

"කාවද ගෙනියන්නෙ?" යැයි පෙත්රොව් ඇසුවේ කිසියම් අභාග්‍යයක් ...ලාපොරොත්තු වෙමිනි. ඔහු මලානික විය.

අලෙක්සේයි මෙරේස්යෙව් සමග එක රෝහලක ප්‍රතිකාරගත් ...ස්තෙපාන් ඉවානොවිච්ට සමාන මුහුණක් ඇති ඉංජිනේරු භටයෙක් ...පිළිතුරු දුන්නේ ය.

"අර බිම්ගෙය තුළින් මේ මළ මිනී දෙක ගොඩ ගත්තෙ. වයසක ...ම්ම කෙනෙකුයි, තරුණියකුයි. එතන මැරිල හිටිය. තරුණිය බොහොම ...පුංචියි. මුහුණ හරිම ලස්සනයි. බිම්ගෙය බිත්තිය කඩා වැටෙන විට ...ලක් ඇගෙ පපුවට වැටිලා එතනම මැරිල. තරුණිය හරියට පුංචි ...ම්මයෙක් වගෙ.."

එදින රාත්‍රියෙහි ජර්මන් හමුදාව තම අවසාන මහා ප්‍රතිප්‍රහාරය ...දීය. මෙසේ පහර දෙමින් ඔවුන් කුර්ස්ක් අඩ කවයේ මහ සටන ඇරඹූ ...තර එය ඔවුන්ට පසුව නින්දිත පරාජයක් ගෙන දුන්නේ ය.

3

ගිම්හානයේ රෑ බෝ වී බැසයන හිරු පැය කීපයකින් නැවත ...යයි. එවැනි කෙටි රැයකින් පසු හිමිදිරි පාන්දර සෝවියට් යුද ...මුදාවේ ගුවන් තොටුපළක අහස් යානා හඬ නගන්නට විය. පිණි බිඳු ...ඇති තණබිම මත සිතියමක් දිග හැර තැබූ කපිතාන් චෙස්ලොව් අළුත් ...ත්ත්වය පැහැදිලි කළේ ය.

"දැස් ඇරගෙන බලපල්ලා. එකිනෙකා නොපෙනී යන්ට ඉඩ ...යන්න එපා. අහස් යාත්‍රාංගනය යුද පෙරමුණේ තියන්නෙ."

ගිම්හානයේ පළමු හිරු රැස් රෝස පැහැයෙන් නැගෙනහිර

අහස ආලෝක කරමින්, සේනාංක භාර නිලධාරියාගේ අහස් යා
කණ්ඩායම ගුවන් ගත් විගසම, දෙවැනි අහස් යානා කණ්ඩායමද එසේම
පිටුපසින් ක්‍රමවත් ලෙස ගුවන් ගනිමින් දකුණ බලා පියාඹන්නට වි
අලෙක්සේයි මෙරේස්යෙව් සහ පෙත්රොව් පණ්ඩු වර්ණ එකට පියෑඹූහ.
පියාසැරිය විනාඩි කීපයකට සීමා වුණද, ප්‍රධාන නියමුවා වූ අලෙක්සේයි
දක්ෂතාවය හා ආත්ම විශ්වාසය ගැන පෙත්රොව් මෙතෙවින් සෑහීමු
ය. බලාපොරොත්තු රහිත ලෙස අහස් යානය කරවමින් එවැනි කීපය
පියෑඹූ අලෙක්සේයි දෙවැනි නියමු පෙත්රොව්ට තියුණු ඇස් හා ශක්තිම
ස්නායු තිබෙන බවත්, ප්‍රධාන ලක්ෂණයක් වන හොඳ නියමුවකුගේ
ගතිගුණ- පළපුරුදු මඳ වුවද- තිබෙන බවත් හැක හැර දැන ගන්නේ

අලුත් අහස් තොටුපළ ප්‍රද පෙරමුණේ පාබල සේනාංකය
පිටුපසින් පිහිටා තිබිණි. සියලු අහස් යානා අංක 2 දරන සූදානමින්
සිටිය යුතු විය. එනම් අහස් යානාවලින් එළියට නොගොස් සං
වෙඩිල්ල තැබූ විගසම අහසට නැගීමට සූදානමින් සිටිය යුතු වි
බිර්ච්යෝසා ගස්වලින් ආවරණය ලැබ ඇති තැනක අහස් යානා සඟ
තබන ලදී. වනය මැදින් හමාගිය පුළඟ සමඟ හුවඳක් ගෙනාවේ
අවට කුඩා අගල්වලින් එළියට ආ මදුරුවෝ අහස් නියමුවන්ගේ මුහුණුවල
හිස්වැසුම් හා ඇඳුම්වලටද, විද්දාහ. කාලතුවක්කු වෙඩි හඬක් දෙකක්
බිහිරි කරවමින්, මහ පොළොව දෙදරවමින් දසත පැතිරිණි.

මෙරේස්යෙව් තම හිස්වැස්ම ගළවා උදාසීන ලෙස මදුරුවන්
එළවමින් උදෑසන සිසිල් සුවද ආශ්වාස කරමින් සතුටු විය. මෙරේස්යෙව්
පිටුපසින් තම දෙවැනි නියමුවාගේ අහස් යානය විය. එහි නියමු
ආසනය මත වාඩි වී සිටි පෙත්රොව් ආසනය මත නැගී සිට ප්‍රදේශය
ඇවිලෙන පැත්ත දෙසත්, බෝම්බ දමන අහස් යානා ගුවන් ගත්
සැවිත් බැලී ය.

මෙරේස්යෙව් තම සහකාර නියමුවා දෙස බලමින් සිතන්නට
විය. වයස අනුව දෙදෙනාම සමයෝ ය. පෙත්රොව්ගේ වයස අවුරුදු
දහනවයකි. අලෙක්සේයිගේ වයස විසිතුනකි. අවුරුදු තුන හතරක
වෙනසක් මිනිසකුට බලපාන්නේද? එහෙත් පෙත්රොව් දෙස බලන වි
තමා මහල්ලෙකු බව අලෙක්සේයිට දැනිණි. ඔහු විවාහක් වූ පළපුරුදු
මිනිසෙකි. අලෙක්සේයි තම නියමු ආසනයේ සැප පහසු ලෙස වාඩි වී
නිසලව විවේක ගත්තේ ය. ඔහුට දෙපා නැත. අහස් යානාවක් පැදීම
ඔහුට කරමි වෙන කිසිවකුට අකීරු නැත. එසේ වුවද ඔහු නිසල

ප්‍රියයේය. ඔහු තම දක්ෂතාවය ගැන හොඳින් දැන සිටි අතර තම කැ
ජද කෙරෙහි විශ්වාසය තැබී ය.

මේ විධියට හවස් වන තුරුම අංක 2 දරන යුද්ධ සුදානම්
වුහු සිටියහ. එදින ඔවුන් සටනට ගියේ නැත. එම අහස් තොටු
මුඛෙන තැන වේලාවට කලින් සතුරා දැනගනියි යුද්ධ නායකයෝ
දූත. නියමුවන්ට රාත්‍රිය ගත කිරීම සඳහා බිම් ගෙයක් වැනි ආරක්ෂ
ස්ථානයක් වෙන් කරන ලදී. ජර්මන්හු මේ පෙදෙස අල්ලා ගෙන සි
කාලයේදී ඔවුන් විසින් සාදන ලද මෙම බිම් පියස්ස ලීයෙන් තනා ඒ ම
ස් සහ කාඩ්බෝඩ් ද කහ පැහැති කඩදාසි ද දමා තිබිණි. බිම්ගෙ
තුළ බිත්තියේ ජර්මන් චිත්‍රපටි තාරකාවන්ගේ ඡායාරූප ද, ජර්මන් නගරව
චිත්‍ර ද අලවා ඇත.

කාලතුවක්කු සටන මහ පොළොව දෙදරවමින් කැරිණි. බිම්ගෙය
ද දෙදරුම් කැවේය. ලී පියස්ස අතරින් වැටෙන පස් කැට කඩදාසිවලින
වසා ඇති පොළොව මත වැටුණේ කුඩා කෘමි සතුන්ගෙන් බිම්ගෙය පිරී
ගිය සැටියක් මවා පාමිනි.

මෙරේස්යෙව් සහ පෙත්රොව් තම කැන්වස් මෙට්ටද රැගෙන
බිම්ගෙහි නිදන්නට ගියහ. නියමු ඇඳුම් නොගළවා නිදාගන්නා ලෙස
අණ කර තිබිණි. මෙරේස්යෙව් තම බොරු කකුල්වල පටි තරමක් බුරුල්
කොට උඩුබැලි අතට වැටී අහස දෙස බැලීය. වෙඩි උණ්ඩ හා බෝම්බ
පිපිරීම නිසා අහස රතු පාටැති පැල්ලම් සහිත විය.

4

කුර්ස්ක් අඩ කවයේ මහා සටන භයානක ලෙස ඇවිලිණි. යෝධමය
යුද්ධ ටැන්කි බලසේනා යොදවා කුර්ස්ක් නගරයට උතුරින් හා දකුණින්
වූ සෝවියට් ආරක්ෂක පවුරු බිඳ නගරය වටකොට එහි වූ සෝවියට්
සේනා විනාශ කර දැමීම ෆැසිස්ට් හමුදා නායකයින්ගේ සැලැස්ම විය.
එසේයෙන් කියතොත් 'ජර්මන් ස්ටාලින්ග්‍රාඩයක්' සතුරා බලාපොරොත්තු
විය. එහෙත් සෝවියට් හමුදාවල දැඩි ආරක්ෂක බලය විසින් එම තැත
විනාශ කර දමන ලදී. ප්‍රහාරය පටන් ගත් පළමු දවස් කීපය තුළදීම
ජර්මනුන් ආරක්ෂක පවුරු බිඳගෙන ඉදිරියට ගියද, එම සටන්වලදී
විශාල සේනාවක් මිය ගොස්, යුද්ධාශ්‍රිද විශාල තොගයක් විනාශ වන
විට කුර්ස්ක් නගරය වට කිරීමට තරම් බලැති සේනාවක් ඉතිරි

ාවන බව ජර්මන් සෙනෙවිවරුනට අවබෝධ විය. එහෙත් ප්‍රහාරය
වැත්වීමට බැරිය. උපායමය උපක්‍රමීය දේශපාලනමය වශයෙන් මේ
ාරය කෙරෙහි හිට්ලර් බොහෝ බලාපොරොත්තු තැබීය. ලෝදිය
ත්නාක් මෙන් ඒ මහා ප්‍රහාරය ඇරඹිණ. ඉදිරියේ ඇති සප්‍රාණික
ාණික හැම වස්තුවක්ම විනාශ කරමින් ඉදිරියට ගලා ගිය ලෝදිය
ාහයක් වැනි එම ප්‍රහාරය නැවැත්වීමට එය පටන් ගත්තෝ පවා
මත් වූහ. ජර්මන් හමුදාව සෙමින් කිලෝමීටරයෙන්, කිලෝමීටරය
රියට ගියද, ඒ සඳහා දස දහස් ගණන් පැසිස්ට් භටයෝ දිවි පිදූහ.
මන් යුද්ධ ටැන්කි සිය ගණනින් විනාශ විය. යුද්ධ රථ දහස් ගණනින්
බත් විය. ප්‍රහාරක ජර්මන් හමුදාව දුර්වල විය. පටන්ගත් ප්‍රහාරය
වැත්වීමට තමන් අපොහොසත් බැවින්, තමන් සතු සියලු අතිරේක
දා හා යුද්ධායුද යොදමින් ප්‍රහාරය කරගෙන යෑම හැර අන් කිසිවක්
මට ජර්මන් සෙනෙවියෝ අපොහොසත් වූහ.

සෝවියට් ආරක්ෂක සේනා පමණක් යොදවමින් ජර්මන් ප්‍රහාරයට
ණ දීමට සෝවියට් හමුදාවන්ට පුළුවන් විය. පැසිස්ට් ජර්මන් හමුදාවල
ාරක කෝපය නැග එන සැටි දුටු සෝවියට් මහ සෙනවි මණ්ඩලය
රා මෙල්ල වූ පසු ප්‍රතිප්‍රහාර ගැසීමට අතිරේක සේනා සංවිධාන
ාට පූර්ණව තැබී ය. පසුව අලෙක්සේයි මෙරේස්යෙව්ට දැන ගන්න
ණු පරිදි ඔහු සේවය කළ අහස් යානා හමුදාව ආරක්ෂක සටනට
ාව ප්‍රති ප්‍රහාරය සඳහා යෙදවීමට කලින් ම නියම කර තිබිණි.
ැවින් කුර්ස්ක් අඩකවයේ මහා සංග්‍රාමයේ පළමුවැනි අවධියේදී,
වියට් යුද්ධ ටැන්කි භටයෝ සහ ඔවුන්ට ආධාර පිණිස වෙන් කරනු
 බ සිටි සෝවියට් යුද්ධ ටැංකි භටයෝ සහ ඔවුන්ට ආධාර පිණිස
ත් කරනු ලැබ සිටි සෝවියට් ප්‍රහාරක අහස් යානා භටයෝද
ක්ෂකයින් බවට පත්වූහ. සතුරා ප්‍රහාරය සඳහා මුළු බලය යෙදවූ බව
ගත් පසු අංක 2 දරන යුද්ධ සුදානම් තත්ත්වය නිෂ්ප්‍රභා කොට
යෙහි නේවාසිකාගාර බිම්ගෙවල් තුළ නිදාගැනීමට හා යුද ඇඳුම්
වීමට ද නියමුවන්ට අණ ලැබිණි.

උද්‍යානසත සිසිල් සුළං අලෙක්සේයි හා පෙත්රොව් නිදා සිටි බිම්ගෙයට
ළු විය. පයින් අතුවල සුවඳ වහනය විය. බිත්තියට සවි කළ ලී
ත් මත වැතිර සිටින මීකුරෝ ඇහමැලි කඩන්නට වූහ. කිසිවෙක්
ගෙයට ඇතුළු වූ සැටියක් පා තහන හඬක් දනෙන්නට විය. "තැපැල්
රයා ඇවිල්ලා!" යන හඬ පැතිර ගියේය.

දෙදෙනාම පොරෝනයන් ඉවත ලා ඉඳ ගත්හ. අලෙක්සේයි තම බොරු සාක්කුවල පටි ඇඳ ගන්නට වූ අතර පෙත්රොව් දුවමින් ගොස් ලියුම් බෙදන්නාගෙන් ලියුම් දෙකක් ලබාගෙන ජයග්‍රාහී ලීලාවෙන් අලෙක්සේයි වෙත ආවේය. එකක් අලෙක්සේයිගේ මවගෙනි. අනික ඕල්යාගෙනි. අලෙක්සේයි ලියුම් දෙක උදුරාගත් විටම වාගේ අහස් යානා පැදවීමට වහාම සූදානම් වන ලෙස දන්වෙන සංඥා හඬ ඇසුණෙන් ඔහු ලියුම් තම සබා සාක්කුවේ දමා ගත්තේය.

දෙදෙනාම අඩිපාරක් ඔස්සේ දුව යමින් අහස්යානාවලට ළඟා වූහ. අලෙක්සේයි තම සැරයටිය බිම අතිමින් තරමක් කොර ගසමින් වේගයෙන් දිව්වේ ය. ඔහුගේ අහස් යානයේ එන්ජින් කවරය ගලවා දමූ මිකැනික් ඔහු එන තුරු නොඉවසිල්ලෙන් බලා සිටියේය. මුහුණ පුරා කුරුලෑ ඇති මිකැනික් තැන නිතර සිනාසීමට පුරුදු වූවෙකි.

"අංක 6" දරන අහස් යානය සේනාංකය භාර නිලධාරී තැන පදවන සැටි අලෙක්සේයි බලා සිටියේය. කපිතාන් චෙස්ලොව් එළිමහන් තැනකට තම යානය ගෙන ගොස් අතක් එසවීය. "සටන් දෙනු!" යන්න එහි තේරුම විය. සියලු අහස් යානාවල යන්ත්‍ර හඬ නැගුහ. සුළං පහර නිසා තණ ගස් පොළොව සිපගති. බිර්යෝසා ගස්වල කොළ වේගයෙන් සැළිණි.

අලෙක්සේයි ළඟින් දුවමින් ගිය තවත් නියමුවෙක් "යුද්ධ ටැන්කි කාරයෝ" ප්‍රති ප්‍රහාරය ඇරඹූ බව කීය. විනාශ වූ සතුරු කාලතුවක්කු හා ආරක්ෂක කපොලු අතරින් ඉදිරියට යන සෝවියට් යුද්ධ ටැන්කිවලට ආරක්ෂාව සැලසීම ප්‍රහාරක අහස් යානාවලට නියමිත කාර්යයකි. අහස ආරක්ෂා කිරීමද? එහි තේරුම කුමක්ද? මෙවැනි උග්‍ර සටනකදී සාමකාමී ලෙස අහස ආරක්ෂා කළ නොහැකිය.

අලෙක්සේයි කලබල විය. එය මරණ බියක් නොවී ය. අතිශයින්ම නිර්භය හා නිසල ' මිනිසුන්ට පවා දැනෙන අවදානම නිසා නොව, ඔහු කලබල වූයේ ඔහු සැලකිලිමත් වූ වෙනත් කරුණු නිසාය. මැෂින් තුවක්කු හා කාල තුවක්කුව හොඳින් ක්‍රියා කරාවිද? සතුරාට එදිරිව සටන් කිරීමට සිදුවුව හොත් පෙත්රොව් ඔහු අතහැර යාවිද? සටන් කිරීම අතපසු කරාවිද? වසීලියි වසීලෙවිච් තැගි දුන් හැරමිටිය කොහිද? එය නැති කර ගැනීමට අලෙක්සේයි සූදානම් නැත. පෙත්රොව්ට ආයුබෝවන්

නාකී බව ඔහුට මතක් වූයෙන්, ඔහු තම අසුන මත වාඩි වී අතක් ැනුවද, පෙත්රොව් එය නොදුටුවේය. අලෙක්සේයි හිස් වැස්ම පැළඳ ත්තේය. ඔහුගේ මුහුණ රත් පැහැ ගති. කපිතාන් වෙස්ලොව් අත පහත් රත්ම නියමු ආසනවල පියස් වැසිණි.

පළමුවැනි අහස්යානා තුන හඬ නගමින් අහසට නැගිණි. ඉන්පසු ැවැනි තෙවැනි කණ්ඩායම්ද අහසට වැදිණි. මෙරේස්යෙව් තම අහස් ානය පදවමින් අහසට නැංගේය. ඔහු පළමුවැනි අහස්යානා තුන අනුව ම යානය පැදවීය. ඔහු පිටුපසින් තවත් අහස් යානා ගුවන් ගත විය.

ඔවුහු යුද පෙරමුණට ඉහළින් පියාඹා ගොස්, සතුරු අහසේ· ධකචාකාරයට පියඹා, නැවත යුද පෙරමුණ ඉහළින් පියැඹූහ. ඔවුන්ට තුරෝ වෙඩි නොතැබූහ. ඉහළ අහසේ පියාඹන කුඩා අහස් යානා වයට වෙඩි තබනවාට වඩා වැදගත් සටන් කිරීමට සතුරාට සිදු වී ත. එහෙත් ඊකවල් කළ යුතු යුද්ධ ටැන්කි කොහිද? අසල කැලයක සිට ෘ පෙරමුණට එන යුද්ධ ටැන්කි දෙස අලෙක්සේයි බැලී ය. ඒවා රුම්ණියන්ට සමාන ය. පෙළ ගැසී යුද පෙරමුණට එන යුද්ධ ටැන්කිවල ණන විශාල විය. ඉදිරියෙන් ගිය සෝවියට් යුද්ධ ටැන්කිය ෂෙල් ඩිවලන් දුවී ගිය කඳු ගැටයකට නගිත් ම, එහි තුවක්කුවෙන් ගිනි වෙන සැටි ඔහු දිටී ය. ප්‍රහාරය අරඹා දුර්වල වූ සතුරු කඳවුරට පහර මින් ඉදිරියට යන දහස් ගණන් සෝවියට් යුද්ධ ටැන්කි තබන වෙඩි ා පැන නගින ඝෝෂාව අසමින්, අලෙක්සේයි සමග අහසේ සිට න නැරඹීමට ළමයකු හෝ ගැහැනියකු හෝ ඉදිරිපත් වූව හොත්, න් පවා බිය නොවනු ඇත. අලෙක්සේයිගේ හිස්වැස්මට සවි කොට ශ්‍රවණ යන්ත්‍රය 'ඹු' හඬ නගමින් ක්‍රියාකාරී විය. කපිතන් වෙස්ලොව්ගේ ඩ උදාසීන කටහඬ ඇසිණි.

"සවන් දෙනු! මම ව්‍යාඝ්‍රයා! "ලප්ටේෂ්නික්," "ලප්ටේෂ්නික්!"

තමා ඉදිරිපිට ඇත සමාන්තර රේඛාවක් දුටු අලෙක්සේයි එය තන්ගේ අහස් යානය බව දැන ගත්තේය. එම අහස් යානය වැනිණි. තන් අනුගමනය කරන ලෙස දන්වීමකි ඒ. මෙරේස්යෙව් එම අණ තම ණ්ඩායමට දනුම් දුන්නේය. ඔහු පෙත්රොව්ගේ අහස් යානය දෙස ය. ඔහු අලෙක්සේයි ළඟින් පියාඹයි. හොඳ කොල්ලා!"

'තරුණයා! ඔන්න ඔහොම එනවා!" යැයි අලෙක්සේයි තම

යික්‍රොපෝනයෙන් ඔහුට කීවේය.

"හරි! එනවා!" යැයි පෙත්රොව් පිළිතුරු දුන්නේය.

'මම ව්‍යාඝ්‍රයා! ව්‍යාඝ්‍රයා!" ඉන්පසු ඔහු අණ දුන්නේ ය. "ම
රන විධියට කරපල්ලා."

පහළින් පියෑඹූ සතුරෝ ළං වූහ. "ශු-87" වර්ගයේ තනි එන්ජිම
ර්මන් අහස් යානා දෙක බැගින් පෙළ ගැසී පියාඹති. බෝම්බ දමන මේ
ර්මන් අහස් යානා පෝලන්තය, ප්‍රංශය, ඕලන්දය, ඩෙන්මාකය, බෙල්ජියම
ශ යුගොස්ලෝවියාව ආදී රටවලදී කළ සටන් නිසා ප්‍රසිද්ධයට පත්
ය. මේ අහස් යානාවල බඳයෙන් නෙරා ගිය කොටස 'ලාප්ට්' නම් වූ
වහන් ඇඳගත් දෙපාවලට සමාන බැවින්, ඒවා "ලප්ටෙෂ්නික්" නමින්
ඳුන්වන ලදී. අහස් කොල්ලකරුවන් හැටියට මහත් ප්‍රසිද්ධියක් ලත් මේ
ර්මන් අහස් යානා සෝවියට් සංගමයට විරුද්ධව කළ සටන්වලදී යල්
න ගිය බව ඔප්පු විය.

අහස් සටන් කීපයකදීම 'ශු-87' නම් වූ ජර්මන් අහස් යානාවල
වලකම් ගැන හොඳින් දැනගත් සෝවියට් අහස් ගුරයෝ ඒවාට එදිරිව
න් කොට, ඒවා විනාශ කිරීම හාවුන් දඩයම් කිරීමක් ලෙස සැලකූහ.
රම දක්ෂ නොවූවන්ට පවා 'ශු-87' හෙවත් 'ලප්ටෙෂ්නික්' නමින්
න්වනු ලැබූ මේ අහස් යානා විනාශ කිරීම ලෙහෙසි කාර්යයක් විය.

කපිතන් වෙස්ලොව් තම අහස්යානා කණ්ඩායම මෙහෙයවා
රාට කෙළින්ම පහර නොදී වෙන අතකට පියාසර කළේ ය. "හිරු
වලට පිටුපා" සතුරාට නොපෙනී ඇස් අන්ධ කරවන දීප්තිමත් හිරු
තම වාසියට හරවා ගෙන හිටිහැටියේම සතුරාට පහර දීමට කපිතන්
සෙන බව අලෙක්සේයි තීරණය කළේ ය. අලෙක්සේයි සිනාසුණේය.
ටෙෂ්නික් අහස් යානාවලට ඕනෑවටත් වඩා සැලකිලි දැක්වීමක් නොවේද?
නායි හැටි වුවද වඩාත් ප්‍රවේසම් වීම අහිතකර නොවේ. ඔහු නැවත
බැලීය. පෙත්රොව් පිටුපසින් සිය යානය පැදවීය. සුදු පැහැති
කුලක පසුතලය නිසා ඔහුගේ අහස් යානය පැහැදිලිව පෙනිණි.

ජර්මන් අහස් යානා කණ්ඩායම සෝවියට් ප්‍රහාරක අහස්යානා
ඩායමට දකුණින් විය. ජර්මන්හු පෙළ ගැසී ලස්සනට පියෑඹූහ.
තර අවිද්‍යාමාන තුල්පවක් තිබෙන්නාක් මෙනි. හිරු රැස්වලට මුහුණ

ලා පියාසර කළ ජර්මන් අහස් යානාවල පියාපත් දිලිසිණි.

"......මම ව්‍යාඝ්‍රයා. පහර ගසනු...!..." යැයි අලෙක්සේයිගේ ශ්‍ර
යන්ත්‍රය කෑගැසීය.

වෙස්ලොව් හා ඔහුගේ අහස් යානා කණ්ඩායම දකුණු පෙදෙ
ගොදුරකට පාත් වන රාජාලියන් සේ ජර්මන් අහස් යානාවලට
දුන්හ. වෙස්ලොව්ගේ මැෂින් තුවක්කු පහරට ලක්වුණු අහස් යානා
ගිනිගෙන පහළට කඩා වැටිණි. පෙළට පියාඹමින් ජර්මන් අහස් යා
පෙළෙහි ඇති වූ හිස් තැනට වැදුණු වෙස්ලොව්ගේ අහස් යානා කණ්ඩා
විරුද්ධ පැත්තට පියෑඹුහ. නැවත පෙළ ගැසුණු ජර්මන් අහස් යා
පෙර සේම පියාසර කළහ.

අලෙක්සේයි තම සංකේත සංඥාව දන්වා "පහර ගසනු!"
කෑ ගැසුවද, ඔහුගේ කටින් කට පිට වූයේ 'ප..හ..ර" යන
පමණකි. ඔහු එතරම් කැළඹී සිටියේය. ඔහු විදුලි වේගයෙන් තම අ
යානය ජර්මන් අහස් යානා මත හැරවීය. තමා ඉදිරියේ පියාඹන සෑ
හැර අන් කිසිවකු අලෙක්සේයි නොදුටුවේය. වෙස්ලොව්ගේ පහරට ගොදු
බිම වැටුණු පසු එතැන ගෙන පියාඹමින් සිටි ජර්මන් අහස් යානය
ඉලක්කය වශයෙන් අලෙක්සේයි තෝරා ගත්තේ ය. ඔහුගේ දෙකන්
විය. හදවත එළියට පැනීමට තැත් කරන සැටියක් දැනිණි. ඉලක්
බලන කණ්ණාඩියේ කතිරය ජර්මන් අහස් යානයට එල්ල කොට මැ
තුවක්කුව ක්‍රියා කරවීය. ජර්මන් අහස් යානයෙන් කළු පැහැති දුම්
විය. සතුරා පෙරළා වෙඩි තැබුවද අලෙක්සේයිගේ අහස් යාන
නොවැදිණි. පෙත්‍රොව්ට කුමක් වීද යි ඔහු හැරී බැලීය. ඔහු නිරුපද්‍ර
වමින් පියෑඹුවේය. සතුරු වෙඩි පහරක් වැළකූ පෙත්‍රොව් අහස් යාන
හැරවීය. 'හොඳ කොල්ලා!" තවත් ජර්මන් අහස් යානාවක බඳය
ඉලක්ක කණ්ණාඩියේ කතිරයට අසු වී ඇත. අලෙක්සේයි මැෂින් තුවක්කු
බොත්තම අතට ගත්තේ ය. සතුරා ළං වෙන තුරු සිටිය යුතුය.

තමා සිය අහස්යානය සමඟ එකට බද්ධ වී ඇති බව අලෙක්සේ
දැනුණේ දැන්ය. අහස් යානයේ එන්ජිම තම පපුව තුළ ක්‍රියා කර
සැටියක්ද, පියාපත් හා වලිගය ද තම සිරුරේම කොටස් ලෙසද ඔහු
දැනිණි. අප්‍රාණික ලී කකුල්වලට පවා පණ ඇවිත් තිබෙන සැටියකි. අහ
යානය හා තම සිරුර අතර ඇති සම්බන්ධතාවයට බොරු කකුල් බා
නොකළේ ය. ජර්මන් යානය තම ඉලක්ක කණ්ණාඩියෙන් මොහොතක

වක් වුණද නැවත එය අසුවිය. එවිට ම අලෙක්සේයි වෙඩි තැබීය. ඔහු පහර ලැබූ සතුරු අහස් යානය දෙස නොබලා ම, පහළට වැටෙන එම යානය සමග ඝට්ටනය නොවීම පිණිස වේගයෙන් ඉවතට පැදවීය. එක් අහස් යානයක් වෙනුවට අහස් යානා දෙකක් කඩා වැටෙන සැටි දුටු අලෙක්සේයි මවිත විය. ඔහු සතුරු අහස් යානා දෙකකට වෙඩි තැබීද? නැත. එය පෙත්රොව්ගේ වැඩකි. නවක නියමුවකු වන පෙත්රොව්ගේ වාසනාව නිසා අලෙක්සේයි වඩාත් සතුටු විය.

ජර්මන් අහස් යානා පෙළේ ඇති වූ හිස් ඉඩ තුළින් සෝවියට් ප්‍රහාරක අහස් යානා පියැඹූහ. පැසිස්ට් ජර්මන් අහස් යානා කණ්ඩායමේ දෙවැනි පෙළ පදවන්නේ අඩු පළපුරුද්දක් ඇති නියමුවන් විසින් බව පෙනිණ. ඒ සතුරු යානා පෙළට වැදුණු වෙස්ලොව්ගේ අහස් යානා කණ්ඩායම ඒවා පළවා හරිමින් ජර්මන් කඳවුරට ඔවුන්ගේ ම අහස් යානා විසින් බෝම්බ දැම්මවීමට සළස්වන ලදී. සතුරාට පහරදීම පිණිස කපිතන් වෙස්ලොව් සිය අහස් යානා කණ්ඩායම මෙහෙයවද්දී ඔහුගේ අරමුණ වූයේ පැසිස්ට් ජර්මනුන් ලවා ඔවුන්ගේ ගොඩබිම හමුදාවලට බෝම්බ දැම්මවීමය. හිරු රැස්වලට පිටුපා අහස්යානා පැදවීම ඔහුගේ ප්‍රධාන අරමුණ නොවී ය.

නැවත පැසිස්ට් ජර්මනුන්ගේ අහස් යානා කණ්ඩායමේ පළමුවැනි පෙළ සෝවියට් යුද්ධ ටැන්කි ගමන් කරමින් සිටි තැන බලා පියාසර කළේ ය. සෝවියට් අහස් යානා තෙවැනි වරට පහර ගැසූ නමුදු එකද සතුරු අහස් යානාවක් වත් අලාභ හානි නොලැබුවා පමණක් නොව, ජර්මන් තුවක්කු පහරකට හසු වූ එක් සෝවියට් ප්‍රහාරක යානාවක් විනාශ විය. සතුරු අහස් යානා පහර ගසමින් ඉදිරියට යන සෝවියට් යුද්ධ ටැන්කිවලට වඩාත් ළං විය. ඉහළට නැග පහර දීමට තරම් වේලාවක් නැත. සතුරු, යානාවලට යටින් ගොස් පහර ඇරඹීමට කපිතන් වෙස්ලොව් කළ තීරණය අලෙක්සේයි සිතින් සම්මත කළේ ය. "ලා-5" වර්ගයේ සෝවියට් අහස් යානය අතිශයින් ම ජංගමශීලී ය. සතුරු අහස් යානාවල 'යටි බඩට' පහර දීමට අලෙක්සේයි යුහුසුලු විය. ඉදිරියෙන් පියාඹා ගිය ප්‍රහාරක අහස්යානා පෙළ සිරස් ලෙස සතුරු අහස් යානාවලට පහර දුන්නේය. සතුරු අහස් යානා දෙකක් බිම වැටිණි. ඉන් එක් අහස් යානයක් දෙකට කැඩී වෙන් වුණා විය යුතුය. කොටසක් අලෙක්සේයිගේ යානයේ නොහැප්පුනේ යම්තමිනි.

"මා පස්සේ එනවා!" යැයි පෙත්රොව්ට දන් වූ අලෙක්සේයි ඔහු

දෙස හැරී බලමින් සුක්කානම අල්ලා ගත්තේය.

මහ පොළොව ඉහළ ගොස් අහස පහළට වැටුණාක් මෙන් අලෙක්සේයිට දැනිණ. පහරක් වැදුණු කලෙක මෙන් ඔහු අසූනට තද විණි. කටට ලේ රසයක් දැනුණු අතර අවට රත් පැහැ ගැසුණාක් මෙන් විය. අලෙක්සේයිගේ අහස් යානය සිරස් ලෙස ඉහළට පියාඹන්ට විය. ඔහු අසලින් පියාඹන ජර්මන් අහස් යානයක යටි පැත්ත ද එහි රෝද ද ඔහු දිටී ය. රෝදවල ඇති මැටි සහ පස් කැටිද ඔහුට පෙනිණි.

ඔහු මැෂින් තුවක්කුව ක්‍රියා කරවිය. පහර වැදුණේ පැට්‍රල් ටැන්කියට ද, බඳට ද, එන්ජිමට ද නැතිනම් බෝම්බ රාක්කයට ද යන්න කිව නොහැකි ය. සතුරු අහස් යානය පුපුරා දුම් වළාවක් ඇති කළේ ය.

අලෙක්සේයිගේ අහස් යානය පැත්තකට විසි විය. ගිනිගත් සතුරු අහස් යානයෙන් ඉවත ගිය අලෙක්සේයි තම අහස් යානය සමාන්තර තත්ත්වයට හරවා අවට අහස පිරික්සා බැලීය. ඔහුගේ සගයා යන පෙත්රොව්, සබන් පෙණ වැනි සුදු වලාකුළුවලට ඉහළින් නිල්වන් අහසේ දකුණු දෙසින් පියාඹන සැටි ඔහු දිටී ය. අහස පාළු වෙලා ය. ඈත ක්ෂිතිජයේ කළු ලප වැනි යමක් පෙනිණි. ඒවා විසිර යන සතුරු අහස් යානා ය. අලෙක්සේයි තම අත් ඔර්ලෝසුව දෙස බැලී ය. මේ සටන්වලට පැය බාගයක් පමණ කාලයක් ගෙවී ඇති බැවින් පැට්‍රල් ටැන්කිය හිස් වී ඇතැයි ඔහු සිතුවේය. එහෙත් ගෙවී ඇති කාලය විනාඩි තුන හමාරක් පමණ බැව් දුටු ඔහු පුදුම විය.

"පණපිටින්ද?" යි අලෙක්සේයි තම සගයා වන පෙත්රොව්ගෙන් ප්‍රශ්න කළේය. මේ වනවිට පෙත්රොව් සිය අහස් යානය අලෙක්සේයිගේ අහස් යානයට සමාන්තරව පැදවිය.

නොයෙක් හඬ බිඳගෙන අලෙක්සේයිගේ ශ්‍රවණ ශ්‍රවණ යන්ත්‍රවලින් හඬක් පිට විය.

"පණ පිටින්.... බිම... බිම... බලන්න..."

පහළ කඳුගැටයක් අසල පෙදෙසක ගිනිගෙන දැවෙන පැට්‍රල් ටැන්කි සහිත සතුරු අහස් යානා කීපයක් විය. ඒවායින් දුම් වළා නැංගේය. එහෙත් අලෙක්සේයි ඒවා දෙස නොබැලී ය. යුද පිටිය පුරා

දුවමින් සිටි අළු පැහැති කුරුමිණියන් වැනි සෝවියට් යුද්ධ ටැන්කි සතුරු කඳවුරට පහර දෙමින් ඉදිරියට යන හැටි ඔහු දිටී ය. සතුරු කඳවුරට වැදුණු යුද්ධ ටැන්කි වෙඩි තබන සැටිද පෙනිණි. ඉඳහිට පිටුපසින් වෙඩි තබන ජර්මන් තුවක්කු විසින් ගිනිබෝල පිට කරන ලදී.

සතුරු කඳවුර බිඳගෙන ඉදිරියට ගොස් සටන් කරන සෝවියට් යුද්ධ ටැන්කිවල අගය අලෙක්සේයි වටහා ගත්තේ ය.

සෝවියට් ජනතාවද නිදහස්කාමී ලෝකයාද ප්‍රීතියට පත් කරවන ඒ විශේෂ සිද්ධිය ගැන පසුදින පුවත් පත්වල පළවිය. දෙපැයක් තිස්සේ නොකඩවා කාල තුවක්කුවලින් බලසම්පන්න ලෙස පහර ගැසූ පසු කුර්ස්ක් අඩ කවයේ පැසිස්ට් ජර්මන් යුද කඳවුරක් බිඳගෙන ඉදිරියට ගිය සෝවියට් යුද්ධ හමුදාවෝ ප්‍රතිප්‍රහාරය ඇරඹූහ. එදින පැසිස්ට් අහස් යානාවලට පහර දුන් වෙස්ලොව්ගේ අහස් යානා නවයෙන් දෙකක් සටනේදී විනාශ විය. පැසිස්ට් අහස් යානා නවයක් විනාශ කරන ලදී. සොහොයුරන් දෙදෙනෙකුගේ අභාවය නිසා ජයග්‍රහණයෙහි දීප්තිය අඩු විණි. අහස් යානා ගුවන් තොටුපළට ගෙනා පසු අහස් නියමුවෝ කෑ කෝ ගසමින් හඬ නගමින් කතා නොකළහ. බිහිසුණු සටනකින් ජය ලැබූ පසු සිරිත් පරිදි අනතුරු ගැන සිතමින් පසු වූහ. බුම්මාගෙන නිලධාරී මණ්ඩලයේ ලොක්කා වෙත පැමිණි ඔවුහු ප්‍රතිඵල ගැන කෙටි වාර්තා කොට එකිනෙකා දෙස නොබලා ආපසු ගියහ. අහස් යානා ස්ථානයට අලුතින් පැමිණි අලෙක්සේයි මිය ගිය සෝවියට් අහස් නියමුවන් දෙදෙනා ගැන නොදත්තේ ය. එහෙත් පොදු අභාග්‍යය නිසා ඔහු ද දුක් විය. සිත කය දෙකම යොදමින් ක්‍රියා කළ අරමුණ- අනිකුත් ප්‍රකෘති මිනිසුන්ට මෙන්ම තමන්ටද සමාජයේ සම තැනක් ලබා ගැනීම- ඉටු වී ඇති බව අලෙක්සේයිට අවබෝධ විය. එය ඔහු ලැබූ අනගිතම ජයග්‍රහණය විය. දෙපා කපා දැමූ පසු රෝහලේ ඇඳ මත වැතිරගෙන, ඇවිදීම, නැටුම් ඉගෙන ගැනීම, අහස් නියමුවකුට අවශ්‍ය සියලු දක්ෂකම් නැවත ලබා ගැනීම ආදී හැම දෙයක් ම කරමින් ඔහු සිහින දුටුවේ මේ දවස ගැන ය. ඔහු බලාපොරොත්තු පරිදි ඒ දවස ඔහුට විශිෂ්ට ජයක් ලබා දුන්නේ ය. එහෙත් දන් තමා විසින් පැසිස්ට් ජර්මන් අහස් යානා දෙකක් බිම හෙළා දැමීමෙන් පසු, ප්‍රහාරක අහස්යානා කණ්ඩායමේ සාමාජිකයකු වශයෙන් සම්පූර්ණ අයිතිය ලැබීමෙන් පසු සෙසු ප්‍රහාරක අහස් නියමුවන් මෙන් ප්‍රධාන නිලධාරී තැන වෙත ගිය අලෙක්සේයි මෙරේස්යෙව් වෙඩි තබන ලද සතුරු අහස් යානා සංඛ්‍යාව ගැනද, සටනේදී වූ තත්ත්වය ගැනද කෙටි වාර්තාවක් කර, තම දෙවැනි නියමු

පෙත්රොව්ට පසයා, බිරියෝසා ගස යටට ගොස් එදා සටනේදී දිවි පිදූ සහෝදර නියමුවන් දෙදෙනා ගැන සිහිකරමින් ශෝක විය.

හිස් වැස්මක් රහිතව ගුවන් තොටුපළ වටේ දුවමින්, හමුවූ හැම එකකුගේම අතින් අල්ලා ගෙන සටන් ගැන විස්තර කිරීමට ඉදිරිපත් වූ එකම පුද්ගලයා වූයේ පෙත්රොව් පමණකි.

"....ඔන්න සතුරා ළඟටම ඇවිල්ල. අත ළඟම! අහනවකෝ... සතුරු කණ්ඩායම ඉදිරියෙන්ම ගිය අහස් යානයට අපේ ජ්‍යෙෂ්ඨ ලයිතන් පහර දුන්නා. මම ඊළඟ එකාට පහර ගැසුවා සතුරා බිම වැටුණා..."

අලෙක්සේයි වෙත දුවමින් ගිය පෙත්රොව් ඔහුගේ දෙපා ළඟ වැටී දිගාවිය. එයිනුදු ඉවසීමක් ලබා ගත නොහැකි වූයේ නැවත නැඟී සිට කතා කළේ ය.

"අද ඔහෙ හරි ලස්සන සරඹ ටිකක් පෙන්නුව නෙව! මගේ ඇස්වල අන්ධකාරයක් ඇති වුණා ඒවා දකල... ඔහෙ දන්නවද මම අර අහස් යානාව විනාශ කළ හැටි? ඔන්න 'අහන්න... මම ඔහෙ ළඟින්ම පියාඹමින් හිටියා. සතුරා අත ළඟටම ආවා......".

'පොඩ්ඩක් නවතිනවා" යැයි ඔහුගේ කතාවට බාධා කළ අලෙක්සේයි සාක්කු සියල්ල අත ගාන්නට විය. "ලියුම්......ලියුම්....මම ඒවා කොහේ දැම්මද?"

අද ලැබුණු ලියුම් දෙක නොකියවූ බව අලෙක්සේයිට මතක් විය. කබායට යටින් කුහරය අත ගෑ විට ලියුම් කවර අතට දැනුණෙන් ඔහු සැනසුම් සුසුමක් හෙළී ය. ඕල්යා විසින් එවන ලද ලියුම අතට ගත් අලෙක්සේයි ගසමුල වාඩිවී පරෙස්සමින් ලියුම් කවරය ඉරා ලියුම අතට ගත්තේ පෙත්රොව්ගේ කතාවට සවන් නොදෙමිනි.

එවිටම රතු රොකට් වෙඩිල්ලකින් ගුවන් තොටුපළ ආලෝක විය. අහස් නියමුවෝ නැවත තම අහස් යානා වෙතට දුවන්නට වූහ. අලෙක්සේයි ලියුමේ එකද වගන්තියක්වත් නොකියවා නැවත එය කමිස කුහරයේ ලා ගෙන සිය අහස් යානය වෙත දුව ගියේය. ලියුම පමණක් නොව එහි තවත් යම්කිසි සතුටු යමක් තිබෙන බව ඔහුට දැනිණි. අහස්

එළියට බට හැටි ඔහුට පෙනිණි.

"මම හැම තැනම ඇවිද්ද, අපේ වීරයාව සොයමින් ඇවිද් අපේ වීරයා කොහිද? මෙන්න අපේ වීරයා ඇවිදිනවා." යැයි ප්‍රධා නිලධාරියා පැවසී ය.

අභිරූ ආභාශ කරන විට තම අභස් යානය ඉදිරියෙන් පදව ප්‍රධාන නිලධාරී තැන හවසට මිකැනික්වරුන් සමග එක් වී යන්ත්‍ර සූ අත ගෑමට ආශා කරන්නාක් මෙන් ම, ඉතා දක්ෂ ලෙස තම මොටෝරි පැද්දූ ඔහු එහි යන්ත්‍ර සූත්‍ර අත ගා බැලීමටද ආශා කළේ ය. ඔහු නිතර තිල් පැහැති ඇඳුමකින් සැරසී සිටියේය. ඔහුගේ මුහුණ සහ නිල හඳුන්වන අරුත් හිස්වැස්ම නිසා නොවේ නම්, ඔහුද සාමාන්‍ය මිකැනික ශිල්පියකුට සමාන විය.

තම හැරමිටියෙන් පොළොවේ ඉරි අඳිමින් සිටි මෙරේස්යෙව්ගෙ උරහිසින් අල්ලාගත් ප්‍රධාන නිලධාරී තැන මෙසේ පැවසී ය.

'තමුසෙ දිහා බලන්ට මම කැමතියි. මැය බැල්මට නම් විශේෂයක පෙනෙන්ට නැහැ. දැන් ඇත්ත හෙළි කරන්නම්. තමුසෙව මෙහාට එවන විට තමුසෙ ගැන බොහෝ දේ කිව්වට මම විශ්වාස කළේ නැහැ. ඇත්තටම විශ්වාස කළේ නැහැ. තමුසෙට අහසට නැගල සටන් කරන්ට පුළුවනියි කියල මා විශ්වාස කළේ නැහැ. විශේෂයෙන්ම මේ වගෙ සටනක්...... ඉන්න අපේ රුසියානු මාතාවගෙ හැටි! මම තමුසෙට සුබ පතනව විතරක් නෙවෙයි තමුසෙගෙ හපන්කම් හන්දා තමුසෙට ගරු කරනව..."

අලෙක්සෙයි තම නවාතැනට නොගොස් බිර්යෝසා ගසක් මුල හතු මිසු සුවඳ ඇති පඳුරක් අසල වාඩි වී පරෙස්සමින් ඕල්යාගේ ලියුම ගෙන කියවන්නට විය. ලියුම තුළ වූ ඡායා රූපයක් බිමට වැටුණෙන් ඔහු එය අතට ගෙන බැලී ය. යුද නිල ඇඳුමින් සැරසුණු ඕල්යාගේ ඡායා රූපය විය. අසිපත පළඳින පටිය ඇඳ සිටි ඇගේ පපුව රතු ධජයේ පදක්කමකින් සැරසී ඇත. තරුණියකට වඩා ඇගේ රූපය ගැටවරයකුට සමාන වී යැයි ඔහුට සිතිණි. ඒ මුහුණ විඩාපත් වූ බවක් කියා පෑවේ ය. යෞවන නොවන ලොකු ඇස් වට කුරු ය. බැල්ම විනිවිද යන සුළු ය.

අලෙක්සේයි සිය පෙම්බරියගේ ඡායාරූපය දෙස බොහෝ වේලාවක්
ා සිටියේය. කෙනෙක් ලස්සන ගීයක් ගයන සැටි ඇසෙන විට සිත
 මුසු තෘප්තියකින් පිරී යන්නේ යම් සේද, එසේම අලෙක්සේයිගේ සිත
වැනි තෘප්තියකින් පිරිණි. ඔහු තම සාක්කුවෙන් ඕල්යාගේ පැරණි
ා රූපය ගෙන අලුත් ඡායා රූපය සමග සමකර බැලීය. මල්
ත්තියක් ළඟ පාළාවන් ගවොමක් ඇඳ සිටින ඕල්යාට වඩා යුද
ුමින් සැරසී සිටින, විඩාපත් ඇස් ඇති. තමා කිසිදිනෙක දක නැති
යා තමාට වඩාත් කිට්ටු බවත්, වඩාත් වටිනා බවත් අලෙක්සේයිට
බෝධ විය. ඡායාරූපය පිටුපස මෙසේ ලියා තිබිණි. "මා අමතක
ා කරන්න".

ඇගේ ලියුම කෙටි ය. ප්‍රීතිදායක ය. ඉංජිනේරු භට කණ්ඩායමක
ිකාව වශයෙන් ඇ ක්‍රියා කරන්නී ය. ඇගේ භට කණ්ඩායම යුද
රමුණේ නොව සාමකාමී වැඩවල යෙදී සිටින බව ඇ ලියුවා ය. ඔවුහු
ාලින්ග්‍රාඩ් නැවත ගොඩනැගීමෙහි යෙදී සිටිති. තමා ගැන මඳ වශයෙන්
 ඕල්යා මහා නගරය ගැනත්, එහි විනාශය ගැනත්, තරුණියන්,
න්තාවන් හා ළමයින් සෝවියට් දේශයේ හැම තැනකින්ම පැමිණ
ගෙවල්වල, යුද කඳවුරුවල, ආරක්ෂක තපොලුවල, විනාශ වූ
ාඩනැගිලිවල පදිංචි වී මහත් උනන්දුවකින් ස්ටාලින්ග්‍රාඩ් නගරය
ාඩ නගන සැටිත් මහත් ආයාසයකින් විස්තර කළා ය. හොඳින් වැඩ
න හැම කෙනෙකුට ම ස්ටාලින්ග්‍රාඩය තුළ ගෙයක් ලැබෙන බවට
ාවක් පැතිර ගොස් තිබෙන සැටිද ඇ ලියුවා ය. මේ කතාව සත්‍යයක්
 යුද්ධයෙන් පසු අලෙක්සේයිට විවේක ගැනීමට තැනක් තිබෙන බව
ඇ ඔහුට දන්වූවා ය.

ගිම්හාන සමයේදී ඉක්මනින් ඇදිරි වෙයි. ලියුමේ අවසාන වැකි
ය ඔහු කියැවූයේ ටෝච් එළියේ ආධාරයෙනි. ලියුම කියැවූ පසු ඔහු
ත ටෝච් එළියේ ආධාරයෙන් යුද නිල ඇඳුමින් සැරසී සිටි ඕල්යාගේ
ාරූපය දෙස බැලී ය. ඇගේ බැල්ම බරපතළ ය. දෙනෙත් අවංක ය.
දරය. සුන්දරිය තුඹට ලෙහෙසි නැත.... යුද්ධයට තුඹ අසු වුණද, තුඹ
ාශ කිරීමට යුද්ධය අපොහොසත් වී ඇත. තුඹ මා එන තුරු බලා
න්නෙහිද? බලා ඉන්න! බලා ඉන්න! තුඹ මට පෙම් කරන්නෙහිද?
ම් කරන්න! පෙම් කරන්න! සුන්දරිය! අවුරුදු එකහමාරක් තිස්සේ
ාලින්ග්‍රාඩ් වීරවරියගෙන් ඇත්ත සතාවා තැබීම ගැන අලෙක්සේයි
ජා විය. වහාම නවාතැනට ගොස් සම්පූර්ණ ඇත්ත හෙළි කරමින්
මට ඔහුට වුවමනා විය. ඔනෑම තීරණයක් ගන්නාවේ! ඉක්මන් වන

කරමට යහපත් ය. හැම දෙයක් ගැනම තීරණයක් ගත් පසු දෙදෙනාට
ලෙහෙසි වනු ඇත.

අද සටනින් පසු ඔහුට ඈ සමග සම තත්ත්වයකින් කතා
හැකි ය. ඔහු අහස් යානා පදවනවා පමණක් නොව යුද්ධ කරයි.
සියලු අදහස් හා සිතැඟියාවන් විනාශ වූ පසු හෝ අනිකුත් ප්‍රහාර
අහස්යානා නියමුවන් සමඟ සම තත්ත්වයකින් සටන් පෙරමුණ
දාට හෝ තමා ගැන සම්පූර්ණ ඇත්ත හෙළි කිරීමට ඔහු එදා දිවුර
දුන්නේ ය. දැන් ඔහු සමයකු සේ ප්‍රහාරක සටනක යෙදී ඇත.
සිහිනය සැබෑ වී ඇත. හැම දෙනාම බලා සිටියදී ඔහුගේ වෙඩි පහර
ලක් වූ සතුරු අහස් යානා දෙකක් බිම වැටී ගිනි ගත්තේ ය. සේවය හා
නිලධාරියා එය සටහන් කළේ ය. එම වාර්තාව ඩිවිෂනයට ද,
හමුදාවටද, මොස්කව් නුවරටද යවා ඇත.

මේ සියල්ලම සැබෑ ය. ඔහු තම ප්‍රතිඥාව ඉටු කොට ඇ
බැවින් ඔහුට ලිවීමට අයිතියක් තිබේ. එහෙත් ඇත්ත වශයෙන්ම කල්පනා
කර බලන විට 'ලප්ටේෂ්නික්' නමින් හැඳින්වෙන සතුරු යානාව ප්‍රහාරක
නියමුවකුට සෑහෙන සතුරෙක් ද? දක්ෂ දඩයක්කාරයෙක් හාවකුට වෙඩි
තැබිය යන සාක්ෂ්‍ය ඉදිරිපත් කරමින් තම දක්ෂතාවය ඔප්පු කරති ද?.

5

අහස්යානා සේනාංකය අළුයම අවදි කරන ලදී. සෝවියට් යුද්ධ
හමුදා විසින් සතුරු කඳවුර බිඳිනු ලැබූ පෙදෙසට, පෙර දින අලුත් ජර්මන්
අහස් යානා හමුදාවක් එවූ බව සඳහන් වන වාර්තාවක් සෝවියට්
ඔත්තු කරුවන් එවා ඇති බව දැනගන්නට ලැබිණි. කූර්ස්ක් අඩ කවයේ
ජර්මන් ආරක්ෂක පවුරු බිඳීම නිසා හටගත් තත්ත්වය භයානක
බැවින්, ජර්මනියේ අතිශයින්ම දක්ෂ අහස් නියමුවන් විසින් පදවනු ලබන
'රිෂ්ට්ගෝපෙන්' නමැති සුප්‍රසිද්ධ අහස්යානා ඩිවිෂනය එවා ඇති බව
නිරීක්ෂකයින් හා ඔත්තු සේවාව විසින්ද තහවුරු කරන ලදී. සතුරා
විසින් ගෙන්වා ඇති අහස්යානාවල සංඛ්‍යාව විශාල බවද, මේ
ඩිවිෂනය ස්ටාලින්ග්‍රාඩ් අසල සිදු වූ මහ සටන්වලදී පරාජය වූණු
බවද, "පොක්කේ -වුල්ප්-190" නමැති නවීනතම අහස් යානා හමුදාව
සටනෙහි පළ පුරුදු ඇති බවද සෝවියට් අහස් හමුදාවට දැන ගන්නට
ලැබිණි.

නයෙක්ම ආගමු කැමිණි පසු අලෙක්සෙයි සැනසුම් සුසුමක් හෙළී ය.

ප්‍රධාන නිලධාරියාගේ අහස් යානා කණ්ඩායමට අයත් අවසාන
යානය ගුවන් තොටුපළට ළඟා වන්ම, මේජර් පිදෝනොව් නම් යානය
දුවා විදුලි වේගයෙන් ගුවන් ගත විය. ඔහු පිටුපසින් ඔහුගේ කණ්ඩායමේ
ගත් අහස් යානා දෙක මැතින් පෙළ ගැසී අහසට නැංගාය. කැලැයි
පිටුපසින් නැවත පෙළ ගැසුණු පිදෝනොව්ගේ කණ්ඩායම රියේ සෝවියට්
ගමල හමුදාව විසින් පසුරු සෙරමුණ බිඳිනු ලැබූ ප්‍රදේශය පසුකරමින්
දැකි කරමි පහළින් පියාසර කළේ ය. පිදෝනොව් නම් අහස් යානයේ
යාපත් සොලවමින් ගුවන් මග පෙන්විය. පිදෝනොව්ගේ! අණ අනුව
පහළින් පියාසර කළ අලෙක්සෙයි යුද බිම දෙසට නෙත් හැරවීය. පෙර
න ඉහළ අහසේ පියාසර කරන විට දුටු දර්ශනයට වඩා හාත්පසින්ම
වෙනස් දර්ශනයකි අද ඔහු දුටුවේ. ඉහළ අහසේ සිට බලන විට හැම
දෙයක්ම සෙල්ලම් බඩු මෙනි. එහෙත් අද පහළින් පියාසර කරන විට ඔහු
ටු යුද පිටිය අති විශාලය. හැම තැනම යුද භටයින්ගේ මළ සිරුරුය.
වඩි ගෙඩිම ය. ආරක්ෂක අගල් හා වළවල් ය. විනාශ වුණු යුද්ධායුධ
. අතහැර දමා ගිය කාල තුවක්කු වෙන් වෙන්ව ද කාණ්ඩ වශයෙන් ද
ත. විනාශ වුණු යුද්ධ ටැන්කි, ගිනිගත් ලෝහමය උපකරණ හා අවි
ඔහු දිටිය. කාලතුවක්කු වෙඩි පහරට අසුවුණු එක් තැනක සමතලා
මෙකි. මෙතැන හැම දෙයක්ම විනාශ වී ගොසිනි. දහස් ගණනක්
තුන්ගේ පාවලට පෑගුණු කලෙක මෙනි. අවසානයක් නැති බිහිසුණු
හුපටියකට ඒ දර්ශනය සමාන විය. මෙතැන සිදු වූ මහා සටනේ
හිසුණු බවද, මියගිය යුද භටයින්ගේ හා විනාශ වුණු යුද්ධායුධවල
ණනාවද එයට දෙස් දුන්නේ ය. මේ සියලු විනාශය නිසා ඉන් ලැබූ
ජයග්‍රහණයේ අගය ද සීමා රහිත විය.

සෝවියට් යුද්ධ ටැන්කිවල සටහන් යුද පිටිය පුරාම දකින්නට
ඩිණි. ඉදිරියෙහි වූ හැම දෙයක්ම සමූලඝාතනය කරමින් පැසිස්ට්
මතුන්ගේ කඳවුරට වැද ක්ෂිතිජය දක්වාම ගමන් කළ මේ යුද්ධ
න්කි විසින් තබන ලද සටහන් අමුතු වර්ගයකට අයත් සතුන්ගේ
ත්‍රමණයක් සිහියට නැංවිය. සෝවියට් යුද්ධ ටැන්කිවලට පිටුපසින්
න්ත්‍රික කාල තුවක්කු ද, පෙට්රල් හා ඩීසල් තෙල් රැගත් රථ ද,
ක්ටර් යන්ත්‍ර මගින් ඇදගෙන යනු බලන යුද්ධායුධ අලුත් වැඩියා කරන
ඩිපොල් ද කැන්වස් වලින් වසන ලද ලොරිද ඉදිරියට ගමන් ගෙන
න්නේ අළු පැහැති දූලි වළා නංවමිනි. ඉහළ අහසේ සිට බලන විට මේ
හා සේනාවේ ඉදිරි ගමන කුහුඹු රැළකට සමාන විය.

උසට නැග ඇති දූලි වළාවලට වැදුණු ප්‍රහාරක අහස් යානා කණ්ඩායම යුද්ධ ටැන්කි හමුදාව ඉදිරියෙන් ගමන් කරන ජීප් රථවලට- සෝවියට් යුද්ධ ටැන්කි හමුදාවේ නායකයින් මේ රථවල ගමන් කරතියි සිතිය හැකිය- ඉහළින් පියාසර කළේ ය. මෙසේ ඉදිරියට යන සෝවියට් යුද්ධ හමුදාවට ඉහළින් ඇති අහසේ සතුරු අහස් යානා නොතිබුණද, ඈත ක්ෂිතිජයේ නොපැහැදිලි ලෙස තැනින් තැන දුම් වළා පැන නගින බව අලෙක්සේයි දිටී ය. සරුංගල් මෙන් වටේට පියාඹමින් ප්‍රහාරක අහස් යානා කණ්ඩායම ආපසු හැරෙත් ම ක්ෂිතිජයේ සිට අහසට වත් කළු පැහැති කිසිවක් අලෙක්සේයිට පෙනිණි. කළු ලප වැනි ඒවා පහළින් පියාසර කරමින් ඉදිරියට ආවේ වේගයෙනි. ජර්මන්නු! හැකි තරම් පහළින් පියැඹූ සතුරු අහස් යානා ඉදිරියට යමින් සිටි සෝවියට් යුද්ධ ටැන්කි හා යුද්ධ රථ විසින් නංවන ලද දූලි වළාවල පසු කොටස වෙතට එමින් සිටියාක් මෙනි. රතු පැහැති යුද පිටියෙන් නැගි දුම්වළා පෙනිණි. අලෙක්සේයි [illegible] මෙන් වටපිට බැලී ය. පෙත්රොව් තමාට පිටුපසින් හැකිතරම් ළඟ පියෑඹීය.

ඈත සිට කතා කරන හඬක් ඔහුගේ ශ්‍රවණ යන්ත්‍රවලින් පිට වූයෙන් අලෙක්සේයි ඕනෑකමින් සවන් දුන්නේ ය.

"මම දෙවැනි මුහුදු ලිහිනියා, පිදෝත්කොව්. මම දෙවැනි මුහුදු ලිහිනියා, පිදෝත්තොව්. සවන් දෙනු! මා පස්සේ එනු!"

ස්නායු පීඩනය හා නොසන්සුන්තාවය කොතරම් උග්‍ර ද යත් අණදෙන නිලධාරියා, අණදීම අවසාන කිරීමටත් පෙර, සමහර විට අහස් නියමුවෝ ඔහුගේ අණ ක්‍රියාවට යොදවති. අණදෙන නිලධාරී තැනගේ කටහඬ ඈත සිට අණදීම කර අවසන් වන්නටත් පෙර ප්‍රහාරක අහස් යානා දෙක බැගින් පෙළ ගැසී, මනා ලෙස සංවිධාන වී, ජර්මන් අහස් යානාවලට පහර ගැසීමට සූදානම් වූහ. දෘෂ්ටිය, ශ්‍රවණය හා චින්තනය උපරිමය දක්වා උග්‍ර විය. තමා වෙත වේගයෙන් පියාඹන සතුරු අහස් යානා හැර වෙන කිසිවක් අලෙක්සේයිට නොපෙනේ. ප්‍රධානියාගේ අණ ඇසිය හැකි ශ්‍රවණ යන්ත්‍රවල ඝෝෂාව හැර වෙන කිසිවක් ඔහුට නෑසේ. එහෙත් විදේශීය භාෂාවකින් කියන යමක් ඔහුගේ කන්හි වැකිණි.

"ආ: විළුන්ග්! ආ: විළුන්ග්! ලා-ජ්‍යුන්ප්! ආ: විළුන්ග්!"

ජර්මන් ගුවන්තොටුපළේ නිරීක්ෂකයෙක් තම අහස් යානාවලට

අනතුරු හැඟවීමක් කළා විය යුතුය.

පෙර දින රැයෙහි ජර්මනුන් විසින් නිරීක්ෂකයින් සහ ගුවන් විදුලි සංඥා පණිවුඩ කරුවන් රැසක් පැරෂුට් මගින් සටන් ඇති විය හැකි පෙදෙසේ උපක්‍රමීය අතින් වැදගත් යැයි සැලකිය හැකි තැන්වලට ගොඩබස්වා ඇත. සුප්‍රසිද්ධ ජර්මන් අහස්යානා කණ්ඩායමේ එක් සංග්‍රාමෝපායකි මේ.

තරමක් නොපැහැදිලි ලෙස තවත් ජර්මන් හඬක් ඇසිණි. රොස් වූ ජර්මන් නිරීක්ෂකයෙක් බැරෑඩි හඬකින් කෑ ගැසීය.

"ඕ, ඩොන්නෙර් - වෙට්ටර්! ලින්ක්ස් ලා-ජ්යුන්ජ්! ලින්ක්ස් ලා-ජ්යුන්ජ්!"

ඒ කටහඬෙහි බියක් හා චකිතයක් ගැබ් වී තිබිණි. සතුරු අහස් යානා දෙස අලෙක්සේයි බැලුවේය.

"පොක්කේ -වුල්ජ්-190" නමැති බලගතු, කඩිසර, ප්‍රහාරක අහස් යානා අලුත් ඒවා ය.

ගණනින් සතුරු අහස් යානා මේජර පිදෝත්තොව්ගේ කණ්ඩායම මෙන් දෙගුණයකි. 'රිහ්ට්ගෝපෙන්" ඩිවිෂනයට අයත් විශේෂ ක්‍රමයක් අනුව ඒවා පෙළ ගැසී පියගැට පෙළක් ලෙස පියාසර කරන්නට විය. මේ ක්‍රමය ඉදිරියෙන් පියාඹන අහස් යානයේ වලිගය පිටුපසින් පියාඹන අහස් යානාව විසින් ආරක්ෂා කැරිණි. සතුරාට වඩා ඉහළින් පියාසර කළ පිදෝත්තොව් පහර දීම ඇරඹීය. අලෙක්සේයි තමාට සුදුසු ගොදුරක් සොයාගෙන, අනිකුත් සතුරු අහස් යානා ගැනද සොයා බලමින්, පහර දීමට පියෑඹීය. එහෙත් පිදෝත්තොව්ට පෙර සෝවියට් "යාක්" අහස් යානා කීපයක් සතුරාට පහර දුන්හ. ඒ ප්‍රහාරය කොතරම් සාර්ථක වී ද යත්, සතුරු අහස් යානාවල පෙළ ගැසීමේ ආකාරය බිඳිණි. ආකූල ව්‍යාකූල තත්ත්වයක් ඇති වූයෙන් අහස් යානා දෙක හා හතර බැගින් වෙන්ව සටන් කරන්නට වූහ. සෝවියට් ප්‍රහාරකයෝ සතුරු අහස් යානා වලට මැෂින් තුවක්කුවලින් වෙඩි තැබූහ. ඒවායේ පිටුපසට හා වලිගයට ද, පියාපත්වලටද පහර දුන්හ.

එකිනෙකාට වෙඩි තබමින්, පහර දෙමින් සතුරු ඔන්චිල්ලාවක්

මෙන් ඔවුහු පියැඹූහ.

මේ අවුල් ජාලය මැද සිදුවන්නේ මොනවාද යන්න දකින්නේ පළපුරුදු ඇස් පමණකි. ශ්‍රවණ යන්ත්‍ර වලින් පිටවන ඝෝෂාව අතරින් දා නියම ලෙස දැනගන්නේ පළපුරුදු කන් විසිනි. ශ්‍රවණ යන්ත්‍රවලට හැම දෙයක්ම පාහේ ඇසිණි. පහර ගැසීමට ඉදිරියට යන ප්‍රහාරක නියමුවාගේ බැණ වැදීම ද, පහර කා වේදනාවෙන් කෑ ගසන්නාගේ කිසුණු විලාපයද, ජයග්‍රාහකයාගේ ජය හඬද, තුවාල ලැබුවන්ගේ කෙඳිරි ගෑම් සහ දත් කෑම්ද, ආශ්වාස ප්‍රශ්වාස කිරීම් ද ඇසිණි. කෝපාවිෂ්ට වූ ප්‍රහාරකයෙක් ජර්මන් බසින් ගීයක් ගැයී ය. එකෙක් විස්මය පත් වූයේ 'අම්මා' යැයි කෑ ගැසීය. තුවක්කුවේ කොකා ගස්සමින් කෑ ගැසුවෙක් 'ඉඳා නුඹට!' කාපිය! යැයි මොර ගෑවේ ය.

පහර ගැසීමට අලෙක්සේයි තෝරා ගත් සතුරු අහස් යානය කුරුදහන් වී එතැන සෝවියට් "යාක්" ප්‍රහාරක යානයක් පියාඹන සැටි ද, එය සතුරු පොක්කෙ වුල්ප් අහස් යානයක් ලුහුබඳින සැටි ද අලෙක්සේයි දිටීය. සුරුට්ටුවකට සමාන සතුරු අහස් යානයේ පියාපත් වල ඇති තුවක්කු වලින් "යාක්" යානයට වෙඩි තබන ලදී. අලෙක්සේයි එසැණම යාක් යානයට ආධාර පිණිස වේගය වැඩි කරත් ම, සතුරු යානය ඔහු ඉදිරියේ පෙනිණි. තත්පරයකින් හිත්තයක් පමණ වූ ඒ සුළු කාලාවේදී අලෙක්සේයි සතුරු යානයට වෙඩි තැබීය. සතුරාට කුමක් විද යි ඔහු නොදුටුවද 'යාක්' යානය කැඩුණු වලිගය සහිතව හුදකලාව පියාඹන සැටි ඔහු දිටී ය. තම සගයා අතරමං විදයි අලෙක්සේයි සොයා බැලී ය. පෙත්රොව් තමාට සමාන්තරව පියාඹන සැටි දුටු අලෙක්සේයි දත්කමින් මෙසේ කීය.

"තරුණයා පමා' වෙන්න එපා."

ඔහුගේ ශ්‍රවණ යන්ත්‍රය ඔහුට විවේකයක් නොදුණි. රුසියන් සහ ජර්මන් යන දෙබසින්ම ජය නිසා කෑ ගසන සැටි ද, පහර කෑ විට ඩිය පළ කරන සැටි ද, බැණ වදින සැටි ද දත් කන සැටි සහ සුසුම්ලන සැටි ද ඇසිණි. මේ කෑ. කෝ ගැසීම් හා ඝෝෂාව අහස් හක් නොව යුද අගල්වල පොරකමින් ඇත කොටා ගන්නා යුද්ධයකට සමාන නොසන්සුන්තාවයක් පළ කළේ ය.

අලෙක්සේයි සතුරු යානා සොයමින් වට පිට බැලී ය. ඔහු දුටු

දර්ශනය නිසා ඔහු මොහොතකට ගල් ගැසිණි. ඔහුට පහතින් "පොක්කේ - වුල්ෆ්" අහස් යානයක් "ලා-5" කට පහර දෙන සැටි දුටු ඔහු එහි අංකය නොදුටුවද, එය පෙත්රොව්ගේ අහස් යානය බව ඉවෙන් මෙන් දැන ගත්තේය. සතුරා ඔහුගේ හැම කුචක්කුවකින් ම පෙත්රෙව්ට වෙඩි තැබීය. තම මොහොතකින් පෙත්රොව් විනාශ වනු ඇත. අහස් යානා දෙක එකිනෙකට ළං වී සටන්කරන බැවින් තම මිතුරාට ආධාර දීමට කාලයක් හෝ ඉඩක් හෝ නොතිබිණි. එහෙත් තම සගයා මරණයෙන් බේරාගත යුතුය. අලෙක්සේයි තම අහස්යානය පහතට හරවා විදුලි වේගයෙන් දුවන රියක් මෙන් සතුරු අහස් යානය බලා පදවමින් වේගය වැඩි කළේ ය. අහස්යානයේ හා ඔහුගේ බරද යන්ත්‍රවල වේගයද අවස්ථිතියද නිසා එය සතුරා මත කඩා වැටෙන පර්වතයක් මෙනි- එය පර්වතයක් නොව රොකට් වෙඩිල්ලක් මෙන් විය. වේගයෙන් සිරස් ලෙස පහතට පැදවීම නිසා අලෙක්සේයිට සිහි නැතිව යන සැටියක් දැනිණි. තම අහස් යානයේ අවර පෙත්තට හොඳටම ළං වී තිබුණු සතුරු අහස් යානය දුම් වළාවකින් වැසී ගිනිගත් සැටි දකිමෙහි ඔහු සමත් විය. එහෙත් පෙත්රොව් දකින්නට නැත. ඔහු කොහිද? ඔහුගේ අහස් යානය විනාශ විද? නැතිනම් ඔහු පැරෂුටය මගින් බිමට පැන ගත්තෙහිද?

අහස පාළු වී තිබිණි. නොපෙනෙන අහස් යානයකින් අණක් ලැබිණි.

"මම දෙවැනි මුහුදු ලිහිණියා, පිදෝතොව්. මම දෙවැනි මුහුදු ලිහිනියා. පිදෝතොව්. මම දෙවැනි මුහුදු ලිහිණියා පිදෝතොව්. ආපසු යාමට පෙළ ගැසෙනු! මම දෙවැනි මුහුදු ලිහිනියා..."

මේජර් පිදෝතොව් තම අහස් යානා කණ්ඩායම ගුවන් තොටුපළට ගෙන යාමට තීරණය කර ඇත.

පෙත්රොව්ගේ අහස් යානය ලුහුබැඳ ගිය සතුරු යානයට පහර දුන් පසු නැවත තම අහස් යානය සමාන්තර ලෙස පැදවූ අලෙක්සේයි මෙරේස්යෙව් තුළ සතුටක් හා ශාන්ත බවක් ඇති විය. සතුරා විනාශ කර දැමූ අ●ර අවදානම පහ වී ගොසිනි. ගුවන් තොටුපළට යා යුතු දුර ප්‍රමාණය හා ඉතිරිව ඇති ඛනිජ තෙල් ප්‍රමාණය දෙස බැලූ හෙතෙම රොස්විය. ඉතිරිව ඇති ඛණිජ තෙල් ප්‍රමාණය නැවත ගුවන් තොටුපළට යාමට ප්‍රමාණවත් නොවේ. එහෙත් එයටත් වඩා බියජනක අවදානමක් අලෙක්සේයි දිටීය. පුළුන් ගොඩක් වැනි විශාල වලාකුළකින් මතු වූ

ොක්කේ -වුල්ප් 190" අහස් යානයක් අලෙක්සෙයි සනුමැත්දේ ය. ල්පනා කිරීමට හෝ පැනයාමට හෝ වේලාවක් නැත.

තමා වෙත එමින් සිටින සතුරාට මුහුණ දිමු වස් අලෙක්සෙයි ඉදිරියට ගියේය.

6

ඉදිරියට යමින් සිටින සෝවියට් යුද්ධ හමුදාවේ පසු කොටසට හළින් අහසේ සිදු වූ මේ සටනේ හඬ ඇසුණේ අහස් නියමුවන්ට මණක් නොවේ.

ගුවන් තොටුපලේ බලගතු ගුවන් විදුලි යන්ත්‍රය මගින් එම වනට ප්‍රධාන සෙනෙවි කල්නල් ඉවනොව් සවන් දුන්නේ ය. පළපුරුදු හස් නියමුවෙක් වන ඉවනොව් ගුවන් විදුලි යන්ත්‍රයෙන් නික්මෙන හඬ නුව එය උණුසුම් සටනක් බව වටහා ගත්තේ ය. ශක්තිමත් මූරණ්ඩු ර්මන් අහස් යානා පසු බැසීමට නොකැමැති බව පෙනිණි. පිදෝනොවගේ හස් යානා කණ්ඩායම අසමාන සටනක යෙදී සිටිතියි යන ආරංචිය වන් තොටුපළ පුරා පැතිර ගියේය. කැලෑවේ ආරක්ෂක කපොලු වලින් ළියට ආ සමහරු කැළඹීමෙන් යුතුව දකුණු දෙස අහස බැලූහ.

සුදු කබා ඇඳ ගත් දොස්තරවරු අවන් හලින් පිටතට දුව ගියහ. කැලෑවේ ආරක්ෂක ස්ථානවල සඟවා තිබුණු ගිලන් රථ වල යන්ත්‍ර ක්‍රියාකාරී විය. ඒවායේ වහළවල විශාල රතු කුරුස ඇඳ තිබිණි.

පළමුවැනි අහස්යානා යුවළ ගස්වලට උඩින් පියාසර කරමින් වා රවුම් නොගසාම ගුවන් තොටුපළට ගොඩ බැස්සේ ය. අංක 'එක' දරන අහස් යානාව, එනම් සෝවියට් සංගමයේ වීරයකු වන මේජර් පිදෝතොව් විසින් පදවනු ලැබූ ප්‍රහාරක යානයද, අංක 'දෙක' දරන යානය ද පළමුවෙන් ළඟා විය. ඒ එක්කම දෙවැනි අහස් යානා ජෝඩුවද ගොඩ බැස්සේ ය. අහස් තොටුපළට හැරී එන අහස්යානාවල හඬින් වනය පිරිණි.

කැළඹී සිටි නිරීක්ෂකයෝ 'හතයි, අටයි, නවයයි, දහයයි...." මුවෙන් ගණන් කළෝ අහස දෙස බලා ගත්වනම සිටියහ.

ගුවන් තොටුපළට පැමිණි අහස්යානා සිය ආරක්ෂක ස්ථානවලට
ගෙන යන ලදී. අහස්යානා දෙකක් ඇවිත් නැත.

බලාපොරොත්තු සහිත නිහඬතාවයක් පැතිරිණි. විනාඩි
ගියේ වේදනාව ඇති කරවමිනි.

"මෙරේස්යෙව් සහ පෙත්රොව් ඇවිත් නැහැ" යි කවුදෝ
පැවසීය.

හිටිහැටියේම ගැහැනු කටහඬක් ගුවන් තොටුපළ පුරා
පිළිරැව් දුනි.

"එකක් එනවා!"

අහස් යානයක හඬ ඇසිණි. බිරියෝස්සා ගස්වලට වැදෙන
පහළින් අංක '12' දරන ප්‍රහාරක යානය ආවේය. එහි වලිගය කැඩිලා
වම් පියාපතේ කොටසක් කැඩී කම්බියක ආධාරයෙන් එල්ලෙමින් තිබි
ගුවන් තොටුපළට බට ඒ යානය අමුතු ලෙස පනිමින් යන්නට විය.
පැන නැවත බිම ගැවී, නැවත වරක් උඩ පැන ගුවන් තොටුප
කෙළවරටම ගිය අහස් යානය නතර වෙත් ම එහි වලිගය උඩු අ
හිටවිණි. දොස්තරවරුන් රැගත් ප්‍රථමාධාර රථ හා ජීප් රථ කීපයක්ද
ස්ව සිටි පිරිස්ද ඒ අහස් යානය වෙත දුව ගියහ. නියමු අඳුනෙ
කිසිවෙක් පිට නොවූයෙන් එහි පියස්ස විවෘත කරන ලදී. ලේ ගොඩ
මත වාඩි වී සිටි පෙත්රොව් පිටතට ගත්හ. ඔහුගේ හිස පපුව මත වැ
තිබිණි. ඔහුගේ හිසකේ දහඩියෙන් තෙමිලාය. දොස්තරවරු හා හෙදියෙ
ඔහුගේ ඇඳුම්වල පටි ගළවා ෂෙල් වෙඩිල්ලකින් විනාශ වූණු පැරෂූ
බෑගය ඉවත් කොට, අප්‍රාණික සිරුර ගිලන් මැස්සක් මත තැබූ
පෙත්රොව්ගේ අතක් හා පයක් තුවාල වී තිබිණි. ඔහුගේ නිල් පැහැ
නියමු ඇඳුමට උඩින් ලේ පැල්ලම් මතු විය.

පෙත්රොව්ව ප්‍රථමාධාර රථයට තැබීමට ඔසවත්ම ඔහුගේ ඇ
විවෘත විය. පෙත්රොව් යමක් කී නමුදු එය නැසුණෙන්, ප්‍රධානියා ඔ
වෙත නැඹුරු විය.

"මෙරේස්යෙව් කොහිදැ" යි පෙත්රොව් ඇසුවේ ය.

"තවම ආවෙ නැහැ!"

පෙත්‍රොව්ගේ ගිලන් මැස්ස නැවත ඔසවන ලදී. තුවාල ලැබූ පෙත්‍රොව් වේගයෙන් දඟලමින් හිස පවා එසවීය.

"නවතින්න! මාව ගෙනියන්ට එපා. මට යන්ට බැහැ. මෙරේස්යෙව් එන තුරු ඉන්නම්. එයා මගේ ජීවිතය බේරා ගත්තා!"

පෙත්‍රොව් ඉතිරිව ඇති ශක්තිය යොදමින් විරුද්ධත්වය ප්‍රකාශ කරමින් වෙළුම් පටි ඉරා දමන බවට තර්ජනය කළේය. අතක් වැනූ ප්‍රධානියා දත් සපමින් මෙසේ පැවසීය.

"ඔහොම තියන්න. එයා මැරෙන්නෙ නැහැ. මෙරේස්යෙව්ට තව විනාඩියකට වඩා පියාසර කරන්ට පැට්‍රල් ඉතුරු වී නැහැ."

ප්‍රධානියා තම අත් ඔර්ලෝසුවේ තත්පර කටුව දෙස බැලීය. රත් පැහැති තත්පර කටුව, තත්පර කිරමින් වටය යන්නට විය. අවසාන අහස් යානය පැමිණිය යුතු පෙදෙස සහිත වනය දෙස ඔවුහු බලා සිටියහ. ඈත තුවක්කු වෙඩි හඬක් සහ කොට්ටෝරුවෙක් ගසකට කොටන ශබ්දය හැර අන් කිසි හඬක් නොවීය.

විනාඩියක් ගත වීමට සමහර විට බොහෝ වේලා ගතවේ.

7

සතුරු අහස් යානා දෙක උපරිම වේගයෙන් එකිනෙකා හමුවීමට ඉදිරියට ගියහ.

"ලාවොච්කින් -5" නමැති සෝවියට් ප්‍රහාරක අහස් යානාවල සහ "ෆොක්කේ-වුල්ෆ්-190" නමැති ජර්මන් අහස් යානාවල ධාවන වේගය මහත් ය. ශබ්ද වේගය පරදවමින් එකිනෙකා හමුවීමට ඔවුහු ඉදිරියට පැදවූහ.

අලෙක්සේයි මෙරේස්යෙව් සහ සුප්‍රසිද්ධ "රිෂ්ට්හෝෆෙන්" අහස් යානා ඩිවිෂනයේ දක්ෂ නියමුවෙක් මුහුණට මුහුණ ලා සටන් කිරීම සඳහා ඉදිරියට ගියහ. දුම්බීමෙහි දීර්ඝ පුරුද්දක් ඇත්තෙක් සිගරැට්ටුවක්

දල්විමට ගෙවන කාලයටත් වඩා අඩු කාලයකි අහස් සටනක් සඳහා
වන්නේ. එහෙත් ඒ මොහොත සඳහා අහස් නියමුවා කොතරම් ශක්ති
හා අධ්‍යාත්මික බලයක් යෙදිය යුතු ද යත්, හොඩමිම සටන් කරන්නො
එය මුළු දවසකට ප්‍රමාණවත් වන්නේ ය.

අහස්යානා දෙකක් මහත් වේගයකින් එකිනෙකට විරුද්ධව ඉදිරි
යන සැටි සිතෙහි මවා ගන්න. සතුරු අහස් යානාවේ වේගය වැඩි
තමා වෙත එය ළං වෙත්ම, එහි ප්‍රමාණය වැඩි වන සැටියක් පෙනෙ
එහි පියාපත්, මුණ්ඩය, අවර පෙත්ත, කළු තිත් වැනි තුවක්කු මේ
දෙයක් ම ඔබ ඉදිරියේ වෙන් ව විශාලව පෙනේ. තව මොහොතකි
අහස් යානා එකිනෙකට හැප්පුණු පසු කැලිවලට කැඩී, බිඳී යන අ
යානාව හා එහි නියමුවා ගේ ශරීරාවයව වෙන් කොට, සොයා
නොහැකි වනු ඇත. මෙවැනි මාරාන්තික සටනකදී අහස් නියමුවා
අධිෂ්ඨාන ශක්තිය පමණක් නොව, අධ්‍යාත්මික බලයද පරීක්ෂා
භාජන වේ. දුර්වල ස්නායු ඇති නියමුවා පරාජය වනු ඇත. ජයග්‍රහණ
නාමයෙන් දිවි පිදීමට සූදානම් නැති අහස් නියමුවා මාරාන්ති
කුණාටුවෙන් බේරීම පිණිස අහස් යානය හරවනු ඇත. මොහොතකි
ඔහුගේ අහස් යානය හානි ලැබ බිම පතිත වනු ඇත. ඔහුට ගැළවීම
නැත. පළපුරුදු 'නියමුවෝ මේ ගැන ඉතා හොඳින් දනිති. අභීතයින්
නිර්භය අය පමණක් මෙසේ මුහුණට මුහුණ ලා සටන් කිරීමට ඉදිරිප
වෙති.

අහස් යානා දෙක එකිනෙකට විරුද්ධව වේගයෙන් පියාඹිය

තමාට පහර දීමට ඉදිරියට එමින් සිටින්නේ හෙර්මන් ශේරින්ග්
ඉල්ලීම අනුව, නැගෙනහිර පෙරමුණේ සිදු වී ඇති විශාල අලාභ හා
පිරිමසා ගනු වස් හදිසියෙන් ජර්මන් අහස් හමුදාවට බැඳුණු නව
අහස් නැවියකු නොවන බව අලෙක්සේයි දැන ගත්තේ ය. සතුරු අහ
යානා කීපයක්ම විනාශ කළ බව දන්වෙන සටහන් ඇති 'රිහ්ටගෝෆෙන
අහස් යානා ඩිවිෂනයේ දක්ෂ නියමුවෙක් තමාට පහරදීමට එන බව
ඔහු අවසාන මොහොතේදී පලා නොයන බවත් අලෙක්සේයිට වැටහිණ

තම අහස් යානයේ අවර පෙත්තේ සිදුර තුළින් සතුරාගේ මුහුණ
තමාට පෙනෙන බවත්, ඔහුගේ තියුණු දෑස් තමා දෙස බලන බව
අලෙක්සේයිට දැනෙන්නාක් මෙනි. සතුරාගේ ඇස් ශෛර්ය හා කෝප
නිසා ගිනිගෙන දිවිණි. අලෙක්සේයිගේ ස්නායු ආතතිය විසින් ඔහුට වේ

ගුවන් තොටුපළට ළඟා විය යුතුය. වට රවුම් ගැසීම නොකළ යුතුය.

අහස් යානය වුවමනා මග ඔස්සේ පැදවූ අලෙක්සේයි බිම බැලී ය. ක්ෂිතිජය නොපැහැදිලි ය. ඔහු නිසලව් තම කාර්යයෙහි යෙදුණේ ය. ඛනිජ තෙල් ගැන බලාපොරොත්තු විය නොහැකිය. මීටරය සැබෑ තත්ත්වය පිළිබිඹු නොකළත් ඉතිරිව ඇති ඛනිජ තෙල්වලින් ගුවන් තොටුපළ දක්වා යා නොහැකිය. ගුවන් තොටුපළට නොගොස් අතර මඟදී ගොඩ බසින්නද? කොතැනටද? කෙටි මග ඔහු මනැසින් විමසා බැලී ය. උසැති ගස්, වඩ වලවල්, කඳු ගැටි සහිත ආරක්ෂක කපොලු, කටු කම්බි සහිත ආරක්ෂක අගල්.

මගදී ගොඩ බටහොත් මරණය හමු වනු ඇත.

පැරෂුටය මගින් බිමට පනින්නද? එය කළ හැකිය. පියස්ස හැර තුර කරකවා පැනීම! එවිට අහස්යානයට, අද නෙවරක්ම තම ජීවිතය ලවා දුන් ඉස්තරම් යන්ත්‍ර සහිත සීඝ්‍ර අහස් යානයට කුමක් වේද! අහස් යානය ඒ මොහොතේදී පණැති වස්තුවක් බව ඔහුට දැනිණි. තමාට වංකව සේවය කළ පරාර්ථකාමී ලස්සන වස්තුව අතහැර දැමීම පවාදීමක් ලෙස අලෙක්සේයිට හැඟිණි. ඇරත් පළමුවැනි සටනින් පසු අහස් යානාව නැතිව ගුවන් තොටුපළට පැමිණීමද, නැවත අහස් යානාවක් ලැබෙන තුරු නිකම් ඉඳීමද, සෝවියට් හමුදාව විශාල ජය ලබමින් ඉදිරියට යන මෙවැනි අවස්ථාවෙක අතිරේක භටයකු ලෙස ක්‍රියා විරහිතව සිටීමද නොකටයුතු දේ ය.

"කොහොම වුණත් ඒකට විරුද්ධයි" අලෙක්සේයි හඬනඟා මෙසේ කීවේ, යම් කිසිවකු කළ යෝජනාවක් ප්‍රතික්ෂේප කරන්නාක් මෙනි.

ඇන්ජිම නොනවතින තුරු අහස් යානය පැදවිය යුතුය. ඉන්පසු! ඇතිවන තත්ත්වය අනුව ක්‍රියා කළ යුතුය.

මීටර කුන්දාහකට ඉහළින් ද පසුව මීටර හාරදහසකට ඉහළින් ඔහු තම අහස් යානය පදවමින් ගොඩ බෑසීමට සුදුසු තැනිතලාවක් සෙව්විය. ක්ෂිතිජයේ කොළ පැහැති වනය මතු වී පෙනිණි. වනයෙන් පිට ගුවන් තොටුපළ දක්වා ඇති දුර කිලෝමීටර් පහළොවක් පමණ ය. ඛනිජ තෙල් බිඳකුදු නැති බව මීටරයෙන් පෙනිණි. එහෙත් අලෙක්සේයිගේ අහස් යානයේ ඇන්ජිම තවත් ක්‍රියා කරයි. ඒවායේ

කාර්ත්වයට අවශ්‍ය ඛණිජ තෙල් ලැබුණේ කොයින්ද? අහස් යානය තවත් ඉහළ නැංගේය.... ඔන්න ඔහොම...!

නීරෝගී මිනිසෙකුට තම හදවතේ ගැස්ම නොදැනෙන්නා සේම, ස් යානයේ ඒකතානමය හඬට අහස් නියමුවා සවන් නොදෙයි. එහෙත් ස් යානයේ හඬ වෙනස් වූ හැටියේම අලෙක්සේයිට එය දැනිණි. ලෝමීටර් හතක් පමණ දුරින් පිහිටි වනය කිලෝමීටර් හතරක් පමණ ය. යා යුතු දුර විශාල නොවේ. එහෙත් අහස් යානයේ යන්ත්‍ර ලෙස අමුතු හඬක් නැඟී ය. තම පෙණහලු ආශ්වාස ප්‍රශ්වාස නැවැත් වූ කලෙක මෙන් අහස් යානා ඇන්ජිමේ රෝගී හඬ වාට දැනිණි. ඇන්ජිම නැඟූ 'චික්! චික්!" හඬ තම සිරුර වේදනාවෙන් ලන සැටියකි.

හිටි හැටියේම අහස් යානයේ ඇන්ජිම හොඳින් ක්‍රියා කරන්නට එසේ ය! අහස් යානයේ ඇන්ජිම නැවත හොඳින් ක්‍රියාකාරී විය. දැන් ක්සේයි හරිත වර්ණ සාගරයක් වැනි මහ වනයට උඩින් පියාසර ය. දැන් ගොඩ බැසීමට හැකි එකම ස්ථානය ගුවන් තොටුපළ කි. කළ හැකි එකම දෙය ඉදිරියට පියාසර කිරීම ය.

'චික්, චික්, චික්,'' යන හඬ නැවත ඇසිණි.

අහස් යානය නැවත හඬක් නැගී ය. බොහෝ වේලාවක් පවතීද? වනය ය. වනය මැදින් වැටී ඇති මග ඔහුට පෙනිණි. එය දිග ය. තොටුපළ දක්වා ඇති දුර කිලෝමීටර් තුනකි. වැටක් වැනි එපිට ගුවන් තොටුපළ අලෙක්සේයිට පෙනේ.

"චික්, චික්, චික්, චික්!'' හිටිහැටියේම හැමදෙයක්ම නිහඬ විය. නිහඬ පවා ඔහුට ඇසිණි. මේ අවසානයද? තමා අවට හැම සීතල වීගෙන එන සැටි අලෙක්සේයිට දැනිණි. පනින්නද? මොහොතක් පමා විය යුතුය... ඔහු තම අහස් යානය ක්‍රම පහතට ගෙනාවේ ය. හැකි තරම් දීර්ඝ වේලාවක් අහස් යානය ගැනීමට හා එය බමරයක් මෙන් කරකැවීමෙන් වළක්වා ඔහු උත්සාහ දැරුවේ ය.

සම්පූර්ණ නිහඬතාවය අහස් නියමුවකුට බිය ගෙන දෙන්නකි! දැනුණේ ශංඛක ලේ නහරවල ගැස්ම හා ඉස්මතින් ඉහළ නැඟීම

ගොඩබස්වන්ට ඇති. නැතිනම් පැරෂුට් මගින් බිමට පනින්ට ඇති....."

ගිලන් මැස්ස ගෙනෙල්ලා!"

කාල රහිත සින්දුවක් සිවුරු හඬලූ ප්‍රධානියා ආපසු යාමට හැරුණේ ය. තම උගුර සිර කරමින් යමක් මතු වී එන සැටියක් පෙත්රොව්ට දැනිණි. අමුතු විධියකට කහින සැටියක් පැතිර ගියේය. ගුවන් තොටුපළ මැද සිටගෙන සිටි මිනිස්සු වටපිට බලා හිස් හරවා ගත්හ. තුවාල ලැබ සිටි පෙත්රොව් කෙඳිරි ගෑවේ ය.

"තුවාල කාරයාව ගෙනියපල්ලා.!..." යැයි ප්‍රධානියා ගිගුම් දුන්නේ ය. වේගයෙන් හමා ගිය කුණාටුවකින් ගැළවීමට මෙන් දෙනෙත් අත් අතකට හරවා ගත් හෙතෙම පිරිසෙන් ඉවත් විය.

මිනිස්සු සෙමින් සෙමින් ඉවත් වූහ. මේ අතර වනයට ඉහළින් නිහඬව පියැඹූ අහස් යානයක් ගුවන් තොටුපළට ළඟා විය. එහි රෝද තුරු මුදුන් සිප නොගත්තා පමණකි. අවතාරයක් මෙන් මිනිසුන්ගේ හිස්වලට ඉහළින් ගිය නිහඬ අහස් යානය තණ පිටියට ගොඩ බැස රෝද තුනෙන් සිට ගත්තේ ය. වැලි කැට පැගෙන හඬද තණ කොළ ගැටෙන විට ඇතිවන සිහින් හඬ ද අහස් යානාවල ඝෝෂාව නිසා කිසි දිනෙක නෑසුණද, මේවර එය පැහැදිලි ලෙස ඇසිණි. මේ සියල්ල සැනෙකින් සිදුවීම නිසා කුමක් වීදැයි කිසිවෙක් නොදත්හ. එහෙත් සිදුවූයේ සාමාන්‍ය දෙයකි. අංක '11' දරන ප්‍රහාරක අහස් යානය තොටුපළට ගොඩබැස ඇත. ගුවන් තොටුපළට රැස් වූ හැම දෙනම බලා සිටි අහස් යානය පැමිණියේය.

"එයාගෙ අහස් යානය!" යැයි එකෙක් මහ හඬින් කෑ ගසත්ම, පිරිස සම්මොහයෙන් අවදි වූවාක් මෙන් තිගැස්සිණි.

ගොඩ බට අහස් යානය ගුවන් තොටුපළේ කෙළවර ළපටි සුදු පැහැති බිරියෝස්සා ගසක් ළඟ නැවතිණි. බැස යන හිරුගේ රැස් බිරියෝස්සා ගසේ ළපටි කොළ හා දළුවල පිළිබිඹු වුණේ දේදුණු පාටිනි.

අහස් යානයේ නියමු අසුනෙන් කිසිවකු නැගිට්ටේ නැත. වකිතයෙන් හා බියෙන් යුතුව හති දමමින් මිනිස්සු අහස් යානය වෙත දුව ගියහ. ප්‍රධානියා අන් අයට වඩා වේගයෙන් දුව ගොස් අහස් යානයේ පියාපතකට

ඇඟ තියමු අසුනේ පියස්ස හැර බැලී ය. හිස් වැසුම රහිත අලෙක්සේයි ඇසුනේ වාඩි වී සිටියේය. ඔහුගේ මුහුණ ගිම්හානයේ වළාවක් මෙන් සුදු වැහැති ය. ලේ රහිත දෙතොල් මඳ සිනාවක් පෑවේ ය. සැපුණු යටි තොලින් ගැලූ ලේ බිඳු දෙකක් නිකට මත තිබිණි.

"පණ පිටින්ද? තුවාල වෙලාද?"

දුබල ලෙස මඳ සිනාවක් පෑ අලෙක්සේයි ප්‍රධානියා දෙස බැලී ය. ඔහුගේ ඇස් විඩාපත් බවක් කියා පෑවේ ය.

"නැහැ. තුවාල ලැබුවේ නැහැ. කිලෝමීටර් හයක් මම ආවෙ පැට්රල් බිඳක්වත් නැතිවයි. මම හොඳටම බය වුණා."

අහස් යානය වටකර ගත් තියමුවෝ අලෙක්සේයිට අතදෙමින් ඔහුට සුබ පතමින් ප්‍රීති ඝෝෂා කළහ.

'සොහොයුරනි! අහස් යානාව කඩන්ට එපා. අත්තටුවලට නගින්ට එපා. මම එළියට එන්නම්" යැයි කී අලෙක්සේයි ඔවුන් නැවැත්වීය.

ඔහු වටා සිටි පිරිසට තරමක් ඈතින් බිම සිට ආ දුබල හඬක් ඔහුගේ කන්හි වැකිණ.

'අලෙක්සේයි, අලෙක්සේයි!"

සිඳී ගිය ශක්තිය තමාට නැවත ලැබුණු සැටියක් අලෙක්සේයිට දැනුණෙත්, දැතේ වාරුවෙන් කඳ ඔසවා, දෙපා තියමු අසුනෙන් පිටතට දමා බිමට පැන්නේ ය. ඔහුගේ පයක් ළඟ සිටියකුගේ ඇහේ නොවැදුනා පමණකි.

පෙත්රොව්ගේ මුහුණ කොට්ටයට ඇලී ඇත්තාක් මෙනි. ඔහුගේ විශාල ඇස්වලින් කඳුළු කැට කඩා වැටිණි.

පෙත්රොව්, නුඹ ජීවතුන් අතර! නුඹ..... නුඹ හරිම යක් පැටියෙක්!" යැයි අලෙක්සේයි කීවේ පෙත්රොව්ගේ ගිලන් මැස්ස අසල දණ ගසමිනි. පෙත්රොව්ගේ හිස දෑතින් ගත් අලෙක්සේයි වේදනාවෙන් පෙළෙමින් සිටි තම සගයා දෙස බලමින් මෙසේ කීවේ ය. 'නුඹ ජීවතුන් අතර!"

"අලෙක්සේයි නුඹට ස්තුතියි. නුඹ මගේ ජීවිතය බේරා ගත්තා. නුඹට ස්තුතියි..."

"නුඹලට යක්කු වැහිලද? තුවාලකාරයව ගෙනියපල්ලා! මෝඩයො වගෙ කට ඇරගෙන බලාගෙන ඉන්නව!" යැයි කෝප වූ ප්‍රධානියා ගිගුම් දුන්නේ ය.

ප්‍රධානියා සීරුවෙන් සිට ගත්තේය. ඔහු මිටි ය. ඔහුගේ කකුල් ශක්තිමත්ය. සපත්තු දිළිසිණි. නිල් පැහැති මිකැනික් කබායට යටින් නිල ඇඳුමේ කලිසම පෙනිණි.

"ජ්‍යෙෂ්ඨ ලයිතන් මෙරේස්යෙව්. පියාසැරිය ගැන වාර්තා කරනවා. සතුරු අහස් යානා බිම හෙළුවාද?" ප්‍රධානියා ප්‍රශ්න කළේ ය.

"එසේය, කල්නල් සහෝදරය. "ෆොක්කේ- වුල්ෆ්" දෙකක් බිම හෙළුවා!"

"සටන් කළ තත්ත්වය ගැන පැහැදිලි කරනු!"

"පෙත්රොව් අහස් යානයේ වලිගයට පහර දුන් සතුරු යානාවකට සිරස් ලෙස පහර ගැසුවා. අනික විනාශ කළේ මුහුණට මුහුණ ලා කළ සටනකදී, පොදු සටන් පෙදෙසට කිලෝමීටර් තුනක් ඈතින්."

"ඔව් මා දන්නව. නිරීක්ෂකයො ඒ ගැන වාර්තා කළා... නුඹට ස්තුතියි."

"සේවය..." අලෙක්සේයි උසස් නිලධාරීන්ගේ පැසසුම්වලට පිළිතුරු වශයෙන් කියන පොදු වැකිය කීමට පටන් ගත්තද, නිතර නිල නියමයන් පිළිපදින ප්‍රධානියා ඔහු වළකමින්. මිතුරු ලීලාවෙන් මෙසේ පැවසීය.

"බොහොම හොඳයි! හෙට සිට තමුසෙ අණදීම බාර ගන්නව.... තුන්වැනි කණ්ඩායමේ නායක නියමුවා සටනේදී ජීවිතය පිදුවා....."

ඔවුහු අණදෙන කාර්යාලය දෙසට ගියහ. එදින තවත් අහස් සටන් බලාපොරොත්තු නොවූයෙන් පිරිසේ සිටි මිනිස්සුද ඔවුන් කැවුව

සා හැගුන. කාර්යාලය පිහිටි කඳු ගැටයට ළං වෙත්ම, එදින සේවය භාර නිලධාරියා ප්‍රධානියා වෙත දුවමින් පැමිණියේය.

"තමුසෙ මොකද කොප්පිය හැඹුවා? විවේක කාලෙදි සෙල්ලම් කරන ඉස්කෝලෙ කොල්ලෙක් කියල හිතුවද?"

"කල්තල් සහෝදරයා අවසර දෙන්න වාර්තා කරන්න!" යැයි ඉල්ලා සිටි නිලධාරී තැන සැලුව සිටගෙන ආචාර කළේ ආයාසයෙන් හුස්ම ගනිමිනි.

"මොකක්ද?"

"යාක්" වර්ගයේ ප්‍රහාරක අහස් සණ්ඩායමේ නායකයා - අපේ අසල් වැසියා කල්තල් සහෝදරයට ටෙලිෆෝන් කරනවා"

"අපේ අසල්වැසියද? උවමනාවක්ද?"

ප්‍රධානියා ඉක්මනින් තම කාර්යාලයට ගියේය.

"ඊක තමුසෙ ගැන....." යැයි සේවය භාර නිලධාරියා අලෙක්සේයිට කාරණය පැහැදිලි කිරීමට විය.

කාර්යාලයේ සිට ප්‍රධානියා කෑ ගැසී ය.

"මෙරේස්යෙව් මෙහෙට එවනවා!"

දුවගිය අලෙක්සේයි මෙරේස්යෙව් සීරුවෙන් සිට ගත්තේ ය. ප්‍රධානියා ටෙලිෆෝනයේ කථනය අත්ලෙන් වසා ගනිමින් මෙරේස්යෙව්ට බැණ වැදුණේ ය. "මොකද තමුසෙ මට බොරු ආරංචි කීවේ? අපේ අසල්වැසියා මට ටෙලිෆෝන් කර අහනවා. කවුද හොම්මර 'එකොළහ' අහස් යානය පදවන්නෙ කියල. මම කීව ජ්‍යෙෂ්ඨ ලයිතන් මෙරේස්යෙව් කියල. එයාගෙ නමට සතුරු අහස් යානා කීයක් ලිව්වද කියල එයා මගෙන් ඇහුවා. මම කීවා අහස් යානා දෙකක් කියල. එයා කිව්වා එයාගෙ නමට තවත් සතුරු අහස් යානයක් ලියන්ට කියල. තමුසෙගෙ ලයිතන් මගේ වලිගයට පහර දුන් 'ෆොක්කේ-වුල්ෆ්' අහස් යානයක්

විනාශ කළා. මම මගේ ම ඇස්වලින්ම දක්කා ඒ සතුරු යානය බිමට පාත්වුණු සැටි. ඇයි තමුසෙ නිහඬව ඉන්නෙ?... එහෙම දෙයක් වුණාද...? ඉන්න තමුසෙම පිළිතුරු දෙනව. හලෝ! ජ්‍යෙෂ්ඨ ලයිතන් මෙරේස්යෙව් දැන් කතා කරාවි. මෙන්න එයාට ටෙලිෆෝනය බාර දුන්නා."

අලෙක්සේයි ටෙලිෆෝනය අතට ගත් විට බැරෑඩි හඬකින් කොතෙක් කතා කළේ ය.

"බොහොම ස්තුතියි, ජ්‍යෙෂ්ඨ ලයිතන්, තමුසෙ ශාස්ත්‍රීය විධියට පහර ගැසුවා. බොහොම ඉහළයි. තමුසෙ මාව බේරා ගත්තා. ඔව්, ඔව්, සතුරා බිම වැටෙන තුරු මම ඒ අහස් යානය කැටුව ගියා... තමුසෙ වොඩ්කා බොනවද? එන්න මගෙ කාර්යාලයට. මම තමුසෙට බෝතලයක් දෙයයි. නැවත වරක් මගෙ කෘතඥතාවය පිළිගන්න. ආයුබෝවන්. එන්න බෝතලය ගන්න!"

මෙරේස්යෙව් ටෙලිෆෝනය තැබී ය. ඔහු කොතරම් විඩාපත් වී ද යත් සිටගෙන සිටීම පවා ඔහුට අපහසු විය. ඔහු තම නවාතැනට ගොස් අද මත වැතිරෙන සැටි පමණක් සිහි කළේ ය. බොරු කකුල් ගලවා දමා විවේක ගැනීම ගැන පමණකි ඔහුට කල්පනා වුණේ. ඔහු අමාරුවෙන් පා නගමින් කාර්යාලයෙන් පිට විය.

"කොහෙද යන්නේ?" යැයි ඇසූ ප්‍රධානියා අලෙක්සේයි ළඟට විත්, ඔහුගේ අත ගෙන තදින් මිරිකුවේ ය. ප්‍රධානියාගේ අත කුඩා වුවද ශක්තිමත් ය. "තමුසෙට මොනව කියන්ටද? හරිම දක්ෂයා! තමුසෙ ගැන ආඩම්බර වෙනව! තමුසෙල වැනි අය සිටීම ගැන ආඩම්බර වෙනව! තව මොනව කියන්ටද? ස්තුතියි.... තමුසෙගෙ යාලුවා පෙත්රොව්, එයත් හොඳ මිනිහෙක් නොවේද? අනික් අය... තමුසෙල වගෙ උදවිය ඉන්න තුරු අපි මේ යුද්දෙන් පරදින්නෙ නැහැ..."

නැවත වරක් අලෙක්සේයිගේ අත ගෙන තදින් මිරිකා ආයුබෝවන් කීවේ ය.

රෑ බෝවූ පසු තම නවාතැනට පැමිණි මෙරේස්යෙව්ට නින්ද නොගියේය. කොට්ටයට මුහුණ ඔබාගත් ඔහු එකේ සිට දහ දක්වා ගණන් කළද නිදන්නට බැරි වූයෙන් "ආ" අකුරෙන් පටන් ගන්නා

ාසගම් ඇති තම මිතුරන්ගේ නම් මතක් කළේ ය. පසුව "බී" අකුරෙන්
ටන් ගන්නා වාසගම් මතක් කළේ ය. සියවරක් අත්හදා බැලූ නිදි
න්ත්‍රයක් වන එයින්ද එදා ප්‍රතිඵල ඇනාලැබිණි.

දැස් වසාගනිමින් නිදා ගැනීමට තැත් කළ ඔහු ඉදිරියේ අඳුනන
පුද්ගලයින්ගේ මුහුණු වරෙක පැහැදිලිව ද තවත් වරෙක නොපැහැදිලිවද
පෙනිණි. මීහයිල් සීයා යටැසින් ඔහු දෙස බැලී ය. ඔහුගේ බැල්ම
නොසන්සුන්තාවයක් පළ කළේ ය. අන්ද්‍රොයි ඩෙග්ටෙරෙන්කෝ තම
දිගැති ඇස් පිහාටු නටවමින් ඔහු දෙස බලා මද සිනා පෑවේ ය. වසීලියි
ාසීලෙව්ච් රොස් වී කෙනෙකුට බැන වැදුණේ ඔහුගේ සුදු යටි රැවුළ
නැටවිණි. ජර්මන් සෙබළුන් සිය ගණනක් දඩයම් කළ පළපුරුදු සෝවියට්
සෙබළා සිනාසෙන විට ඔහුගේ මුහුණේ රැළි මතුවිණි. දේශපාලන
කොමසාරිස් තැන්පත් වොරබියොව් අලෙක්සේයි දෙස බැලී ය. ඉටි මෙන්
සුදුමැලි ඔහුගේ මුහුණේ ඇස් ප්‍රාණවත් ය. බැල්ම විනිවිද යන සුලු ය.
උපහාසාත්මක ඇස් හැම දෙයක් ම තේරුම් ගත් සැටි කියන්නාක් මෙනි.
සීනාගේ රතු හිසකේ ගිනි දළු සේ දීප්තිමත්ව බැබලිණි. ක්‍රියාශීලී, මිට්
නවුමව් - අහස් යානා පැදවීමේ ගුරුවරයා ඔහු දෙස බලා මිත්‍ර ලීලාවෙන්
ඉහි මැරී ය.

අඳුර තුළින් අලෙක්සේයි දෙස බලා මද සිනා පෑ මිතුරු මුහුණු
කොපමණද? ඔවුහු ඔහුගේ හදවත උණුසුම් කළහ. සුහද හැඟීම් ඇවිස්සූහ.
මේ සියලු මුහුණු එකට කැලතී ඕල්ගාගේ සිහින් වත ද විධාපත් නෙත්
ද මැවිණි. ගැටවරයකුට සමාන ඈ තිල ඇඳුමකින් සැරසිලා ය. සැබෑ
ජීවිතයේදී ඇය නොදුටු ලෙස පැහැදිලිව ඔහු ඇය දිටී ය. සැබැවින්ම ඈ
ඔහු ඉදිරියේ සිටින සැටියකි ඔහුට දැනුණේ. ඔහු තිගැස්සිණි.

තම පෙම්වතිය සිහිනෙන් දකීම නිසා පිබිදුණු සිත් ඇති අලෙක්සේයි
ඇඳෙන් නැගිට 'ස්ටාලින්ග්‍රාඩ්කා" නැමැති කුප්පි ලාම්පුවේ ආලෝකය
වැඩි කොට, ඇක්සයිස් පොතක් මේසය මත තබා පැන්සල් තුඩ උල්
කොට ලියුමක් ලියුවේ ය.

"ඕල්ගා, මගේ පෙම්බරිය!" යැයි ලියූ ඔහු වේගයෙන් ගලා ආ
අදහස් වචනයට නගා ලිවීම් වස් නොපැහිදිලි ලෙස කුරුටුගෑවේය. "අද
මම ජර්මන් අහස්යානා තුනක් විනාශ කළෙමි.එහෙත් ප්‍රධාන කාරණය
එය නොවේ. අපේ සමහර සගයෝ දිනපතාම පාහේ සතුරු අහස් යානා

විනාශ කරති. මගේ වැඩ ගැන පුරසාරම් දෙඩීමට මා පෙළඹුණේ....මගේ සුන්දරිය! මීට මාස දහ අටකට පෙර මට සිදු වූ අභාග්‍යය ගැන කීමට දියණියක් දූත් මට ලැබී ඇත. මීට පෙර ඒ ගැන ඔබට නොදන්වා සිටීම ගැන මට සමාවන්න...."

# පසුවැකිය

ඕර්යොල්හි මහා සටන සෝවියට් යුද්ධ හමුදාවලට ජය ලබා
මින් නිමාවට පත් වෙමින් තිබිණි. ගිනිගෙන දැවෙන නගරය
ස්නොගොර්ස්කය කඳුවැටිවල සිට බලන විට පෙනෙන බවට, පෙරමුණ
ර්යෙන් ගමන් කළ සෝවියට් හමුදා විසින් කරන ලද වාර්තාවක්
න්ස්ක්හි සෝවියට් යුද හමුදා කාර්යාලයට ලැබිණ. මේ පෙදෙසේ
ත් කළ සෝවියට් ප්‍රහාරක අහස් යානා කණ්ඩායමක් දවස් නවයක්
ද් පැසිස්ට් ජර්මන් අහස් යානා හතළිස් හතක් විනාශ කළ බව
ර්තා විය. සෝවියට් අහස් යානා පහක් විනාශ වූ අතර මියගිය
වියට් අහස් නියමුවන්ගේ ගණන තුන්දෙනෙක් පමණක් විය. දෙදෙනෙක්
රවුට් මගින් පැන පසුව තම ගුවන් තොටුපළ වෙත ළඟා වූහ. මහත්
ගයකින් සෝවියට් හමුදා ඉදිරියට ගිය මේ දවස්වලදී වුවද, මෙවැනි
ක් ලැබීම දුර්ලභ දෙයක් විය.

මේ ප්‍රහාරක සෝවියට් අහස් හමුදාවේ ජය ගැන 'ප්‍රව්දා' පුවත්පතට
ර්තා කිරීම පිණිස මා එහි ගියේ ප්‍රවාහන අහස් යානයකිනි.

අහස් සටනකින් පසු සෝවියට් අහස් යානා ගුවන් තොටුපළට
න විට අපි එහි ගියෙමු. ඇඳිරි වැටී තිබිණි. ඕර්යොල් නගරය අසල
ර්මන්හු දඩි අහස් සටන් කළහ. එදින අහස් සටන් හතක් කරන ලදී.
වැනි අහස් සටනට සහභාගි වූ අහස් යානා කණ්ඩායම ගුවන්
තොටුපළට පැමිණීමට පටන් ගත්තා පමණකි. සේනාංකයේ ප්‍රධානියා
, කඩිසර මිනිහෙකි. නිල් පැහැති නියමු කබායක් හැඳ ඉන වටා හම්
වියක් බැඳ සිටි ඔහුගේ මුහුණ හිරු රැස් නිසා තඹලලු පැහැයක් දරි
. හිසකේ මනාලෙස පීරා තිබිණි. උදේ හයේ සිටම ගුවන් තොටුපළේ
ටි නිසාත්, කෙවරස්ම අහස් සටන් වලට සහභාගි වූ නිසාත්, විඩාපත්
සිටි ඔහුට එදින සැහෙන විස්තරයක් කළ නොහැකි බව ඔහු කීවේ ය.
හාරක අහස් යානා කාණ්ඩවල අනිකුත් නිලධාරීහුද එදින පුවත්පත්
ර්තාකරුවනට විස්තර සැපයීමේ තත්ත්වයක නොසිටියහ. පසුදා වන
රු නැවතීමට මම තිරණය කළෙමි. ආපසු යාමටද වෙලාවක් නොතිබිණි.
ස යන හිරු රැස් බිරියෝසා තුරු මුදුන් සිප ගනිමින් රන් පැහැති
ලෝකයකින් බැබළිණි.

හවස් වෙත්ම ඉතිරි අහස්යානා කීපය තොටුපළට පැමිණියේය.

අහස් නියමුවෝ එක හුස්මට තම අහස් යානා ආරක්ෂක ගෙවල්වලට ගෙන ගියහ. මැකැනික් ශිල්පීහු තමන්ට අයත් කාර්යයන් ඉටු කළහ. අහස් යානා කොළ පැහැති ඉටි රෙදි කවරවලින් වැසූ පසු අහස් නියමුවෝ සෙමින් පා තබමින් ඉවත්ව ගියහ. සුදුමැලි වූ ඔවුහු විඩාපත් වී සිටියහ.

අවසාන වරට පැමිණියේ තුන්වැනි කණ්ඩායමේ නායකයාගේ අහස් යානයය. ගුවන් තොටුපළට පැමිණි එම යානයේ නියමු අසුනේ දොර විවර වී, රන් අකුරු දෙකක් කෙටූ කළුවර සැරයටියක් විසිවිණි. පස්පසු කළු හිසකේ සහිත පළල් මුහුණකින් හෙබි පුද්ගලයෙක් දෑතේ ආරුඩෙන් උඩට ඉස්සී, අහස් යානයේ පියාපතක් මත දෙපා තබා නැගී සිට, සෙමින් බිමට පැන්නේය. සේනාංකයේ දක්ෂතම අහස් නියමුවා ඔහු බව මට දන්වන ලදී. හවස් කාලය නිකරුනේ ගෙවීමට සූදානම් නොවූ මම ඔහු සමඟ කතා කිරීමට තීරණය කෙළෙමි. ඔහු මා දෙස බැලූ හැටි මට අමතක නොවේ. ඔහුගේ ඇස් කළු පැහැති ය. උතුරු දිග යුරෝපීයයෝ මෙවැනි කළු පැහැති ඇස් ඇතියවුනට ට්‍රීගාන්වරුන (ඵ්‍රිකුන්ට්කයින්) යැයි කියති. ඔහුගේ බැල්ම දඟකාර් කොලුවකු සිහියට නඟයි. බොහෝ අත්දැකීම් ලබා ඇති අහස් නියමුවා මඳ සිනා පාමින් මෙසේ පැවසී ය.

"අනුකම්පා කරන්න! හිටගෙන ඉන්න බැරි තරමට මහන්සියි කන්වල සෝෂාවක් පටන් අරගෙන. මහන්සි වුණාම ඔහොම තමා. ඔබ ර් කෑම ගත්තද? නැද්ද? හොඳා! එන්න මා සමඟ අපේ භෝජන ශාලාවට. හතුරු අහස් යානයක් වෙඩි තැබුවම වොඩ්කා ග්‍රෑම් දෙසීයක ලැබෙනව. මට අද ග්‍රෑම් හාරසීයක් ලැබෙව්. දෙන්නට ඒ මදෑ. යමුද කන ගමන් තමුසෙට වාර්තාවකට උවමනා විස්තර ලබාගත හැකි."

මම එකඟ වීමි. එළිපිට කතා කරන ප්‍රීතිමත් පුද්ගලයා මට රිසි විය. බැද්ද මැදින් වැටී ඇති අඩිපාර දිගේ අපි ගමන් කළෙමු. මගේ පෙරයා ඉක්මනින් ගමන් කළේ ය. ඉඳ හිට ඉදිරියට නැමෙන ඔහු කුඩා පඳුරකින් පළු ගෙඩියක් දෙකක් කඩාගෙන කටේ දමා ගත්තේ ය. ඔහු විඩාපත් වී සිටි බව සැබෑ ය. පා එසවීම පවා ඔහු කළේ අමාරුවෙන් වුවද, අත තිබුණු කළුවර ලී සැරයටිය ඔහු පාවිච්චි නොකළේ ය. කිහි ගන්නා ගත් එම සැරයටියෙන් ඔහු ඉඳ හිට තිදිකුම්බා පඳුරකට ගැසී ය. අප ඉදිරියේ මැටි පස් සහිත කඳු ගැටයක් විය. එය නැගීමේදී මගේ සගයා ඉහළ තිබුණු පඳුරු දෙකුන් වරක් දෑතින් අල්ලා ගෙන උඩට නැග්ගද, සැරයටිය පාවිච්චි නොකළේ ය.

ආහාර ගැනීමට වාඩි වූ පසු ඔහුගේ විඩාගති සම්පූර්ණයෙ
දුරු වී තිබිණි. ඔහු වාඩි වුණු ජනේලයට බැස යන හිරුගේ රත් පැහැ
ආලෝක ධාරා වැටිණි. අහස් නියමුවන් කියන පරිදි එය කුණාටුව
පෙර ලකුණු විය. සූ හඬක් නංවමින් හේ වතුර වීදුරුවක් එක හුස්ම
බීවේ ය. අපට ආහාර ගෙනා තරුණියට විහිළුවක් කළ හෙතෙම ඇග
හිතවත් අහස් නැවියා තුවාල ලැබ රෝහලට ගියදා ඈ හැම දෙනාගේ
සුප් පිඟන්වලට ලුණු වැඩියෙන් දමූ බව කීවේ ය. ඔහු ආහාර ගත්
තෘප්තියකිනි. තමාට බෙදනු ලැබූ එළුමස් කටුව ඔහු සැපුවේ ගෙ
නගමිනි. අවට මේසවල ආහාර ගනිමින් සිටි අය සමග විහිළු කළ
හුවමාරු කරගත් ඔහු මොස්කව් නුවර පුවත් ගැන මගෙන් ඇසීය. අලු
සාහිත්‍ය කෘතීන් ගැනද, මොස්කව් රඟහල්වල පෙන්වන අලුත් නාට
ගැනද තොරතුරු ඇසූ ඔහු මොස්කව් නැටුම් හලකට කිසිදාක නොගි
බව කීවේය. අහස් නියමුවන් විසින් 'හෙන ගුළිය'' වශයෙන් හඳුන්ව
ලබන කිසෙල් නැමැති පළතුරු යුෂ ජල්ලිය බෙදූ විට ඔහු මගෙන් මෙ
ප්‍රශ්න කළේ ය.

''තමුසෙ අද රෑට කොහෙද නවතින්නෙ? තැනක් නැතිද? එහෙන
එන්න මගේ නවාතැනට! ඔහු නිහඬ විය. ඔහුගේ මුහුණ අඳුරු වි
''මගේ සගයා අද... අහස් සටනේදි මළා...! එයාගෙ ඇඳ හිස්වෙලා. ඇ
රෙදි සොයා ගන්ට පුළුවනි.''

අමුත්තන් සමග කතා කිරීමට ඔහු කැමැත්තක් දක්වන බ
පෙනිණි. අමුත්තාගෙන් අලුත් තොරතුරු අසා දැන ගැනීමට ඔහු ඉදිරිප
විය.

ඔහුගේ නවාතැනෙහි රැය ගත කිරීමට මම එකඟ වීමි. අ
ඔහුගේ නවාතැන පිහිටි ගැඹුරු දෙණියට ගියෙමු. බිම් ගෙයක් වැ
එතැන අවට වැවී ඇති මාදන් ගෙඩිවල හා හතු වල නැවුම් පුසුඹ
දැනිණි.

නවාතැනට ඇතුළු වූ පසු ඔහු කුප්පි ලාම්පුව දැල්විය. නවාතැ
තුළ ඉඩකඩ ඇත. පිරිසුදුය. පරිසරය අනුව මෙතැන සෑහෙන කල
මිනිසුන් ජීවත් වී ඇති බව පෙනිණි. බිත්තියට සවි කරන ලද ඇඳ
දෙකක පිදුරු මෙට්ට දමා තිබිණි. එයින් නැවුම් සුවඳක් පැතිරිණි
''විශේෂ සුවඳක්'' ලබා ගැනීම පිණිස මෙහි පදිංචිකරුවෝ ළපටි බිරියෝස

...වලින් නවාතැන සැරසූහ. ඇඳ ළඟ මැටි බිත්තියේ කුහර සාදා ...තිබිණි.. ඒවා තුළ පොත් ගොඩක් ද, රැවුල කපන පිහිය, සබන් හා දත් ...බුරුසු ද තිබෙන සැටි මම දුටිමි. එක් ඇඳකට ඉහළින් මැටි බිත්තියේ ...එල්ලන ලද ඡායාරූප දෙකකි. ඒවායේ රාමු හා වීදුරු කණ්ණාඩි සටන් ...වූ කාලයේදී නිකම් සිටින ගුවන් නැවියන් අතින් නිම වූ අරුමෝසම් ...වූ ය. සතුරු අහස් යානාවල කොටස්වලින් මෙවැනි බඩු බොහෝ ...සයින් සාදනු ලැබීය. මේසය මත බිඳුණු බඳුනකි. එහි මලීන නාමීන් ...හැඳින්වෙන පළු වර්ගයක් විය. බිම අතුරා ඇත්තේ තත්තල් ගස්වලින් ...ළපටි කිරියෝස්සා ගස්වලින් කඩා ගනු ලැබූ අතු හා රිකිලි වලිනි. මේ ...කොළ හා පලතුරු ආදිය නිසා සිත සනසන සුවඳක් නවාතැන පුරා ...පිරිණි. ජීලා ගිරවුන්ගේ ගීත නාදය නිසා නිදිමත වැඩිවිය. අපේ ...යාව පසුදා උදෑසන දක්වා කල් දැමීමට තීරණය කළ අපි නිදන්නට ...සැරසුණෙමු.

මා මිත්‍ර අහස් නියමුවා පිටතට ගියේය. ශබ්ද නගමින් ඔහු දත් ...දින සැටිද, උගුර පාදමින් කට සෝදන සැටිද, සිසිල් දිය මුහුණට හා ...බෙල්ලට වත් කර ගනිමින් මුහුණ සෝදන සැටිද අවට වනයට පවා ...ඇසුණැයි මට සිතිණි. හැරී ආ ඔහු මුහුණ හා බෙල්ල පිසදා ගත්තද, ...ඩා දිය බින්දු ඔහුගේ හිසකේවල හා ඇස් පිහාටුවල දක්නට ලැබිණ. ...හු කුප්පි ලාම්පුවේ තිරය අඩු කොට ඇඳුම් ගළවන්නට විය. බරැති ...සිවක් බිම තබන ලදී. බිම බැලූ මට මා දුටු දේ විශ්වාස කළ නොහැකි ...ය. ඔහුගේ දෙපා බිම ඇත. ඔහු ඇඳ මත වැතිර සිටී. දෙපා නැති ...මිනිහෙක් අහස් යානා පදවනවා! දෙපා නැති ප්‍රහාරක අහස් නියමුවෙක්! ...ද හත් වරක් අහසට නැංග මොහු සතුරු අහස් යානා දෙකක් විනාශ ...කළේ ය. මෙය කිසි කලෙක නොවිය හැකි පුදුමයකි. හාස්කමකි!

එහෙත් සැබවින්ම ඔහුගේ දෙපා - වඩාත් නිවැරදිව, ඔහුගේ ...රුරු කකුල් - බිම තබා ඇත. ඒවා වසා ඇත්තේ අලුත් සෙබළ සපත්තු ...ති. ඒ සපත්තුවල තුඩ දකින මට ඇඳ යට සැඟවී සිටින මිනිහෙක් ...දෙපා එළියට දමා සිටින සැටියක් පෙනිණ. මා පුදුමව බලන සැටි ...මිතුරා දකින්නට ඇත. කපටි තුටු පහටු බැල්මකින් මා දෙස බැලූ ...මෙසේ ඇසී ය.

"මීට ඉස්සෙල්ලා මේ ගැන දැන ගත්තේ නැද්ද?"

"හීනෙන් වත් සිතුවේ නැහැ" යි මම කීවෙමි.

"මා බොහොම සතුටුයි ඔබේ කතාව ගැන. අතීත් අය ඉ
රහස හෙළි නොකිරීම ගැන මා පුදුම වෙනවා. දක්ෂයො තරම
ජ් කණ්ඩායමේ ආරංචි පතුරුවා හරින උදවියත් ඉන්නව. පුවත
ර්තාකාරයෙකුට විශේෂයෙන්ම 'ප්‍රව්ද' පත්තරේ වාර්තාකාරයකුට ෙ
කි මිනිහ ගැන නොකීම තමා පුදුමෙ...."

"දෙපා නැතිව අහස් යානාවක් පැදවීම බොහොම විශේෂ, වැද
ඩියක්. මෙලොව මෙතෙක් කිසිම කෙනෙක් නොකළ වීර ක්‍රියාව
පා නැති මිනිහෙක් අහස් යානාවක්- ප්‍රහාරක අහස් යානාවක් පදව
ුරාට පහරදීම ලෝක අහස් යානා හා ගුවන් ශිල්පි ඉතිහාසය කි
සක, කිසිම කලෙක, නෑසූ නොදුටු දෙයක්!" යැයි මම පැවසීමි.

අහස් නියමුවා ප්‍රීතියෙන් උරුහත් බැවේ ය.

"ගුවන් ශිල්ප ඉතිහාසය.....! බොහොම දේවල් ඔය ඉතිහා
සිටියෙ නැහැ. අපේ සෝවියට් හටයින්ගෙන් මේ යුද්දෙ දි බො
ල් ගුවන් ශිල්ප ඉතිහාසය ඉගෙන ගත්ත. ඒ වුණාට සතුටු වි
ම දෙයක් නැහැ නෙවද? බොරු කකුල් වෙනුවට සැබෑ කකුල් ඇ
ස් යානා පැදවීමට මම බොහොම කැමතියි. මොනව කරන්ට
හම විපැත්තියකට ගොදුරු වුණා!" මෙසේ කී අහස් නියමුවා සුසු
වය. "ඇත්ත වශයෙන්ම අහස් යානා පැදවීමේ හා ගුවන් ශි
හාසය මෙවැනි දෙයක් මීට පෙර දැකලා තියෙනවා"

ඔහු තම සිතියම් බෑගය ගෙන සහරාවකින් කපා ගත් ලිපිය
ව ගෙන දුන්නේය. නැමී ඉරිකැලී තිබුණු එම ලිපිය තෙල් කඩදාසියකි
වා තිබිණි. පයක් නැති මිනිහෙක් අහස් යානාවක් පැද වූ සැටි
යෙන් කියැවිණි.

"එයාගෙ එක කකුලක් විතරයි කපා දමල තිබුණෙ. එ
දවිවේ පාර්මන් වර්ගයකට අයත් පරණ අහස් යානාවක් මිස ප්‍රහාර
ානාවක් නොවේ" යැයි ලිපිය කියවූ මම කීවෙමි.

"ඔව්. ඒ වුණාට මම සෝවියට් අහස් නියමුවෙක්. මම පුරසාර
ඩවනවයි කියල හිතන්ට එපා. ඔය කතාව කීවෙ ඉතාම හොඳ සැ
හෙක්" ඔහු සැබෑ යන වචනය අවධාරණයෙන් පැවසීය. 'ඒ මිනි
."

අහස් නියමුවාගේ පළල් ප්‍රාණවත් මුහුණ මිහිරි, මුදු දොම්නසකින් ...ලිණ. ඔහුගේ බැල්ම පැහැදිලිය. දයාන්විතය. ඔහු අවුරුදු දහයකින් ...ණ යෞවන වූ සැටියක් පෙනිණ. මොහු මැදි වියේ පසුවෙන්නෙකැයි ...සිතූ නමුදු ඔහුගේ වයස අවුරුදු විසි තුනක් බව දැන ගත් මම පුදුම ...මි.

"මගේ දෙපා නැති වුණේ කවදාද, කොතැනදීද, කොහොමද ...යේ මිනිස්සු අහන විට මට තරමක් කේන්ති එනව... නමුත් දැන් මට ...යලු දේම මතක් වුණා... ඔහෙ අමුත්තෙක්. අපි හෙට ආයුබෝවන් කියා ...ගත්තම ආයෙමත් කිසි දාක හමු නොවෙන්ට පුළුවනි.... ඔහෙ සතුටු ...ම් මම මගේ දෙපා පිළිබඳ කතාව කියන්නම්."

ඔහු ඇඳ මත වාඩිවී කම්බිලිය නිකට දක්වා පොරවා ගෙන තම ...තාව කියන්නට පටන් ගත්තේ හඬ නභා සිතන්නාක් මෙනි. මා ඔහු ...සල සිටින බව පවා ඔහුට අමතක විය. ඔහු තම විපැත්තිය පිළිබඳ ...තාව අගනා ලෙසත්, සවිස්තරවත් කීවේ ය. ඔහුගේ තියුණු ඥානය ද, ...පත් කල්පනා ශක්තියද කැපී පෙනිණි. ඔහුගේ හදවත දයාන්විත විය. ...ට පෙර කිසි දවසක නොඇසූ වැදගත් කිසිවක් මට අසන්නට ලැබෙන ...ව සිතූ මම මේසය මත තිබූ ඇක්සයිස් පොත ගෙන ඔහුගේ කතාව ...වහන් කර ගතිමි. ඒ පොතේ පිට කවරයේ මෙසේ ලියා තිබිණ. "තුන්වැනි ...ාරක අහස් යානා කණ්ඩායමේ සටන් පිළිබඳ දින පොත"

මේ අපූරු කතාව නිසා ප්‍රබෝධයට පත් මම හැකි තරම් විස්තර ...ා ගැනීමට තැත් කළෙමි. එක් ඇක්සයිස් පොතක් ලියා අවසන් කළ ...ී දෙවැනි වරට තවත් පොතක් සොයාගෙන එහිද ලියුවෙමි. රැය ගෙවී ...ස් අරුණෝදයේ ළා එළිය පැතිරෙන සැටි දකීමට මම අපොහොසත් .... "රිහ්ට්ගෝපෙන්" නැමැති ජර්මන් අහස් යානා කණ්ඩායමේ අහස් ...ා තුනකට වෙඩි තබා බිම හෙළූ සිද්ධියෙන් තම කතාව අවසන් කළ ...ක්සේයි මෙරේස්යෙව් එතැන් සිට තමා අතිකුත් අංග සම්පූර්ණ ...ස් නියමුවන්ට සමවූ බව පැවසී ය.

"මදෑ එළිය වැටෙන තුරු කතන්දර කිව්වා. උදේ පාන්දර සටන් ...න යන්ටත් ඕන. මම ඔහෙට නිදා ගන්නටවත් ඉඩ දුන්නෙ නැහැ. ...වන්නැ' යි හේ පැවසී ය.

'ඉතින් ඔහෙගෙ ඕල්ගා ගැන කියන්න. ඈ ඔබට දුන් පිළිතුර?"

මෙසේ ඇසූ මම සැනෙකින් මෙසේ ද කීවෙමි. "මට සමා වෙන්න. ඒ ප්‍රශ්නය ඔහෙට කරදරයක් වීමට ඉඩ ඇත. එහෙම නම් ඒ ගැන කියන්න එපා."

"ඇයි මොකද?" යි ඇසූ අලෙක්සේයි හඬ නගා සිනාසුණේ ය." අපි දෙන්නම එක විධියක ඔල්මාද කාරයො. ඈ මුල සිටම මගේ විපත්තිය ගැන දන හිටියා. මගේ යහළුවා අන්ද්‍රෙයි ඩෙග්ටෙරෙන්කෝ මගේ අහස් යානා කඩා වැටුණු සිද්ධිය ගැනත්, මගේ දෙපා කපා දම්ම ගැනත් ඕල්ගාට ලියා දන්වා තිබෙනවා. මා ඒ බව දන හිටියේ නැහැ. මා ඇට ඒ ගැන නොදන්වූ නිසා මගේ හිත රිදේවි යන බියෙන් ඈ මට ඒ ගැන කිසිවක් ලිව්වෙ නැහැ. ඔය විධියට අපි දෙදෙනා එකිනෙකා රවටා ගනිමින් ලියුම් ලිව්වා. කවර හේතුවක් නිසාද කියන්ට බැහැ! ඇගේ ඡායාරූපය බලන්ට ඔහෙ කැමතිද?"

ඔහු කුප්පි ලාම්පුව අතට ගෙන එහි ගිනි සිළුව වැඩි කොට බිත්තියේ එල්ලා තිබුණු ඡායාරූප දෙකට ළං කළේ ය. එක් ඡායාරූපයක් නොපැහැදිලි ය. මල් පාත්තියක් අසල වාඩි වී සිටි තරුණිය සිනාසෙන සැටි නොපැහැදිලි ලෙස පෙනිණි. අතික කාර්මික බළකායේ ලයිතත් තිල ඇඳුමින් සැරසුණු තරුණියකගේ ඡායාරූපයකි. ඇගේ මුහුණ සිහින් ය. බැල්ම නුවණක්කාරීය. ඈ කොතරම් කුඩා ද යත්. ගැටවරයකුගේ හැඩ හුරුකමක් පළ කළා ය. ලස්සන ගැටවරියකු වූ ඇගේ දෑස් වයසට වඩා මේරූ බව පළ කරයි.

"ඔහෙ හිතන්නෙ ඈ ලස්සනයි කියලද?... මාත් හිතන්නෙ එහෙම තමා" යැයි කී අලෙක්සේයි මඳ සිනා පෑවේ ය.

"ස්ට්‍රැව්කොව් දැන් කොහෙද?'

'කොහෙද කියා දන්නෙ නැහැ. අන්තිම ලියුම මට ඔහුගෙන් ලැබුණෙ වෙලිකියෙ ලුකි වලින්. එහෙ සටන් කළා.."

'තමුසෙගෙ යුද්ධ ටැන්කිකාරයා... එයාගෙ නම මොකක්ද?'

'ග්‍රිගොරි ග්වොස්දෙව්. දැන් එයා මේජර කෙනෙක්. ප්‍රොහොරොව්කා මහා සටනට සහභාගි වුණා. ඊට පස්සේ කූර්ස්ක් අඩ කවයේ ප්‍රහාරයට සහභාගි වුණා. අපි දෙන්නා එකම යුද පෙරමුණෙ

ත් කළා. නමුත් මූණ ගැසුනෙ නැහැ. එයා දුන් යුද්ධ ටැංකි සේනාංයක් ගෑවනව. ළහක සිට ලියුම් නැහැ. පණ පිටින් හිටියොත් අපි නැවත ගැසෙනව සහතිකයි. ජීවත් නොවී ඉන්න හේතුවක් නැහැ නෙවද?.. ඉතින් විකක්වත් නිදාගන්න ඕන. දැනටමත් එළිවෙලා.''

ඔහු පහන නිවා දමා නිදා ගැනීමට සැරසුණේ ය. හිමිදිරි දර අඩ අඳුර නවාතැන තුළ පැතිරිණි. මේ අනගි නවාතැනේ එකම දරය වන මදුරුවන්ගේ කෙඳිරිය ඇසිණි.

"ඔහෙ ගැන...'' ප්‍රව්දා'' පුවත්පතට විස්තරයක් ලියන්න මා හියි.''

"කැමති නම් ලියන්නැ'යි ඔහු උදාසීන ලෙස කියා නැවත නිදිමතින් ස්ද කීවේ ය. 'සමහර විට ඒක නුවණට හුරු නොවෙන්ට පුළුවනි! බෙල්ස් දන ගත්තොත් ඒ මිනිහා ගිරිය පුප්පාගෙන කෑ ගහවි: ඔන්න යාව අබ්බගාතයින් පවා යුද්දෙට යවනවා කියල.... පැසිස්ට්වාදින් රු කීමට උපන් එවුන්.''

විනාඩියකින් මෙරේස්යෙව් ගොරවමින් නිදන්නට විය. එහෙත් නින්දක් නොවී ය. ඔහුගේ කතාව හා එහි වාම් බව මා සිත ඹිය. මේ කතාවේ වීරයා මා ඉදිරිපිට ගොරවමින් නිදා නොසිටිත් අරුණෝදයේ ළා එළියට පෙනෙන, පිණි බිඳු සහිත ඔහුගේ බොරු ් දෙක මා ඉදිරියේ නොතිබිණ. නම් මේ කතාව සත්‍යයෙන් තොරවූ න්ධයකැයි සිතීමට මට ඉඩ තිබිණි...

එදා සිට අලෙක්සේයි මෙරේස්යෙව් මට හමු නොවී ය. එහෙත් පිය හැම තැනකම, යුද්ධය විසින් මා ගෙනයනු ලැබූ හැම තැනකම, අසමාන අහස් නියමුවාගේ ඉතිහාසය ලියා ඇති ඇක්සයිස් පොත් මම ගෙන ගියෙමි. ඔර්යොල්හි සටන් වලින් පසුවද, සෝවියට් දාව නැගෙනහිර යුරෝපයේ රටවල් එකිනෙක මුදා ගනිමින් ඉදිරියට විටදී ද, ඔහුගේ සැබෑ කතාව පදනම් කර ගනිමින් නවකතාවක් ීමට මම කීප වරක්ම උත්සාහ කළෙමි. ඔහුගේ සැබෑ ජීවිතයෙන් ැහැදිලි ඡායාවක් පමණක් ලිවීමට මා සමත් වූ නිසා, ඒ කෘතිය කිරීම මවිසින් කල් දමිණි.

ුද්ධාවසානයෙන් පසු පැසිස්ට් ජර්මනියේ නායකයින්ට විරුද්ධව

නියුරම්බර්ග්හි පවත්වන ලද නඩු විභාගයේ සැසි වාරයකට මමද සහභ
වීමි. පැසිස්ට් ජර්මනියේ 'දෙවැනි නායකයා' වූ හෙර්මන් ගෝරින්ග්ගෙ
හරස් ප්‍රශ්න ඇසීම නිමාවට පත් විය. සෝවියට් සංගමය වෙනුවෙ
පැමිණිල්ල මෙහෙයවූ ප්‍රධාන නීතිවේදියාගේ ප්‍රශ්නවලට පිළිතුරු දී
නොහැකි වූ 'නාසි ජර්මනියේ දෙවැනියා' දත් මිටි කමින් මෙ
අපරාජිත පැසිස්ට් ජර්මන් යුද්ධ හමුදාව සෝවියට් දේශය තුළදී
සටන් වලදී විනාශ වූ සැටි විස්තර කළේය. තම විස්තරයට අම
සාක්ෂි වශයෙන් දෙනෙත් අහසට යොමු කළ ගෝරින්ග් මෙසේ පැවසී
'දෙවියන් වහන්සේගේ අභිප්‍රාය එසේ විය."

"ජර්මනිය සාපරාධී ලෙස සෝවියට් සංගමයට පහර දෙ
ආරම්භ කළ මේ යුද්ධය නිසා ජර්මනිය විනාශ වූ අතර, එම ප්‍රහා
ආරම්භ කරමින් යුෂ්මතුන් විසින් බලවත් අපරාධයක් කරන ල
පිළිගන්නෙහි ද?" යි ප්‍රධාන සෝවියට් නීතිවේදී රොමන් රුදෙන්
ප්‍රශ්න කෙළේය.

"එය අපරාධයක් නොවේ. අති විශාල වරදකි" යි පිළිතුරු
ගෝරින්ග් බිම බලාගෙන පහත් හඬකින් මෙසේ පැවසීය. "වගකීමෙ
තොරව අප ක්‍රියා කළ බව මට කිව හැකිය. බොහෝ දේ ගැන
නොදන්නා බවත්, බොහෝ දේ ගැන සැක කිරීමට පවා අප නොපෙළඹි
බවත් යුද්ධ පටන් ගත් පසු අපට පිළිගැනීමට සිදුවිය. සෝවියට් රුසියාව
අවබෝධ කර ගැනීමට අපට බැරිවීම ප්‍රධාන කාරණය විය. එය සඳහ
ප්‍රහේලිකාවක්ව පවතිනු ඇත. ලෝකයේ ඉතාම දක්ෂ ඔත්තුකාර සේව
පවා සෝවියට් රුසියාවේ යුද්ධමය ශක්තිය හා විභව්‍යතාවය මේ ය
නිගමනය කළ නොහැකිය. මා මෙහිදී කියන්නේ රුසියාව සතු ස
තුවක්කු අහස් යානා හා යුද්ධ ටැන්කි සංඛ්‍යාව ගැන නොවේ. අ
ඒවා ගැන සෑහෙන දැනීමක් තිබිණි. සෝවියට් රුසියාවේ කර්මාන
ශක්තිය හා හැකියාව ගැනද නොවේ. සෝවියට් රුසියාවේ ජනත
ගැනය මා කියන්නේ. රුසියානුවා විදේශිකයාට තේරුම් ගත නොහ
ප්‍රහේලිකාවකි. නැපෝලියන්ට පවා ඔවුන් තේරුම් ගත නොහැකි වි
නැපෝලියන් කළ වරද අපිද කළෙමු."

සෝවියට් රටවැසියාගේ අධ්‍යාත්මික බලය පිළිබඳ ප්‍රහේලිකා
ගැනද, අප මවුබිමේ 'සැබෑ ශක්තිය' ගැන ද කළ 'ප්‍රකාශනය' ගැන
ඇසුවේ ආඩම්බරයෙනි. යුද්ධ කාලයේදී මුළු මහත් ලෝකයම මවිත

...ත් කළ සෝවියට් රටවැසියාගේ දක්ෂතාවය, හැකියාව, ආත්ම ...ත්‍යාගශීලීත්වය සහ නිර්භයත්වය ගේරින්ග් ප්‍රමුඛ පැසිස්ට්වාදීන්ට ...ර්ක ප්‍රහේලිකාවක් වීම ගැන අපට විශ්වාස කළ හැකිය. "ජගත් ...ජාතිය" ජර්මන් ජාතිය යැයි කියන දුගඳ හමන "සිද්ධාන්තයක්" ඉදිරිපත් ...ක් පැසිස්ට්වාදී ජර්මනුන්ට, සමාජවාදී සමාජයක් තුළ හැදී වැඩුණු සෝවියට් රටවැසියාගේ අධ්‍යාත්මික බලය හා ශක්තිය ගැන අවබෝධ ...ර ගැනීමට තරම් දැනීමක් නොතිබීම පුදුමයක්ද? අලෙක්සේයි මෙරේස්යෙව් ...ගැන ඉබේටම මට සිහිවිණි. පැසිස්ට්වාදය උපන් නියුරම්බර්ග් නුවර ...විනිශ්චරණ ශාලාව තුළ වාඩි වී සිටි මා ඉදිරියේ මෙරේස්යෙව්ගේ සේයාව ...දිවිණි. කයිටල් සෙනවියාගේ යුද්ධ හමුදාව ද, ගේරින්ග්ගේ අහස් යානා හමුදාවද රෝඩර්ගේ නාවුක හමුදාවද විනාශ කර දමා හිට්ලර්ගේ ...කොල්ලකාරී ආණ්ඩුව පරාජය කළ කෝටි සංඛ්‍යාත සෝවියට් ජනතාවගේ ...ක් නියෝජිතයකු වන අලෙක්සේයි මෙරේස්යෙව්ගේ ජීවන චරිතය ප්‍රසිද්ධියේ ...කිරීමට මා තුළ මහත් ආශාවක් ඇති විය.

මෙරේස්යෙව්ගේ අත් අකුරින් ලියන ලද "තුන්වැනි අහස් යානා ...ස්කන්ධයේ සටන් වාර්තා පොත" යන වැකිය සහිත කහ පැහැති කවර ...ඇති ඇක්සයිස් පොත් දෙක, නිව්රම්බර්ග්හි නැවතී සිටි මා ළඟ තිබිණි. ...නඩු විභාගයෙන් පසු හෝටලයට පැමිණි මම මෙරේස්යෙව් හා ඔහුගේ ...සගයින් පිළිබඳ කතාව කියවා යතාර්ථවාදී ලෙස එයින් නවකතාවක් ලිවීම ඇරඹීමි.

එදා මෙරේස්යෙව් මට කී දේවලින් බොහොමයක් අමතක වී ඇත. අවුරුදු හතරක් ඇවෑමෙන් සමහර කරුණු අමතක වී ඇත. නිරහංකාර මෙරේස්යෙව් තම ජීවන කතු වලින් බොහොමයක් හෙළි නොකළේ ය. මේ නිසා මනැසින් අඩු තැන් පිරවීමට මට සිදු විය. අලෙක්සේයි චමත්කාර ලෙස තම සගයින් ගැන කළ විස්තරද මට අමතක විය. සැබෑ වීරයාගේ නම මම යම්තම්න් වෙනස් කළෙමි. ඔහුගේ වීරෝදාර කාර්යය ඉටු කිරීමට ඔහුට බෙහෙවින් ආධාර උපකාර දුන් ...හුගේ මිතුරන්ගේ නම් මවිසින් වෙනස් කැරිණි. ඔවුන් තම චරිතයන් ...ලෙස මේ නවකතාව තුළින් නිර්මාණය වී තිබෙන සැටි දකිනු ඇත. මිත්‍රයන්ගේ සැබෑ නම් වෙනස් කිරීම ගැන ඔවුන් මට සමාව දෙනු ඇතැයි සිතමි.

හර්මන් ගේරින්ග් වැනි පැසිස්ට්වාදී ම්ලේච්ඡයින්ට මරණය

දක්වා අවබෝධ කර ගත නොහැකි වූ ද, ඉතිහාසයෙන් තිසි පාඩ
උගෙන ගැනීමට අකැමැති අය විසින් අවබෝධ කර ගැනීමට මැලි
වන්නා වූද නැපෝලියන් හා හිට්ලර් ගත් විනාශකාරී මග නැවත වරක්
ගැනීම රහසින් සිතන්නා වූ [illegible] අවබෝධ කර ගත නොහැකි වූද
සෝවියට් චරිතය නියම ලෙස පිළිබිඹු කරන අලෙක්සේයි මෙරේස්යෙව්ගේ
ජීවිත කතාව වටා ගෙතුණු නව කතාවට 'සැබෑ මිනිසෙකුගේ කතාවක්'
යන නම මම තැබීමි.

සෝවියට් සැබෑ මිනිසෙකු පිළිබඳ නවකතාව බිහි වූයේ
එසේය.

මුල් පිටපත ලියා පළ කිරීමට සූදානම් කොට, නව කතාවේ
වීරයා වන අලෙක්සේයි මෙරේස්යෙව් සොයා එය කියවීමට ඔහුට දීමට
ඔහු සෙවූ නමුදු ඔහු සොයා ගත නොහැකි විය. අලෙක්සේයි පෙත්රොවිච්
මෙරේස්යෙව්ගේ ලිපිනය සොයා ගැනීම පිණිස අහස් හමුදාවේ
නිලධාරීන්ගෙන් නිල වශයෙන් ද දන්නා හඳුනන අහස් යානා නියමුවන්ගෙන්
ද ඉල්ලා සිටි නමුදු ඉන් ඵලක් නොවී ය.

නවකතාවේ කොටස් සඟරාවේ පළ විය. එය ගුවන් විදුලියෙන්
ද කොටස් වශයෙන් ප්‍රචාරය විය. දවසක් දා ටෙලිෆෝනය හඬ නැඟී ය.

බැරෑඩි, නිර්භය හඬකින් යමෙක් කතා කළේ ය. ඒ පුද්ගලයා
මම හඳුනමියි මට හැඟිණි.

"මා කැමතියි ඔහෙව හමු වන්න"

"කවුද කතා කරන්නෙ?"

"මේජර් අලෙක්සේයි මෙරේස්යෙව්"

පැය කීපයකට මගේ නිවසට අලෙක්සේයි මෙරේස්යෙව් පැමිණියේය.
හුගේ ගමන කඩිසරය. වලසකු මෙන් ඔහු තරමක් පැද්දෙයි. ඔහු
යාශීලී ය. ප්‍රීතියෙනි. අවුරුදු හතරක යුද්ධය නිසා ඔහු වෙනස් වී
ැත. හේ කතාව ඇරඹී ය.

"මම ගෙදර පොතක් කියවමින් හිටියා. ගුවන් විදුලිය කිසිවක්

ප්‍රචාරය කළ නමුදු පොත ගැන සැලකිල්ලෙන් සිටි මට එය නැසිණ. මගේ මව හිටි,හැටියේම මෙහෙම කිව්වා. "පුතේ මේ අහපන්!" රේඩියෝව පුතා ගැන කියනව"

මම සැලකිල්ලෙන් අසන්නට වීමි. ඇත්ත. ඒ කතාව මා ගැන ය. මා ගැන ලියුවේ කවුදැයි සිතූ මම පුදුම වීමි. මගේ කතාව කිසිවකුට කී බවක් මට මතක නැත. එවිට ඔර්යොල් අසල අහස් යානා තොටුපොළ ද, මගේ තවාතැන ද, මුළු රැයක්ම නොනිදා මගේ අත්දැකීම් ඔබට විස්තර කළ සැටි ද මට සිහිවිය. එය විය හැකිද? බොහෝ කලකට පෙර, එනම් මීට අවුරුදු පහකට පමණ පෙර සිදුවූවකි. ගුවන් විදුලිය දීනව නියමිත කොටස කියවා එහි කතුවරයාගේ නමද සඳහන් කළේ ය. ඉන් පසු ඔබ සෙවීමට මම පටන් ගතිමි...."

ඔහු මේ විස්තර එක හුස්මට කීවේ ය. ඒ අතර ඔහු ඉඳ හිට උද්දාවෙන් මෙන් මද සිනා පෑවේ ය.

බොහෝ කලකට පසු යුද හටයින් දෙදෙනෙකු හමු වූ විට කතා කරන පරිදි අපි ද සාකච්ඡා කළෙමු. සටන් ගැන ද, දන්නා හඳුනන නිලධාරීන් ගැනද, දිවි පිදූ වීරයින් ගැනද, අපි කතා කළෙමු. පෙර මෙන්ම අලෙක්සේයි තමා ගැන කීමට මැලි විය. අපේ හමුවීමෙන් පසු අලෙක්සේයි මෙරේස්යෙව් සාර්ථක ලෙස අහස් සටන් කීපයකටම සහභාගි වූ බව මට දැන ගන්නට ලැබිණි. 1943-1945 කාලයේදී ඔහු සිය අහස් යානා කණ්ඩායම සමග යුද පෙරමුණු කීපයකම සටන් කළේ ය. ඔර්යොල්හි අපේ හමුවීමෙන් පසු ඔහු තවත් ජර්මන් අහස් යානා තුනක් බිම හෙළී ය. බෝල්ටික් මුහුදු තීරයේ සටන්වලදී තවත් සතුරු අහස් යානා දෙකක් ඔහු විසින් විනාශ කරන ලදී. නැති වුණු දෙපා වෙනුවට ඔහු සතුරාගෙන් ප්‍රමාණවත් ලෙස පළිගත්තේ ය. "සෝවියට් සංගමයේ වීරයා" යන උසස් නාමය සෝවියට් ආණ්ඩුව විසින් ඔහුට පිරිනමන ලදී.

අලෙක්සේයි මෙරේස්යෙව් සිය පෞද්ගලික ජීවිතය ගැනත් තොරතුරු මට කීවේ ය. නවකතාව සතුටින් අවසාන කිරීමට හැකිවීම ගැන මම ප්‍රීතිවෙමි.

යුද්ධයෙන් පසු අලෙක්සේයි ඕල්ගා සමග විවාහ විය. ඔවුන්ට වික්ටර් නමින් පුතකු ලැබිණි. කම්ෂින්හි සිට ඔහුගේ මව පැමිණ මුනුබුරා හද වඩා ගන්නට වූවා ය. අලෙක්සේයිගේ මව තම පුතා, ලේලි

සහ මුණුපුරා සමග ප්‍රීතියෙන් වාසය කරයි.

පිටරටක සිටියදී මවිසින් ලියා නියම කරන ලද සැබෑ සෝවි මිනිසකු ගැන - අලෙක්සේයි මෙරේස්යෙව් - ගැන ලියන ලද නවකත එසේ අවසන් වුවද ජීවිතය දිගටම ක්‍රියාකාරී වෙමින් පවතී.

මොස්කව්,
නිව්රම්බර්ග් - 1950

බරීස්
පලෙවොයි

# සැබෑ මිනිසෙකුගේ කතාවක්